desert flower

# කාන්තාරයේ කුසුම

පරිවර්තනය: රංජිත් කුරුප්පු








1

# පලා යාම



යා න්තමින් ඇසුණ සද්දයකින් අවදි වූ මා, ඇස් ඇර බැලූ කල දුටුවේ මා දෙස බලා සිටින සිංහයෙකි. මා නැඟී සිටින්නට උත්සාහ කළ ද, දින කීපයකින් ම කුසට ආහාරයක් නො මැති වීම නිසා මගේ අප්‍රාණික වූ දෙපා වෙව්ලා ගොස් මා එ තැන ම ඇද වැටුණේ ය. මධ්‍යාහ්නයේ ඉර මුදුන් වන විට අප්‍රිකානු කාන්තාර වසා පැතිර යන ගිනි අව්වෙන් බේරීම සඳහා මෙතෙක් මා හේත්තු වී ගිමන් හරිමින් සිටි වෘක්ෂයට මම මගේ හිස තබා ගතිමි. වෘක්ෂයට හිස තබා දෙනෙත් පියා ගත් විට වෘක්ෂයේ ඝන පොත්තේ වූ කටු හිසේ ඇනෙනවා මට දැනෙන්නට විය. සිංහයා මට කෙතරම් සමීප ව සිටියේ ද යත් තද හිරු එළියෙන් රත් වූ වාතලය ඔස්සේ උගෙන් පිටවී ආ උෂ්ණය මට දැනිණ. මම අල්ලාහ් දෙවියන් ඇමැතුවෙමි: දෙවියනි!! මේ මගේ අවසානය යි... මාව ඔබ තුරුලට ගනු මැනැව්!!

කාන්තාරය හරහා මා පැමිණි දිගු ගමනේ අවසානයට මම පැමිණ සිටිමි. මගේ ආරක්ෂාව සඳහා කිසි ම උපකරණයක් හෝ ආයුධයක් හෝ මා ළඟ නැත. එ මෙන් ම පැන දුවන්නට තරම් ශක්තියක් ද දැන් මා සතු ව නැත. ශාරීරික සෞඛ්‍යය හොඳින් තිබුණ අවදියකවත් ගසකට නැඟ සිංහයකුගෙන් බේරීමට නො හැකි බැව් මම දැන සිටියෙමි. මන්ද, බළල් වර්ගයට අයත් සෑම සතකුට මෙන් ම, දෙපාවල තියුණු නියපොතු ඇති සිංහයාට ද ගස් නැඟීමට හැකියාවක් ඇති බැවිනි. ඔහු ගේ එක් අත් පහරකින් මා මැරී වැටෙනු ඇත. නැවතත් දෙ නෙත් විවෘත කළ

මම සිංහයාට මෙසේ කීවෙමි. "වරෙන් ඇවිල්ලා මාව මරා දාපන්... දැන් මම ඒකට ලෑස්තියි."

අවුරුදු පහක් හෝ හයක් හෝ වයසැති සිංහයා ඉතා පියකරු ය. එ මෙන් ම නිරෝගි ය. ඔහු ගේ රන්වන් කේසර මෙන් ම දිගු වලිග යෙන් ඔහු මැස්සන් පලවා හරිමින් සිටියේ ය. ඇත්තෙන් ම ඇසිපිය හෙළන වේලාවක් ගත වන්නටත් පෙර ඔහුට මා කුඩුපට්ටම් කර දැමීමට හැකි බැව් මම දැන සිටියෙමි. ඔහු කාන්තාරයේ රජා ය. සිංහයින්ට වඩා රාත්තල් සිය ගණනක් බර සීබ්‍රා වැනි සතුන්, ඔවුන් ගේ ඉදිරිපස බාහු යුවළෙන් පහර දී බිම දමා ගන්නා අයුරු මම මගේ මුළු ජීවිතය පුරා ම දැක ඇත්තෙමි.

සිංහයා හෙමින් සීරුවේ සිය මී පැණි වර්ණ දෙ නෙත් විදහා මා දෙස බලා ඇස් පිල්ලමක් ගැසුවේ ය. මගේ දුඹුරු පැහැති දෙනෙත් ඔහු ගේ දෙනෙත් හා ගැටිණ. එවිට ඔහු කලබලයකින් තොර ව ඉවත බලා ගත්තේ ය. "වරෙන් ඇවිල්ලා මාව මරා දාපන්". නැවතත් ඔහු මා දෙස බලා ඉවත බලා ගත්තේ ය. සිංහයා සිය දෙතොල් දිවෙන් පිරිමදින ගමන් පස්සා ගාත් දෙකට බර දී හිඳ ගත්තේ ය. ඊළඟ මොහොතේ ඔහු නැඟී සිට මා ඉදිරිපිට තේජාන්විත ව මෙන් ම කාමුක ව ඔබ මොබ සක්මන් කරන්නට විය. අවසානයේ දී ඔහු සිටි තැනින් නික්ම කාන්තාරය දෙසට පිය නඟන්නට විය. මා වැනි කෙසඟ සිරුරක් ඇති අයකු මරා, අනුභව කරන්නට තරම් මාංසයක් නො මැති බැව් අනුමානයක් නො මැති ව ඔහු පසක් කෙරුවා විය හැකි ය. දුර අඩි තබමින් කාන්තාරය දෙසට පිය නැගූ සිංහයා ක්‍රමයෙන් කාන්තාරයේ වැලි අතරින් නො පෙනී ගියේ ය.

සිංහයා මා මරා දමන්නට නො එන බව මා හට වැටහුණත් ඒ ගැන අමුතු සතුටක් නො දැනුණේ අන් කිසිවක් නිසා නො ව, මා සිංහයා ගේ ගොදුරක් වීමට නො බිය ව සූදානම් ව සිටි බැවිනි. ඇත්තෙන් ම මගේ සමීපතම මිතුරා වන සර්වබලධාරි දෙවියන් වහන්සේ මා මියැදෙන්නට නො දී බේරා ගන්නට ඇත්තේ ඔහුට මා වෙනුවෙන් කිසියම් සැලැස්මක් තිබුණ නිසා බවට සැකයක් නැත. "එ සේ නම් එය කුමක් ද...? මා ඒ අරමුණ කරා රැගෙන යන්න... ඒ සඳහා මාර්ගය මට පෙන්වා දෙන්න.

එ වකට දහතුන් හැවිරිදි වියේ පසු වූ මම සෝමාලියාවේ කාන්තාරයක ජීවත් වූ එඬේර පවුලකට අයත් දැරියක් වීමි. මගේ පියා මා මහලු මිනිසකුට කසාද බන්දවා දීමට කටයුතු කර ඇති බව ප්‍රසිද්ධියේ ම ප්‍රකාශ කර තිබුණි. එ බැවින් නපුරු සිහිනයක් වැනි මේ ගමන එන්නට මා හට සිදුවූයේ පියාගෙන් බේරී පලා යන්නට මට සිදුවුණු බැවිනි.

මෙම ආරංචිය මගේ කන වැකුණ විගස ම ඉන් ගැලැවීමට නම් යමක් ඉක්මනින් කළ යුතු බැව් තේරුම්ගත් මම ගෙදරින් පැන යන්නට මට වුවමනා බැව් මගේ අම්මා සමග කීවෙමි. මගේ එක ම අරමුණ වූයේ සෝමාලියාවේ අගනුවර වන මොගඩිෂු නගරයේ සිටින අම්මා ගේ නැගණිය වන පුංචි අම්මා දසොයා යාමට ය. එ නමුදු මා ජීවිතයේ කිසි ම දිනක මොගඩිෂු නගරයට මතු නො ව කිසියම් හෝ නගරයකට ගොස් නො තිබුණා පමණක් නො ව, මගේ පුංචි අම්මා ව ද කිසි ම දිනක දැක නො තිබුණි. සෑම දරුවකු මෙන් ම හැම දෙයක් ගැන ම සුබවාදී ව සිතන්නට පුරුදු ව සිටි මට, මගේ අරමුණු මොනයම් හෝ ආකාරයකින් ඉටුකර ගැනීමට හැකිවනු ඇතැ යි හැඟී ගියේ ය.

එ දින රාත්‍රියේ මගේ පියා ඇතුළු සියලු දෙනා ම නින්දේ පසු වෙද්දී, මගේ මව මාව කුද්දා නිවසින් පලා යන ලෙස කීවා ය. කෑමට කිසිවක් හෝ බීමට යමක් හෝ රැගෙන යන්ට ඇත්දැයි බැලූ නමුදු එ වැනි කිසිවක් පැල තුළ නො තිබුණි. රෙදි කැබැල්ලකින් ඔළුව වසාගත් මම පයට පාවහන් යුගලක් හෝ නොමැති ව කැලි කැපිය හැකි ඝන අඳුර අරක් ගෙන තිබූ කාන්තාරය දෙසට දිව ගියෙමි.

එහෙත්, මොගඩිෂු නගරය ඇති ඉසව්ව ගැන කිසියම් හෝ අවබෝධයකින් නො සිටි මම ඔහේ කාන්තාරය හරහා දිව ගියෙමි. ඝන අන්ධකාරය නිසා කිසිවක් නො පෙනුණ බැවින් මුල දී හෙම්හිට ඇවිද ගෙන ගිය මා, නොයෙක් වර ගස් මුල්වල හැපී බිම ඇද වැටුණේ ය. අප්‍රිකානු කාන්තාරවල වෙසෙන විෂඝෝර සර්පයින්ට මා තුළ වූ අසීමිත බිය නිසා ම අවසානයේ දී ගමන මඳකට නවතා ඉඳගන්නට මම තීරණය කළෙමි. ගසක මුලක් පයට පැගුණ සෑම අවස්ථාවක ම මට සිතුණේ විෂ විදින්නට හැකි නාගයකු මගේ පයට පැගුණ බවකි. එ සේ ඉඳගෙන සිටින අතර, ක්‍රමයෙන් ආකාශය එළිය වන අයුරු මම බලා සිටියෙමි. අනතුරු ව හිරු නැඟී එන්නටත් පෙර වේගයෙන් දිව යන්නට හැකි වැලි මුවකු මෙන් දිව යන්නට පටන් ගත් මම හෝරා, ගණනාවක් ම එ සේ නො නැවැතී දිව ගියෙමි.

මද්දහන වන විට මා රක්ත වර්ණ වැලිවලින් වැසී ගිය කාන්තාරය මැදට සේන්දු වී සිටි අතර, මම මගේ ම සිතුවිලි සයුරෙහි ගැඹුරට ම කිමිදී සිටියෙමි. මා යන ගමනෙ හි නිශ්චිත ඉසව්වක් නො මැති බැව් දැනුණෙන් මා හට පුදුම සහගත බියක් දැනෙන්නට විය. කුසගින්න, තිබහ සහ මහන්සිය නිසා ගමනේ වේගය ඉබේ ම අඩු විය. එ සේ ඇවිද යන මට මෙසේ සිතුණි. මගේ නව අරමුණ කුමන දිසාවකට මා රැගෙන යන්නේ ද? මීළඟට සිදු වන්නට යන්නේ කුමක් ද?

එම සිතුවිලි අතරින් මගේ පියා මගේ නම කියා මා අමතනවා ඇතැ යි මට සිතුණි. චාරිස්... චාරිස්... එම හඬෙහි කිසියම් ආයාචනාත්මක ස්වරයක් ගැබ් වී ඇතැයි ද මට සිතුණි. මා කාන්තාරය සිසාරා බැලූ නමුදු, එ වැනි කිසිවකු පෙනෙන තෙක් මානයකවත් නො වී ය. සමහර විට මට එ සේ සිතෙන්නට ඇත. යම්කිසි විධියකින් මගේ පියාට මා අසු වුවහොත් නිසැකයෙන් ම ඔහු මා රැගෙන ගොස් අර මහලු මනුස්සයාට සරණපාවා දෙනවා පමණක් නො ව, මට ගුටිබැට ද දෙනු ඇත. ඇත්තෙන් ම මගේ පියා මගේ නම කියා කෑ ගැසීම මා තුළ පහළ වූ සිතුවිල්ලක් පමණක් නො වී ය. ඔහු මා පසුපස ලුහුබඳින්නේ ය. ඔහු බොහෝ විට මා කිට්ටුවට ම පැමිණ ඇත. පියා මා පසුපස ලුහුබැඳීම මෙතෙක් දුර්වල වී සිටි මට අමුතු ශක්තියක් ලබා දුන්නේ ය. මට හැකි උපරිම වේගයෙන් මම නැවතත් දිව යන්නට පටන් ගත්තෙමි. මම මගේ පියාට හෝරා කීපයකට පෙර ගමන ආරම්භ කර තිබුණත්, ඔහු මා අල්ලා ගනීවි යැයි මට සිතුණි. කාන්තාරයේ වැල්ල මත වූ මගේ පා සලකුණු ඔස්සේ පැමිණ මගේ පියාට මා අල්ලා ගන්නට තිබුණා නො වේදැයි පසු ව මට කල්පනා විය.

එ කල මා ළමා වියේ පසු වූ හෙයින් ද, මට මගේ පියාට වඩා වේගයෙන් දුවන්නට හැකි වූ බැවින් ද ඔහුට මා අල්ලා ගන්නට නො හැකි යයි මම සිතුවෙමි. මගේ ළදරු සිතුවිලි තුළින් මා හට හැඟුණේ මගේ පියා ඒ වන විට මහලු අයකු ලෙස ය. එ නමුදු ඒ වන විට මගේ පියා තිස් ගණන්වල සිටි බැව් සිහිපත් වන විට ඇනුදු මගේ මුවගට සිනහවක් නැඟ එන්නේ නිරායාසයෙනි. ඇත්තෙන් ම අපි ඉතාමත් සෞඛ්‍ය සම්පන්න මෙන් ම ශක්තිමත් අය වීමු. ඊට හේතුව කාන්තාරයේ ජීවිතය ගැට ගසා ගැනීමට කරන්නට තිබූ දෛනික අරගලය නිසා සමහර විට දිනකට ගව් ගණනක් දුවන්නට අපට සිදු වීම ය. එ මෙන් ම අපට පුද්ගලික රථ වාහන නො තිබුණා පමණක් නො ව, ප්‍රසිද්ධ ගමනාගමන පහසුකම් ද නො තිබුණි. ඔටුවන්, එළුවන් සහ ගවයන් නිතර ම කාන්තාරයේ ජලය ඇති ස්ථාන කරා සැතැපුම් ගණනක් දක්කාගෙන යාමටත් බිම් කළුවර වැටෙන්නට පෙර කුඩාරම වෙත එන්නටත් සිදු ව තිබූ හෙයින් ඇත්තෙන් ම එ කල මට වේගයෙන් දුවන්නට හැකියාවක් තිබුණි.

මඳ වේලාවකට පසු මෙතෙක් මගේ පියා, මගේ නම කියා කෑ මොරදුන් හඬ නො ඇසී යන්නට වූයෙන් මම ගමන් වේගය තරමක් අඩු කළෙමි. නො නැවැතී ම මා කාන්තාරය හරහා ඉදිරියට ම ගමන් කළ හෙයින් මගේ පියාට හති වැටී ඔහු ආපසු නිවස බලා යන්නට ඇතැ යි මම අනුමාන කළෙමි. එ නමුදු එකවර ම ආපසු බැලූ කල, මා දුටුවේ

ක්ෂිතිජ ඉමෙ වූ වැලි කන්දක් දිග මා ලුහුබැඳ එන මගේ පියා ය. මගේ පියා ද මාව දුටු බව මම තේරුම් ගතිමි. භීතියට පත් මා හැකි උපරිම වේගයෙන් නැවතත් දුවන්නට පටන් ගත්තෙමි. මා එක් වැලි කන්දක් නඟින විට මගේ පියා මා පසු කරගෙන ආ වැලි කන්දක් දිග පහළට බැසගෙන එනු මම දුටුවෙමි. මේ ආකාරයෙන් හෝරා කීපයක් පුරා ම මගේ පියා මා පසුපස ලුහුබැන්දේ ය. අනතුරු ව එක වර ම ඔහු නො පෙනී ගිය අතර, ඔහු මගේ නම කියා කෑ ගසන හඬ ද තවදුරටත් මට නෑසුණේ ය.

දැඩි මහන්සියක් දැනෙන්නට වූයෙන් මම ගසකට මුවා වී කාන්තාරය සිසාරා බැලුවෙමි. මුළු කාන්තාරය පුරා ම ඒ මොහොතේ නිශ්චලත්වයක් රජයමින් තිබුණි. කාන්තාරයේ පැතැලි ගල් තලාවක් මතට පැමිණි මම මඳක් ගිමන් හැරීමට එහි නැවැතුණෙමි. පසුගිය රාත්‍රියේ කාන්තාරයේ වැල්ල මත ගමන් කිරීමෙන් මගේ පා සටහන් එහි රඳවා තබා ආ වරද හොඳාකාර ව තේරුම් ගත් මම, එ තැන් සිට කාන්තාරයේ වූ ඝන පොළොව මතින් ගමන් කිරීමට තීරණය කළෙමි. එ මතු ද නො ව, විටින් විට මගේ ගමන් දිසාව ද මාරු කරමින් ගමන් කළ හෙයින් මගේ පියාට තවදුරටත් මා ලුහුබැඳ එන්නට අවකාශයක් නැත.

මේ වනවිට ඉර අවරට යමින් තිබූ බැවින් මගේ පියා ආපසු නිවස බලා යන්නට ඇතැ යි මම අනුමාන කළෙමි. එහෙත්, ඉර බසින්නට පෙර නම් ඔහුට නිවෙස කරා යන්නට නො හැකි වනු ඇත. අඳුර වැටුණායින් පසු කාන්තාරය හරහා ඇසෙන මගේ ළඳරු සහෝදර සහෝදරියන් ගේ සහ සිව්පාවන් තප්පුලන හඬවල්වලට කන් දෙමින් ඒ අනුව මගේ පියාට නිවස සොයා ඝන අඳුර තුළින් කාන්තාරය හරහා දිව යන්නට සිදුවනු ඇත. කාන්තාරය මතින් නැගෙන හඬවල් සුළඟ මඟින් බොහෝ ඈතට රැගෙන යන අතර, අපි කාන්තාරයේ අතරමං වූ හැම අවස්ථාවක ම ප්‍රදීපාගාරයකින් නෞවිකාවන්ට මඟ පෙන්වන්නාක් සේ අපට ද අප ගේ නිවහන් සොයා ගැනීමට මේ හඬවල් උදව් උපකාර වන්නේ ය.

ගල් තලාවක් මතින් ඇවිද යමින් සිටි මම, මෙතෙක් යමින් සිටි ඉසව්ව වෙනස් කළෙමි. මොගඩිෂු නගරයට යන නිවැරැදි ඉසව්ව ගැන මා හට කිසියම් හෝ අවබෝධයක් නො තිබුණ බැවින්, ඉසව්ව වෙනස් කිරීමේ එ තරම් වැදගත් බවක් මට නො හැඟුණි. ඉර බැස යන තෙක් ම මම කාන්තාරය හරහා දිව ගියෙමි. හිරු ක්ෂිතිජය මතින් නො පෙනී යාමත් සමඟ මුළු කාන්තාරය ම ඝන අඳුර විසින් ගිල ගන්නා ලදී. කැලි කැපිය හැකි අඳුරේ කිසිවක් නො පෙනී ගිය අතර, උහුලා ගන්නට නො හැකි කුසගින්නකින් මම පෙළෙන්නට වීමි. මගේ දෙපා තුවාල වී රුධිරය

වැහෙන්නට වූයෙන් ගිමන් හරින්නට ගසක් යට හිඳ ගත් මට නො දැනුවත්ව ම නින්ද ගියේ ය.

පසුදින උදාසන හිරු රශ්මිය දැනී මම අවදි වූයෙමි. දෙනෙත් හැර බැලූ කල මා වැතිරී සිටි පියකරු කපුරු ගස අහස දෙසට විහිදී ඇති අපූරුව මම දුටුවෙමි. මම පත්වී සිටි තත්ත්වයේ බැරෑරුම්කම ක්‍රමයෙන් මට දැනෙන්නට විය.

එකවර ම නැඟී සිටි මම, නැවතත් කාන්තාරය හරහා දුවන්නට පටන් ගත්තෙමි. දින කීපයක් ම මම කාන්තාරය හරහා දිව ගියෙමි. කොපමණ දිනක් මා ඒ ආකාරයෙන් දිව යන්නට ඇත්දැයි කිව නො හැකි ය. කුසගින්න, පිපාසය, බිය සහ වේදනාව හැරෙන්නට කාලය ගැන මා තුළ කිසියම් හෝ හැඟීමක් නො වී ය. හිරු අවරට ගොස් පැතිරෙන ඝන අඳුරත් සමඟ මම ගිමන් හැරීමට එක් තැනක නැවැතුණෙමි. හිරු මුදුන්වන විට එ තැන ගසක් යටට වී නිදා ගත්තෙමි.

මේ වන විට නිදහස සොයා ගෙන යෑම ගැන තවදුරටත් මා තුළ තැකීමක් නො වී ය. කුසට අහරක් හෝ පිපාසයට දිය බිඳකට වඩා මට වුවමනා වී තිබුණේ අම්මා ගේ උණුසුම ය. අප වැනි කාන්තාරයේ ජීවත් වන අයට වතුර හෝ ආහාරයක් හෝ නො මැති ව දිනයක් දෙකක් ගත කිරීම සාමාන්‍ය දෙයක් වුව ද, දැන් නම් මගේ ජීවිතය අවදානම් තත්ත්වයකට පත් ව ඇති බැව් මම තේරුම් ගතිමි. මගේ දෙපා ගල් මුල්වල වැදී තුවාල වූ තැන්වලින් සැරව වැහෙන්නට වූ අතර, ඉදිරියට තබන හැම පියවරක් ම ඉවසිය නො හැකි වේදනාවක් ගෙන දුන්නේ ය. දෙවියන් වහන්සේ මා සිංහයා අතින් මරණයට පත් වන්නට නො දී බේරාගෙන ජීවත් වන්නට සැලැස්සුවේ මොනයම් හෝ අරමුණක් පෙරදැරි කරගෙන නම්, මට මඟ පෙන්වන ලෙස මම සර්වබලධාරි දෙවියන්ගෙන් ඉල්ලා සිටියෙමි. මෙතෙක් ගස යට වැතිරී සිටි මා, ගස අල්ලා ගනිමින් වාරුගෙන නැඟී සිට නැවතත් ගමන් කරන්නට වූයෙමි. විනාඩි කීපයක් මෙසේ ගමන් කළ මා එකවර ම තණබිමකට පැමිණි අතර, තණබිම පුරා ම ඔටුවන් සිටිනු මම දුටුවෙමි. එක් ගැහැනු සතකු දුටු මම, ඇ වෙත දිවගෙන ගොස් ඇගේ බුරුලෙන් කුඩා දරුවකු මෙන් සිත් සේ කිරි උරා බීවෙමි. මා කිරි උරා බොන අයුරු දුටු එඬේරා මට බැණ වදින්න විය. "මක්කරනව ද තෝ ඔතැන... පල යන්ඩ" කුසගින්නේ සිටි මම ඔහු ගේ බැණ වැදීම ගණනකට නො ගෙන හැකි තරම් ඉක්මනින් කිරි උරා බීවෙමි. මා පලවා නො හැරියොත් ඔටු දෙන ගේ කිරි කඳුළක් හෝ ඉතිරි නො වන බව දැන සිටි එඬේරා මට බැණ වදිමින් ම මා සිටි තැනට දිව එන්නට විය. ඒ වන විට බඩ පිරෙන්නට කිරි බී සිටි

මම නැවතත් දුවන්නට පටන් ගත්තෙමි. එඩෙරා මා ලුහුබඳින්නට විය. ඔහුට වඩා වේගයෙන් දුවන්නට මට හැකියාව තිබුණෙන් මම ඔහුට හසු නො වී දිව ගියෙමි. මුදුන් වීගෙන එන හිරු දෙසට දෑත් ඔසවා ඔහු මට ශාප කරන හඬ යාන්තමින් ඇසෙන්නට විය.

මෙතෙක් මා පෙළෙමින් සිටි, ඉසිලිය නො හැකි කුසගින්න දැන් නැත. ඔටු කිරි සිතැඟි සේ පානය කිරීමෙන් මගේ ගතට නැවතත් ශක්තිය ලැබී තිබේ. එ තැන් සිට නැවතත් දිව යන්නට පටන් ගත් මම මඳ වේලාවකින් එක්තරා ගම්මානයකට අවතීර්ණ වූයෙමි. මීට පෙර කිසි ම දිනක මෙ වැනි ස්ථානයකට මා පැමිණ නො තිබුණි. පාර දෙපස ගොඩනැගිලි වූ අතර, පාරේ හරි මැදින් මම ඇවිදගෙන යන්නට වීමි. මා ඉදිරියට එමින් සිටි එක් ගැහැනියක් එක්වර ම මා ඉදිරිපිට නැවැතී මගේ කේශාන්තයේ සිට පාදාන්තය දෙස බලා මෙසේ පැවැසුවා ය. "උඹ මේ කොහෙ කියල ද හිතාගෙන ඉන්නෙ... මෝඩ කෙල්ල... මගෙ දෙවියනේ... මෙකිගෙ කකුල් දෙක දිහා බලපල්ලකො" ඇය පාරේ ගමන් කරමින් සිටි ගම්මුන් කීපදෙනකු අමතා, මගේ දෙපා දෙසට ඇඟිල්ල දිගු කරමින් කීවා ය. "මැරෙන්ඩ ද හදන්නෙ... පේන්නෙ නැත්ද ඔය වාහන එනවා... පාරෙන් අයින් වෙයන්" එසේ කියමින් ඇය මා දෙස බලාගෙන සිනාසෙන්නට විය.

ඇගේ බෙරිහන් දීම වට පිටාවේ සිටි හැම අයකුට මෙන් ම ඇසුණ බව දැනුණෙන් මම මහත් අපහසුතාවයකට පත්වීමි. පාරේ මැද ගමන් නොකළ යුත්තේ මන්දැයි යන්න ගැන කිසියම් හෝ හැඟීමක් නොතිබුණ බැවින් ගැහැනිය බැණ වැදුණේ මන්දැයි මට මහත් ප්‍රශ්නයක් විය. එහෙයින් මම බිම බලාගෙන දිගට ම පාර මැද ම ගමන් කළෙමි. එකවර ම මාර්ගය දිගේ ඇදී ආ ලොරියක කන් බිහිරි කරවන නළා හඬින් තිගැස්සුණ මම, කඩිනමින් ඉවතට පැන හැරී බැලූ කල නොයෙකුත් වාහන මා දෙසට එමින් තිබෙනු පෙනෙන්නට විය. මම එක් අතක් ඔසවා වාහනයක් නතර කර ගැනීමට උත්සාහ කළෙමි. නැවතත් රථයක් මගේ ඇඟේ ගෑවී නො ගෑවී මා පසු කරගෙන ගියේ ය. මා පැත්තකට පැන නො ගත්තේ නම් මගේ හිස රථයට යට වී කුඩු වී යන්නට ඉඩ තිබුණි. අනතුරු ව මම පාර අයිනේ ඉදිරියට පිය නගන ගමන්, රථ වාහනවල යන එන අය ගේ මුහුණු දෙස බලමින් රථයක් නවත්වා ගන්නට උත්සාහ කළෙමි.

මෙසේ රථ වාහන නතර කර ගැනීමට උත්සාහ කරමින් ඇවිද යන අතර, ට්‍රක් රථයක් පැමිණ මා ඉදිරිපිට නතර කළේ ය. ඊළඟට සිදු වන්නට යන්නේ කුමක්දැයි මම නො සැලී බලා සිටියෙමි. ට්‍රක් රථයේ පිටුපස

ගොඩනැඟිලි ඉදි කිරීම සඳහා ගෙන යන ගඩොල් පුරවා තිබුණි. රථයේ ඉදිරිපස රියැදුරා සහ පිටුපස තවත් පුද්ගලයකු සිටිනු මම දුටුවෙමි. "හා නගින්න මගෙ මැණික" රියැදුරා දොර විවෘත කොට මා දෙස බලාගෙන සෝමාලි බසින් කීවේ ය. එකවර ම මගේ සර්වාංගය ම මහත් බියකින් හිරිවැටී ගියේ ය.

"මට යන්ඩ ඕනෑ මොගඩිෂුවලට" මම කීවෙමි.

"මම ඔයා යන තැනකට ඇරලවන්නම්" ඔහු කීවේ ය.

රථයේ රියැදුරා සිනාසෙන විට ඔහු ගේ දත් රතු පැහැ ගැන් වී තිබෙනු මම දුටුවෙමි. එ සේ දත් රත් පැහැ ගැනෙන්නේ දුම්බීමෙන් ඇතිවන නිකොටින් කහටින් නො වන බව මම දැන සිටියෙමි. එ සේ සිදුවන්නේ අප්‍රිකාවේ බොහෝ මිනිසුන් කාහට් නමැති කොකේන් හා සමාන මත්වන කොළ වර්ගයක් කෑමෙන් ය. අප්‍රිකාවේ ස්ත්‍රී පක්ෂයට ඒ කොළ වර්ගය ඇල්ලීමට පවා තහනම් ය. බුලත් කන්නාක් මෙන් ඒ කොළ වර්ගය කෑමෙන් මිනිස්සු උමතු වනවා පමණක් නො ව, ප්‍රචණ්ඩකාරී තත්ත්වයන්ට පත්වන අතර, එ මගින් බොහෝ දෙනා ජීවිතක්ෂයට ද පත් ව තිබේ.

මම උගුලකට අසු ව ඇති බැව් මම තේරුම් ගෙන තිබුණත්, වෙන කරන්නට දෙයක් නො මැති නිසා මම ඔළුව වැනුවෙමි. රියැදුරා මට පිටුපස්සෙන් රථයට ගොඩවන ලෙස සැළ කළේ ය. ඔහු මා හට රථයේ පිටුපස්සෙන් ගොඩ වන්නට කීම ඇත්තෙන් ම මට මහත් අස්වැසිල්ලක් විය. පිටුපසින් රථයට ගොඩ වූ මම, ගඩොල් මත සැප පහසු ආකාරයකට වාඩි ගත්තෙමි. ඒ මොහොතේ බිම් කළුවර වැටෙමින් තිබුණි. රාත්‍රී කාලයට කාන්තාරය ශීතල ය. ට්‍රක් රථය ඉදිරියට ඇදී යනවාත් සමඟ ම හමා එන ශීතල සුළඟින් වැළැකීමට මම ගඩොල් මත දිගා වූයෙමි. එතකුදු රථයේ සිටි අනික් පුද්ගලයා ද ගඩොල් මත ඉඳගෙන සිටින බව මම දැන සිටියෙමි. අවුරුදු හතළිහක් පමණ වයස වූ ඒ මිනිහා බලන්නට බැරි තරම් අවලස්සන අයකු විය. ඔහු ගේ හිසෙහි තට්ටය පෑදී තිබුණි. උඩු රැවුළක් වවාගෙන සිටි ඔහු, ඒ මගින් උජාරුකමක් පෙන්වීමට වෙර දැරී ය. ඔහු ගේ දත් කිහිපයක් හැලී ගොස් තිබූ අතර, කාහට් කොළ කෑම නිසා ඉතිරි දත් කිහිපය පතුරු ගොස් රතු පැහැ ගැන්වී තිබුණි. කිසියම් ආඩම්බරයකින් සිය පතුරු ගොස් රත්පැහැ ගැන්වී තිබුණ දත් විදහා පෙන්වමින් මා දෙස බලා සිටින්නට විය. කාමුක ව ඇස් කොනින් මා දෙස බලාගෙන සිටි ඔහු ගේ මුහුණ මට කිසිදිනක අමතක නො වේ.

එකවර ම ඔහු සිය කලිසම ගලවා දැමුවේ ය. එවිට ඔහු කෙතරම් මහත




පුද්ගලයෙක්දැයි මම දුටුවෙමි. සිය නග්න පුරුෂ ලිංගය මානාගෙන මා වෙත පැමිණි ඔහු බලහත්කාරයෙන් මගේ දෙකකුල් දෙපසට කරන්නට උත්සාහ කළේ ය. "අනේ අනේ... මට කරදරයක් නම් කරන්න එපා" මම බැගෑපත් ව කීවෙමි. මම මගේ ඉරටු වැනි කකුල් දෙක යෝනිය වැසෙන සේ එකට පටලවා ගෙන සිටින්නට වූ අතර, ඔහු මගේ දෙපා දෙපසට කරන්නට වෙර දැරී ය. එ සේ කිරීමට අසමත් වූ ඔහු, අත මිට මොළවා මගේ මුහුණට පහරවල් කීපයක් එල්ල කළේ ය. මම යටිගිරියෙන් කෑ ගැසුවෙමි.

"පළල් කරපිය කකුල් දෙක" ඔහු මොර දෙන්නට විය. මගේ ශරීරය උඩ නැගගෙන සිටි ඔහු ගේ බරට ගඩොල් කැටවල මූණත් වැදී මගේ කොන්ද සිදුරු වී යනු මට දැනෙන්නට විය. නැවතත් ඔහු මට පාරවල් කීපයක් එල්ල කළේ ය. දෙවන අතුල් පහර මගේ මුහුණට එල්ල වූ වහා ම මෙයින් ගැලැවීමට නම් කිසියම් කූට උපායක් පාවිච්චි කළ යුතු යැයි මට කල්පනා විය. ඔහු ශක්ති සම්පන්න අයකු වූයෙන් ඔහු සමග සටන් කොට ජය ගන්නට නම් නො හැකි ය. ඔහුට අවශ්‍ය දේ කුමක්දැයි ඔහු හොඳාකාරව ම දැනගෙන සිටියාට සැකයක් නැත. ඔහු මීට පෙර ගැහැනු දූෂණය කර අත්දැකීම් ඇති අයකු බවට අටුවා ටීකා අනවශ්‍ය ය. මම ඔහුට තවත් ගොදුරක් පමණි. මට වුවමනා වී තිබුණේ ඔහු මරා දැමීමට ය. එහෙත්, එ වැනි දෙයක් කිරීමට මා ළඟ කිසි ම ආයුධයක් නො තිබුණි.

මට ඔහු ගේ පහස අවශ්‍ය බැව් හඟවමින් මම ඔහුට ආදර බසින් මෙසේ කීවෙමි. "ඇයි ඔයා ඔය තරම් කලබල වෙලා... මට මුත්‍රා බරයි... ඉන්න පොඩ්ඩක් මම මුත්‍රා කරලා එනකල්." එ වදන් ඇසූ සැණින් ඔහු ගේ කාමුක ආසාව තවත් උත්සන්න වීගෙන එනු මම දුටුවෙමි. ඔහු මට මුත්‍රා කරන්නට යන්නට ඉඩ හැරියේ ය. අඳුරේ ම ගඩොල් පුරවා ඇති ට්‍රක් රථයේ කෙළවරකට ගිය මම, මුත්‍රා කරන්නට මෙන් ඉඳ ගතිමි. මුත්‍රා කරන මෙන් ඉඳගෙන සිටි අතර තුර මම කළ යුතු දේ තීරණය කළෙමි. ගඩොල් කැටවලට අමතර ව එහි තිබූ කළුගල් ගෙඩියක් සොයාගෙන එය අතට තදවන සේ සිරකර ගත් මම, ඒ මිනිහා වෙතට ගොස් ඔහු අසලින් ඇල වුණෙමි. ඔහු මගේ ඇඟ උඩට ගොඩ වෙන්නට හදනවාත් සමග ම මම අතේ තද කරගෙන සිටි ගල් ගෙඩියෙන් හැකි තරම් වෙර යොදා ඔහු ගේ නළලේ කෙළවරට වේගවත් පහරක් එල්ල කළෙමි. ඒ ස්ථානයට ම දෙවන පහරත් එල්ල කළෙමි. ඔහු අසිහියෙන් මෙන් හිස අල්ලා ගන්නවා මම දුටුවෙමි. එ තැන් සිට මම නො නවත්වා දිගට ම තවත් පහරවල් කීපයක් එල්ල කරගෙන යන විට ඔහු ගඩොල්

ගොඩ මත ඇද වැටුණේ ය. ඒ මොහොතේ මට කිසිදාක නො දැනුණ ශක්තියක් දැනෙන්නට විය. ඔබටත් කවුරුන් හෝ අතවරයක් කරන්නට පැමිණියහොත් ඔහු ව මරා දමන්න. එවිට ඔබට ශක්තිය ලැබෙනු ඇත. ගඩොල් ගොඩ මත වැටී සිටි ඔහුට මම තවත් පහර දුන්නෙමි. ඔහු ගේ කන තුළින් රුධිරය බේරෙනවා මම දුටුවෙමි.

ට්‍රක් රියැදුරා රථයේ වූ කණ්ණාඩිය තුළින් සිද්ධිය සම්පූර්ණයෙන් ම දුටුවේ ය. "මොන මගුලක් ද යකෝ උඹ කළේ" ඔහු රථය ධාවනය කරන ගමන් ගුගුරන්ට විය. එකවර ම ඔහු ගස් වැවී තිබුණ ප්‍රදේශයක පාර අයිනේ ට්‍රක් රථය නවත්වන්නට සූදානම් විය. ඔහු මාව අල්ලා ගතහොත් මට සිදුවන දේ හොඳින් තේරුම් ගත් මම ට්‍රක් රථයේ වේගය ක්‍රමයෙන් අඩු වෙනවාත් සමග එයින් එළියට පැන කාන්තාරය දෙසට දිව්වෙමි.

"උඹ මගේ යාළුවා මැරුව නේද...? ඔහොම හිටපිය" ට්‍රක් රථය ධාවනය කළ මහලු රියැදුරා රථයෙන් එළියට බැස මා පසුපස ලුහුබඳින්නට විය. වැඩි උස් නො වූ ඝන පඳුරු අතරින් මඳ දුරක් මා පිටුපස ලුහුබඳිමින් පැමිණි රියැදුරා තවදුරටත් මා ලුහුබැඳීම අත හැර දැමුවේ ය.

අනතුරු ව රියැදුරා නැවතත් ට්‍රක් රථය වෙත ගොස් එයට ගොඩ වී රථය පණ ගන්වාගෙන කාන්තාරය හරහා ට්‍රක් රථයෙන් මා පසුපස හඹා එන්නට විය. රථයේ ඉදිරිපස වූ විදුලි ලාම්පු දෙකේ ආලෝකය අන්ධකාරය විනිවිද කාන්තාරය එළිය කරමින් විහිදුණු අතර, රථයේ ශබ්දය මට පිටුපසින් ළඟ ළඟ ම ඇසෙන්නට විය. මම, මට හැකි උපරිම වේගයෙන් කාන්තාරය හරහා දිව ගියෙමි. එ නමුදු මා කිට්ටුවට ම ට්‍රක් රථය එමින් තිබුණි. මම එක එල්ලේ ම දිව නො යා එක එක අතට හැරෙමින් දිව්වෙමි. එහෙයින් තවදුරටත් මා ඔහු ගේ දෘශ්‍යපථය තුළ නො සිටි බැවින් ඔහු මා පසුපස ලුහුබැඳීම අත්හැර දමා ට්‍රක් රථය හරවාගෙන මහා මාර්ගය වෙත ගොස් නො පෙනී ගියේ ය.

එතකුදු ගොදුරක් පිටුපස දිවයන සිව්පාවකු මෙන් මම නො නැවැතී ම ඉදිරියට දිව ගියෙමි. වරෙක ගස් කොළන් අතරින් ද අනතුරු ව කාන්තාරය හරහා ද දිව ගිය මා හට මා සිටින ඉසව්ව ගැන කිසියම් හෝ හැඟීමක් නො වී ය. හිරු උදා වෙමින් තිබුණ අතර, මම නො නැවැතී ම දිව ගියෙමි. අවසානයේ දී මම වෙනත් මාර්ගයකට අවතීර්ණ ව සිටියෙමි. කුමක්වේදැයි යන්න ගැන මා තුළ අසීමිත බියක් හටගෙන තිබුණු නමුදු, නැවතත් කෙසේ හෝ මහා මාර්ගයේ යන රථයක් නවතාගෙන හැකි තරම් දුරක් යන්නට තීරණය කළේ අන් කිසිවක් නිසා නො ව ට්‍රක් රථයේ රියැදුරාගෙන් හැකි තරම් ඈතට යන්නට මට අවශ්‍ය වූ නිසා ය. මා පහර දුන් පුද්ගලයාට කුමක් වීදැයි මම නො දනිමි.

උදෑසන හිරු එළියෙන් නැහැවී ගිය කාන්තාරය හරහා වැටී ඇති මහා මාර්ගය අසල සිටගෙන සිටි මා හට ඈතට විහිදී ගිය මාර්ගය හොඳින් දිස් විය. මෙතෙක් මා පොරවාගෙන ආ රෙදි කැබැල්ල කිලිටි වී ඇත. එ මතු ද නො ව දින ගණනක් පුරා කාන්තාරය හරහා පැමිණි මගේ මුළු සර්වාංගය සහ හිසෙහි වැලි තැවැරී ඇත. මගේ දෙපය පුරා ඇති වී ඇති හැරව ගලන තුවාල දකින ඕනෑ ම අයකු මා ලාදුරු රෝගයෙන් පෙළෙන්නකු යැයි සිතනු ඇත. මහා මාර්ගය දිගේ එමින් තිබූ මර්සඩීස් බෙන්ස් වර්ගයේ රථයකට මම අත ඇල්ලුවෙමි. රථය ධාවනය කරගෙන ආ ජැන්ඩියට ඇඳ පැලඳ සිටි පුද්ගලයා සිය රථය පාර අයිනේ නතර කොට රථයේ දොර විවෘත කළේ ය. මම එකවර ම රථයට නැඟ එහි වූ සුඛෝපභෝගී අසුනෙහි හිඳ ගතිමි. "කොහාට ද යන්නෙ?" ඔහු ප්‍රශ්න කළේ ය. "මේ පැත්තට." බෙන්ස් රථය ධාවනය වෙමින් තිබූ දිසාවට ම අත දිගු කරමින් මම කීවෙමි. ඒ පුද්ගලයා සිය සුදෝ සුදු දසන් විහිදුවා සිනාසුණේ ය.



# 2

# සතුන් සමඟ ගෙවුණ හිරිමල් විය



මා මෙසේ පලා එන්නට පෙර මගේ ජීවිතය ගෙවුණේ ස්වභාවධර්මය, මගේ පවුල සහ කාන්තාරයේ අප ව ජීවත් කරවන්නා වූ සිවුපාවන් සමඟ ය. මගේ කුඩා අවධිය දෙසට හැරී බලන විට ලෝකයේ අනෙකුත් රටවල ජීවත් වන කුඩා ළමයින් මෙන් ම මම ද සතුන්ට මහත් සේ ආදරය කළෙමි. සතුන් ගැන කතා කරන විට මුලින් ම මගේ මතකයට නැගෙන්නේ මා සුරතලකු වශයෙන් ඇති දැඩි කළ එළුපැටවෙකි. ඔහු ගේ නම බිලී ය. බිලී මගේ මුළු ජීවිතය ම විය. බිලීට මා මෙ තරම් ආදරයෙන් සිටියේ ඔහු ද එ කල මා මෙන් ම ළදරුවකු වූ නිසා යයි මට සිතේ. අප නිවසේ කාටත් හොරා කෑම සඟවාගෙන රැගෙන ගොස් මම ඔහුට සප්පායම් කළෙමි. එහෙයින් බිලී අපේ පට්ටියේ සිටි පුෂ්ටිමත් ම සිවුපාවා විය. "මොකද මේ එළුපැටියා විතරක් මෙච්චර මහත" මගේ අම්මා නිතර නඟන ප්‍රශ්නයකි. මම බිලී ඉතා ආදරයෙන් බලා ගත්තෙමි. ඔහුත් සමඟ සෙල්ලම් කෙරුවෙමි. එ මතු ද නො ව වරු ගණන් ඔහුට කතා කරමින් කාලය ගත කෙරුවෙමි.

බිලී සමඟ මගේ බැඳීම සෝමාලියාවේ අප ගේ ජීවිතය පිළිබිඹු වූ කැඩපතක් යයි කිවහොත් එය නිවැරැදි ය. අප පවුලේ ඉරණම අප ඇති දැඩි කළ සතුන් සමඟ එකිනෙකට වෙන් කළ නො හැකි අයුරින් බැඳී තිබුණි. සතුන්ගෙන් යැපුණ අප තුළ ඔවුන් කෙරෙහි මහත් භක්තියක් සහ ගෞරවයක් ඇති වී තිබුණි. අප කරන කියන සෑම කටයුත්තක දී ම සතුන් කෙරෙහි අප තුළ වූ භක්තිය හැම විට ම මුල් තැන ගත්තේ ය.

මගේ සහෝදර සහෝදරියන් සැම දෙනෙක් ම සතුන් රැක බලාගත් අතර, යාන්තමින් ඇවිද යන්නට පුළුවන් වූ අවධියේ පටන් ඒ කාර්යයට අප සියලු දෙනා ම උර දුන්නෝ ය. අපි ද සතුන් සමඟ එකට ලොකු මහත් වූයෙමු. ඔවුන් සතුටින් සිටිනු දැකුම අප ගේ ද සතුට වූ අතර, ඔවුන් ලෙඩ දුක් කරදරවලින් පෙළුණ අවස්ථාවල අපි ද හඬා වැටුණෙමු. කාන්තාරයේ දී ම උපත ලබා එහි දී ම මිය යන ඒ සතුන් මෙන් ම අප ද කාන්තාරයේ ඉපිද කාන්තාරයේ ම මියැදෙනු ඇත. හරක්, එළුවන්, බැටළුවන් සහ ඔටුවන් අපි ඇති කළෙමු. බිලී මගේ සුරතලා වුව ද අප ගේ පවුලේ සිටි වටිනා ම සිවුපාවන් ඔටුවන් ය.

ඔටුවන් සෝමාලියාවේ ආත්මය බඳු වූ අතර, ලෝකයේ වැඩියෙන් ම ඔටුවන් සිටින්නේ සෝමාලියාවේ බැව් කියමින් සෝමාලි ජාතිකයෝ පුරසාරම් දොඩති. ඇත්තෙන් ම සෝමාලියාවේ ජනගහනයට වඩා ඔටුවන් ඇත. කවි ගෙතීම අනාදිමත් කලක සිට සෝමාලියාවේ පැවැත එන සම්ප්‍රදායකි. එ සේ ගෙතුණ කවිවලින් බොහොමයක් ගෙතී ඇත්තේ ඔටුවන් වටා ය. ඒවා පරපුරෙන් පරපුරට දායාද වූ කවි වූ අතර, එම කවි තුළින් අප ගේ සංස්කෘතියේ වටිනාකම මොනවට පැහැදිලි විය. මගේ අම්මා නිතර ම කියූ කවියක් මගේ මතකයට නැගේ. එය මෙසේ යː

*නපුරු අයෙක් ඇවිදින් මගෙ ඔටුවා අරන් ගියා*
*දුක වාවා ගන්න බැරුව මගෙ හදවත උණු වෙනවා*
*මා ඉල්ලන්නේ අනේ මා අයදින්නේ*
*ගෙනැත් දෙන්න අනේ මගේ සුරතල් ඔටුවා*

මා කුඩා කල සිට ම ඔටුවන් ගේ වටිනාකම දැන සිටියේ අන් කවර හේතුවක් නිසා නො ව, ඔවුන් සෝමාලියාව තුළ රත්තරන් මෙන් වටින බැවිනි. ඔටුවකු නො මැති ව කාන්තාරයේ ජීවත් වීම ඇත්තෙන් ම කළ නො හැකි දෙයකි. විවාහ වීමට මනාලියක් ලබා ගැනීම සඳහා ගෙවිය යුතු සම්ප්‍රදායික ගෙවීම කරනු ලබන්නේ ඔටුවන්ගෙන් ය. කාන්තාරයේ ජීවත් වන අපට ඔටුවා තරම් සුදුසු සතකු තවත් නැත. සතියකට වරක් ජලය පානය කරන ඔටුවාට ජලය නො මැති ව මාස ගණනක් වුව ද සිටිය හැකි ය. ජල බිඳක් සොයා ගන්නට අපහසු කාන්තාරයේ ඔටු ධේනුවගෙන් ලැබෙන කිරි අප ගේ ආහාරය පමණක් නො ව අප ගේ පිපාසාව ද සංසිඳෙව්වේ ය.

කාලෙන් කාලයට අපි කාන්තාරයේ නොයෙකුත් තැන්වලට යන්නෙමු. ඒ යන විට අප ගේ බඩු මුට්ටු ඔවුන් ගේ පිට මතින් රැගෙන යමින් අපි ඔවුන්ට කවා පොවා ඇති දැඩි කළ ණය ගෙවති. අන් රටවල වෙසෙන

අය තමුන් ගේ පුද්ගලික රථයට නැඟ අවශ්‍ය ගමන් යති. කාන්තාරයේ අප ගේ එක ම වාහනය ඔටුවා පමණි.

බොහොමයක් සෝමාලි ජාතිකයින් මෙන් ම අප ද ගුබ්බෑයමක් වශයෙන් එඬේර ජීවිතයක් ගත කරන අය වූ අතර, ජීවත්වීම සඳහා අප ගේ දෛනික සටන කෙසේ වුව ද ඔටුවන්, ගවයන්, එළුවන් සහ බැටළුවන්ගෙන් සමන්විත විශාල පට්ටියක් අප සතු වූ බැවින් සෝමාලියාවේ හැටියට අප පෝසත් අය වශයෙන් සැලැකේ. සම්ප්‍රදායක් වශයෙන් ඔටුවන් සහ ගවයන් වැනි ලොකු සතුන් මගේ සහෝදරයින් විසින් බලාගත් අතර, ගැහැනු ළමයි කුඩා සතුන් බලා ගත්හ.

එඬේරුන් වන අපි එක ස්ථානයක සති තුන හතරකට වඩා රැඳී නො සිට නිරන්තරයෙන් නව ස්ථාන සොයා ගමන් කරන්නට පුරුදු ව සිටියෙමු. මෙසේ එක් තැනක රැඳී නො සිට නොයෙකුත් තැන්වලට ගමන් කිරීමට හේතුව අන් කිසිවක් නිසා නො ව, සතුන් ගේ අවශ්‍යතා පිරිමසා ගැනීම යි. සතුන් ජීවත් කරවීම සඳහා නිරන්තරයෙන් අපට ජලය සහ කෑම ඇති ඉසව් සොයාගෙන යන්නට සිදු වූ අතර, වියළී ගිය කාන්තාරයේ එ වැනි ඉසව් සෙවීම ඇත්තෙන් ම ලේසි පහසු කාර්යයක් නො වී ය.

අප ගේ නිවෙස් වන පැල්පත්, තණකොළ එකතු කොට සාදා ගන්නා ලද ඒවා විය. කුඩාරම් මෙන් ගලවා තැනින් තැනට ගෙන යා හැකි වූ මේ පැල්පත් කුඩාරම්වලින් වන මෙහෙය අපට ලබා දුන්නේ ය. කෝටුවලින් අපි පැල්පතේ සැකිල්ල සදා ගත්තෙමු. ඉන් පසු තණකොළ එකතුකොට මගේ අම්මා විසින් වියන ලද කළාල අපි අඩි දහයක පමණ විෂ්කම්භය සහිත ගෝලාකාර මුදුනක් ඇති පැල්පතේ වහලයට පාවිච්චි කරන්නෙමු. වෙනත් ඉසව්වක් සොයා යන්නට කාලය පැමිණි විට අපි ඒ සියල්ල ගලවා මිටි බැඳ ඔටුවන් පිට පටවා නව ඉසව්ව සොයා යන්නෙමු. ඔටුවන් ඉතා ශක්ති සම්පන්න සිවුපාවන් වර්ගයකි. ළදරුවන් සහ කුඩා ළමුන් ඔටුවන් ගේ පිට උඩ නැඟී ගමන් කළ අතර, වැඩිහිටියන් ඔවුන් දක්කාගෙන නව ඉසව්ව කරා ගමන් කරති. එ සේ ගමන් කරන අතරමඟ ජලය සහ ගහකොළ ඇති ප්‍රදේශයක් හමු වූ විට අප එහි නැවත කුඩාරම් තනා ගන්නෙමු.

විශේෂයෙන් ම කුඩාරම් තනන්නේ ළදරුවන්ට ය. ඊට හේතුව කාන්තාරයේ ඉර මුදුන් වන විට ඇතිවන දැඩි සූර්ය තාපයෙන් ළදරුවන් ආරක්ෂා කර ගැනීමට ය. එ මෙන් ම සිවුපාවන්ගෙන් දොවා ගන්නා කිරි ආරක්ෂා සහිත ව තබා ගන්නට ය. ළදරුවන් හැර අන් සියලු දෙනා ම

රාත්‍රී කාලයේ දී නිදා ගන්නේ කූඩාරමෙන් පිටත තාරකාවලින් පිරීගිය අහස් කුස යට ය. පැදුරු මත අප එකිනෙකාට තුරුලු වී නිදා ගන්නෙමු. රාත්‍රී කාලයට කාන්තාරය අධික ශීතල ය. පොරවා ගැනීම සඳහා සෑම අයකුට ම පොරවන රෙද්ද බැගින් නො මැති නිසා එකිනෙකා තුරුලු වී නිදා ගැනීමෙන් අප එකිනෙකා ගේ උණුසුමින් ශීතල මග හරවා ගන්නෙමු. තාත්තා අපට තරමක් දුරින් නිදා ගන්නට පුරුදු වී සිටියේ අපට ආරක්ෂාව සැලැසීම සඳහා ය. ඔහු අප ගේ ආරක්ෂකයා ය.

උදාවන පළමුවෙනි හිරු කිරණත් සමග අවදි වන අප ගේ මූලික කර්තව්‍යය වන්නේ පට්ටිය වෙත ගොස් කිරි දෙවීම ය. අප කූඩාරම් නැනීම සඳහා කුමන දිසාවකට ගියත් රාත්‍රී කාලයට සිවුපාවන් කොටුකර තැබීම සඳහා කොටුවක් සාදා ගැනීමට වුවමනා අතු රිකිලි කපා ගැනීමට අමතක නො කරන්නෙමු. පැටවුන් ඔවුන් ගේ මව්වරුන්ගෙන් වෙන්කොට නො තැබුවහොත් ඔවුන් කිරි සියල්ල ම බී දමන බැවින් අපි පැටවුන් සඳහා වෙන ම කොටුවක් සාදන්නෙමු. එ කල මා හට පැවැරී තිබූ එක් කාරියක් නම් පැටවුන්ට බොන්නට තරම් කිරි ඉතුරු කර කිරි දොවා ඉන් කොටසක් බටර් සෑදීම සඳහා වෙන්කොට තැබීම ය. කිරි දොවා ගැනීමෙන් අනතුරු ව පැටවුන්ට පැමිණ කිරි බොන්නට අපි ඉඩ හරින්නෙමු.

ඉන් පසු ව අපි උදේ ආහාරය වශයෙන් ඔටු කිරි පානය කරන්නෙමු. ඔටු කිරිවල විටමින් සී පදාර්ථය ඇති අතර, එළකිරි සහ බැටළු කිරිවලට වඩා එහි පෝෂ්‍ය ගුණයක් ද ඇත. කාන්තාරයේ ජල පහසුකම් නො මැති බැවින් බව භෝග වගා කිරීමට නො හැකි ය. එහෙයින් අපට එළවළු සහ පාන් වැනි ආහාර ලැබෙන්නේ නැත. සමහර අවස්ථාවල අපි අප්‍රිකානු කාන්තාරවල වෙසෙන වල් ඌරන් විසින් හාරන ලද අල වර්ග ඉතුරු වී තිබුණහොත් ඒවා රැගෙන ගොස් කෑමට ගන්නෙමු.

ඇති කරන සතුන් මස් සඳහා මැරීම අප දුටුවේ නාස්තියක් ලෙස ය. අපි ඇති කරන සතුන් කෑම සඳහා නො මරන්නේ ඔවුන් ගේ කිරිවලින් අප ජීවත් වන නිසාත්, එ මෙන් ම අපට අවශ්‍ය අනෙකුත් බඩු අප ලබා ගන්නේ ඒ සතුන් අපට අවශ්‍ය බඩු සඳහා හිලව්වට දීමත් නිසා ය. අපි ඇති කරන සතකු ආහාරය සඳහා මරන්නේ මඟුල් උත්සවයක් වැනි අති විශේෂ අවස්ථාවක දී පමණි. දිනපතා ම අපි වේල් තුනට ම ඔටු කිරි බී දිවි ගෙව්වෙමු. සමහර දිනවල අපි සියලු දෙනාට ම ප්‍රමාණවත් තරමට ඔටු කිරි නො තිබුණ අතර, එ වැනි දිනවල අපි පළමුවෙන් ම කුඩා දරුවන්ට සප්පායම් කොට අනතුරු ව කිරි ඉතිරි වී තිබුණහොත් අපි ඒ කිරි බොන්නෙමු. පවුලේ සියලු දෙනා ම ආහාර ගෙන අවසන්

වන තුරු මගේ අම්මා කිසි දිනක ආහාර ගන්නේ නැත. කිසියම් හෝ දෙයක් රාත්‍රී ආහාරය සඳහා ගන්නට නො මැති දිනවල ඒ ගැන එ තරම් තැකීමක් නො කරන්නට පුරුදු වී සිටි අපි, කුසට අහරක් නො මැති ව ම නින්දට යන්නෙමු. කුඩා ළදරුවන් කුසගින්න නිසා හැඬුව ද වැඩිහිටියන් කරබාගෙන ගොස් නිදා ගත යුතු ය. රාත්‍රී කෑමට කිසි ම ආහාරයක් නො තිබුණ දිනවල අපි සන්සුන් ව සිටින්නට උත්සාහ කරන අතර, සර්වබලධාරි දෙවියන් වහන්සේ ගේ කැමැත්ත අනුව අපට හෙට දිනයේ දී වත් කුසට ආහාරයක් ලැබේ යයි විශ්වාස කිරීම අප ගේ ජීවන දර්ශනය විය. ඊට හේතුව අප ගේ ජීවිත රඳා පවතින්නේ ස්වභාවධර්මය හසුරුවන සර්වබලධාරි දෙවියන් වහන්සේ අත ම වන බැවිනි.

මගේ පියා හාල් ගෝනියක් නිවසට ගෙන ආ දවසට අප ගේ කුඩාරම උත්සවශ්‍රීයක් ගනී. හාල්වලින් පිස ගන්නා බත අපි එළකිරිවලින් පිළියෙල කරගන්නා වෙඬරුත් සමඟ අනුභව කරන්නෙමු. සමහර අවස්ථාවල අපි අප ගේ එළුවකු සෝමාලියාවේ තෙත් කලාපයේ වැවෙන ඉරිඟු ගෝනියකට හුවමාරු කරන්නෙමු. එ සේ ලබා ගන්නා ඉරිඟු අඹරා ගන්නා පිටිවලින් අපි තලප හෝ රොටි හෝ සාදා ගන්නෙමු. අප මෙන් කාන්තාරයේ වෙසෙන වෙනත් පවුල් අප අසල කුඩාරම් ලාගෙන සිටින්නේ නම් අප ළඟ ඇති කෑම ඔවුන් සමඟ බෙදා හදාගෙන කන්නෙමු. බොහෝ විට අප හුදකලාව ජීවත් වුවත්, ඇත්තෙන් ම අපි විශාල ගෝත්‍රයක සාමාජිකයන් වෙමු. අප ළඟ ශීතකරණ නො මැති බැවින් අපට ලැබෙන මස්, එළවළු ආදිය නරක් වන්නට පෙර අනුභව කළ යුතු විය.

සෑම දිනයක ම උදෑසන ආහාර ගැනීමෙන් පසු අප ගේ පළමුවන කාර්යය වන්නේ සතුන් කොටුවලින් මුදා හැරීම ය. වයස අවුරුදු හයේ පමණ සිට මට භාර ව තිබූ වගකීම වූයේ හැටක පමණ වූ එළුවන් සහ බැටළු රැළක් කන්නට යමක් ඇති ඉසව්වක් කරා දක්කා ගෙන ගොස් ඔවුන් ගේ බඩකට පුරාවාලීම ය. සතුන් ආම්බාන් කිරීම සඳහා මම දිග කෝටුවක් ද අතැති ව එළුවන් සහ බැටළුවන් දක්කාගෙන තණකොළ ඇති ඉසව්වක් සොයා යන්නෙමි. හැකි තරම් පාන්දරින් ගමන ඇරඹූ තරමට ඉක්මනින් තණකොළ සහ ජලය ඇති ඉසව්වක් සොයා ගැනීමට හැකිවන අතර, සෑම දිනක ම අනෙක් එඬේරුන්ට පෙර මුලින් ම එ වැනි ආහාර ඇති ඉසව්වක් සොයා ගැනීමට මම සමත් වූයෙමි. ඉර මුදුන්වන්නට පෙර ජලය ඇති ස්ථානයක් කරා යන්නට නො හැකි වුවහොත් තද හිරු රශ්මිය හේතුකොටගෙන ජලය වියළී යනු ඇත. ජලය ඇති තැනක් සොයා ගත්විට මම සතුන්ට සිතැඟි සේ ජලය බීමට

ඉඩ හරින්නෙමි. මන්ද එ වැනි ජලය ඇති ස්ථානයක් නැවතත් සොයා ගැනීමට සතියක් දෙකක් නො ව සති තුන හතරක් ගත වන්නට හැකි බැවිනි. පායන කාලයට අප මුහුණ දෙන ඛේදවාචකය නම් බීමට වතුර කඳුළක් හෝ නො මැති ව අප ගේ සිවුපාවන් මියැදෙන දෙස බලා සිටීමට සිදුවීමයි. පායන කාලයේ දී ජලය සොයාගෙන ගව ගණන් යන්නට සිදුවන අතර, මඟදී පිපාසය නිසා සිවුපාවන්ට තවදුරටත් පිය නඟන්නට නො හැකි ව වියළී ගිය මහපොළොව මත වැටී මියැදෙන අයුරු බලා සිටීම තරම් ශෝකයක් තවත් නැති තරම් ය.

සෝමාලියාවේ කාන්තාරවල තැනින් තැන ඇති තෘණ භූමි කිසිවකුට අයත් නො වේ. එහෙයින් කාන්තාරය ගැන මගේ දැනුම පාවිච්චි කොට එ වැනි තෘණ භූමි සහ ජලය ඇති ස්ථාන සොයා ගැනීම මා සතු කාර්යයකි. සිවුපාවන් තණ බුදින අතර, අප්‍රිකානු කාන්තාරවල ගැවැසෙන හයනා වැනි භයානක වල් සතුන් ගැන මම කල්පනාවෙන් සිටිමි. සැඟවී, අවස්ථාවක් එනතුරු මාන බලමින් සිටින හයනා රැළෙන් පිටපැන අතරමං වන බැටළු පැටවකු හෝ බැටළුවකු හෝ රැගෙන යතු ඇත. සිංහයින් මෙන් ම කැළෑ බල්ලන් කාන්තාරයේ සැරිසරන භයානක සිවුපාවුන් ය. ඔවුන් ගොදුරු සොයා යන්නේ රංචු පිටින් ය.

බිම කළුවර වැටෙන්නට පෙර කුඩාරම බලා යන්නට කොපමණ දුරක් ඇත්දැයි යන්න මම අහස දෙස බලා ගණන් හදා ගන්නෙමි. එහෙත්, බොහෝ අවස්ථාවල මගේ තක්සේරු වැරැදී යන අතර, එ වැනි අවස්ථාවල භයානක තත්ත්වයන්ට මුහුණ දෙන්නට සිදුවෙයි. අන්ධකාරය මැදින් කුඩාරම බලා යන විට හයනාගෙන් බේරී යාම එ තරම් පහසු නොවේ. හයනා තරම් නපුරු සතෙක් කාන්තාරයේ නැත. සෑම දිනක ම ගෙදර ගොස් සතුන් කොටුවලට දැමුවායින් පසු ව කීපවතාවක් සතුන් ව ගණන් කර එක සතකු හෝ අඩුදැයි සොයා බලන්නට මම පුරුදු වී සිටියෙමි. දිනක් සතුන් රැළ දක්කාගෙන රෑ බෝවී ගෙදර පැමිණි මා, සුපුරුදු පරිදි සතුන් ව ගණන් කළ විට එක් එළුවකු අඩු බැව් දැන ගතිමි. එක්වර ම මගේ සුරතල් එළු පැටවා බිලී, කොටුවේ නැති බැව් මම දුටුවෙමි. මම කොටුව සිසාරා බිලී ව සෙව්ව නමුදු බිලී එහි නොසිටියේ ය. මම අඬාගෙන අම්මා වෙත දිව ගියෙමි. මගේ සුරතල් බිලී හයනාට බිලි වන්නට ඇතැ යි සිතූ මම හඬන්නට වූ අතර, මගේ අම්මා වචනයකුදු කතා නො කොට මගේ හිස පිරිමදින්නට වූවා ය.

නියඟය, අසනීප නැති නම් සෝමාලියාව තුළ පැවැතුණ යුද්ධය මතු නො ව කුමන හෝ ව්‍යසනයකට අපට මුහුණ දෙන්නට සිදුවුවත් අප ව ජීවත් කරවන සතුන් බලා කියා ගැනීම අප ගේ මූලික වගකීම විය.

නිරන්තරයෙන් සෝමාලියාව තුළ පැවැති දේශපාලන ආරවුල් රටේ බොහොමයක් නගරවලට මහත් සේ බලපෑ නමුදු හුදකලාව කාන්තාරයේ ජීවත් වන අපට එ වැනි ආරවුල්වලින් කිසි ම බලපෑමක් හෝ හිරිහැරයක් හෝ සිදු නො වී ය. මට අවුරුදු නවයක් තරම කාලයේ විශාල යුද හමුදා බලඇණියක් පැමිණ අප සිටි ප්‍රදේශයට නුදුරින් කඳවුරු බැඳ ගත්තේ ය. සොල්දාදුවන්ට හුදකලාව ගැහැනු ළමයි මුණ ගැසුණහොත් ඔවුහු ඔවුන් දූෂණය කරන බවට දූෂමාන ආරංචි පැතිර යන්නට වූ අතර, දූෂණයට ලක් වූ ගැහැනු ළමයකු මම දැන සිටියෙමි. හැකිතාක් දුරට ඔවුන් ව මඟහැර අපි අප ගේ කටයුතුවල නිරත වීමට වග බලා ගත්තෙමු.

ඔටුවන් රැගෙන ජලය ඇති ඉසව්වකට ගොස් ඔවුන්ට වතුර පොවාගෙන ආපසු රැගෙන එන ලෙස දිනක් උදෑසන මගේ පියා මට කියා සිටියෙන් මම ඔටුවන් රැළ ද දක්කාගෙන ජලය ඇති ඉසව්වක් සොයා යන්නට පිටත් වුණෙමි. පෙරදින රාත්‍රියේ ඒ ප්‍රදේශයට පැමිණි යුද හමුදා බලඇණියක් අපට යන්නට ඇති මාර්ගයේ කඳවුරුලාගෙන සිටින බැව් මම දුරතියා ම දුටුවෙමි. ගසකට මුවා වූ මම ප්‍රවේශමෙන් ඔබ මොබ ඇවිදින සොල්දාදුවන් දෙස බලා සිටින්නට වූයෙමි. හුදකලාව සිටි මට ඔවුන් දකින විට සොල්දාදුවන් අතින් කෙලෙසුණ ගැහැනු ළමයා මගේ මතකයට නැඟී ආවෙන් මා තුළ මහත් බියක් හට ගැනිණි. සොල්දාදුවන්, ඔවුන් ගේ නිල ඇඳුම් සහ වාහන දුටු සැණින් මා තුළ නැඟී ආවේ ඒ සියල්ල කෙරෙහි ද්වේෂයකි. ඔවුන් කුමක් සඳහා මේ ප්‍රදේශයේ කඳවුරු බැඳගෙන සිටින්නේ ඇයි යන්න ගැන මා තුළ කිසියම් අවබෝධයක් නො වූව ද ඔවුන් සෝමාලියාව සතුරන්ගෙන් ආරක්ෂා කිරීම සඳහා පැමිණ සිටින බැව් පමණක් මම දැන සිටි නමුදු, මට ඔවුන් ගේ රාජකාරියෙන් පලක් නැත. එනකුදු කෙසේ හෝ මම මගේ ඔටුවන් රැළට බීමට ජලය සපයා දිය යුතු ය. හමුදා කඳවුර මඟහැර ජලය ඇති ප්‍රදේශයකට යන්නට මඟක් මම දැන සිටි නමුදු, එය ඉතා දුර ගමනකි. එහෙයින් මම ඔටුවන් මුදා හැර ඔවුන්ට කඳවුර හරහා යන්නට සලස්වා පසෙකට වී බලා සිටියෙමි. මම සිතූ ආකාරයට ම ඔවුන් කඳවුර මැදින් ගමන් කොට ජලය ඇති ස්ථානයට ගිය අතර, මම ගස්වලට සහ පඳුරුවලට මුවා වෙමින් වෙනත් පැත්තකින් ගොස් ජලාශය අසල දී ඔටුවන් සමඟ එකතු වූයෙමි. ඒ වනවිට බිම කළුවර වැටෙන්නට පටන් ගෙන තිබුණ අතර, ඔටුවන් දිය පානය කර අහවර වූ වහා ම කඳවුර පසුකර යන්නට, පෙර ක්‍රමය ම පාවිච්චි කරමින් නිවස බලා එන්නට හැරුණෙමි.

සෑම දිනක ම අඳුරත් සමඟ නිවස බලා එන මම ඔටුවන් රැළ කොටුවට දමා අනතුරු ව එය කිරි දෙවීමට කාලය බැවින් කිරි දොවන්නෙමි.

කිරි දොවන විට අප විසින් ම ලීයෙන් සාදා ඔටුවන් ගේ කරේ එල්ලා ඇති සීනුව නාදවන හඬ ගොම්මන් අඳුර තුළින් ඇසෙන විට ඇත්තෙන් ම ඒ හඬ අප වැනි එඬේරුන්ට සුමිහිරි සංගීතයක් වැනි ය. ඉර අවරට ඇදෙනවාත් සමඟ ම වළල්ලක් මෙන් කාන්තාරය වසා පැතිරී ඇති අහස් කුස පුරා පැතිරී යන කළුවර අතරින් පළමුවෙන් ම එක ම එක තාරකාවක් පායා දිලෙන්නට පටන් ගනී. එය බැටළුවන් කොටුවලට දැමීමට කාලය බැවින් අපි සියලු ම බැටළුවන් කොටුවලට ගාල් කරන්නෙමු. මෙම හුදකලා ග්‍රහ තාරකාව වෙනත් රටවල "වීනස්" යනුවෙන් හඳුන්වන නමුදු, එය සෝමාලි ජාතිකයන් හඳුන්වන්නේ "බැටළුවන් සඟවන්නා" යනුවෙනි.

පාන්දරින් අවදි වී ඔටුවන් රැගෙන කාන්තාරය හරහා දිගු ගමනක් ගොස් ආපසු එන මට සෑම දිනක ම අඳුර වැටෙනවාත් සමඟ ම දැඩි මහන්සියක් සමඟ ම නිදිමතක් දැනෙන්නට පටන් ගැනීමත්, බොහෝ අවස්ථාවල කිරි දොවන විට නිදා වැටීම මා හට මුහුණ දෙන්නට සිදු වූ බරපතළ ප්‍රශ්නයකි. එ වැනි අවස්ථාවක් මගේ පියා දුටුවහොත් ඔහු මට තළන්නට පසුබට වන්නේ නැත. සැන්දෑවේ අපිට කරන්නට පැවැරී ඇති වැඩ කොටස අහවර කළ පසු එළැඹෙන්නේ රෑ කෑම ගන්නා වේලාව යි. රාත්‍රී ආහාරය සඳහා අපි බඩකට පුරා ඔටු කිරි බොන්නෙමු. ඉන් අනතුරු ව අපි විශාල ගිනි මැලයක් දල්වා ඒ වටා ඉඳගෙන බොහෝ වේලා අල්ලාප සල්ලාපයේ යෙදී සිට නින්දට යන්නෙමු.

එ වන් සැන්දෑවෝ ජීවිතයේ ඉමිහිරි ම මතකයන් වශයෙන් සදා නො මියෙන අයුරින් මගේ මතකයේ සටහන් වී ඇත. ඇති වෙන්නට ඔටු කිරි බී බඩ කට පුරවා ගන්නා අප ගේ පවුලේ සියලු දෙනා ම සිනාසෙමින් ප්‍රීතියෙන් ඒ සැඳෑවල් ගත කළෙමු. අපි සෑම දෙයක් ගැන ම සුබවාදී ව සිතන්නට පුරුදු ව සිටියෙමු. අප කිසිවෙක් කිසිවක් ගැන කිසි ම දිනක මැසිවිලි නො නැඟුවෙමු. කාන්තාරයේ ජීවිතය සත්තකින් ම කටුක ය. එහෙයින් එ වන් වාතාවරණයක ජීවිතය ජය ගැනීමට නම් දැඩි අධිෂ්ඨාන ශක්තියක් තිබිය යුතු අතර, අසුබවාදී ආකල්ප ඒ කටුකත්වය තුළ පැවැතීමට ඇති ශක්තිය මරා දමනු ඇත.

ගම්මානවලින් බොහෝ දුරස් ව අපි කාන්තාරයේ ජීවත් වුව ද මට කිසි ම දිනක හුදකලා බවක් නො දැනුණේ මා මගේ සහෝදර සහෝදරියන් සමඟ සෙල්ලම් කරන්නට පුරුදු ව සිටි බැවිනි. මා පවුලේ මද්දුමයා වූ අතර, මට වැඩිමහල් සහෝදරයෙක් සහ සහෝදරියන් දෙදෙනෙක් ද තවත් කුඩා සහෝදරියන් කීප දෙනෙක් ද සිටියහ. අපි එකට එකතු වී සෙල්ලම් කෙරුවෙමු. අපි සෙල්ලම් කළ සෑම

අවස්ථාවක ම මම මගේ පොඩි මල්ලී අලීව ද සෙල්ලමට සම්බන්ධ කර ගන්නට උත්සාහ කළෙමි.

ස්වභාවධර්මයත් සමග ජීවත් වන්නට අපට තිබූ නිදහසත්, එහි ගඳ සුවඳ මතු නො ව ඈ අරමුණු ද අත්දකිමින්, කුඩා දරුවන් වූ අපි කාන්තාරයේ ජීවත් වෙමින් ලැබූ සතුට වචනයෙන් කියා නිම කළ නො හැකි ය. හිරු එළියෙන් දැවෙන කාන්තාරය මත රංචු පිටින් වැතිරී කෙළිලොල් ව සිටින සිංහයින් දෙස අපි බලා සිටියෙමු. සීබ්‍රා, ජිරාෆ්, හයිරැක්ස් (මෙම සතා ප්‍රමාණයෙන් හාවකු තරම් වූ අලි පරපුරෙන් පැවැත එන බවට සලකුණු ඇති අප්‍රිකානු කාන්තාරයේ වෙසෙන කුඩා සතෙකි) සහ නරියන් පිටුපස අපි හඹා ගියෙමු. පොළොව යටට හාරා ගත් කුහරයක ජීවත් වන හයිරැක්ස් කුහරයෙන් එළියට එන තුරු නිසොල්මන් ව බලාසිට ඔවුන් එළියට ආ විගස ඔවුන් පසුපස හඹා යාමෙන් මහත් සතුටක් වින්දෙමු.

දිනක් කාන්තාරයේ ඇවිදගෙන ගොස් පැස්බරුන් ගේ බිත්තරයක් සොයා ගත් මට එය ගෙදර ගෙන ගොස් පැටවකු බිහිවන අයුරු දැක බලා ගැනීමට අවශ්‍ය විය. එම පැටියා සුරතලකු හැටියට හදාගන්නට තීරණය කළෙමි. බෝලින් නමැති ක්‍රීඩාව සඳහා ගන්නා බෝලයක් තරම් වූ බිත්තරය රැගෙන මම ගෙදර යන්නට හැරුණෙමි. එකවර ම පැස්බර අම්මා මා පිටුපස එළවාගෙන එන්නට විය. පැස්බරුන්ට පැයට සැතැපුම් හතළිහක පමණ වේගයෙන් දුවන්නට පුළුවන. නිමේෂයකින් මා කොටු කරගත් පැස්බර අම්මා මගේ හිසට කොටන්නට පටන් ගත්තා ය. බිත්තරයක් කුඩු කරන්නා සේ ඇය මගේ හිස සිදුරු කරන්නට පෙර මම අත තිබූ බිත්තරය බිම තබා දිවි ගලවා ගන්නට දිව ගියෙමි.

කැළෑ ප්‍රදේශවලට අප ගියේ කලාතුරකිනි. එහෙත්, සමහර දිනවල කැළෑ ප්‍රදේශවලට ගිය විට අපි, ගසකට නැග දුර සිටි අලි රංචු දෙස බොහෝ වේලා බලා සිටින්නට පුරුදු ව සිටියෙමු.

අප ගේ පවුලේ තිබූ ඒ සතුට දිනෙන් දින අපගෙන් වියැකී යන්නට පටන් ගැනිණ. මගේ වැඩිමහල් සොහොයුරිය නිවසින් පලා ගිය අතර, මගේ සහෝදරයා නගරයේ පාසලකට ගියේ ය. මගේ පවුල ගැනත් එමෙන් ම ජීවිතයේ කටුක පැත්ත ගැනත් මම උගත්තෙමි. මේ අතරතුර වර්ෂාව නැවැතී ගොස් නියගය පටන් ගෙන තිබුණෙන් සතුන් රැක බලා ගැනීම ක්‍රම ක්‍රමයෙන් ඉතා දුෂ්කර කාර්යයක් බවට පත්විය. ඒ දුෂ්කරතාවයන්ට ඔරොත්තු දෙන ආකාරයට මම ද දරදඬු ජීවිතයකට හුරු පුරුදු වුණෙමි.

දිනෙන් දින මියැදෙන මගේ සහෝදර සහෝදරියන් දැකීමෙන් ලත් කටුක අත්දැකීම තුළින් නො සැලී ජීවිතයට මුහුණ දෙන්නට මම ද පුරුදු වුණෙමි. අප ගේ පවුලේ සහෝදර සහෝදරියන් දොළොස්දෙනකු සිටි අතර, එයින් හයදෙනකු මියැදුණේ ය. වරෙක මගේ අම්මාට නිවුන් දරුවන් දෙදෙනකු ලැබුණ අතර, ඔවුහු තිඹිරි ගෙයි දී ම මිය ගියහ. එ මතු ද නො ව මගේ අම්මාට මාස හයක් වයසැති නිරෝගී සිඟිති දියණියක් සිටියා ය. "වාරිස් ඉක්මනට එන්න" දිනක් අම්මා මට කතා කළා ය. මම එහි යනවිට අම්මා දෙ අත් හිස මත තබාගෙන සිය සිඟිති දියණිය අසල දණින් වැටී සිටියා ය.

"වාරිස් ඉක්මනට ගිහිල්ලා ඔටු කිරි ටිකක් අරගෙන එන්න." අම්මා සිය දියණිය දෙස බලාගෙන ම කීවා ය. එ වකට මා කුඩා දැරියක් වුව ද, තත්ත්වයේ බැරෑරුම්කම තේරුම් ගොස් තිබුණ බැවින් මම මගේ සිඟිති නැඟණිය දෙස බිරාන්ත වී බලාගෙන ම සිටියෙමි.

"මොකද උඹට වෙලා තියෙන්නෙ. ඉක්මනට ගිහිල්ලා ඔටු කිරි ටිකක් ගෙනෙන්" අම්මා නැවත වරක් බෙරිහන් දුන්නා ය.

ඔටු කිරි රැගෙන එන්න මම ගිය නමුදු ආපසු එනවිට මට මුහුණ දෙන්නට ඇති තත්ත්වය ගැන මම හොඳාකාරව ම දැන සිටියෙමි. මා කිරිත් රැගෙන ආපසු එනවිට මගේ සිඟිති නැඟණිය සිටි ආකාරයෙන් ඇය මියගොස් ඇති බව මම තේරුම් ගතිමි. මගේ නැඟණිය දෙස මා එක එල්ලේ බලා සිටින විට අම්මා මට කම්මුල් පහරක් ගැසුවා ය. මගේ නැඟණිය මිය ගියේ මා සතු ව තිබූ කිසියම් හූනියම් බලයක් නිසා යැයි නිරන්තරයෙන් පැවැසූ මගේ අම්මා ඇගේ මරණයෙන් බොහෝ කලක් ගතවන තුරු ම එ සේ කියමින් මට දොස් නැඟුවා ය.

මට නම් එ වැනි ගුප්ත බලයක් තිබුණේ නැත. එ නමුදු මගේ සහෝදරයාට නම් එ වැනි ගුප්ත බලයක් තිබුණ අතර, සැම අයකු ගේ ම මතය වූයේ ඔහු සාමාන්‍ය අයකුට වඩා වෙනස් අයකු බව ය. එ වකට හයවැනි වියේ සිටි ඔහු ගේ හිසකෙස් සම්පූර්ණයෙන් ම සුදු වී තිබුණ නිසා අපි කවුරුත් ඔහු ඇමැතුවේ "වැඩිහිටියා" කියා ය. ඔහු ඉතාමත් බුද්ධිමත් අයකු වූ අතර, බොහෝ දෙනෙක් උපදෙස් ලබා ගැනීමට ඔහු සොයා පැමිණීමට පුරුදු ව සිටියහ. "කෝ අපේ වැඩිහිටියා" කියමින් ඔහු සොයා එන මිනිසුන් ඔහු ඔඩොක්කුවේ තබාගෙන මෙසේ ප්‍රශ්න කිරීම සිරිතක් ව පැවැතිණි. "මේ අවුරුද්දෙ කොයි කාලෙට විතර වර්ෂාව පටන් ගනී ද...?" ඇත්තෙන් ම ඔහු කුඩා දරුවකු වුවත්, ඔහු හැසිරුණේ කුඩා දරුවකු මෙන් නම් නො වේ. ඔහු ගේ ගති පැවැතුම් මතු නො ව, ඔහු ගේ හැසිරීම කතාබහ ආදිය වැඩිහිටියකු ගේ ලක්ෂණ කියා පෑවේ ය.

මිනිස්සු ඔහුට ගෞරව කළා පමණක් නො ව, ඔහුට තරමක බියෙන් ද පසුවූහ. එහෙත්, "වැඩිහිටියා" කුඩා කාලයේ දී ම මිය ගියේ ය. ඔහු ගේ මරණයට හේතුව කිසිවකු නො දැන සිටියත්, ඔහු මෙ ලොව හැර යාම විය යුතු දෙයක් වශයෙන් ඔවුහු සැලකූහ. ඔහු ජීවත් වූ කෙටි කාලය දෙස බලන විට ඇත්තෙන් ම "වැඩිහිටියා" මෙ ලොවට අයත් අයකු නො වන බව කාගේත් මතය විය.

සෑම පවුලක ම මෙන් ම අප පවුලේ ද එක් එක් සාමාජිකයාට හිමි චරිතයක් තිබුණි. මගේ චරිතය දඟකාර චරිතයක් වූ අතර, දඟකාරියක වශයෙන් මාව හඳුන්වන්නට ඇත්තේ මා විසින් කර ඇති සමහර ක්‍රියා නිසා විය හැකි ය. මා විසින් කරන ලද එ වැනි දඟකාර ක්‍රියාවල නිරවද්‍යභාවය මම පිළිගෙන සිටියත්, මගේ පවුලේ අය ඒ ගැන එ තරම් පැහැදීමකින් නො සිටි අතර, විශේෂයෙන් ම මගේ පියා මගේ ක්‍රියාකාරකම් ගැන උරණ වී සිටියේ ය. දිනක් මගේ මල්ලී අලි සහ මම එක ළඟ වාඩි වී ඔටු කිරි සමඟ බත් කමින් සිටියෙමු. මෙ වැනි ආහාරයක් අපට ලැබෙන්නේ ඉතාමත් කලාතුරකින් බැවින්, සෑම බත් කටක ම උපරිම රස විඳිමින් මම කෑම අනුභව කරමින් සිටියෙමි. ඒ වන විට මගේ පිඟානේ ඉතිරි ව තිබුණේ බත් ස්වල්පයකි. මගේ පිඟාන දෙස කෑදර බැල්මක් හෙළූ අලි එකවර ම සිය හැන්දෙන් මගේ පිඟානේ තිබූ බත් ටික රැගෙන කටේ දමා ගත්තේ ය. එයින් කෝපයට පත් මා අසල තිබූ පිහියක් ගෙන අලි ගේ කලවට දමා ඇන්නේ ය. අනතුරු ව මගෙන් පිහිය උදුරා ගත් අලි මගේ කලවට ද පිහියෙන් ඇන්නේ ය. අවසානයේ දී අපි දෙදෙනා ම තුවාලකරුවන් වීමු. පිහි පාරින් තුවාල වූ කැළැල් අපි දෙදෙනා ගේ ම දකුණු කකුලේ කලව මත එක ම ස්ථානයේ තවමත් තිබේ.

මගේ දඟකාර ජීවිතයේ පළමුවෙනි සිද්ධිය මගේ මතකයට එන්නේ සපත්තු කුට්ටමක් ලබා ගන්නට මා තුළ වූ අසීමිත ආසාවත් සමඟ ය. මගේ මුළු ජීවිතය පුරා ම සපත්තුවලට මා දැක්වූයේ පුදුමාකාර ආසාවකි. අද මම ප්‍රසිද්ධ නිරූපිකාවක් වුවත් මා ළඟ එ තරම් ඇඳුම් පැළඳුම් නැත. එහෙත්, අල්මාරියක් පිරෙන තරම් නොයෙකුත් වර්ගයේ සපත්තු මා ළඟ ඇත. කුඩා කල සපත්තු කුට්ටමක් ගන්නට මා හට තිබුණේ නො නිමි ආසාවකි. අපේ පවුලේ හැම අයකුට ම ඇඳුමක් තිබුණ නමුදු සපත්තු අරගෙන දෙන්නට තරම් වත්කමක් මගේ දෙමව්පියන්ට නො තිබුණි. එතකුදු මගේ අම්මා දමාගෙන සිටි වර්ගයේ පාවහන් යුවළක් පැළඳගෙන යන්නට මම සිහින මැව්වෙමි. එ මතු ද නො ව සතුන් බලා ගන්නා විට සර්පයන්, ගෝනුස්සන් සහ කටු ආදියෙන් දෙ පතුල්

රක ගැනීමට පාවහන් යුවලක් ලබා ගැනීමට මා හට තිබුණේ අසීමිත ආසාවකි. කාන්තාරය හරහා සතුන් දක්කාගෙන යන විට ගල් මුල්වල වැදී තුවාල වූ ස්ථානවල කැළැල් තවමත් මගේ දෙපයේ ඇත. තුවාල වූ අවස්ථාවක බෙහෙතක් ගන්නට අපට වෛද්‍යවරුන් සිටියේ නැත. එ නමුදු අප ජීවත් කරවන්නේ අප ගේ සතුන් බැවින් ඔවුන් ජීවත් කරවීමට කාන්තාරයට යා යුතු ම ය. කිසිවකුට කුමන හෝ කරුණක් නිසාවත් තමන්ට පැවැරී ඇති කාර්යය හැර යන්නට නො හැකි ය. එහෙයින් සෑම උදෑසනක ම අපි සතුන් ව දක්කාගෙන තොණ්ඩි ගසමින් හෝ ජලය සහ තණකොළ ඇති ඉසව් සොයා යන්නෙමු.

මගේ පියා ගේ එක් සහෝදරයෙක් පොහොසතෙකි. ඔහු ගේ නම අහමඩ් ය. අහමඩ් මාමා පදිංචි ව සිටියේ ගලාසියෝ නමැති නගරයේ ය. අපි ඔහු ගේ එළුවන්, බැටළුවන් සහ ඔටුවන් බලා ගත්තෙමු. මාමා ගේ එළු පට්ටිය බලා ගන්නට ඔහු මාව තෝරා ගත්තේ මම ඔවුන්ට කලට වේලාවට කෑම සහ වතුර දී නිසියාකාර ව බලා ගන්නා බැව් ඔහු දැන සිටි නිසා ය. වරක් අහමඩ් මාමා අප ව බැහැ දැකීමට පැමිණියේ ය. එවකට මම හත්වැනි වියේ පසු වුයෙමි. "මාමා මට සපත්තු කුට්ටමක් අරගෙන දෙන්න ඕනෑ" මම කීවෙමි.

"හරි හරි... අරන් දෙන්නම්" කියමින් ඔහු මා දෙස බලා සිනාසුණේ ය. මා වැනි ගැහැනු ළමයකු සපත්තු කුට්ටමක් වැනි දෙයක් ඉල්ලීම ගැන ඔහු විස්මයට පත්විය. පසුදිනක මගේ පියා අහමඩ් මාමා බලන්නට මා ද කැටු ව එහි ගියේ ය. ජීවිතයේ පළමුවරට පාවහන් යුවළක් ලැබෙන්නට යන බව සිතු මා තුළ මහත් තැති ගැනීමක් හටගෙන තිබුණි. මාමා දුටු වහා ම මගේ ප්‍රශ්නය මම ඔහුට ඉදිරිපත් කළෙමි.

"සපත්තු කුට්ටමක් ගෙනාව ද?"

"ඔව් ඔව් මේ තියෙනවා" කියමින් ඔහු කිසියම් පාර්සලයක් මා අත තැබුවේ ය. එකවර ම පාර්සලය විවෘත කොට බැලූ කල මම දුටුවේ මා සිතු පරිදි හම්වලින් මසන ලද පාවහන් යුවළක් නො ව, බාල වර්ගයේ කහ පාට රබර් සෙරෙප්පු කුට්ටමකි. "මේක ද මට ගෙනා සපත්තු කුට්ටම" මම පාර්සලය ඔහු ගේ ඇඟට දමා ගසමින් කීවෙමි. සෙරෙප්පු කුට්ටම ඔහු ගේ මුහුණේ වැදී පසෙකට විසි වී යනු දුටු මගේ පියා උස් හඬින් සිනාසෙන්නට විය.

"ඔහොම ද ළමයි හදන්නෙ?" ඔහු මගේ පියාගෙන් ඇසුවේ ය.

බලාපොරොත්තු සුන්වීම නිසා කෝපයට පත් මම මගේ මාමාත් සමඟ දබර කරන්නට පටන් ගත්තෙමි. "මේ වගේ කුණුකන්දලකට ද මම

මේ තරම් මැරීගෙන වැඩ කෙරුවෙ." මම කෑ ගැසීමි. එවිට අහමඩ් මාමා මා දෙස බලා අනතුරු ව අහස දෙස බලාගෙන අල්ලාහ් දෙවියන්ට මොනවාදෝ කියනවා මට ඇසිණි. අනතුරු ව මා විසින් විසි කරන ලද රබර් සෙරෙප්පු කුට්ටම ඔහු අහුලා ගත්තේ ය.

කිසි ම දෙයක් ලේසියෙන් අත හැර දැමීම මගේ සිරිත නො වේ. එදායින් පසු ගලසියාවට යන කවුරුන් හෝ අයෙක් අත මට අවශ්‍ය සෙරෙප්පු කුට්ටම ගැන දන්වා අහමඩ් මාමාට මම නිතර ම පණිවුඩ යැව්වෙමි. ඇත්තෙන් ම පාවහන් යුගලක් ලබා ගන්නට සිහින මැවූ මට එම සිහිනය සැබෑ කරගන්නට බොහෝ කාලයක් ගත විය. ඒ සිද්ධියෙන් පසු ව ද මම අහමඩ් මාමා ගේ එළු පට්ටිය බලා ගත්තෙමි. ඒ මෙන් ම අපේ ඔටු රැළ ද බලා හදා ගත්තෙමි. මිරිවැඩි නො මැති දෙපයින් මම ඒ සතුන් දක්කාගෙන තණ සහ ජලය ඇති ඉසව් සොයා සැතැපුම් දහස් ගණනක් කාන්තාරය හරහා ඇවිද ගියෙමි.

සපත්තු කුට්ටමක් ලබා ගැනීමට අහමඩ් මාමා සමඟ ඇති වූ සිද්ධියට වසර කීපයකට පෙර මා අවුරුදු හතරක් තරම වයසැති සිඟිති දැරියක් ව සිටි කාලයේ එක් දිනක් අපේ නිවසට අමුත්තෙක් පැමිණියේ ය. ඔහු ගේ නම ගුබාන් ය. මගේ පියා ගේ ළඟ ම මිත්‍රයෙක් වූ ගුබාන් අපේ නිවසට නිතර එන අමුත්තකු විය. දිනක් සැන්දෑ වරුවේ ඔහු පැමිණ මගේ දෙමව්පියන් සමඟ කතා බස් කරමින් සිටියේ ය. ඉර අවරට යනවාත් සමඟ ම කාන්තාරය වසා ඇති නිල්වන් අහසේ පායා එන ඉරබටු තරුව දුටු මගේ අම්මා කාන්තාරයට ගොස් බැටළු රැළ දක්කාගෙන එන්නට කාලය බැව් කීවා ය. "ආ එහෙනං මං ගිහිල්ලා බැටළු රැළ දක්කාගෙන එන්නම්... වාරිස්ට පුළුවන් මට උදව් කරන්න" ගුබාන් කීවේ ය.

මගේ සහෝදරයන් සිටියත් එකවර ම ඔහු ගේ උදව්වට හෙතෙම මාව තේරීම ගැන මා තුළ ආඩම්බරයක් ඇති විය. ඔහු මගේ අතින් අල්ලාගෙන කාන්තාරයට ගොස් විසිරී සිටි බැටළු රැළ කොටු කරන්නට පටන් ගත්තේ ය. සාමාන්‍යයෙන් මම ද වන සතකු මෙන් බැටළුවන් පිටුපස දුවන්නට පුරුදු ව සිටි නමුදු ඒ මොහොතේ බිම් කළුවර වැටෙමින් තිබූ නිසා එ සේ දුවන්නට මා තුළ බියක් ඇති වී තිබුණි. එහෙයින් මම ගුබාන් ළඟින් ම සිටියෙමි. එකවර ම ගුබාන් සිය කබාය ගලවා බිම එලා ඒ මත ඉඳ ගත්තේ ය. "මොකද ඔයා ඉඳ ගත්තෙ... කළුවර වැටීගෙන එනවා පේන්නෙ නැත්ද... නැගිටලා බැටළුවො ටික එකතු කරන්න." මම කීවෙමි.

"ඒක විනාඩියක වැඩක්... ඒකට තව වෙලා තියෙනවා... එන්ඩ මම ඔයාට හොඳ කතාවක් කියන්නම්" කියමින් ඔහු මට ද පැමිණ කබායේ

පසෙකින් වාඩිවන ලෙස කීවේ ය. මා කුඩා කල වැඩිහිටියන් කියන කතා අසා සිටීමට මහත් ඇල්මක් දැක්වූ අතර, එ වැනි කතාවක් අසා ගැනීමට මෙය කදිම අවස්ථාවක් යයි සිතූ මම එ තරම් නො කැමැත්තකින් වුව ද ඔහු වෙත ගියෙමි.

"හොඳයි ඔයා මට හොඳ කතාවක් කියනව ද?" මම ඇසුවෙමි.

"ඔව්... ඔයා ඇවිල්ලා මෙ තැනින් වාඩි වුණොත් මම හොඳ කතාවක් කියනවා" ඔහු බිම එළා ඇති ඔහු ගේ කබායේ පසෙකට අතින් තට්ටු කරමින් කීවේ ය.

මම ගොස් ගුබාන් අසලින් වැල්ල මත වාඩි වුණෙමි. එකෙනෙහි ම ඔහු මා කබාය මතට අදින්නට පටන් ගත්තේ ය. "මට බෑ ඔතෙන්ට එන්ඩ... මට ඕනෑ කතාවක් අහන්ඩ" මම තරමක් කේන්තියෙන් කීවෙමි.

"ඇවිල්ලා මෙ තැන දිගා වෙලා අර තාරුකා දිහා බලාගෙන ඉන්න... එතකොට මම ඔයාට හොඳ කතාවක් කියන්නම්."

මම ඔහු ගේ කබායට හිස තියා ශීතල වී ඇති වැල්ලට දෙ කකුල් දිගු කර නිල්වන් අහස මත පායා ඇති තරු දෙස බලා ඉන්නට වූයෙමි. නීලවර්ණ අහස් කුස ක්‍රමයෙන් අඳුරු වන්නට පටන් ගත් අතර, බැටළුවන් ද කෑ ගසමින් අප වටා දිව යන්නට විය. මම කතාව අසන්නට නොඉවසිල්ලෙන් බලා සිටියෙමි. එක වර ම ගුබාන් ගේ මුහුණ මගේ මුහුණට ළංවිය. අනතුරු ව ඔහු මගේ කකුල් දෙක මැදට පැමිණ මා ඉන වටා දවටාගෙන තිබූ රෙදි කැබැල්ල උඩට ඉස්සුවේ ය. එකෙනෙ හි ම කිසියම් ඝන යමක් මගේ යෝනියට තබා තද කරනු මට දැනුණේ ය. එයින් තැති ගැන්මකට පත් වූ මට සිදුවන්නේ කුමක්දැයි යන්න ගැන හරි වැටහීමක් නො වී ය. එහෙත්, කිසියම් නොහොබිනා දෙයක් සිදුවන බැව් ඉවෙන් මෙන් මට දැනිණි. ඒ සමඟ ම යෝනි මුඛය දෙසින් ඇඩි වේදනාවක් දැනෙන්නට වූ අතර, ඇසිඩ් වැනි උෂ්ණයකුත් සමඟ මගේ දෙ කකුල් මතට කිසියම් උකු උණුසුම් දියරයක් වැටෙනවා දැනෙන්නට විය. "උඹ මගෙ ඇඟට මුත්‍රා කළා නේද?" මම යටිගිරියෙන් කෑගසමින් කීවෙමි. එකවර ම නැඟී සිටි මම ඇඳගෙන සිටි රෙදි කැබැල්ලෙන් මගේ කලවා පිසදා ගන්නට වීමි.

"හරි හරි ඔක්කොම හරි... මම ඔයාට කතාවක් කියන්න ලෑස්ති වුණේ" ඔහු එ සේ කියමින් මගේ අත අල්ලා ගත්තේ ය. මම අත ගසා දමා අම්මා සොයාගෙන දුවන්නට වීමි. ගිනිමැලය අසල හිඳගෙන සිටින අම්මා මම දුටුවෙමි. ඇගේ මුහුණ ගිනි දලුවල රත් පැහැයෙන් ආලෝකවත් වී තිබුණි. මම දිව ගොස් ඇය ව බදා ගත්තෙමි. "මොකද වාරිස්" අම්මා

ඇසුවා ය. මා පිටුපස හති දමමින් පන්නාගෙන ආ ගුබාන් දෙස අම්මා බැලුවා ය. "මොකද වුණේ ගුබාන්" අම්මා ප්‍රශ්න කළා ය.

"මම වාරිස්ට කතාවක් කියන්න හදනකොට ඒකට එයා බය වුණා" ඔහු සිනාසෙන ගමන් මට අත වනමින් කීවේ ය. තාත්තා ගේ මිත්‍රයා මට කළ දේ ගැන අම්මාට කියන්නට මට වුවමනා වී තිබුණත් ඔහු කළේ කුමක්දැයි යන්න ගැන මට හරි වැටහීමක් නො තිබුණා මෙන් ම ඒ සිද්ධිය විස්තර කරන්නට තරම් වචන මා දැන සිටියේ නැත. සිනාසෙමින් සිටින ගුබාන් දෙස මම බැලුවෙමි. ඔහු ගේ මුහුණ මට කිසි දිනක අමතක නොවේ. එදා පටන් ඔහු කෙරෙහි මා තුළ ඇත්තේ ද්වේෂයකි.

"හරි හරි දැන් ඔක්කොම හරි. ඒක කතාවක් විතරයි. ඇත්තට සිදුවුණ දෙයක් නෙමේ... ඔයා බයවෙන්ඩ එපා" මගේ අම්මා මා තුරුළු කරගනිමින් කීවා ය. "කෝ බැටළුවො ටික" අනතුරු ව අම්මා ගුබාන්ගෙන් ඇසුවා ය.



# 3

# එඬේර ජීවිතය



ලෝකයේ අන් රටවල ජීවත් වන ජාතීන්ට මෙන් කාන්තාරයේ හැදී වැඩුණ අපට ඉතිහාසය එ තරම් වැදගත් යයි හැඟීමක් නො වී ය. අප ගේ මව් බස සෝමාලි භාෂාව වූ අතර, වර්ෂ 1973 වනතුරු ලිවීමට එහි අකුරු නො තිබුණි. එහෙයින් අපට ලියන්නට කියවන්නට සහ ඉගෙන ගැනීමට අවකාශයක් නො වී ය. අප ගේ දෙමව්පියන්ගෙන් කාන්තාරයේ ජීවිතය අප උගත් අතර, ඒ දැනුම පරම්පරාවෙන් පරම්පරාවට වාචික ව ලැබී තිබුණි. උදාහරණයක් ගෙන හැර දැක්වුවහොත් වියලි තණ කොළ ඉතා ශක්තිමත් ලෙසට එකට ගැට ගසා කිරි දමා තැබීමට භාජන සාදා ගන්නා ආකාරය මම මගේ අම්මාගෙන් උගත්තෙමි. එ මෙන් ම සතුන් ඇති කරන ආකාරය මතු නො ව ඔවුන් සෞඛ්‍ය සම්පන්න ව ජීවත් කරවීම ගැන මම මගේ පියාගෙන් උගත්තෙමි. අපි අප ගේ අතීතය ගැන කතා බහ නො කෙළෙමු. ඇත්තෙන් ම අපිට එ වැනි දේ ගැන කතා කිරීමට තරම් විවේකයක් ද නො වී ය. අප ගේ මුළුමහත් අවධානය යොමු වී තිබුණේ එදිනෙදා ජීවිතයේ පැන නඟින ප්‍රශ්න නිරාකරණය කිරීමට පමණි. අප ගේ සතුන් නිරුපද්‍රිත ව ගෙදර පැමිණියේ ද?, සතුන්ට අවශ්‍ය ජලය අප සොයා ගන්නේ කෙසේ ද?, අද අප ආහාරයට ගන්නේ කුමක් ද?, සතුන් රැගෙන කෑම සොයා ගිය අප ගේ සහෝදර සහෝදරියන් සියලු දෙනා ම ගෙදර පැමිණ සිටිත් ද? මේ අපිට දෛනික ව මුහුණ දෙන්නට සිදු වූ ප්‍රශ්නවලින් කීපයකි.

අවුරුදු දහස් ගණනක් පුරා අප ගේ මුතුන් මිත්තන් ජීවත් වූ ආකාරයට අපි ද ජීවත් වූයෙමු. අප ගේ කාලය වන විට ද එම ජීවන ක්‍රමයේ සැලකිය යුතු වෙනසක් සිදු වී නො තිබුණි. කාන්තාරය හරහා සැරිසරමින් ජීවත් වූ එඬේරුන් වූ අපට යාන වාහන, විදුලිය, දූරකථන පහසුකම්, රූපවාහිනී සහ පරිගණක නො තිබුණි. මෙ වැනි වාතාවරණයක් තුළ ඒ මොහොත ගැන පමණක් සිතන්නට පොලඹවන ලද අපට බටහිර රටවල්වල මෙහෙයවන මූලික බලවේගය වන වේලාව සම්බන්ධ ව තිබුණේ ඔවුන් දරන මතයට වඩා හාත්පසින් ම වෙනත් මතයකි.

මගේ පවුලේ අනෙක් සාමාජිකයින් මෙන් ම මම ද මගේ වයස ගැන දැන නො සිටියෙමි. මා කුඩා කාලයේ සිට ම ජීවත් වූයේ කෘත්‍රිම ආකාරයට වේලාව දනවන ඔරලෝසු, ලිත් ආදී දේවල් ඇසුරකින් තොර ව ය. ඒ වෙනුවට සෘතුන් සහ හිරු දෙස බලා අපි අප ගේ ජීවිතය සකසා ගත්තෙමු. අප වේලාව තක්සේරු කරන්නේ හිරු ගේ සංක්‍රමණය දෙස බැලීමෙනි. මගේ හේමලයා බටහිර දෙසට වැටී ඇත්නම් එය උදෑසන ද, හේමලයා පයට පැගෙන්නේ නම් මධ්‍යාහ්නය ද, එ මෙන් ම හේමලයා සම්පූර්ණයෙන් ම විරුද්ධ දිසාවට වැටී ඇත්නම් දවසේ අපරභාගය වශයෙන් ද අපි කාලය හඳුනා ගතිමු. කාන්තාරය මත වැටී ඇති මගේ සෙවණැල්ල දික් වනවිට ඔටුවන් රැළ ද සමඟ නිවස බලා ගමන් ආරම්භ කිරීමට වේලාව පැමිණ ඇති බව අපි වටහා ගතිමු. සෑම දිනක ම හිරු නැඟ ඒමත් සමඟ ම අපි උදාවන දිනය තුළ කළ යුතු දෑ තීරණය කොට බිම් කළුවර වැටෙන්නට පෙර එම කර්තව්‍යය සාර්ථක ව අවසන් කර ගැනීමට හැකි හැම උත්සාහයක් ම ගන්නෙමු. උදෑසන අවදි වී කළ යුතු දෑ සැලැසුම් කිරීමේ පුරුද්දක් අපට නො වී ය. නිව්යෝර්ක් නගරයේ වෙසෙන අය උදෑසන අවදි වූ වහා ම ඔවුන් ගේ දිනපොත් පෙරළා බලා හමුවීමට වේලාවක් ලබා ගැනීම සඳහා සිය මිතුරු මිතුරියන්ගෙන් මේ ආකාරයට ප්‍රශ්න කරති. "ඔයාට දාහතර වෙනිදට මාත් එක්ක දවල් කෑමට යන්ඩ වෙලා තියෙනව ද...? නැත්නම් කොහොම ද පහළොස්වෙනිදා." මා ද ඒ ආකාරයට හිත මිතුරන් හමු වීමට දමා ගත් වේලාවල් මගේ දිනපොතේ ද සටහන් කර ගත්ත ද, ඒ ක්‍රමයට පුරුදු වන්නට නම් මට නො හැකි විය. ලන්ඩන් නගරයට පැමිණි මුල් කාලයේ දී මේ මිනිස්සු එකිනෙකා අතර, සම්බන්ධකම් පවත්වන අයුරු දැකීමෙන් මම පුදුමයට පත්වීමි. "අය්යෝ හොඳට ම පරක්කු වුණා... දැන් ඉතින් දුවලා යන්න ඕනෑ" කියමින් සමහරක් තමුන් ගේ අත් ඔරලෝසුව දෙස බලා දිව යන්නේ ය. සෑම අයෙක් ම කුහුඹු රැළක් මෙන් ඒ මේ අත දිව යන සෙයක් මට දැනුණා පමණක් නො ව, සෑම දෙයක් ම වේලාවත්

සමග බැඳී ඇති බවක් පැහැදිලි ව පෙනෙන්නට තිබුණි. අදත් මම ඔරලෝසුවක් පලඳින්නේ නැත.

සෝමාලියාවේ මා ගත කළ ළමා කාලයේ දී වුව ද කිසි ම දිනක අනාගතය ගැන සිතන්නට හෝ අතීතය හාරා ඇවිස්සීමට හෝ මට වුවමනාවක් නො වී ය. ඉතා ළාබාල වියේ දී ම ගම රට අත හැර පලා යන්නට සිදු වූ බැවින් මගේ පවුලේ ඉතිහාසය ගැන මා එ තරම් දෙයක් දැන සිටියේ නැත. "අම්මා ගේ ළමා කාලය ගෙවුණේ කෙසේ ද? ඇගේ අම්මා කොහේ සිට එන අයෙක් ද? අම්මා ගේ පියා මිය ගියේ කෙසේ ද?" යන ප්‍රශ්න අම්මාගෙන් අසා දැන ගන්නට නැවතත් මගේ රටට යන්නට මා තුළ ඇත්තේ නො මියන ආසාවකි. මගේ පවුල සම්බන්ධ ව මෙ වැනි කරුණු දැන ගැනීමට මට කිසි දිනක නො ලැබෙනු ඇතැ යි මා තුළ ඉමහත් කනගාටුවක් ඇති වී ඇත.

කරුණු කෙසේ වුව ද මගේ අම්මා ගැන මම එක දෙයක් නම් හොඳාකාර ව දනිමි. එ නම් මගේ අම්මා ඉතාමත් සුරූපී කාන්තාවක් බව ය. මවකට ආදරේ ඇති සෑම දියණියක් මෙන් ම මම ද මගේ අම්මා ගැන වර්ණනා ස්වරයෙන් කතා කරන බැව් දනිමි. එහෙත්, ඇගේ රූපාලංකාරය නම් අතිශයෝක්තියක් නො වේ. ඇගේ මුහුණ මොඩිගාලිනී මූර්තියක් මෙන් වූ අතර, කළුවර මෙන් ඝන කළු එහෙත් කිරිගරුඬවලින් නෙළන ලද ප්‍රතිමාවක් යයි කිවහොත් එය පමණ ඉක්මවා කරන ප්‍රකාශයක් නම් නො වන්නේ ය. කිරි ම කිරි පාට දත් දෙපෙළක් ඇට තිබුණ අතර, ඇය රාත්‍රි කාලයේ දී අන්ධකාරයේ සිට හිනැහෙන විට පෙනෙන්නේ ඇගේ සුදුවන් දත් දෙපෙළ පමණි. ඇයට ඉතා දිගු කේශ කලාපයක් තිබුණ අතර, හිස පීරන්නට පනාවක් කිසි ම දිනක නො තිබූ ඇය සිය කේශ කලාපය ඇඟිලිවලින් පිරිමැද්දා ය. මගේ අම්මා සිහින් උස කාන්තාවක් වූ අතර, ඇය ගේ සෑම දියණියකට ම ඒ දේහ ලක්ෂණය ඇගෙන් ලැබුණ ආයාදයක් මෙන් සැලැකිය හැකි ය.

ඇය ඉතා නිහඬ චරිතයක් වූ අතර, කතා කරන්නට පටන් ගත් විට නො නවත්වා ම කතා කරන්නට පුරුදු ව සිටියා ය. විහිළු කතා කියන්නට මගේ අම්මා රුසියකු වූ අතර, ඇය කියූ සමහරක් එ වැනි කතා සිනහ උපදවන්නට සමත් වූ නමුදු, ඇය සමහර විට මෝඩ කතා කියන්නට ද පුරුදු ව සිටියේ අප ව කේන්ති ගැන්වීමට ය. ඇය මා ඇමැතුවේ "පුංචි කට" කියා ය. "ඒයි පුංචි කට ඇයි උඹේ කට ඔච්චර පුංචි" කාරණයක් නො මැති ව ඇය මා දෙස බලා එ සේ අසන්නට පුරුදු ව සිටියා ය.

මගේ පියා ඉතාමත් කඩවසම් පුද්ගලයකු විය. ඔහු අඩි හයක් පමණ උස එ මෙන් ම උසට සරිලන සිහින් සිරුරක් සහ දුඹුරු වර්ණ

නෙත් යුගලකින් හෙබි පුද්ගලයකු විය. සිය කඩවසම්භාවය ගැන මනා වැටහීමකින් සිටි ඔහු ඒ ගැන ආඩම්බරයෙන් සිටියේ ය. "උඹ අර වැඩයට කැමැති නැත්නම් මම ගිහිල්ලා වෙන ගෑනියක් අරගෙන එනවා." තමන්ට අවශ්‍ය දේ කියා ඒ වාක්‍යයේ හිඩැස පසු ව පුරවමින් ඔහු මගේ අම්මාට සරදම් කළේ ය. "එහෙනං ගිහින් කැන්දගෙන එන එකනෙ තියෙන්නෙ." අම්මා ද එ සේ පිළිතුරු දෙන්නට පසුබට නොවූවා ය. ඇත්තෙන් ම ඔවුන් දෙදෙනා එකිනෙකාට ඉමහත් ආදරයකින් බැඳී සිටියහ. අවාසනාවක මහත!! මගේ පියා සරදමට කියූ වචනය පසු ව යථාර්ථයක් බවට පත්විය.

මගේ අම්මා හැදී වැඩී ඇත්තේ සෝමාලියාවේ අගනුවර වන මොගඩිෂු නගරයේ ය. මගේ පියා හැදී වැඩී ජීවත් වී ඇත්තේ එඬේරකු මෙන් ඊට හාත්පසින් ම වෙනස් පරිසරයක් වූ කාන්තාරයේ ය. මගේ අම්මාට මගේ පියා මුණ ගැසුණ අවස්ථාවේ ඔහු ඉතා කඩවසම් අයෙක් බැව් ඇයට සිතී ඇත. එ වැනි කඩවසම් තරුණයකු සමග කාන්තාරයේ සැරිසැරී ම ඇත්තෙන් ම සුන්දර නො වන්නේ දැයි ඇය සිතුවා ය. ඔවුන් දෙදෙනා ඉක්මනින් ම විවාහ වීමට තීරණය කරන ලදු ව, එවකට මගේ අම්මා ගේ පියා ජීවතුන් අතර නො සිටියෙන් විවාහ ගිවිස ගැනීම සඳහා අවසර ලබා ගැනීමට ඔහු මගේ අත්තම්මා සොයා ගොස් ඇත. "නෑ නෑ ඒක කොහොමටවත් කරන්න බෑ." මගේ අත්තම්මා ඇගේ විරුද්ධත්වය ඔහුට කෙළින් ම ප්‍රකාශ කර ඇත. "ඔය මිනිහා සෙල්ලක්කාරයෙක්" අත්තම්මා මගේ අම්මාට තවදුරටත් කියා ඇත. කාන්තාරයේ ජීවත් වන එඬේරකුට මේ සුරුබුහුටි කෙල්ල දීග දෙන්නට මගේ අත්තම්මා සම්පූර්ණයෙන් ම විරුද්ධ වී ඇති නමුදු, මගේ අම්මා අවුරුදු දහසයේ දී නිවසින් පැන ගොස් මගේ පියා සමග විවාහ වී ඇත.

විවාහ වීමෙන් පසු ව ඔවුන් දෙදෙනා එ රටේ වෙනත් ප්‍රාන්තයකට ගොස් කාන්තාරයේ ජීවත් වූ මගේ පියා ගේ පවුලේ අයත් සමග ජීවත් වන්නට පටන් ගත් අතර, මගේ අම්මාට දහසක් ප්‍රශ්නවලට මුහුණ දීමට සිදු වී ඇත. මගේ අම්මා යහමින් මුදල් තිබූ, එ මෙන් ම බලවත් පවුලකින් පැවැත එන අයෙක් වූයෙන් මෙ වැනි කටුක එඬේර ජීවිතයක ස්වභාවය ගැන ඇය කිසිවක් දැන නො සිටියා ය. මගේ පියා ඩාරුඩ් නමැති ගෝත්‍රයට අයත් වූ අතර, මගේ අම්මා හාවියේ නමැති ගෝත්‍රයට අයත් වීම අන් සියල්ලට ම වඩා විශාලතම ප්‍රශ්නය විය. සෝමාලි ජාතිකයන් නොයෙකුත් ගෝත්‍රවලට අයත් වූ අතර, තමා අයත් ගෝත්‍රයට ඔවුන් තුළ තිබුණේ ඉමහත් ලැදියාවකි. සෝමාලියාවේ ඉතිහාසය පුරා දක්නට ලැබෙන යුද්ධයන්ට පසුබිම වී ඇත්තේ, මෙම ගෝත්‍රිකයන් තුළ තිබූ පුහුමානය යි.

ඉහත සඳහන් මෙම ගෝත්‍ර දෙක අතර, දරුණු ප්‍රතිවිරුද්ධතා ඇති අතර, මගේ අම්මා අයත් ව සිටි ගෝත්‍රය සදාචාරය අතින් මගේ පියා අයත් ගෝත්‍රයට වඩා පහත් බැව් කියමින් ඔවුන් මගේ අම්මාට ඉතා නිර්දය ලෙස සලකා ඇත. බොහෝ කලක් ගතවන තුරු මගේ අම්මාට හුදකලාව ජීවත් වන්නට සිදු ව ඇති අතර, කෙසේ හෝ ඇයට මගේ පියා ගේ ගෝත්‍රික ජීවිතයට අනුවර්තනය වීමට සිදු ව ඇත. ධාරූඩ් ගෝත්‍රිකයන් සමඟ හුදකලාව ජීවත් වීමට සිදුවීම මගේ අම්මාට මොනතරම් කටුක අත්දැකීමක් වන්නට ඇත්දැයි මට හරියට ම ප්‍රත්‍යක්ෂ වූයේ මම මගේ පවුල අත හැර පලා අවුත් හුදකලාව ජීවත් වන්නට පටන් ගැනීමෙන් පසු ව ය.

මගේ අම්මාට ඇගේ ඥාතීන්ගෙන් වෙන් වී ජීවත් වීමට සිදු වූ නිසා ඇයට ඔවුන් ගේ ආදරය නො ලැබුණ නමුදු ඇය සිය දරුවන් ඉමහත් ආදරයකින් ඇති දැඩි කළා ය. දරුවන් දොළොස්දෙනකු බිහි කළ මගේ අම්මා ඔවුන් උස් මහත් කිරීමට මොනතරම් දුක් කන්දරාවක් උසුලන්නට ඇත්දැයි අද වැඩිහිටියකු බවට පත් ව සිටින මට සිතාගත හැකි ය. අම්මා වරින් වර ගැබ්බර වූ අවධිය මට මතක ය. එ කල ගැබ්බර ව සිටින මගේ අම්මා එකවර ම අතුරුදහන් වී ගොස් දින කීපයකට පසු සිඟිති දරුවකු ද කරපින්නාගෙන නැවතත් නිවසට එන්නී ය. ඇය එ සේ කිසිවකුට නො දන්වා හොර රහසින් ම කාන්තාරයට ගියේ දරුවන් බිහි කරන්නට බවත්, ඒ යනවිට දරුවා ගේ පෙකණිවැල කැපීම සඳහා මුවහත් පිහියක් වැනි දෙයක් ඇය රැගෙන ගියා ය. දිනක් එ සේ දරුවකු බිහි කිරීම සඳහා අම්මා හොර රහසේ ම කාන්තාරයට ගිය අතර, අපට හිටි තැනින් කූඩාරම් ගලවාගෙන ජලය සොයා වෙනත් ඉසව්වකට යන්නට සිදුවිය. මගේ අම්මාට සිය පවුල නැවත සොයා ගැනීමට අලුතින් ලැබුණ දරු පැටවා ද කර පින්නාගෙන දින හතරක් පුරා කාන්තාරය හරහා ඇවිද යන්නට සිදුවිය.

මගේ අනෙකුත් සහෝදර සහෝදරියන් අතරින් අම්මා ගේ සුරතලා මා බැව් බොහෝ විට මට හැඟී ගොස් තිබුණි. අප දෙදෙනා අතර තිබුණේ සුවිශේෂ බැඳීමකි. මම සෑම දිනක ම ඇය ව සිහි කරමින් මා නැවත සෝමාලියාවට ගොස් ඇගේ වැඩ කටයුතුවලට සහය වන තෙක් අම්මා ව රැක බලා ගන්නා ලෙස ඉල්ලා දෙවියන්ට යාඥා කරමි. ළදරු වියේ දී මට වුවමනා වී තිබුණේ ඇය ළඟට වී සිටින්නට ය. ඔටුවන් රැගෙන කෑම සොයා ගොස් හැන්දෑවට ගෙදර එන මොහොත එන තුරු මම නො ඉවසිල්ලෙන් සිටියෙමි. එ සේ වැඩ අහවර කොට ගෙදර පැමිණෙන සෑම සැන්දෑවක ම මා අම්මා අසලින් වාඩි වුණ කල ඇය මගේ හිස පිරිමදින්නී ය.

මගේ අම්මා වියැළුණ තණවලින් කදිම කූඩ විව්වා ය. එ වැනි කූඩ වියන්නට බොහෝ කලක් පුරුදු විය යුතු ය. කිරි බීම සඳහා පාවිච්චි කළ හැකි කුඩා කෝප්පයක් තණවලින් වියන හැටි අම්මා මට කියා දුන්නා ය. එහෙත්, මට වුවමනා වී තිබුණේ ලොකු මලු විවීමට ය. මා විසින් වියන ලද මලු එ තරම් සාර්ථක නො වූ අතර, ඒවායේ තැනින් තැන හිල් තිබුණි.

මසකට වරක් මගේ අම්මා අප ගේ කුඩාරමෙන් පිට වී හුදකලාව කොහේදෝ යන්නට පුරුදු ව සිටියා ය. "මට දැනගන්ඩ ඕනෑ ඉඳලා හිටලා ඔයා තනියම කොහෙද යන්නෙ කියලා" දිනක් මම ඇසුවෙමි. "කට වහගෙන ගිහිල්ලා ඔයාගෙ වැඩක් බලා ගන්න" ඒ ඇය ගේ පිළිතුර විය. අප්‍රිකාවේ දරුවන්ට දෙමව්පියන් ගේ වැඩවලට ඇඟිලි ගැසීමට කිසි ම අයිතියක් නැත. එහෙත්, අම්මා ගේ මේ ගමන ගැන මා තුළ වූ කුතුහලය නිසා ඇයට හොරෙන් ඇය පසු පස ගොස් කාරණය දැන ගැනීමට මට වුවමනා විය. දිනක් ඇය මට නිවසට වී බාල සහෝදර සහෝදරියන් බලාගෙන ඉන්නා ලෙස දන්වා එළියට බැස යන්නට ගියා ය. අම්මා ටික දුරක් යනු බලා සිටි මම ගස් සහ පඳුරුවලට මුවා වෙමින් ඇය පසුපස ගියෙමි. එක්තරා ස්ථානයක දී එ තැනට පැමිණ සිටි තවත් ගැහැනු පස්දෙනකු ඇයට හමුවිය. ඔවුන් සියලු දෙනා ම යසට වැඩී තිබූ රූස්ස ගසක් යට වාඩි වූහ. ඔවුහු කතා බහ කරමින් සෑහෙන වේලාවක් එහි ගත කළහ. ඝන කළු හිසකෙස්වලින් වැසී ගිය ඔවුන් ගේ හිස් කළු කුහුඹුවන් මෙන් ඈතට දිස්විය. ඔවුන් බදින ලද ඉරිඟු ඇට කමින් තේ පානය කරන අයුරු මම බලා සිටියෙමි. මා ඔවුන් සිටි තැනට සෑහෙන දුරකින් සිටි නිසා ඔවුන් කතා කළේ කුමක්දැයි මට ඇසුණේ නැත. ඔවුන් කමින් සිටි බදින ලද ඉරිඟු කන්නට මා තුළ මහත් ආසාවක් ඇති වූයෙන්, මම ඔවුන් සිටින තැනට යන්නට තීරණය කළෙමි. ශබ්ද නො නැඟෙන සේ ඔවුන් වාඩිලාගෙන සිටි තැනට ගිය මම අම්මා ළඟින් සිට ගතිමි.

"කොහෙ ඉඳල ද ඔයා මෙතෙන්ට ආවෙ" අම්මා ඇසුවා ය.

"මම අම්මා පිටිපස්සෙන් ආවා."

"හරි ම හෙර."

අම්මා ගේ මිතුරියන් සියලු දෙනා ම මා දෙස බලා සිනාසුණ හ.

"බලන්ඩකො මේ පොඩි කෙල්ලගෙ ලස්සන" එක ගැහැනියක් කීවා ය.

මෙතෙක් තරමක කේන්තියෙන් සිටි මගේ අම්මා මා ඇය ළඟින් වාඩි කරවාගෙන මා හට බඳින ලද ඉරිඟු කන්නට දුන්නා ය.

ඔටුවන්, එළුවන් සහ බැටළුවන් සමඟ ජීවත් වන අප ගේ ලෝකයට වෙනස් ලෝකයක් ගැන එ කල මට කිසි ම අවබෝධයක් නො තිබුණි. මගේ අම්මා ගේ පසුබිම ගැන ද මම කිසිවක් දැන නො සිටියෙමි. වර්ෂ 1960 සෝමාලියාව නිදහස ලබා ගන්නා තෙක් සෝමාලියාවේ දකුණු ප්‍රාන්තය ඉතාලියේ යටත්විජිතයක් විය. එහි ප්‍රතිඵලයක් වශයෙන් මොගඩිෂු නගරයේ සංස්කෘතිය, ගෘහ නිර්මාණ මතු නො ව මුළුමහත් සමාජය තුළ ම ඉතාලි බලපෑම් පැහැදිලි ව දක්නට හැකි විය. එහි ප්‍රතිඵලයක් වශයෙන් මගේ අම්මාට හොඳින් ඉතාලි භාෂාව කතා කරන්නට හැකි විය. ඇය කෝපයට පත් අවස්ථාවල ඉතාලි වචනවලින් අපට බැණ වැදුණා ය.

"අම්මෙ අපට තේරෙන්නෙ නෑ මොනවද ඔයා කිව්වෙ කියලා."

"ආ... ඒ ඉතාලි."

"මොනවද ඉතාලි කියන්නෙ."

"ඒවායෙන් ඔයාට වැඩක් නෑ."

අම්මා අප ගේ පියා ව කසාද බඳින්නට ගත් තීරණය ගැන නොයෙක් වර අපි අම්මාගෙන් ප්‍රශ්න කර ඇත්තෙමු.

"ඇත්තෙන් ම ඇයි ඔයා කාන්තාරෙ ජීවත් වන මේ වගේ එඬේර මිනිහෙක් එක්ක ආවෙ... ඔයාගෙ අනෙක් සහෝදර සහෝදරියො හොඳ ජීවිත ගත කරනවා. ඔයාගෙ එක සහෝදරයෙක් තානාපති කෙනෙක්... බලන්න ඔයාට ජීවත් වෙන්න සිද්ධ වෙලා තියෙන හැටි."

"මම උඹලගෙ තාත්තට ආදරේ කෙරුව... මට එයත් එක්ක එකට ජීවත් වෙන්න ඕනෑ හින්දා මම උඹලගෙ තාත්තත් එක්ක ආවා." අප නැඟු ප්‍රශ්නවලට ඇගේ පිළිතුරු එ සේ විය. එතකුදු ජීවිතය කෙතරම් කටුක වුවත් ඇය ඒ ගැන කිසි ම දිනක අවලාද නගනවා මා කෙදිනකවත් අසා නැත. මගේ ජීවිතයේ එක ම අරමුණ මතුයම් දිනක මගේ අම්මා මෙන් ම එන ඕනෑ ම දේකට මුහුණ දෙන්නට ආත්ම ශක්තියක් ඇති ගැහැනියකු වීම යි. මා එ වැනි ගැහැනියකු වූ දාට මගේ ජීවිතය සාර්ථක ජීවිතයක් බැව් නො බිය ව ප්‍රකාශ කරන්නට මට පුළුවන.

සෝමාලියාවේ ජනගහනයෙන් සියයට හැටක් පමණ සතුන් ඇති කරමින් කාන්තාරයේ ජීවත් වන එඬේරු වෙති. මගේ පියා ඉඳහිට ගම්මානයකට ගොස් එළුවෙක් හෝ බැටළුවෙක් හෝ විකුණා ඒ මුදලින්

හාල් ගෝනියක්, ඇඳුම් සහ බ්ලැන්කට්ටුවක් දෙකක් රැගෙන එයි. සමහර අවස්ථාවල නගරයට යන අයකු අත විකුණන්නට හැකි යමක් යවා ඔහුට අවශ්‍ය දේවල් ගෙන්වා ගනී.

අපි මුදල් සොයා ගන්නා තවත් ක්‍රමයක් නම් බයිබලයේ සඳහන් ආකාරයට ජේසුස් වහන්සේ මෙ ලොව එළිය දුටු අවස්ථාවේ මැගී විසින් තෑගි කරන්නට ගෙනෙන ලද කට්ටකුමංජල් එකතු කර විකිණීමෙනි. කට්ටකුමංජල් පුරාණයේ මෙන් ම අදත් වටිනා දෙයකි. කට්ටකුමංජල් සාදා ගන්නේ සෝමාලියාවේ නිරිත දිග වූ කඳු ප්‍රදේශයේ වැවෙන බොස්වේලියා නමැති වෘක්ෂයේ කිරිවලින් ය. බොස්වේලියා වඩා උසට නො වැඩෙන වෘක්ෂයකි. පොරවක් රැගෙන යන මම ගසට තුවාලයක් නො වන ආකාරයට ඉතා සීරුවෙන් ගසේ පොත්ත රහින්නෙමි. එ විට රහින ලද ස්ථානයෙන් කිරි වැනි දියරයක් වෑහෙන්නට පටන් ගනී. එම කිරිපාට දියරය ඝන වන්නට එක දවසක් පමණ ගත වේ. සමහරවිට අපි තරමක් ඝන වූ කැල්ලක් කටේ දමා බුලත්විට මෙන් විකන්නෙමු. එහි ඇති තිත්ත රසට අපි ආසා කළෙමු. බොස්වේලියා ගසෙන් වෑහෙන කිරි සම්පූර්ණයෙන් ම ඝන වූ පසු අපි ඒවා කඩා කූඩයකට දමාගෙන ගෙදර ගෙන යන්නෙමු. තාත්තා ඒවා රැගෙන ගොස් විකුණන්නේ ය. එ මතු ද නො ව අප ද දවසේ වැඩ අහවර වී සැන්දෑවට ගිනිමැලය අසලට වී සිටින විට කට්ටකුමංජල් පුච්චා දුම ආඝ්‍රාණය කරන්නට පුරුදු ව සිටියෙමු. දැනුදු කට්ටකුමංජල් දුම ආඝ්‍රාණය කරන්නට ලැබෙන හැම අවස්ථාවක ම එහි සුගන්ධය විසින් කාන්තරයේ සැඳෑ කාලවල ගිනිමැලය අසල අප ගත කළ සොඳුරු අතීතය වෙත මා රැගෙන යන්නේ නිරායාසයෙනි. සමහර අවස්ථාවල නිව්යෝර්ක් නගරයේ මැන්හැටන් හි සාප්පුවල කට්ටකුමංජල් කියා සාම්බ්‍රානි අලෙවි කිරීම සඳහා පුවත්පත්වල දමා ඇති දැන්වීම මම දකිමි. අතීත සැමරුමක් වශයෙන් මම ද ඒ සාම්බ්‍රානි ගෙනැවිත් දල්වන්නෙමි. එහෙත්, කාන්තාරයේ සන්ධ්‍යාවන් හි ගිනිමැලය අසල හිඳ අප දැල්වූ කට්ටකුමංජල්වලින් හමා ගිය සුගන්ධය සාම්බ්‍රානිවල නම් නැත.

සෝමාලියාවේ සෑම පවුලකට ම අඩු ම වශයෙන් දරුවන් හත්දෙනකු සිටී ම සාමාන්‍ය දෙයක් වන අතර, දරුවන් දොළොස්දෙනකුගෙන් යුත් අප ගේ පවුල වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ම නියම සෝමාලියානු පවුලකි. දෙමව්පියන් වයස්ගත වී මහලු වූ විට, දරුවන් විසින් දෙමව්පියන් රැක බලා ගනු ලැබේ. එ මෙන් ම සෝමාලි දරුවන් ඔවුන් ගේ දෙමව්පියන්ට ඉමහත් ගෞරවයකින් සිටින අතර, මොන යම් අවස්ථාවක දී හෝ වැඩිහිටියන් අබිභවා කටයුතු නො කරති.

සෝමාලියාවේ පවුල්වලට මෙ තරම් දරුවන් සිටින්නේ උප්පත්ති පාලන ක්‍රම ගැන ඔවුන් නො දැනුවත් නිසා ම නො ව, ජීවත් වීම සඳහා කළ යුතු දෛනික වැඩ ලිහිල් කර ගැනීම සඳහා පිරිසක් සිටිය යුතු බැවිනි. ඔවුන්ට කළ යුතු ව ඇති වැඩ අතුරින් විශේෂයෙන් ම කාන්තාරයේ ජලය සොයා ගැනීම ඉතාමත් ම වෙහෙසකර කටයුත්තකි. අප ලැගුම්ලා සිටින ප්‍රදේශය අවට ජලය සිඳී ගිය විට මගේ පියා වෙනත් කොතැනක හෝ ජලය ඇති ස්ථානයක් සොයා යන්නේ ය. මගේ අම්මා විසින් වියන ලද කුඩ ඔටුවන් පිට තබා බැඳගෙන නිවසින් පිට වී යන ඔහුට ජලය ඇති ඉසව් සොයාගෙන දින ගණනක් කාන්තාරය හරහා ඇවිද යන්නට සිදු වේ. අනතුරු ව හමුවන ජලාශයකින් කුඩවලට ජලය පුරවා ගන්නා හෙතෙම ආපසු නිවස බලා එන්නේ ය. ඔහු පෙරළා නිවස වෙත එනතුරු අප බලා සිටිය ද සමහර අවස්ථාවල අපට සතුන් රැගෙන ජලය ඇති ඉසව් සොයාගෙන යන්නට සිදුවන බැවින් අප ගේ පියා අපට මඟහැරී යන අවස්ථාවල් ද ඇත. එතකුදු මාර්ග සංඥා කිසිවක් නොමැති ව ඔහු අප සිටින ඉසව්ව සොයාගෙන එන්නේ ය. යම් හෙයකින් ආහාර පාන ආදිය ගෙන ඒම සඳහා අප ගේ පියා ගම්මානයකට ගොස් සිටියහොත් ඒ රාජකාරිය අප අතරින් එක් අයකුට පැවැරෙන්නේ අන් කිසිවක් නිසා නො ව අම්මාට නිවසේ වැඩ කටයුතු ගැන බලා කියා ගන්නට ඇති හෙයිනි.

සමහර දිනවල ඒ රාජකාරිය පැවැරෙන්නේ මට ය. එවිට ජලය ඇති තැනක් හමුවන තුරු සැතැපුම් ගණන් යන්නට සිදු වේ. කිසි ම දිනක මොන යම් හෝ කරුණක් නිසාවත් හිස් අතින් ගෙදර ඒමේ පුරුද්දක් අපට නො තිබුණි. එහෙයින් තමුන් ගිය රාජකාරිය කරගෙන ම ආ යුතු ව ඇත.

ජීවත්වීම සඳහා අපට කරන්නට ඇති දහසක් වැඩ පහසුවෙන් කර ගැනීම සඳහා තිබුණේ එක ම උපක්‍රමයකි. එ නම් එක පුරුෂයකුට භාර්යාවන් කීප දෙනකු සමඟ දීග කෑමට ඇති අයිතිය අප්‍රිකාවේ සාමාන්‍ය දෙයක් වන බැවින්, එ මඟින් පවුලට අවශේෂ ගැහැනුන් එකතු කර ගැනීම සහ ඒ අයට ලැබෙන දරුවන් මඟින් තම කුටුම්බය විශාල කර ගැනීම ය. එහෙත්, මෙනයින් බලන කල මගේ දෙමව්පියන් අසාමාන්‍ය යුවළක් වන්නේ ඔවුන් දෙදෙනා දීර්ඝ කාලයක් එකට ජීවත් වූ බැවිනි. එ තමුදු මගේ අම්මා දොළොස් වෙනි දරුවා ප්‍රසූත කිරීමෙන් අනතුරු ව ඇය මගේ පියාට මෙසේ පවසා ඇත. "මේ ඇහුණ ද... මම දැන් මහලුයි... ඇයි ඔහෙ වෙන ගැනියෙක් කැන්දගෙන ඇවිල්ලා මාව නිදහස් කරලා දාන්නෙ නැත්තෙ." ඇත්තෙන් ම ඇය එ සේ කීවේ සිතාමතා ද යන්න

ගැන මම නො දනිමි. එ මෙන් ම බොහෝ විට ඇය සිය ස්වාමිපුරුෂයා එ සේ නො කරතැයි ද සිතන්නට ඇත.

එක්තරා දිනයක හදිසියෙන් ම මගේ පියා අතුරුදහන් විය. මුල දී අප කවුරුත් සිතුවේ ඔහු ජලය රැගෙන එන්නට හෝ ආහාර රැගෙන එන්නට හෝ ගොස් ඇතැ යි කියා ය. මගේ අම්මා ඇය දන්නා කියන සෑම තැනකින් ම මගේ පියා ගැන විපරම් කළා ය. එහෙත්, ඔහු ගැන කිසියම් හෝ තොරතුරක් දැන ගන්නට ලැබුණේ නැත. මගේ පියා අතුරුදහන් වී මාස දෙකක් ගෙවී ගියාට පසු ව ඔහු මිය ගොස් ඇතැ යි අපි සිතුවෙමු. දිනක් සැන්දෑවේ අපි සහෝදර සහෝදරියන් සියලු දෙනා ම නිවස ඉදිරිපිට ඉඳගෙන සිටිය දී ඔහු කාටත් නො කියා අතුරුදහන් වූ ආකාරයට ම කිසි ම දැනුම් දීමකින් තොර ව ගෙදර ආවේ ය.

"කෝ උඹල ගෙ අම්මා."

"අම්මා එළියට ගිහිල්ලා තාම ආවෙ නෑ" අපි පිළිතුරු දුන්නෙමු.

"ආ... එහෙනං ඔක්කොම ඇවිල්ලා මගෙ අලුත් බිරිඳ අඳුන ගනිල්ලා" අවුරුදු දාහතක් පමණ වයසැති කෙල්ලෙක් ඉදිරියට තල්ලු කරමින් ඔහු කීවේ ය. පියා ගේ තීරණයට විරුද්ධ ව කිසිවක් පැවැසීමට කිසියම් අයිතියක් නො මැති අපි ඇය දෙස බලා සිටියෙමු.

එ දින මගේ අම්මා ගෙදර පැමිණි මොහොත ඇත්තෙන් ම සිත කම්පා කරවන මොහොතක් විය. අපි සහෝදර සහෝදරියන් සියලු දෙනා ම සිදුවන්නට යන්නේ කුමක්දැයි බිරාන්ත වී බලා සිටියෙමු. "ආ උඹට ආයෙත් අපි ව මතක් වෙලා තියෙන්නෙ" අඳුරේ සිටි කෙල්ල නො දුටු අම්මා එ සේ පැවැසුවා ය.

"ඔව් ඔව්... ඒක නෙමෙ මෙ ඉන්නෙ මගෙ අලුත් ගෑනි" ඔහු නව බිරිඳ ගේ කරට උඩින් අත දමමින් කීවේ ය.

මගේ අම්මා ගේ මුහුණ මම අඩ අඳුර තුළින් දුටුවෙමි. ශෝකයෙන් හරිත වූ ඇගේ මුහුණ බිමට නැඹුරු වී තිබුණි. තම ස්වාමිපුරුෂයා ඇයට අහිමි වී මෙ කෙලි පැටික්කිට ඔහු හිමි වී ඇති බව අම්මා තේරුම් ගත්තා ය. උතුරා යන ඊර්ෂ්‍යාවකින් ඇය පෙළෙන්නට වූ අතර, ඇය සිත දැඩි කර ගනිමින් එය නො පෙන්වා සිටින්නට උත්සාහ කළා ය.

මගේ පියා ගේ නව බිරිඳ ගේ වගතුග හෝ ඇය ගේ ගම් පළාත් ගැන හෝ කිසිවක් අප දැන සිටියේ නැත. එ නමුදු වැඩි දිනක් යන්නට පෙර ඇය අප සියලු දෙනාට ම අණ කරන්නට පටන් ගත්තා ය. එ මතු ද නො ව මෙ ගිගිති කෙල්ල අප ගේ අම්මාට ද අණ කරන්නට පටන්

ගන්නා ය. දිනක් ඇය "වැඩිහිටියා" නමින් හඳුන්වන අප ගේ සහෝදරයාට කම්මුල් පහරක් ගැසුවා ය. ඒ සිද්ධියත් සමඟ අප කාගේත් ඉවසීමේ සීමාවන් ඉක්ම ගියේ ය.

එක් ස්ථානයකින් කුඩාරම ගලවාගෙන නව ස්ථානයකට යන හැම අවස්ථාවක ම කුඩාරම කිට්ටුව ඇති ගසක් යට අප සහෝදර සහෝදරියන් එකට එක් ව සිටින්නට පුරුදු ව සිටියෙමු. එම ස්ථානය අපි අප ගේ කාමරය යනුවෙන් හැඳින්වූයෙමු. දිනක් අපි අප ගේ කාමරයේ සෙල්ලම් කරමින් සිටින විට "වැඩිහිටියා" අඬනවා අපට ඇසුණි. අනතුරු ව ඔහු හඬමින් මා සිටි දෙසට එනු මම දුටුවෙමි.

"මොකද අඬන්නෙ... ඇයි මොකද වුණේ?" මම ඔහු ගේ කඳුළු පිස දමමින් ඇසුවෙමි.

"අර කෙල්ල හයියෙන් මගෙ කම්මුලට ගැහැව්වා" ඔහු ඉකිගසමින් කීවේ ය. ඇත්තෙන් ම ඔහුට කම්මුලට ගැසුවේ කවුදැයි ප්‍රශ්න කරන්නට අවශ්‍ය නැත. මන්ද, අප පවුලේ අය පමණක් නො ව අප ගේ අසල්වැසියන් වුව ද වැඩිහිටියාට එ වැනි දෙයක් කරන්නට පෙලඹෙන්නේ නැති බැවිනි. විශේෂයෙන් ම මගේ පියා අපට තැළුවත් ඔහු කිසි ම දිනක "වැඩිහිටියාට" දඬුවම් කරන්නේ නැත. වැඩිහිටියා අප අතර සිටි බුද්ධිමත් ම තැනැත්තා වූ අතර, දඬුවම් ලබන්නට ඔහු කිසි දිනක වැරැදි කරන්නේ ද නැත. වැඩිහිටියාට කම්මුල් පහරක් ගැසීම මට වාවා ගන්නට නො හැකි විය. මම ඒ මෝඩ කෙල්ල සොයා ගියෙමි.

"ඇයි උඹ මගෙ මල්ලිගෙ කම්මුලට ගැහැව්වෙ" මම ඇසුවෙමි.

"එයා මගෙ කිරි ටික බිව්වා" හරියට ඇය අප ගේ කිරි පට්ටියේ අයිතිකාරිය මෙන් අහංකාරකමින් උඩගු වී පැවසුවා ය.

"උඹගෙ කිරි... මමයි ඒ කිරි කුඩාරම ඇතුළෙන් තිබ්බෙ... මගේ මල්ලිට තිබහා නං එයාට කිරි බොන්න තහනමක් නෑ... ඒකට උඹ එයාට ගහන්න වුවමනා නෑ."

"කටවහගෙන පලයන් යන්න" ඇය සිය අත මා වෙත උලුක් කරමින් ගිගුරුවා ය.

එ කල මම අවුරුදු දහතුනක දැරියක් වුවත්, ඇය සමාව නො දිය හැකි වරදක් කර ඇති බව මම වටහා ගත්තෙමි.

මගේ සහෝදර සහෝදරියන් ගස යට හිඳගෙන අප ගේ සංවාදයට කන් යොමා සිටියේ ය. "ඒක හෙට බලාගමු" මම ඔවුන් ගේ තැතිගත් මුහුණු දෙස බලාගෙන කීවෙමි.

පසුදින මගේ පියා දින දෙක තුනකට ගෙදර නො එන බව කියා පිට ව ගියේ ය. එ දින මධ්‍යාහ්නයේ මම බැටලු රංචුවත් සමඟ නිවස වෙත පැමිණියෙමි. "ඔය ගෑනිට මනක හිටින්න හොඳ පාඩමක් උගන්නන්න ඕනෑ" මම කීවෙමි.

"අපි මොනවා කරන්න ද?" මගේ බාල සහෝදරයා අලි ප්‍රශ්න කළේ ය.

"මාත් එක්ක ඇවිල්ලා මට උදව් කරන්නකො... එතකොට බලාගන්න පුළුවන් කරන වැඩේ."

කූඩාරම් ගලවාගෙන නව ස්ථානයක් සොයා යනවිට අප ගේ බඩුමුට්ටු ඔටුවන් පිට තබා බඳින්නට ගන්නා ලණුවක් මම සොයා ගත්තෙමි. අනතුරු ව බියපත් ව සිටි පියා ගේ දෙ වැනි බිරිඳ අසල වූ කැලෑව තුළට රැගෙන ගිය අපි ඇයට ඇඳුම් සියල්ල ම ගලවා දමන ලෙසට අණ කළෙමු. ඉන් පසු අපි ඇය ගේ එක් කකුලක කඹය ගැට ගසා කඹයේ අනෙක් කෙළවරින් ඇද කිහිප වතාවක් ඇය මහ පොළොව මත වැටෙන්නට සලසා ප්‍රීති වීමු. එවිට ඇය අපට දෙස් දෙවොල් තියමින් යටි ගිරියෙන් කෑ ගසන්නට වූවා ය. අනතුරු ව අපි ඇය ව ගසකට තබා ගැට ගසා ගෙදර පැමිණියෙමු.

පසුදින ගෙදර පැමිණි මගේ පියා සිය නව බිරිඳ ගැන ප්‍රශ්න කර සිටියේ ය. අප ඇය ව නො දුටු බැව් කියා සිටියෙමු. අප ඇය ව සෑහෙන දුරකට ගෙන ගොස් ගැට ගසා දමා පැමිණි හෙයින් ඇය ගේ කෑගැසීම කූඩාරමට ඇසුණේ නැත. මගේ පියා ඇය ව සොයන්නට විය. එහෙත්, එ දින බිම් කළුවර වැටෙන තුරුත් ඔහුට ඇය ව සොයා ගන්නට නො හැකි විය. කිසියම් අනතුරක් ඇයට සිදු වී ඇති බැව් තේරුම් ගත් මගේ පියා අපගෙන් ප්‍රශ්න කරන්නට විය. "උඹලා කවද්ද අන්තිමට ඒකි ව දැක්කෙ... ඊයෙ හැන්දෑවෙ දැක්කෙ නැද්ද?" පෙර දින රාත්‍රියේ ඇය ගෙදර නො පැමිණි බව අපි කියා සිටියෙමු.

කලබලයට පත් අප ගේ පියා අස්සක් මුල්ලක් නෑර ඇය ව සොයන්නට විය. එහෙත්, පසු දා උදෑසන වනතුරු ම ඔහුට ඇය ව සොයා ගන්නට නො හැකි විය. දින දෙකකට පසු ව මගේ පියා ඇය ව සොයා ගත් අතර, ඒ වන විට ඇය ශාරීරික ව දුර්වල තත්ත්වයකට පත් ව සිටියා ය. බිරිඳත් සමඟ ගෙදර පැමිණි ඔහු ඉහවහ ගිය කේන්තියෙන් අපගෙන් ප්‍රශ්න කරන්නට විය. "කවුද මේ වැඩේ කළේ?" අප එකිනෙකා ගේ මුහුණු දෙස බලා ගනිමින් කිසිවක් නො කියා නිශ්ශබ්ද වීමු.

"අනික් අයවත් එකතු කරගෙන වාරිස් තමයි මේක කළේ" ඇය කීවා ය.

එකවර ම මගේ පියා මාව අල්ලා ගෙන පහර දෙන්නට විය. මගේ අනෙකුත් සියලු ම සහෝදර සහෝදරියන් ඔහු ගේ ඇගේ එල්ලී ඔහුට පහර දෙන්නට විය. පියෙකුට පහර දීම නොහොබිනා කාර්යයක් වුව ද අපට වෙන කරන්නට දෙයක් නො තිබුණි.

ඒ සිද්ධියෙන් පසු පියා ගේ දෙ වැනි බිරිඳ ඉතා කරුණාවන්ත අයකු බවට පත් වූවා ය. එ දින සිට ඇය මගේ අම්මා ගේ දෙපා සිඹ ඇයට උදව් පදව් කරන්නට පටන් ගත්තා ය. "මොනවද මම කරන්න ඕනෑ" ඇය ඉතා බැගෑපත් ව අසන්නට පුරුදු වූවා ය. මගේ අම්මාට වඩා අවුරුදු විස්සක් පමණ වයසින් බාල වූ ඇය එ තරම් ශක්ති සම්පන්න අයකු ද නො වූයෙන් ඇයගෙන් මගේ අම්මාට කරදරයක් හානියක් නො වන බව අම්මා තේරුම් ගත්තා ය.



* * * *

එඬේර ජීවිතය අතිශයින් ම කර්කශ ජීවිතයක් වුව ද ස්වභාවධර්මය හා බැඳුණ අප ගේ ජීවිතය ඇත්තෙන් ම සුන්දර එකක් වූ අතර, කටුකත්වය සහ සුන්දරත්වය එකිනෙකට වෙන් කළ නො හැකි ලෙස බැඳී ඇත. අප ගේ ජීවිතය සොබාදහම සමග කෙතරම් සමීප ද කිවහොත් මගේ අම්මා මට වාරිස් නැති නම් "කාන්තාරයේ කුසුම" යනුවෙන් නම් තැබුවා ය. කාන්තාරයේ කුසුම නමැති මෙම විශේෂ පුෂ්පය හැදී වැඩී දලු ලා මල් පල ගන්නේ මෙ වැනි වෙනත් ශාක කීපයක් පමණක් වැඩෙන කර්කශ පරිසරයක් තුළ ය. සමහර කාලවල මුළු වසර පුරා ම අපට වර්ෂාව ලැබෙන්නේ නැත. අනතුරු ව දූවිල්ලෙන් වැසී ගිය කාන්තාරයට අනෝරා වැසි වසින්නට පටන් ගැනීමත් සමග ම කාන්තාරයේ කුසුම දලු ලා වැඩී අවුත් මල් පල දරන්නේ ය. මෙම පුෂ්පය තැඹිලි පාටට හුරු තද කහ පාටකින් යුක්ත ය. එහෙයින් කවදත් මගේ ප්‍රියතම වර්ණය තද කහ පාට ය. අප ගේ ගෝත්‍රයට අයත් ගැහැනු ළමයකු විවාහ වනවිට අපි කාන්තරයට ගොස් මෙම කුසුම කඩා ගෙනැවිත් ජලයත් සමග මිශ්‍ර කොට අඹරා මනාලිය ගේ මුහුණේ තවරන්නෙමු. එවිට ඇය ගේ මුහුණ රත්තරන් පාටින් දිලිසේ. තව ද මනාලිය ගේ අත් පාවල නොයෙකුත් මෝස්තරයන්ට අනුව රටාවන් අඳිනු ලැබේ. ඇස්දෙක වටා කළු අඳුන්

තවරන අතර, එවිට මනාලිය තුළින් කිසියම් ගැඹුරු එ මෙන් ම කාමුක පෙනුමක් ප්‍රකාශිත වෙයි. මෙ වැනි විලවුන් අප සාදා ගන්නේ කාන්තාරයේ වැවෙන පැළෑටි මෙන් ම ඖෂධ පැළෑටි ද ප්‍රයෝජනයට ගැනීමෙන් ය. එ නිසා ම එම විලවුන් ස්වභාවික ය. මෙ වැනි නොයෙකුත් වර්ණ විලවුන් ආලේප කර ගන්නා මනාලිය තුළින් විස්මිත රූපාලංකාරයක් දිස්වෙයි. මංගල දිනයේ දී මෙම ස්වභාවික විලවුන් ආලේප කරගන්නා මනාලිය සිය අනාගත සහකරු බැහැ දැකීමට යන්නී ය.

මංගල උත්සවයට ගෝත්‍රයේ අනෙකුත් උන් විසින් තෑගි රැගෙන එනු ලැබේ. එහෙත්, නිශ්චිත යමක් තෑගි වශයෙන් රැගෙන ආ යුතු යයි හෝ ඉස්තරම් තෑග්ගක් ගෙන යන්නට හෝ වත්කමක් නො මැති වීම ගැන කිසිවකු කනගාටු විය යුතු නැත. කාහටත් හැකි යමක් තෑගි වශයෙන් ගෙන යනු ලැබේ. ඒ අනුව තමන් විසින් වියන ලද පැදුරක් හෝ සාදන ලද භාජනයක් හෝ තෑගි වශයෙන් ගෙන යති. එ වැනි යමක් හෝ ගෙන යන්නට නො මැති අය කෑම ආදී දෑ සාදාගෙන යති. විවාහයෙන් පසු දින ද සුපුරුදු ලෙස දෛනික වැඩ කටයුතු සඳහා යා යුතු බැවින් මධුසමය වැනි චාරිත්‍රයක් අප ගේ සංස්කෘතිය තුළ නො මැත.

විවාහ මංගල්‍යයකට අමතර ව තවත් උත්සව කීපයක් අප සමාජයේ ඇත. අප ගේ ලිතෙහි අභිමතානුකූල ව නිවාඩු දින වෙන්කර නො මැති අතර, දිගු නියඟයකට පසු පළමු වැසි වසින්නට පටන් ගන්නා දිනය උත්සවයක් පවත්වන්නට හේතුවකි. ජීවිතයට ඉතාමත් ම අත්‍යවශ්‍ය දෙයක් වන ජලය සෝමාලියාවේ ඉතා දුර්ලභ ය. කාන්තාරයේ ජීවත් වන එඬේරුන් ජලයට ඉමහත් භක්ත්‍යාදරයක් දක්වන අතර, සෑම ජල බිඳුවක් ම අපට මහත් සේ වටින්නේ ය. එහෙයින් අදටත් ජලයට මා තුළ ඇත්තේ භක්ත්‍යාදරයකි. ගලා යන ජල දහරාවක් දෙස බලා සිටීමෙන් පවා මම මහත් තෘප්තියක් ලබමි.

මාස ගණන් වර්ෂාව නො මැති ව සිටින විට අප තුළ බලාපොරොත්තු සිඳී යන්නේ නිරායාසයෙනි. එ වැනි අවස්ථාවල අප සියලු ම ගෝත්‍රිකයන් එක් වී වැස්ස ඉල්ලා දෙවියන්ට කන්නලව් කරන්නෙමු. සමහර අවස්ථාවල එහි ප්‍රතිඵල ලැබෙන අතර, එ මෙන් ම ප්‍රතිඵල නො ලැබී යන අවස්ථා ද ඇත. එක අවුරුද්දක දී වර්ෂා කාලය එළැඹී තිබුණ ද එක ම වතුර බිඳක් හෝ දැක ගන්නට නො මැති විය. ඒ වනවිට බොහොමයක් අප ගේ සතුන් මිය ගොස් සිටි අතර, ඉතිරි ව සිටියවුන් ජලය නො මැති ව පිපාසාවෙන් අඩපණ ව ගොස් සිටියේ ය. සියලු දෙනා ම එක් වී වැස්ස ඉල්ලා දෙවියන්ට කන්නලව් කරන්නට යන බැව් අම්මා මට කීවා ය. එ දින අප සියලු ම දෙනා එක් තැනකට රැස් වී නටමින්, ගී ගයමින්

දෙවියන්ට කන්නලව් කරමින් අප ගේ ආත්ම ශක්තිය වඩවා ගන්නට උත්සාහ කළෙමු.

පසුදින සන කළු වැහි වලාකුළු අහසෙ හි දිස් වන්නට වූ අතර, නිමේෂයකින් වර්ෂාව කඩා හැලෙන්නට විය. අපි සියලු ම දෙනා ඇඳි වත ගලවා දමා කඩා හැලෙන වර්ෂාව වෙත දිව ගොස් මාස ගණනාවකට පසු පළමු වරට ඇඟපත සෝදා ගත්තෙමු. ගැහැනුන් චාරිත්‍රානුකූල ව නටමින් ගී ගැයූ අතර, ඔවුන් ගේ ගීත් කටහඬ රාත්‍රිය විසින් වසා ගන්නා ලද කාන්තාරය පුරා රැව් දුන්නේ ය. මිනිසුන් උඩ පනිමින් ඒ ගී රාවයට නැටූහ. සෑම අයෙක් ම කෑම රැගෙන ආ අතර, අපි ඒ කෑම අනුභව කරමින් මේ ස්වභාවධර්මයේ දායාදය භුක්ති වින්දෙමු.

වර්ෂාව පතිත වී දින කීපයකට පසු තැනිතලාව මත රත් පැහැ ගත් මල් පිපෙයි. සිවුපාවන් ඇති තරම් ජලය පානය කර විඩා හැරීම අපිට ද සැනැසීමක් ගෙන දෙන්නේ ය. වර්ෂා ජලයෙන් පිරී ඉතිරී ගිය ජලාශ වෙත ගොස් අපි ඇති තරම් වේලා පීනා ස්නානය කරමු. කුරුලු ගී ඇසෙන්නට පටන් ගැනීමත් සමග ම කාන්තාරය පාරාදීසයක් බවට පත් වෙයි.



# 4

# ගැහැනියකු වීම



මගේ වැඩිමහල් සොහොයුරිය අමන් චර්මච්ඡේදනය* සඳහා සුදුසු වයසට පැමිණ සිටියා ය.

එ වකට සුන්නත් කිරීම සඳහා සුදුසු වයසට නො පැමිණ සිටි මා අන් සෑම ගැහැනු ළමයි මෙන් ම අමාන් ගැහැනියකු වනු දැකීමෙන් මා තුළ ද ඇය කෙරෙහි ඊර්ෂ්‍යාවක් ඇති වී තිබුණි. ඒ වන විට ගැටවර වියේ පසු වූ අමන් සුන්නත් කළ යුතු වයස පසුකර සිටියා ය. ඊට හේතුව වූයේ කාන්තාරය හරහා අප යන නිමක් නො මැති ගමන නිසා මෙම පෞරාණික චාරිත්‍රය ඉටු කරන අභිකුණ්ඨක ගැහැනිය අපට මඟ හැරී ගොස් තිබුණ බැවිනි. දිනක් මගේ පියා විසින් අභිකුණ්ඨක ගැහැනිය සොයාගනු ලදු ව, මගේ වැඩිමහල් සහෝදරියන් වන අමන් සහ හලෙමෝ ගේ චර්මච්ඡේදනය කිරීම සඳහා ඇය ව අප ගේ කූඩාරම වෙත රැගෙන එන ලදී. අභිකුණ්ඨක ගැහැනිය අප ගේ කූඩාරමට එන විට අමන් වතුර ගෙනෙන්නට නිවසින් පිට ව ගොස් සිටි නිසා, අභිකුණ්ඨක ගැහැනිය හෙලමෝ පමණක් සුන්නත් කොට යන්නට ගියා ය. ඒ වනවිට අමන් විවාහ විය යුතු වයසේ සිටි බැවින් ඇය ව සුන්නත් කිරීම ගැන මගේ පියා මහත් අවධානයකින් පසුවූයේ අන් කිසිවක් නිසා

*Circumcise - නමැති ඉංග්‍රීසි වචනයේ සෘජු තේරුම චර්මච්ඡේදනය නැතහොත් සුන්නත් කිරීම ය. විවාහ වීමට පෙර ස්ත්‍රී යෝනියේ ඇති භගමනිය නැතහොත් භගශිශ්නිකාව සහ යෝනි තොල් කපා ඉවත් කර දමනු ලැබේ. විශේෂයෙන් ම මෙම චාරිත්‍රය අප්‍රිකානු රටවල බොහෝ සෙයින් ක්‍රියාත්මක වේ.

නො ව, සුන්නත් නො කරන ලද ගැහැනු ළමයකු විවාහ කර දීමට නො හැකි බැවිනි. මෙම චාරිත්‍රයට අනුව උප්පත්තියෙන් ම ස්ත්‍රීන් ගේ යෝනියේ පිහිටා ඇති සමහර කොටස් අපිරිසිදු බවත් ඒ නිසා ම එම කොටස් කපා ඉවත් කළ යුතු බවත් සෝමාලියානුවෝ තරයේ ම විශ්වාස කළෝ ය. ඒ අනුව භගශිශ්නිකාව සහ යෝනි තොල් කපා ඉවත් කර දැමිය යුතු ය. පසු ව එම අවයව තිබූ ස්ථානයන් හි කැළලක් පමණක් ඉතුරු කොට ඒ ස්ථාන මසා දමනු ලැබේ. ස්ත්‍රී යෝනියේ ඇති මේ කියන ලද අවයව කපා දැමීම සත්‍ය වශයෙන් ම අබිරහසක් වන අතර, සිද්ධියට පෙර ඒ සම්බන්ධ කිසිවක් එයට මුහුණ දිය යුතු ව සිටින දැරියට දන්වනු නො ලැබේ. එම කර්තව්‍යය සඳහා සුදුසු කාලය පැමිණි විට කිසියම් විශේෂ සිද්ධියකට ගැහැනු ළමයින්ට මුහුණ දීමට සිදුවන බව පමණක් ඔවුහු දැන සිටිය හ.

එහෙයින් සෑම සෝමාලියානු දැරියක් ම නො ඉවසිල්ලෙන් ඒ උත්සවාකාර දිනය එළැඹෙන තුරු බලා සිටින අතර, එ දින දී මෙතෙක් දැරියක ව සිටි ගැහැනු ළමයා ගැහැනියකු බවට පත්වනු ලැබේ. දැරියන් මල්වර වීමෙන් පසු ව මෙම චාරිත්‍රය ඉටු කරන අතර, ඊට හේතුව ඔවුන් දරු ගැබක් ලබා ගැනීමට සුදුසු තත්ත්වයකට පත් ව සිටිය යුතු බැවිනි. එහෙත්, කාලයා ගේ ඇවෑමෙන් මෙම සුන්නත් කිරීම තරුණ ගැහැනු ළමුන් මතු නො ව මල්වර නො වූ ගැහැනු ළමුන්ට ද සිදු කරන්නට පටන් ගෙන ඇත. එයට හේතු භූත වී ඇති කරුණු ගැන සලකා බලන විට පෙනී යන්නේ එම සිද්ධියට මුහුණ දෙන්නට දැරියන් තුළ වූ නොඉවසිලිමත්භාවය පමණක් නො ව, ඒ දිනය ඔවුනට හරියට ම බටහිර ලෝකයේ උත්සවාකාරයෙන් පවත්වන උපන්දින සාද එහෙමත් නැතිනම් නත්තල් දිනට නත්තල් පප්පා නිවසට ඒම වැනි සාදයකට සමාන වූ බැවිනි.

අමන් ව සුන්නත් කිරීම සඳහා අභිකුණ්ඨක ගැහැනිය අප කුඩාරමට එන බව දැනගත් වහා ම ඒ දෙය මටත් කරවා ගැනීමට මා තුළ මහත් ආසාවක් ඇති ව තිබුණි. අමන් මගේ වැඩිමහල් සහෝදරිය වූවා පමණක් නො ව, ඇය මගේ වීරවරිය ද වූයෙන් ඇයට යමක් අවශ්‍ය වුවහොත් එය කෙසේ හෝ ලබා ගන්නට මට ද අවශ්‍ය විය. අමන් සුන්නත් කිරීම සඳහා අභිකුණ්ඨක ගැහැනිය එන්නට පෙර දින මම මගේ අම්මා ගේ අතේ එල්ලී ඇයට මෙසේ කන්නලව් කළෙමි. "අනේ අම්මා හොඳ අම්මා වගේ හෙට අපි දෙන්නව ම සුන්නත් කරන්න."

"ඔයා කට වහගෙන ඔයාගෙ වැඩක් බලා ගන්න" ඇය මගේ අත ගසා දමමින් කීවා ය. අමන් සුන්නත් කිරීම ගැන ඇය එ තරම් පැහැදීමකින්

නො සිටියා ය. "හලෙමෝ වගේ මටත් දුවන්නට වෙයි ද දන්නෙ නෑ" අමන් මෙසේ කොඳුරනු මම අසා සිටියෙමි. එහෙත්, එ වැනි දෙයක් වටහා ගන්නට තරම් මුහුකුරා ගිය වයසක නො සිටි මට අමන් කෙඳිරූ දේ ප්‍රහේලිකාවක් විය. ඇය කියූ දෙයෙ හි අරුත මා අමන්ගෙන් අසා සිටිය නමුදු ඇය මාතෘකාව වෙනස් කොට වෙනත් දෙයක් ගැන කතා කරන්නට පටන් ගත්තා ය.

පසුදින උදෑසන මගේ අම්මා සහ ඇගේ මිතුරිය අමන් කැටුව අභිකුණ්ඨක ගැහැනිය මුණ ගැසෙන්නට ගියා ය. මාත් ඔවුන් සමඟ කැටුව යන ලෙස මම අම්මාගෙන් කොපමණ ඉල්ලා සිටිය මුත් බාල සහෝදර සහෝදරියන් බලාගෙන නිවසට වී සිටින ලෙස ඇය මට කීවා ය. එ නමුදු පෙර කළාක් මෙන් ඔවුනට යන්නට හැර මම ගස් සහ පඳුරුවලට මුවා වෙමින් ඔවුන් පසුපස ගියෙමි.

එක ස්ථානයක දී ඔවුන්ට අභිකුණ්ඨක ගැහැනිය මුණ ගැසුණා ය. මෙම කර්තව්‍යය කරන අභිකුණ්ඨක ගැහැනියට අප සමාජය තුළ ඉතා වැදගත් ස්ථානයක් හිමි ව තිබුණේ ඇයට මෙම විශේෂ කර්තව්‍යය පිළිබඳ ව තිබූ දැනුම නිසා ම නො ව, දැරියන් සුන්නත් කිරීමෙන් ඇය විශාල මුදලක් උපයන අයකු වූ නිසා ය. දැරියන් ගේ චර්මඡේදනය සත්‍ය වශයෙන් ම සෑහෙන මුදලක් වැය වන කර්තව්‍යයක් වුවත්, එම මුදල වැය කිරීමට සෑම පවුලක් ම ප්‍රීතියෙන් ඉදිරිපත් වූයේ අන් කිසිවක් නිසා නො ව, සුන්නත් නො කරන ලද දැරියකට කිසිසේත් ම විවාහ වන්නට නො හැකි වූ බැවිනි. ස්ත්‍රී යෝනියේ ඇති භගශිශ්නිකාව, යෝනි තොල් සුන්නත් නො කර ඇති සෑම යුවතියක් ම අපිරිසිදු අධම ස්ත්‍රියක් වශයෙන් සැලකෙන අතර, කිසි ම පිරිමියෙක් එ වැනි ගැහැනියකු විවාහ කර ගැනීමට ඉදිරිපත් නො වනු ඇත. එහෙයින් අප සමාජය තුළ අභිකුණ්ඨක ගැහැනිය වැදගත් අයකු ලෙස පිළි ගත්තත් මා දකින්නේ ඇය මිනීමරු ගැහැනියක ලෙස ය. මන්ද මෙම කර්තව්‍යයේ දී බොහොමයක් දැරියන් මරුමුවට පත් ව ඇති බැවිනි.

ගස්වලට සහ පඳුරුවලට මුවා වෙමින් අම්මා සහ ඇගේ මිතුරිය පසුපස ගිය මම ගසකට මුවා වී සිදුවන්නට යන දේ ගැන ඕනෑකමින් බලා සිටි අතර, ඔවුන් අමන් ව බිම ඉන්දවනවා මම දුටුවෙමි. ඉන් අනතුරු ව මගේ අම්මා සහ ඇගේ මිතුරිය අමන් ගේ දෙව්රෙන් අල්ලා ඇය ව බිම දිගා කරවී ය. අභිකුණ්ඨක ගැහැනිය අමන් ගේ දෙපා දෙපැත්තට විහිදුවා ඒ මැද හිඳගෙන ඇයට යමක් කරනවා මා දුටු අතර, දරා ගන්නට නො හැකි දරුණු වේදනාවකින් ඇය පෙළෙන බව ඇගේ

මුහුණේ ඇති ව තිබූ බියකරු ඉරියව්වලින් මම තේරුම් ගතිමි. උස මහත එ මෙන් ම ශක්ති සම්පන්න දැරියක් වූ අමන් එකවර සිය පය ඔසවා අභිකුණ්ඨක ගැහැනිය ගේ පපුවට වැරෙන් පහරක් එල්ල කරනු ඊළඟ මොහොතේ දී මම දිටිමි. අනතුරු ව ඉතා අපහසුවෙන් නැගී සිටි අමන් කාන්තාරය හරහා දිව යන්නට විය. දිව යන අමන් ගේ දෙපා දිග ගලා ගිය රුධිරය ඇය දිව ගිය මඟ දිග පතිත විය. අම්මා, ඇගේ මිතුරිය සහ අභිකුණ්ඨක ගැහැනිය අමන් පසුපස හඹා යන්නට වූවා ය. ඔවුනට බොහෝ ඉදිරියෙන් දිව ගිය අමන් අවසානයේ දී කාන්තාර වැල්ල මත ඇද වැටුණා ය. අමන් ඇද වැටී සිටි තැනට දිව ගිය අභිකුණ්ඨක ගැහැනිය නැවතත් ඇය ගේ දෙපා දෙපසට ඇද දමා තම රාජකාරියේ නිරත වූවා ය. තවදුරටත් සිදුවන දේ දෙස බලා සිටීමට නො හැකි වූ මම ආපසු හැරී කුඩාරම වෙත දිව ගියෙමි.

මට දැන ගැනීමට වුවමනා වූ දේ ගැන කිසිවක් හරි හැටි මම දැන ගත්තා දැයි නො දනිමි. එ මෙන් ම මා දුටු සිද්ධිය පිළිබඳ ව මා හට එ තරම් අවබෝධයක් ද නැත. එ නමුදු ඒ අවස්ථාවට මුහුණ දීමට මා තුළ මහත් බියක් නම් ඇති වී ඇත. අමන්ට සුවය ලැබෙන තුරු ඇය ව අනෙක් සහෝදර සහෝදරියන්ගෙන් වෙන් කර තැබුවා ය. දින දෙකකට පසු මා ඇයට පානය කිරීම සඳහා වතුර රැගෙන ගිය අවස්ථාවේ සිද්ධිය ගැන ඇයගෙන් මම අසා සිටියෙමි. "කොහොම ද?"

"ඒක නං ඉවසා දරා ගන්න බැරි දෙයක්" ඇය කතාව පටන් ගනිමින් කීවා ය.

වැඩිකල් නො යා මට ද ඒ සිද්ධියට මුහුණ දීමට ඇති බැවින් සියල්ල ඒ ආකාරයෙන් ම මා හට ඇය විස්තර කරන්නට ඇත්තේ අන් කිසිවක් නිසා නො ව මා එම සිද්ධියට මුහුණ දීමට ප්‍රීතියෙන් බලා සිටීම වැළැක්වීම සඳහා වන්නට ඇත.

"ඔයාටත් තව වැඩි කලක් නෑ ඒකට... ඉක්මනින් ම ඔයාවත් සුන්නත් කරාවි" ඇය ඒ සම්බන්ධ ව කීවේ එ පමණකි.

ගැහැනියකු බවට පත් වීමට මුහුණ දිය යුතු එම චාරිත්‍රයට එදා පටන් මා තුළ මහත් බියක් ඇති වී තිබුණි. ඒ ගැන අමතක කර සිටීමට මම උත්සාහ කළෙමි. එ මෙන් ම එදා අමන් ව සුන්නත් කළ අවස්ථාවේ මගේ දෙනෙත් ඉදිරිපිට ඇය විඳවපු වේදනාව කාලයත් සමඟ අමතක වී යන්නට මම ඉඩ හැරියෙමි. එහෙත්, අමන් මෙන් ම මටත් ගැහැනියකු බවට පත් වීමට වුවමනා වූ බැවින් ඒ සිද්ධියට මුහුණ දීමට මම හිත හදා ගත්තෙමි.

කාන්තාරය හරහා ජලය සහ සතුන්ට කෑම ඇති තැන් සොයාගෙන අප යන නො නිමි ගමනට මගේ පියා ගේ මිතුරකු සහ ඔහු ගේ පවුල අපත් සමග එක් වී සිටිය හ.

මිතුරා මහලු අයකු වූ අතර, දිනක් ඔහු මට සහ මගේ නැගණියට මෙසේ කියමින් බැණ වැදුණේ ය. "තාම සුන්නත් කරලත් නෑ... එන්ඩ එපා මගේ ඇහට පේන්න." අප ව සුන්නත් කර නො මැති බව කියමින් මේ විධියට අපට නිතර ම ඔහු අපහාස කළේ ය. නිතර ම මේ අපහාසය විඳින්නට නො හැකි ව සිටි මම මේ මෝඩ මිනිහා ගේ කට වහන්නට ක්‍රමයක් සොයා ගැනීමට අදිටන් කර ගත්තෙමි.

මෙම මහලු මිනිසාට තරුණ පුතකු සිටියේ ය. ඔහු ගේ නම යමා ය. යමා මාව එ තරම් ගණනකට නො ගත්තත් ඔහු කෙරෙහි මා තුළ කිසියම් ස්නේහයක් වැඩෙමින් තිබුණේ ය. එහෙත්, ඔහු මගේ අක්කා අමන්ට මහත් ඇල්මක් දැක්වූයේ ය. මගේ වැඩිමහල් සොහොයුරිය ඒ වනවිට සුන්නත් කර තිබූ බැවින් ඇය මට වඩා උත්තරීතර තත්ත්වයක සිටී ම හේතු කොටගෙන යමා ඇයට මට වඩා ඇල්මක් දක්වන බව කාලයා ගේ ඇවෑමෙන් මම දැන ගතිමි. යමා ඔහු ගේ පියා මෙන් සුන්නත් නො කර සිටින අපිරිසිදු ගැහැනු ළමයි සමඟ ඇසුරු කිරීමට අකැමැත්තක් දක්වන බවක් පෙනෙන්නට තිබුණි. ඒ නිසා මම අවුරුදු පහක් තරම් වයසේ දී මම මගේ අම්මා වෙත ගොස්, "අනේ අම්මෙ අර අභිකුණ්ඨක ගැනි හොයාගෙන එන්ඩකො... ඔයා කවද්ද මට ඒක කරන්නෙ... කොච්චර රිදුණත් මට ඒක කරගන්න [illegible] මෙන් දින කිපයකට පසු අභිකුණ්ඨක ගැහැනිය අප සිටි පලාතට පැමිණියා ය.

"අන්න ඔයගොල්ලන් ගේ තාත්තා අර ගෑනි ව හොයාගෙන එන්ඩ ගියා... දැන් කොයි මොහොතක හරි ගෑනි මෙහෙට ඒවි" දිනක් හැන්දෑවේ අම්මා මට කීවා ය. මා සුන්නත් කිරීමට නියමිත ව සිටි දිනට පෙරදින හැන්දෑවේ මා ඇමැතූ අම්මා මෙසේ කීවා ය. "වාරිස් ඔයා අද වතුරවත් කිරිවත් වැඩිය බොන්න එපා... එතකොට ඔයාට වැඩිය චූ බර හැදෙන එකක් නෑ" අම්මා කියූ දෙයෙහි අරුත මා දැනගෙන නො සිටියත් ඊට ඔළුව වනා එකඟ වූ මම ඒ ගැන ප්‍රශ්න කරන්නට නො ගියෙමි. එ දින හැන්දෑවේ මා තුළ මහත් නො සන්සුන්තාවයක් ඇති වී තිබුණත් මේ වැඩය අහවරක් කරගන්නට මට වුවමනා විය. මා සුන්නත් කිරීමට පෙර දින රාත්‍රියේ අප නිවසේ එක ම කලබලයක් වූ අතර, එ දින රාත්‍රී මා හට වැඩිපුර කෑම ද ලැබුණේ ය. පුරා වසර ගණනාවක් මා අත් දැක ඇති මෙම චාරිත්‍රය මගේ වැඩිමහල් සහෝදරියන් ගැන මා තුළ කිසියම් ඊර්ෂ්‍යාවක් ඇති කළේ ය. "හෙට උදේ පාන්දර වෙලාවට මම ඔයා ව

කුද්දන්නං” එ දින රාත්‍රී නින්දට යන්නට පෙර අම්මා මට කීවා ය. අභිකුණ්ඨක ගැහැනිය එන බව අම්මා දන්නේ කෙසේ ද යන්න ගැන මට කිසි ම අවබෝධයක් නො වූව ද අම්මා එ වැනි දේවල් ගැන දැන සිටියා ය. කවුරුන් හෝ අප ව බැහැ දැකීමට එන බවක් හෝ යමක් සිදුවන්නට කාලය හරි බවක් වැනි දේවල් ගැන හෝ අම්මා ඉවෙන් මෙන් දැන සිටියා ය.

මා තුළ ඇති ව තිබූ මානසික කලබැගෑනිය නිසා එ දින රාත්‍රියේ මට නින්ද ගියේ නැති අතර, පාන්දර ජාමයේ අම්මා මා අසලට පැමිණ සිටිනවා මම දුටුවෙමි. ඒ වන විට තවමත් එළිය වැටී නො තිබුණ අතර, ආකාශය කළුවර වී තිබුණි. ඝන අඳුර මකාගෙන අහස් ගැබ එළිය වන විට එය අපැහැදිලි අළු පාටකට හැරේ. අම්මා හෙමින් සීරුව මගේ අත අල්ලා ශබ්ද නො කර නැගිටින ලෙස කීවා ය. නිදිමතේ ම පොරවාගෙන සිටි බ්ලැන්කට්ටුව අතට ගත් මම එහෙට මෙහෙට විසි වෙවී අම්මා පිටුපසට වැටී ගියෙමි. මෙ තරම් පාන්දරින් මෙමෙ කටයුත්ත සිදු කරන්නේ මන්දැයි දැන් මම දනිමි. ඊට හේතුව සුන්නත් කරන විට දැනෙන ඉවසිය නොහැකි වේදනාවෙන් දැරියන් නඟන විලාපය අන් අයට ඇසීම වැළැක්වීම සඳහා ය. අම්මා සමඟ මම බඩවැටියක් වැනි ස්ථානයකට ගියෙමි. “අපි මෙ තැන ඉඳගෙන ඉම්මු” අම්මා කීවා ය. අපි දෙදෙන ශීතල වී ඇති වැල්ල මත ඉඳ ගතිමු. ඒ වන විට කෙමෙන් ආකාශය එළිය වැටෙමින් තිබුණි. තවමත් කිසිවකු හරියට හඳුනා ගන්නට තරම් එළිය වැටී නොතිබුණ අතර, අභිකුණ්ඨක ගැහැනිය ගේ සෙරෙප්පු වැල්ලේ ගැටෙන සද්දය මට ඇසෙන්නට විය. මගේ අම්මා අභිකුණ්ඨක ගැහැනිය ගේ නම කියා කතා කොට මෙසේ ඇසුවා ය. “ආ උඹ ද?”

“ඔව් ඔව් මම තමා” තවමත් මැකී ගොස් නො මැති අඳුර තුළින් ඇය පිළිතුරු දුන්නා ය. ඇය අඳුර මැදින් පැමිණ මා අසලින් වාඩි වූවා ය. අනතුරුව ඇය මා හට පැතැලි කළුගල් පොත්තක් පෙන්වා ඒ මත ඉඳ ගන්නා ලෙස කීවා ය. අභිකුණ්ඨක ගැහැනියත් අපත් අතර, කිසියම් හෝ කතා බහක් නො වී ය. ගැහැනිය කෙළින් ම කටයුත්තට බැස්සා ය. අම්මා අසල තිබූ දර කොට කැබැල්ලක් ගෙන ඒ මත මට ඉඳ ගන්නට සැලැස්සුවා ය. අනතුරු ව ඇය මගේ පිටුපස හිඳ මගේ හිස ඇය ගේ පපුවට හේත්තු කර ගත්තා ය. මගේ දෙ අත්වලින් මම අම්මා ගේ දෙකලව තදින් හිරකොට අල්ලා ගතිමි. අම්මා තරමක ලී කැබැල්ලක් මගේ දත් ඇඳි දෙක අතර තබා එය තදින් විකා ගන්නා ලෙස කීවා ය.

එකවර ම අමන් ගේ වේදනාවෙන් වෙළී තිබූ මුහුණ මගේ මතකයට නැඟී ආවෙන් මගේ ගත මහත් බියකින් ශීතල වී ගියේ ය. “මේක හරි

වේදනාවයි නේද?" දත් ඇදි දෙකෙන් විකාගෙන සිටින ලී කැබැල්ල තුළින් මම මිමිනුවෙමි. "මට ඔයා ව අල්ලගෙන ඉන්න බෑ... හොඳ මැණික වගේ දඟලන්නෙ නැතුව ඉන්ඩකො... ඕක විනාඩියෙන් ඉවරයි." අම්මා කීවා ය. අභිකුණ්ඨක ගැහැනිය මගේ දෙපා දෙපසට විහිදුවා කටයුත්ත පටන් ගන්නට සූදානම් වූවා ය. ඇය අනෙකුත් සෑම සෝමාලි ගැහැනියක ම මෙන් වර්ණවත් රෙදි කැබැල්ලක් හිස පැලැඳ සිටි අතර, එ වැනි ම වර්ණවලින් යුත් කපුවලින් මසන ලද ඇඳුමක් ඇඳ සිටියා ය. එහෙත්, ඇගේ මුහුණෙ හි සිනහවක් නම් නො වී ය. ඇය මා වෙත රළු බැල්මක් හෙළා අනතුරුව ඈ රැගෙන විත් තිබූ රෙදිවලින් වියන ලද මල්ල අතට ගෙන එය විවෘත කළා ය. සුන්නත් කිරීම සඳහා ඇය පාවිච්චි කරන්නේ කිනම් උපකරණයක් දැයි දැන ගැනීමට මා තුළ වූ කුතුහලය නිසා ඇය ගේ රෙදි මල්ල දෙස මම නෙත් රඳවාගෙන සිටියෙමි. ඇය එම මල්ල තුළින් පිහියක් එළියට ගනීවි යයි මා බලාපොරොත්තුවෙන් සිටි නමුදු රෙදිවලින් මසන ලද හැඹිළියක් අතට ගත් ඇය, එය තුළින් කැඩුණ බ්ලේඩ් තල කැබැල්ලක් එළියට ගත්තා ය. එම බ්ලේඩ් තල කැබැල්ල ඒ මේ අත හරවමින් ඇය නිරීක්ෂණය කරන්නට වූවා ය. ඒ වනවිට ආකාශය තරමක් එළිය වී තිබුණ නමුදු කිසියම් වර්ණයක් හරි හැටි හඳුනා ගැනීමට තරම් එළියක් නො වී ය. එහෙත්, බ්ලේඩ් තල කැබැල්ල මත වියළී තිබූ ලේ පැල්ලම් මම දුටුවෙමි. එකවර ම ඇය බ්ලේඩ් තල කැබැල්ලට කෙළ පහරක් ගසා එය ඇඳි වතේ පිරි මදින්නට වූවා ය. අභිකුණ්ඨක ගැහැනිය බ්ලේඩ් තලය සිය ඇඳිවතේ පිරිමදින අතර, මගේ ලෝකයට අඳුර එක් කරමින් මගේ දෙනෙත් වැසී යන සේ රෙදි කැබැල්ලක් තැබූ අම්මා එහි කෙළවරවල් දෙක මගේ හිස පිටුපසට තබා හිර කොට බැඳ ඇමුවා ය.

එකනෙහි ම මගේ යෝනියේ යම් කොටස් කැපී යනු මට දැනෙන්නට විය. ඊළඟට මගේ යෝනි චර්මය මත ඒ මේ අත දිව යන බ්ලේඩ් තල කැබැල්ලේ හඬ මට ඇසෙන්නට විය. ඒ සිද්ධිය මතකයට එන හැම අවස්ථාවක ම එ වැනි දෙයක් මට සිදු වූවා යයි මට ම අදහගන්නට නොහැකි ය. ඇත්තෙන් ම මගේ අත්දැකීම විස්තර කරන්නට මේ ලෝකයේ භාෂාවක් නැත. මෙය ඔබ ගේ කලවෙන් මස් කැබැල්ලක් කපා වෙන් කරනවා හෝ අතක් කපා දමන විට හෝ දැනෙන වේදනාව වැනි යයි හඳුන්වන්නට හැකි නමුදු, ස්ත්‍රී යෝනිය යනු ගැහැනිය ගේ ඉතාමත් සංවේදී කොටසක් බැව් අමතක නො කළ යුතු ය. ඒ මොහොතේ මට අමන් සුන්නත් කළ අවස්ථාව මතකයට ගලා ආවෙන් පැන දුවන්නට ගියත් එයින් බේරුමක් නො වන වග වටහා ගත් මම කොපමණ වේදනාවක් දැනුණත් නො සෙල් වී සිටියෙමි. එ මෙන් ම අම්මා

මා ගැන ආඩම්බර වෙනවා දැකීමට මට වුවමනා විය. දඟලන්නට ගියහොත් වේදනාව දෙගුණ තෙගුණ වන හෙයින් ගලක් මෙන් මම නො සෙල් වී සිටියෙමි. එහෙත්, අවාසනාවකට මෙන් කිසියම් ශාරීරික දුර්වලතාවයක් හේතුකොට ගෙන පාලනය කළ නො හැකි ආකාරයට මගේ දෙපා ගැහෙන්නට විය. මෙය ඉක්මනින් අහවර වන්නට කියා මම දෙවියන්ට යාඥා කළ අතර, මට මුත්‍රා පහ ව යන්නට විය.

ඒ වනවිට මෙම කටයුත්ත අහවර වී ඇතැ යි සිතූ මා මගේ දෙනෙත් බැඳ තිබූ රෙදි කැබැල්ල ඉවත් කර දෙනෙත් හැර බැලූ කල දුටුවේ මහත් වේදනාකාරී කොටස පටන් ගෙන ඇති බව යි. අභිකුණ්ඨක ගැහැනිය අකාසියා ගසකින් කපාගත් උල් වූ කටු ගොඩක් පරීක්ෂා කරන බව මම දුටුවෙමි. එම කටුවකින් මගේ යෝනි චර්මය සිදුරු කළ ඇය, සින සුදු නූලකින් යෝනියේ වූ අවයව කපා දැමූ ස්ථාන මසන්නට පටන් ගත්තා ය. මගේ දෙපා පණ නැති ව ගොස් තිබූ අතර, දරා ගන්නට නො හැකි වේදනාවක් මට දැනෙන්නට විය. ඇත්තෙන් ම මරණය ඊට වඩා සැපතක් යයි සිතූ මම මරණය ප්‍රාර්ථනා කොට සිටියෙමි. එකවර ම ගුවනේ පාවෙන සෙයක් මට දැනෙන්නට වූ අතර, හිස පහත් කොට බැලූ කල දුටුවේ අභිකුණ්ඨක ගැහැනිය මගේ යෝනි චර්මය මසන අයුරු ය. ඒ මොහොතේ කිසියම් සාමකාමී බවක් දැනෙන්නට වූ අතර, තවදුරටත් බියක් හෝ කනගාටුවක් හෝ මා තුළ නො වී ය. එ තැන් සිට කුමක් සිදු වූවාදැයි මට මතක නැත. මම දෙනෙත් හැර බැලූ කල අභිකුණ්ඨක ගැහැනිය පෙනෙන්නට නො සිටියා ය. ඔවුහු මා ගලට හේත්තු කොට යන්නට ගොස් සිටිය හ. ඔවුන් මගේ දෙපා එකට තබා උඩ සිට පහළට රෙදිවලින් වෙළා ගොස් සිටි බැවින් මට හෙළවෙන්නටවත් නො හැකි විය. අම්මා ඒ අසල සිටීදැයි මම විපරම් කර බැලුවෙමි. ඇය ද මා තනිකර දමා ගොස් සිටියා ය. හුදකලා ව එහි වැතිර සිටි මම ඊළඟට සිදුවන්නට යන්නේ කුමක්දැයි සිතන්නට වීමි. මම හිස හරවා ගල් පොත්ත දෙස බැලුවෙමි. සතකු ගේ ගෙල කපා මරා දැමූ කලක මෙන් ගල් පොත්ත මත ලේ විසිරී තිබුණ අතර, මගේ යෝනියේ කොටස්, මගේ ස්ත්‍රීභාවය පමණක් නො ව මගේ මුළු ආත්මය ම තද හිරු රශ්මියෙන් ගල් පොත්ත මත වියළී යමින් තිබෙනු මම දුටුවෙමි.

කරකියා ගත හැකි කිසිවක් නො මැති වූ මම මගේ හිසට උඩින් ක්‍රමයෙන් මුදුන් වේගෙන එන හිරු දෙස බලා සිටින්නට වීමි. මගේ අම්මා සහ අමන් මා සිටි තැනට එනතුරු විවෘත අවකාශය හරහා වැටෙන තද හිරු එළියෙන් මම දැවෙමින් සිටියෙමි. ඔවුන් දෙදෙනා විසින් ගසක් යට වූ සෙවණකට මා ඔසවාගෙන යන ලදී. සුන්නත් කිරීමේ චාරිත්‍රයට අනුව

ඒ ගස යට කුඩා ගෙපැලක් තනා තිබුණි. මට සුවය ලැබෙන තෙක් ඉදිරි සති කීපය තුළ හුදකලාව එහි සිටින්නට සිදු විය.

සියලු ම වේදනාවන් අහවර යයි සිතා සිටියත් වැඩියෙන් වතුර හෝ කිරි හෝ බොන්නට එපා කියමින් අම්මා කරන ලද අනතුරු හැඟවීමේ අරුත කුමක්දැයි මුත්‍රා කරන්නට ගිය විට මම හොඳ හැටි තේරුම් ගතිමි. මුත්‍රා කරන්නට මට අවශ්‍ය වී තිබුණත් දෙපා එකට තබා රෙදිවලින් වෙළා තිබූ බැවින් එය කිසිසේත් ම පහසු කාර්යයක් නො වී ය. මොනයම් ප්‍රශ්නයක් ආවත් දෙපය වෙළා ඇති රෙදි ලිහා ඇවිදින්නට නො යන ලෙසත්, එ සේ කළහොත් මැහුම් ගැලවී නැවත මැහුම් දමන්නට සිදුවන බවට අම්මා අනතුරු අඟවා තිබුණි. නැවතත් මැහුම් දැමීම ගැන නම් හිතන්නටවත් නො හැකි ය. එහෙත්, මට මුත්‍රා කරන්නට අවශ්‍ය වී තිබුණෙන් මම අමන්ට කතා කළෙමි. මුත්‍රා කිරීමට අවශ්‍ය ව ඇති බව කියූ විට අමන් ගේ මුහුණෙ හි ඉරියව්වලින් එහි බැරෑරුම්කම මම තේරුම් ගතිමි. වැල්ලේ කුඩා වළක් හෑරූ ඇය මා එ තැනට රෝල් කළේ ය. අනතුරු ව ඇය මෙසේ කීවා ය. "ආ දැන් ඉතින් කරන දෙයක් කරන්න."

පළමුවැනි මුත්‍රා බිංදුව පිට වීමත් සමඟ ඇසිඩ් වැනි දෙයකින් මගේ චර්මය පිච්චී යන්නා වැනි මහත් වේදනාවක් දැනෙන්නට විය. අභිකුණ්ඨක ගැහැනිය මගේ යෝනියේ වූ අවයව කපා දැමූ ස්ථාන මසා දැමීමෙන් පසු ව මුත්‍රා කිරීමට සහ ඔසොප් වීමේ දී රුධිරය ගලා යන්නට ගිනි කූරක තරම විෂ්කම්භය ඇති කුඩා සිදුරු දෙකක් පමණක් ඉතිරි කර තිබුණි. මෙයින් එක දෙයක් පමණක් සනාථ වේ. එ නම් විවාහ වන තෙක් මට කිසියම් කාමුක තෘප්තියක් ලබා ගැනීමට නොහැකි බවත්, එ මෙන් ම මා විවාහ කරගන්නා අයකුට නිසැකයෙන් ම කන්‍යාවියක් ලැබෙන බවත් ය. කිව නො හැකි වේදනාවකට මා පත් කරමින් මුත්‍රා බිංදුව බැගින් පිටවන්නට විය. අභිකුණ්ඨක ගැහැනිය මා සුන්නත් කරන අවස්ථාවේ වත් නො හඬා සිටි මට වේදනාව ඉවසා දරා සිටීමට නොහැකි ව එකවර ම හැඬුම් ගියේ ය.

එ දින හැන්දෑවේ බිම් කළුවර වැටෙනවාත් සමඟ ම අම්මා සහ අමන් මා තනිකර දමා ගෙදර ගිය හ. ඝන කළුවර මැද මා එ තැන අසරණ වී හුදකලාව වැතිර සිටියත් මේ වතාවේ දී නම් සිංහයින්ට, විෂඝෝර සර්පයින්ට හෝ අඳුරට හෝ මා තුළ කිසි ම බියක් නො තිබුණි. මගේ මුළුමහත් ආත්මය ම මගේ සිරුරෙන් ගිලිහී ගිය මොහොතේ අභිකුණ්ඨ ගැහැනිය මගේ මුළුමහත් ස්ත්‍රී භාවය ම කපා කොටා මසා තිබූ අ දුටුවත් ඒ කිසිවකින් දැන් මා බිය ගන්වන්නට නො හැකි ය. කිසියම

හෝ හැඟීමකින් තොර ව ජීවිතය හෝ මරණය ගැන හෝ නො තකමින් කිසි ම බියක් නො මැති ව මම හුදකලා ව ගල් පොත්ත මත වැතිර සිටියෙමි. එහෙත්, මා මෙහි තනිකර දමා ගොස් අප ගේ පවුලේ සැම දෙනා ම අප ගේ කූඩාරම අසල වූ ගිනිමැලය වටා හිඳගෙන සිනහ සෙමින් විනෝද වීම මට කිසිසේත් ම නො සලකා සිටින්නට නම් නො හැකි විය.

දින කෙමෙන් ගෙවී යාමත් සමඟ මගේ ජනනේන්ද්‍රියෙ හි අභිකුණ්ඨක ගැහැනිය කපා කොටා දැමූ ස්ථානයට විෂබීජ ඇතුළු වීමකින් මට තද උණක් වැලඳුණේ ය. උණ සහලවන විට සිහිය ද මඳ වශයෙන් නැති ව යන්නට විය. මුත්‍රා කරන විට දැනෙන ඉවසිය නො හැකි වේදනාව නිසා බලහත්කාරයෙන් මුත්‍රා නො කර සිටින විට අම්මා පැමිණ මෙසේ කීවා ය. "අනේ මගෙ රත්තරන් එහෙම කරන්න එපා ඔයා මැරෙයි." එහෙයින් මට ආයාසයකින් වුව ද මුත්‍රා කිරීමට සිදුවිය. එ සේ මුත්‍රා කරන්නට අවශ්‍ය වූ අවස්ථාවල දී කිසිවකු මා අසල නො සිටි හෙයින් ඉතා අපහසුවෙන් වැල්ලේ කුඩා වළක් හාරා ගන්නා මා එ තැනට පෙරළී අවුත් ඒ මත සිටින විට හම පිලිස්සෙන විට ඇති වන වේදනාවක් සමඟ මුත්‍රා බිංදුව බැගින් පිටවන බව මට දැනෙන්නට විය. එහෙත්, මගේ තුවාල පැසවීම හේතු කොටගෙන පසු ව මට කොහෙත් ම මුත්‍රා කරන්නට නො හැකි විය. අම්මා මට කෑම ගෙන ආවා ය. තවමත් මගේ දෙ පය රෙදි පටිවලින් වෙළා තිබූ අතර, තුවාල සනීප වනතුරු මම හුදකලා ව අරමුණකින් තොර ව එහි වැතිර සිටියෙමි. කරන්නට කිසි ම දෙයක් නො මැති ව වැතිර සිටින මා තුළ වූයේ මෙම සිදුවීම ගැන මහත් පුදුමයකි. එ වකට වයස අවුරුදු අටක් පමණ වූ මා කාමය සම්බන්ධ කිසිවක් දැන සිටියේ නැත. එ නමුදු මගේ අම්මා ගේ අවසරය සහ අනුදැනුම ඇති ව මගේ ජීවිතයට විශාල හානියක් සිදුකර ඇති බැව් පමණක් මා දැන සිටි අතර, එ වැනි හානියක් මා හට කරන ලද්දේ කුමක් නිසාදැයි මම දැන නො සිටියෙමි.

දිනක් අම්මා පැමිණ මා ගෙදර එක් කරගෙන ආ අතර, ඒ වනවිටත් මගේ දෙපා වෙළා තිබුණි. මා ගෙදර පැමිණි පළමුවෙනි දින හැන්දෑවේ මගේ පියා මගේ නව තත්ත්වය ගැන විපරම් කර සිටියේ ය. සමහර විට ඔහුට දැන ගන්නට අවශ්‍ය ව තිබුණේ මා ගැහැනියකු බවට පත්වීම සම්බන්ධ ව වන්නට ඇතැ යි මම අනුමාන කළෙමි. ගැහැනියකු බවට පත්වීම යනු කුමක් ද? ඒ ගැන මා දන්නේ මොනවා ද? එහෙත්, අප්‍රිකානු ගැහැනියකු වීම ගැන නම් මම බොහෝ දෑ දැන සිටියෙමි. එ මෙන් ම සරණක් නො මැති අතොරක් නැති දුක් කම්කටොලු මැද ළමයකු

ඉවසිලිවන්ත ව ජීවත් වන්නේ කෙසේ ද යන්න ගැන ද මම හොඳින් දැන සිටියෙමි.

මාසයකටත් වැඩි කලක් මගේ දෙපා වෙළා තිබුණි. දුව පැතීමෙන් වැළකී සිටින ලෙස අම්මා මට නිරන්තරයෙන් අවවාද කළා ය. දුව පැන ඇවිද යන්නට පුරුදු ව සිටි මා වැනි අයකුට මගේ ම සහෝදර සහෝදරියන් සහ මිතුරු මිතුරියන් සෙල්ලම් කරන අයුරු බලා සිටීම ඇත්තෙන් ම මහත් දුකකි. සතියකට වරක් අම්මා මගේ තුවාල සුව වී ඇත්දැයි පරීක්ෂා කර බැලුවා ය. මගේ දෙපා බැඳ දමා තිබූ රෙදිපටි ගලවා දැමීමෙන් පසු පළමුවරට අභිකුණ්ඨක ගැහැනිය කපා කොටා දැමූ පෙදෙස මා හට දැක ගන්නට හැකි විය. එහි පෙර තිබූ අවයව කිසිවක් නො තිබුණ අතර, ඒවා තිබූ ස්ථානයේ කැළලක් පමණක් ඉතිරි ව තිබුණි. මගේ යෝනි පෙදෙස සම්පූර්ණයෙන් ම මසා දමා තිබුණ අතර, කිසි ම මිනිහකුට මා සමඟ සංසර්ගයේ යෙදෙන්නට නම් ලෙහෙසි නැත. මතුයම් දිනක මංගල රාත්‍රියේ දී මගේ අනාගත ස්වාමිපුරුෂයාට යෝනි මාර්ග යට ප්‍රවිෂ්ට වන්නට හැකි වන්නේ එක්කෝ පිහියකින් එය විවෘත කොට හෝ නැතිනම් සිය ශක්තියෙන් ම හෝ පමණි.

සුන්නත් කිරීමෙන් පසු ව වැතිර සිටි සති කිහිපය පුරා ම මා නිරන්තරයෙන් කල්පනා කරමින් සිටියේ මට නැඟිට ගන්නට හැකි වූ වහා ම ගොස් එ දින අභිකුණ්ඨක ගැහැනිය කපා ගල උඩ තබා යන ලද මගේ යෝනියේ අවයව වන භගශිශ්නිකාව සහ යෝනි තොල් ආදිය ගල් තලාව මත තවමත් ඇත්දැයි බැලීමට ය. එහෙත්, මා ගල් තලාව වෙත ගිය නමුදු ඒ කිසිවක් දැක ගන්නට එහි නො තිබුණි. හයනා වැනි සතකු හෝ ගිජු ලිහිණියකු හෝ ඒවා කා දැමුවාට සැකයක් නැත. ඔවුන් කැළිකසළ මෙන් ම මළකුණු ආදිය ද අනුභව කොට කාන්තාරයේ වෙසෙන සතුන් බැව් මෙම රළුපරුෂ කාන්තාරයේ ජීවත් වන අපි හොඳින් දනිමු.

සුන්නත් කිරීමෙන් පසු කිව නො හැකි තරම් වේදනාවක් විඳින්නට සිදුවුවත් එක් අතකට ඇත්තෙන් ම මම වාසනාවන්තියක්මි. මන්ද බොහෝ අවස්ථාවල සිදු වී ඇති ආකාරයට මෙ වැනි සුන්නත් කිරීම් ඇත්තෙන් ම උවදුරු සහගත ය. කාන්තාරය හරහා යන විට හමුවන අනෙකුත් පවුල්වල ගැහැනු ළමයින් සමඟ සෙල්ලම් කිරීමට අප පුරුදු ව සිටි අතර, නැවත වරක් අපට ඔවුන් මුණ ගැසුණ අවස්ථාවල දී බොහෝ විට අපත් සමඟ සෙල්ලම් කළ ඒ ගැහැනු ළමුන් දකින්නට නො ලැබේ. එ නමුදු ඔවුන් ගේ දෙමව්පියෝ සිය දරුවන්ට සිදු වූ දේ ගැන වචනයකුදු කතා නො කරති. සුන්නත් කිරීමෙන් පසු අධික ලෙස රුධිරය වහනය වීම හේතුකොටගෙන වැලැඳෙන පිටගැස්ම, කම්පනය, නො නැවතී රුධිරය

වහනය වීම වැනි කරුණු නිසා බොහොමයක් දැරියෝ මරු තුරුලට යති. සුන්නත් කිරීම කරන වාතාවරණය දෙස බලනවිට ඇත්තෙන් ම එ වැනි ලෙඩ රෝග වැලඳීම පුදුමයට කරුණක් නො වේ. එ වැනි වාතාවරණයක කෙරෙන එ වැනි ශල්‍යකර්මයකට මුහුණ දීමෙන් පසුවත් යමෙක් නොමැරී ජීවත් වන්නේ නම් එය පුදුමයට කරුණකි.

එ වකට මම අවුරුදු තුනක පමණ ළදැරියක් වීමි. මගේ වැඩිමහල් සහෝදරියක් වූ හලෙමෝ මට යාන්තමින් මතක ය. අප අතර, සිටි ඇය එකවර ම දකින්නට නැති විය. අභිකුණ්ඨක ගැහැනිය විසින් ඇය සුන්නත් කරනු ලදු ව, නො නවත්වා රුධිරය වහනය වීම හේතු කොටගෙන ඇය මළ බව පසු ව මට දැන ගන්නට ලැබුණි.

මට අවුරුදු දහයක් පමණ වයසේ දී මගේ ඥාති සහෝදරිය සුන්නත් කිරීමෙන් පසු ඇයට මුහුණ දෙන්නට සිදු වූ සිද්ධිය ඇගේ සොහොයුරා අපට කීවේ ය. අභිකුණ්ඨක ගැහැනිය පැමිණ ඇය ව සුන්නත් කිරීමෙන් අනතුරු ව සාමාන්‍ය ක්‍රමයට කාන්තාරයේ ගසක් යට පැලක් සාදා ඇය ව එහි දමා විත් ඇත. ඇගේ සොහොයුරා අපට විස්තර කළ ආකාරයට ඇගේ යෝනිය ඉදිමී ඇති අතර, ඇය දමා සිටි පැල්කොටෙන් දැරිය නොහැකි දුගඳක් වහනය වී ඇත. එ වැනි දෙයක් මට හෝ අමන්ට හෝ සිදු නො වූ හෙයින් ඔහු කියූ දෙය ඒ අවස්ථාවේ මම විශ්වාස නොකළෙමි. එහෙත්, ඔහු කියූ දෙය සත්‍යය බැව් දැන් මම දනිමි. සුන්නත් කිරීම සිදුකරන අපිරිසිදු වාතාවරණය හේතු කොටගෙන තුවාල තුළට විෂබීජ ඇතුළු වීමෙන් ඒවා පැසවනු ඇත. පැසවන ලද තුවාලවලින් දුර්ගන්ධය පිට වේ. එක් උදෑසනක ඇගේ මව ඇය බැලීමට පැල්කොටයට යනවිට සිය දියණිය පැල්කොටය තුළ මැරී සිටිනු ඇය දැක ඇත. ශීතල වී ගිය ඇගේ සිරුර තිල් පැහැ ගැන්වී තිබී ඇති අතර, ඇගේ සිරුර වල් සතුන් කා දමන්නට පෙර දෙමව්පියන් විසින් ඇය වළලා දමනු ලැබ ඇත.

# 05

# විවාහ ගිවිසුම



දිනක් පාන්දර කුඩාරම අසලින් ඇසුණ මිනිස් කටහඬවල්වල සද්දයෙන් මම අවදි වීමි. නැගිට ගොස් බැලූ කල කිසිවකු පෙනෙන්නට නො සිටි හෙයින් ඒ ගැන විපරම් කර බලන්නට මට සිත්විය. උදෑසන පැතිරී තිබූ නිහඬතාවය තුළින් කටහඬවල් ඇසෙන ඉසව්ව සොයාගත් මම සැතැපුම් භාගයක් පමණ එම ඉසව්ව දෙසට දිව ගියෙමි. එ විට දක්නට ලැබුණේ සමුගෙන යන පිරිසකට මගේ දෙමව්පියන් අත වනමින් සිටින දර්ශනයකි. "ඒ යන මිනිස්සු කවුද අම්මෙ?" කාන්තාරයේ ඈතට ඇවිද යමින් සිටි රෙදි කැබැල්ලක් හිසෙ හි දවටාගෙන සිටි ගැහැනියකුට අත දිගු කර මම ඇසුවෙමි "ඒ යන්නෙ අම්මගෙ අර යාළුවා සුහුකිරින් නේද?... ඒ ගොල්ලො මෙහෙ අත් හැරලා වෙන කොහෙ හරි යනව ද?"

"නෑ... එයා අද කසාද බඳිනවා" අම්මා පිළිතුරු දුන්නා ය.

එ වදන් ඇසීමෙන් පුදුමයට පත් වූ මම ක්ෂිතිජ ඉමෙන් නො පෙනී යන පිරිස දෙස බලා සිටින්නට වීමි. එ වකට මගේ වයස අවුරුදු දහතුනක් වූ අතර, සුහුකිරින් මට වඩා අවුරුදු දෙකක් වැඩිමහල් වූයෙන් ඇය විවාහ වීමට යන බැව් ඇසීමෙන් මම පුදුම වීමි. "එයා කාව ද කසාද බඳින්නෙ?" මගේ පැනයට පිළිතුරක් නො ලැබුණා පමණක් නො ව, එ වැනි ප්‍රශ්නයක් නැගීම මා වැනි ළදැරියකට අදාළ නො වන බව අප සමාජයේ පිළිගැනීම යි. එ නමුදු දෙ වැනි වරට ද මම එම ප්‍රශ්නය ම අසා සිටියෙමි. පෙර මෙන් ම දෙ වැනි වතාවට ද මා ඇසූ ප්‍රශ්නයට කිසි ම පිළිතුරක් ලැබුණේ නැත. "කසාද බැන්දට පස්සේ එයා

ස්වාමිපුරුෂයත් එක්ක මෙහෙන් වෙන කොහාට හරි පදිංචියට යනව ද?" සාමාන්‍ය සම්ප්‍රදාය එය වූ බැවින් මගේ මිතුරිය මට නැවත කිසි දිනක දැක ගන්නට නො ලැබේ යයි මා තුළ මහත් කනගාටුවක් ඇති විය.

"ඊළඟට උඹගෙ වාරෙ" මගේ පියා මා දෙස බලා සිය රළු කටහඬින් පැවැසුවේ ය. අනතුරු ව තාත්තා සහ අම්මා ආපසු හැරී කුඩාරම දෙසට පිය නගන්නට වූ අතර, මට ලැබුණ නව ආරංචිය ගැන මම සිතන්නට වූයෙමි. විවාහය යන වචනය නිතර ම මගේ කන වැකී තිබුණත්, සුහුකිරින් විවාහ වූ දිනය වන තෙක් ඒ සම්බන්ධ ව මම කිසිදිනක ප්‍රශ්න කර නැත. සෝමාලියාවේ ඉපිද හැදුණ වැඩුණ ගැහැනු ළමයකු වූ මම විවාහය හෝ අඹු සැමි සම්බන්ධකම් ගැන හෝ කිසි දිනක සිතන්නට පෙලඹ වී නැත. සෝමාලියානු සංස්කෘතියට අනුව කිසි ම දිනක එ වැනි විෂයක් අප පවුල්වල ද කතාබහට ලක් වී නො මැති හෙයින් විවාහය හෝ අඹුසැමි සම්බන්ධකම් ගැන හෝ සිතන්නට තරම් අවකාශයක් මට නො වී ය. පිරිමි ළමුන් සම්බන්ධ ව මා තුළ වූ එක ම සිතුවිල්ල නම් ඔවුන්ට වඩා හොඳින් සතුන් රැක බලා ගැනීමත්, ඔවුන් සමග තරගයට දිවීමෙන් ජය ගැනීම වැනි දේවල් ය. අඹුසැමි සම්බන්ධකම් ගැන අපට කියා දී තිබුණ එක ම දෙය නම් පිරිමින්ගෙන් අප ගේ පිරිසිදුකම රැක ගත යුතු බවත්, විවාහයට කන්‍යාවියක් ලෙස මුහුණ දීමට වගබලා ගත යුතු බවත් ය. කසාද බඳින්නේ එක මිනිහකු පමණක් බවත්, ඒ පුද්ගලයා සමග මුළු ජීවිත කාලය ම දීග කෑ යුතු බවත් සෝමාලියාවේ ගැහැනු ළමුන් දැන සිටිය හ.

"ඔය ගොල්ලො තමයි මගේ කුමාරිකාවියො" අපේ තාත්තා මා සහ මගේ සහෝදරියන් අමතා නිරන්තරයෙන් මෙසේ පැවැසුවේ ය. ඊට හේතුව අප වැනි සුරුබුහුටි දියණියන් සිටීම වාසනාවක් ලෙස ඔහු සැලකූ බැවිනි. "කිසි ම මිනිහකුගෙන් ඔයගොල්ලන්ට හිරිහැරයක් වෙන්න ඉඩ තියන්නෙ නෑ... කවුරු හරි එහෙම දෙයක් කරන්න ආවොත් මට කියන්න... එහෙනං මම උංව ඉතුරු කරන්නෙ නෑ."

එතකුදු වරකට වඩා වැඩි වාර ගණනක් ඔහු ගේ කුමාරිකාවන් ආරක්ෂා කර ගැනීමට ඔහුට ඉදිරිපත් වන්නට සිදුවිය. දිනක් මගේ වැඩිමහල් සොහොයුරිය, අමන්, සතුන් බලා ගැනීමට එළියට ගොස් සිටි අතර, මිනිහෙක් පැමිණ ඇයට හිරිහැර කරන්නට පටන් ගෙන ඇත. ඇය ඔහුට අකැමැති බව කියමින් ඇය අත හරින ලෙස ඉල්ලා සිටියත්, ඔහු ඇයට යන්නට දී නො මැත. ඔහු ගේ චාටු කතාවලින් අමන් ව රැවැටීමට නො හැකි වූ තැන ඔහු ඇයට බලහත්කාරකම් කිරීමට උත්සාහ කොට ඇත. උසින් අඩි හයක් පමණ වූ අමන් ඉතා ශක්ති සම්පන්න අයකු

වූයෙන් ඇය, ඒ මිනිහාට පහර දී ඔහුගෙන් බේරී ගෙදර අවුත් සිද්ධිය පියාට කීවා ය. පසු ව ඒ මිනිහා සොයා ගිය මගේ පියා ඔහුට නො සෑහෙන්නට පහර දී ඇත. එහෙයින් කිසි ම අයකු ඔහු ගේ දියණියන්ට අතවර කරන්නට නම් ඉදිරිපත් වන එකක් නැත.

එක් දිනක් රාත්‍රියේ මගේ නැගණියක් වන පවුසියා යටි ගිරියෙන් කෑ ගසන්නට විය. ඇ බෙරිහන් දෙන හඬින් මම අවදි වීමි. සාමාන්‍ය ක්‍රමයට අපි එ දින කූඩාරමෙන් එළියේ නිදා සිටි අතර, පවුසියා අපට තරමක් දුරින් නිදා සිටියා ය. එකවර ම අවදි වී නැගී සිටි මට අඳුර තුළින් මිනිහෙක් අප ගේ කූඩාරම පැත්තේ සිට දිව යනු මම දුටුවෙමි. නො නවත්වා පවුසියා කෑ ගසන්නට වූ අතර, මගේ පියා නැගිට ඒ පුද්ගලයා පසුපස ලුහුබඳින්නට විය. ඒ අතරතුර පවුසියා ළඟට අපි දිව ගොස් ඇය පරීක්ෂා කරන විට ඇය ගේ කලව මත සුදුපාටට පිරිමියකු ගේ ශුක්‍ර ධාතු වැටී තිබෙනු දුටුවෙමු. මගේ පියාට ඔහු අල්ලා ගන්නට නො හැකි වූ අතර, පසුදින උදෑසන පවුසියා නිදා හුන් ස්ථානය අසල සෙරෙප්පු පාරවල් කීපයක් වැල්ල මත තිබෙනු අපි දුටුවෙමු. පවුසියාට අතවර කිරීමට පැමිණි පුද්ගලයා කවුදැයි මගේ පියා අනුමාන වශයෙන් දැන සිටියත් ඒ ගැන ඔහුට නිශ්චිත අවබෝධයක් නො වී ය.

නියං සමයේ දිනක මගේ පියා වතුර ගෙන එන්න පොදු ළිඳ* වෙත ගියේ ය.

වතුර ගෙන යන්නට ළිඳ වෙත පැමිණ සිටි ගම්මුන්ගෙන් සැදුණ පෝලිමේ අග මගේ පියා ද ගොස් සිට ගත්තේ ය. මගේ පියා දුටු පෝලිමේ ඉදිරියෙන් ම සිටි තරමක් කලබලයට පත් ව සිටි පුද්ගලයෙක් මගේ පියාට කතා කොට මෙසේ කීවේ ය. "එන්ඩ එන්ඩ ඇවිල්ලා වතුර ගන්න."

"හරි හරි මම වතුර ගන්නම්... ඉස්සෙල්ලා තමුසෙ ගන්නවාකො."

"හොඳයි" ඔහු එ සේ පිළිතුරු දෙමින් ළිඳට බසින්නට විය. අනතුරු ව වතුර පුරවා ගත් භාජනය ද රැගෙන ළිඳෙන් එළියට පැමිණි පුද්ගලයා යන්නට හැරුණේ ය. ඔහු දමාගෙන සිටි සෙරෙප්පු කුට්ටමේ සලකුණු පැහැදිලි ව වැල්ල මත තිබුණෙන් එය දුටු මගේ පියා ඔහු මගේ නැගණියට අතවර කිරීමට පැමිණි පුද්ගලයා බැව් හඳුනා ගත්තේ ය. එකවර ම ඔහු පසුපස ලුහුබැඳ ගිය මගේ පියා ඔහු අල්ලාගෙන ඔහුට

---

*නියං කාලයට වතුර ලබා ගැනීම සඳහා කවුරුන් හෝ ළිඳක් හාරනු ලැබේ. ඒ ආකාරයට හාරනු ලැබූ සමහරක් ළිං අඩි සියයකටත් වඩා ගැඹුරු ය. එ වැනි ළිං ඔවුන් පොදු ළිං යනුවෙන් හඳුන්වනු ලැබේ.

තඩි බාන්නට විය. බේරෙන්නට බැරි ම තැන කිණිස්සක් ඇදගත් එම පුද්ගලයා එයින් මගේ පියාට කීප වතාවක් ම ඇන්නේ ය. මගේ පියා ද සිය ඉනේ තිබූ කිණිස්ස ගෙන ඔහුත් සමඟ පොර බදමින් කිණිසි පහරවල් කිහිපයක් එල්ල කළේ ය. අවසානයේ දී දෙදෙනා ම තුවාල වී සිටි අතර, මගේ පියා ගෙදර පැමිණියේ ය. සෑහෙන කාලයක් වෙදකම් කිරීමෙන් පසු ව මගේ පියා නැවත සුවය ලැබුවේ ය. සුවය ලැබීමෙන් පසු ඔහු පැවැසූ වදන් තවමත් මගේ මතකයේ රැඳී ඇත. "මම මගේ ජීවිතයෙන් වන්දි ගෙවලා හරි දුවලගෙ ගෞරවය ආරක්ෂා කරනවා."

"ඔයගොල්ලො තමයි මගෙ කුමාරිකාවො... මගෙ වස්තුව... ඒ හින්දා තමයි මම ඔයගොල්ලන් ව වහල දාලා තියෙන්නෙ... හැබැයි යතුර මා ළඟ."

"මම කියනකල් කාටවත් එළියට එන්න බෑ."

පියා ගේ එ වදන් අසා සිටි සියල්ලෝ ම සිනාසෙන්නට වූ නමුදු මා තුළ ඔහු කියූ දේ ගැන අනියත බියක් හට ගැනුණෙන් මම හඬන්නට වීමි.

සත්‍ය වශයෙන් ම මගේ පියා කියන ලද එ වැනි කතා හුදු විහිළු නම් නො වී ය. පියා ගේ අනුමැතිය නො මැති ව සිය දියණියන්ට මොන යම් දෙයක් ගැනවත් තීරණ ගැනීමට හැකියාවක් නො තිබුණි. සත්‍ය තත්ත්වය නම් අප ගේ පියා මේ ආකාරයෙන් අප ව ආරක්ෂා කරනු ලැබුවේ අන් කිසියම් කරුණක් නිසා නො ව, පුද්ගලික වාසි සඳහා පමණි. අප්‍රිකානු විවාහ සංස්ථාව තුළ කන්‍යාවන්ට ඉහළ ඉල්ලුමක් තිබුණ අතර, සුන්නත් කිරීම සම්බන්ධ ව ප්‍රසිද්ධ නො කරන ලද රහස ද එය ම විය. මගේ පියාට සිය රූමත් දියණියන් සඳහා ඉහළ මිලක් බලාපොරොත්තු වන්නට හැකි වූ නමුදු, අප ගේ එක් සහෝදරියක් පිරිමියකු සමඟ තිබූ කාමුක සම්බන්ධයක් හේතු කොටගෙන කන්‍යාභාවය සිඳගෙන සිටි හෙයින් ඇය ව දීග දීම ඔහුට එ තරම් පහසු නො වනු ඇත. මා දැරියක ව සිටි කාලයේ මේ කිසිවක් සම්බන්ධ ව මා තුළ කිසි ම තැකීමක් නො තිබුණ අතර, විශේෂයෙන් ම රති වින්දනය හෝ විවාහය ගැන හෝ මම කිසි ම විටක නො සිතුවෙමි.

දිනක් ගෙදර පැමිණි මගේ පියා මාව සොයන්නට විය.

"කෝ මේ වාරිස්."

"මෙහෙ ඉන්නවා තාත්තෙ."

"මෙහාට එන්ඩකො."

සාමාන්‍යයෙන් මගේ පියා සැරපරුෂ පුද්ගලයකු වූ අතර, එදා ඔහු මට ඇමැතූ විලාසයෙන් කිසියම් අසාමාන්‍ය දෙයක් සම්බන්ධයෙන් ඔහු මා සොයන බව මට වැටහිණි. එහෙත්, ඔහු මට කතා කරන්නේ මා ලවා වතුර ගෙන්වා ගැනීමට, නැතිනම් සතුන් ජලය ඇති ස්ථානයකට රැගෙන යාම වැනි වැඩක් කරවා ගැනීමට යයි මම සිතුවෙමි. ඔහු කියන්නට යන දේ කුමක්දැයි දැන ගැනීමට මම සිටි තැන ම සිට ඔහු දෙස බලා සිටින්නට වීමි.

"මෙහාට එන්ඩකො" ඔහු නො ඉවසිලිමත් ව කීවේ ය.

කිසි ම කතා බහකින් තොර ව මම ඔහු සිටි දෙසට අඩි කීපයක් තැබුවෙමි. එකවර ම මා අල්ලා ගත් ඔහු මා සිය දණිස්ස මත හින්දවා ගත්තේ ය.

"මගෙ හොඳ කෙල්ල... ඔයා මට පුතෙක් වගේ" ඔහු මා ගැන වර්ණනා කරන්නට විය. මගේ පියා මේ ආකාරයෙන් මා වර්ණනා කරන්නේ කුමක් නිසාදැයි මා තුළ කුහුලක් ඇති විය.

"ඔයා මට පුතෙක් වගේ... මහන්සි වෙලා සතුන් ටික රැකබලා ගන්නවා... ඉතින් මට ඔයාට කියන්න දෙයක් තියෙනවා... තව ටික දවසකින් ඔයා මට නැතුව යනවා." ඔහු කියවන්නට විය. එ වදන් ඇසූ සැණින් මට කල්පනා වූයේ මගේ වැඩිමහල් සහෝදරී අමන් මෙන් මමත් නිවසින් පැන යතු ඇතැ යි මගේ පියා තුළ බියක් ඇති වී ඇති බව ය. මගේ පියා අමන් විවාහ කර දෙන්නට සූදානම් වෙත්දී ඇය නිවසින් පැන ගියා ය. එ මෙන් ම නිවසේ සියලු ම වැඩ කටයුතු තාත්තා ගේ සහ අම්මා ගේ කරපිටට පටවා මම ද පැන යතු ඇතැ යි සිතා ඔහු කනගාටු වන්නේ එ නිසා යැයි මම සිතුවෙමි. ඒ මොහොතේ මගේ පියා ගැන මා තුළ මහත් කරුණාවක් ඇති වූයෙන්, මම ඔහු වැළඳ ගනිමින් මෙසේ පැවැසුවෙමි. "නෑ තාත්තෙ ඔයගොල්ලන් ව දාලා මම කොහේවත් යන්නෙ නෑ."

"වාරිස් ඔයාට එහෙම යන්ඩ වෙනවා" ඔහු මගේ මුහුණ දෙස සෘජු ව බලාගෙන කීවේ ය.

"මම කොහේ යන්න ද? මම කවදාවත් ඔයගොල්ලන් ව තනි කරලා යන්නෙ නෑ."

"ඒ වුණාට ඔයාට යන්ඩ වෙනවා... මම ඔයාට කසාද බඳින්න කෙනෙක් හොයලා තියෙන්නෙ..."

"මට ගෙදර දාලා යන්ඩ බෑ" මම හඬමින් කීවෙමි.

"ඔයාට කසාද බඳින්න මම හොඳ ම කෙනෙක් හොයලා තියෙන්නෙ... ඒක ඔයාගෙ වාසනාවක්."

"කවුද?" මම ඇසුවෙමි.

"හෙට අනින්දා ඔයාට එයා ව හම්බු වෙන්න පුළුවන්."

මා තුළ වූ කෝපය සහ දුක පිටට නො පෙන්වා සිටින්නට කොපමණ වීරිය කළත් මගේ දෙනෙත් කඳුළින් පිරී යන්නට විය.

"මට ඕනෑ ඇති කසාදයක් නෑ" මම හඬමින් කීවෙමි.

"ඒ මනුස්සයා හරි ම හොඳ කෙනෙක්... ඔයා මම කියන දේට එකඟ වෙනවා නේද?" කරකියා ගන්නට කිසිවක් නො මැති වූ මම බිම බලාගෙන සිටියෙමි.

"මාව විශ්වාස කරන්න වාරිස්... ඔයාට නරකක් කරන්න නෙමෙ මේ හදන්නෙ."

"ඒ වුණාට මටනෙ ඒ මිනිහත් එක්ක ජීවත් වෙන්ඩ වෙන්නෙ."

එකනෙහි ම ඔහු මට කම්මුල් පාරක් ගැසුවේ ය.

ඉතා ඉක්මනින් ම මගේ පියා මා මිනිහකුට විවාහ කර දෙන්නට කැසකවන බව මම තේරුම් ගතිමි. ඇත්තෙන් ම සුන්නත් කර ඇති එ මෙන් ම කන්‍යාවියක් වූ මා වැනි සුරුබුහුටි කෙල්ලකුට ඉහළ මිලක් ලබා ගන්නට හැකි හෙයින් මගේ පියා මට ස්වාමිපුරුෂයකු සොයන්නට ඇත.

පසුදින උදෑසන සුපුරුදු ලෙස මම බැටළුවන් සහ ඔටුවන් රැළත් සමඟ ජලය සහ කෑම ඇති ඉසව්වක් සොයා යන්නට පිටත් වූයෙමි. සතුන් බලා ගන්නා අතර, මම විවාහය නමැති මෙම නව සංකල්පය ගැන කල්පනා කෙරුවෙමි. කෙසේ හෝ විවාහ නො වී ගෙදරට වී සුපුරුදු සේ කල් යවන්නට පියා ව කැමැති කරවා ගැනීමට ක්‍රමයක් ගැන සිතන්නට උත්සුක වීමි. එහෙත්, එය කිසිදාක කරන්නට නො හැකි දෙයක් බැව් ද මම දැන සිටියෙමි. මගේ අනාගත ස්වාමිපුරුෂයා කෙබඳු අයෙක් දැයි මම සිතන්නට වීමි. මගේ ළමා වියේ දී පිරිමියකු පිළිබඳ සිතක් මා තුළ ඇති වූයේ නම් ඒ අන් කිසිවකු නො ව මගේ පියා ගේ මිත්‍රයා ගේ පුතා වූ යමහ ගැන පමණි. යමහ ගේ පවුල සහ අපි එකට එක් වී තැනින් තැන යන්නට පුරුදු ව සිටි හෙයින්, නිතර ම මට ඔහු හමුවිය. යමහ මට වඩා වැඩිමහල් අයකු වූ අතර, තවමත් විවාහ නො වී සිටි හෙතෙම ඉතා කඩවසම් අයකු යයි මට සිතිණි. මගේ පියා යමහට

තමුන් ගේ ම පුතකුට මෙන් ආදරයක් දැක් වූ අතර, යමහ ඔහු ගේ පියාට ඉතා කීකරු පුතකු යයි මගේ පියා සිතුවේ ය. එ වකට කුඩා දැරියක් ව සිටි මා තඹදොයිතුවකටවත් මායිම් නො කර යමහ මගේ වැඩිමහල් සොහායුරිය අමන්ට මහත් ආදරයක් දැක් වූ අතර, එම සිද්ධිය මා තුළ ඔහු කෙරෙහි ඉමහත් ආකර්ෂණයක් ඇති කරන්නට සමත් විය. යමහ, අමන් පිළිබඳ සිතක් ඇති කරගෙන සිටින බව මා ඇයට කියූ විට ඇය කියා සිටියේ එඬේර ජීවිතය ඇයට තිත්ත වී ඇති බවත්, අප ගේ පියා වැනි එඬේරකු සමඟ ඇය කිසි දිනක විවාහ නො වන බවත් ය. ඇය හැමදාමත් කියා සිටියේ කෙසේ හෝ නගරයට ගොස් හොඳ සල්ලිකාරයකු කසාද බැඳගන්නා බව ය. මගේ පියා ඇය ව එඬේරකුට විවාහ කර දෙන්නට සූදානම් වෙද්දී නගරය ගැන ඇය තුළ වූ සිහිනය සැබෑ කරගනු වස් ඇය නිවසින් පැන ගියා ය. ඉන් පසු ඇය ගැන කිසි ම ආරංචියක් අපට දැන ගන්නට ලැබුණේ නැත.

එ දින දවස පුරා ම මම සතුන් බලා ගනිමින් සිටින අතර, විවාහය එ තරම් නරක දෙයක් නො වන බව මම මට ම ඒත්තු ගන්වා ගැනීමට උත්සාහ කළෙමි. එ මතු ද නො ව, මගේ මව සහ පියා එකට ජීවත් වන ආකාරයට මම යමහ සමඟ ජීවත් වන අයුරු ගැන සිහින මැව්වෙමි. අනතුරු ව ඉර අවරට යනවාත් සමඟ මම සුපුරුදු ලෙස සතුන් ( දක්කාගෙන කුඩාරම වෙත ගියෙමි. මා කුඩාරම දෙසට එනවිට මා වෙ. දිවගෙන පැමිණි මගේ බාල සොහොයුරිය මගේ පියා කිසියම් ආගන්තු. පුද්ගලයකු සමඟ අප ගේ කුඩාරමට පැමිණ සිටින බවත්, ඔවුන් දෙදෙන මා එනතුරු බලා සිටින බවත් කීවා ය. මා විවාහ කර දීම මගේ පියා තවමත් අත හැර නො මැති බැව් මම එකවර ම වටහා ගතිමි.

"කොහෙද ඒ මිනිහා ඉන්නෙ?" මම ඇසුවෙමි.

මගේ නැඟණිය ඇඟිල්ල දිගු කර ඔවුන් සිටින ඉසව්ව පෙන්නුවා ය.

"වාරිස් ඒගොල්ලො ඔයා එනකල් බලාගෙන ඉන්නවා" ඇය තවදුරටත් කීවා ය.

"ඔයා කටවහගෙන පැත්තකට වෙලා ඉන්න" මම ඇය ගේ ඇඟට කඩා පනිමින් කීවෙමි.

කිසිවක් එ තරම් ගණනකට නො ගෙන සතුන් කොටුවලට ගාල් කෙරූ මම කිරි දොවන්නට වීමි. මෙසේ කිරි දොවමින් සිටින විට මගේ පියා මගේ නම කියා කතා කරනු මට ඇසුණි.

"එනවා තාත්තෙ"

පියා ගේ අණට කීකරු වෙනවා ඇරුණු කොට කරන්නට දෙයක් නොමැති බව තේරුම් ගත් මම, කිරි දෙවීම නතර කොට හෙමින් සීරුවේ නැගී සිටියෙමි. එතකුදු මගේ පියා මා එනතුරු බලා සිටිනවා ඇත්තේ යමහ සමග වෙන්නට ඇතැ යි සිතූ මා තුළ බලාපොරොත්තුවක ඡායාවක් ලියලා වැඩෙන්නට විය. සිහිනෙන් මෙන් යමහ ගේ කඩවසම් මුහුණ මා ඉදිරියේ මැවී පෙනෙන්නට විය. "මගේ පියා සමග මා එනතුරු බලා සිටින්නේ යමහ ම වේවා යයි" මුමුණමින් මම මගේ පියා වෙත පිය නැගුවෙමි.

ඒ මොහොතේ බැසගෙන යන හිරු එළියෙන් අහස රත්පැහැ ගැන් වී තිබුණි. අප ගේ කුඩාරම ඉදිරිපිට අඳුරු ඡායාවන් දෙකක් මෙන් දෙදෙනෙක් හිඳගෙන සිටිනු මම දුර තියා ම දුටුවෙමි.

"ආ මේ එන්නෙ මගෙ මැණික... මෙහෙ එන්ඩකො අඳුරලා දෙන්ඩ... මේ ඉන්නෙ ගල්ලූල් මහත්තයා."

හැරමිටියක් අතැති ව වාඩි වී සිටින මිනිසා දෙස එකවර ම මගේ නෙත් යොමු විය. සම්පූර්ණයෙන් ම පැසී ගිය රැවුළක් තිබූ ඒ මිනිහා වයසින් අවුරුදු හැටක් පමණ බැව් පැහැදිලි ව ම පෙනුණේ ය.

"වාරිස් මේ ගල්ලූල් මහත්තයට ආයුබෝවන් කියලා කතා කරන්ඩකො."

"ආ කොහොම ද?" මම ඉමහත් ආයාසයකින් කියා සිටියෙමි.

ගරුසරු ඇති ව කතා කළ යුතු ව තිබුණත් උද්යෝගයකින් කතා කරන්නට තරම් වුවමනාවක් මා තුළ නො වී ය. හැරමිටියට වාරු දී ඉඳගෙන සිටි නාකියා කිසිවක් නො දොඩා මා දෙස කන්න මෙන් බලා සිටි අතර, මා දෙස බලා සිටින ඔහු ගේ බැල්මෙන් මිදෙනු වස් මම බිම බලා ගතිමි.

"වාරිස්... මගෙ මැණික ඉතින් ලැජ්ජා වෙන්ඩ එපා" මගේ පියා කීවේ ය.

අනතුරු ව මම මගේ පියා ගේ මුහුණ දෙස බැලුවෙමි. ඔහු මගේ මුහුණ දුටු සැණින් මා නම්මවා ගැනීමට ඔහු යෙදූ කුට උපාය වැරදී ගොස් ඇති බැව් ඔහුට ප්‍රත්‍යක්ෂ වන්නට ඇත. එහෙයින් මගේ අනාගත ස්වාමිපුරුෂයාට මා තුළ වූ බිය පහ ව ගියේ ය.

"ආ දැන් ඉතින් ඔයා ගිහිල්ලා ඔයාගෙ වැඩ ටික ඉවර කරන්න."

"තාම පොඩි එකීනෙ... ලැජ්ජා හිතෙන්න ඇති" මගේ පියා සිය මිත්‍රයාට කියනු මට ඇසුණි.

එ තැන තවත් මොහොතකුදු නො රැඳුණ මම බැටළුවන් ගාල්කර සිටින කොටුව වෙත දිව ගියෙමි.

එ දින සවස් කාලය පුරා ම මගේ සිතට වධ දුන් කරුණ නම් ගල්ලූල් වැනි මහලු මිනිසකු සමඟ විවාහ ජීවිතයක් ගත කිරීම කෙබඳු වේදැයි යන්න ය. එ මතු ද නො ව දෙමව්පියන් ගේ පහස විඳිමින් ඇති දැඩි වූ මම, ඔවුන් හැර දමා ගොස් ආගන්තුක මහලු මිනිසකු සමඟ දීග කන්නේ කෙසේදැයි කල්පනා කරන්නට වීමි. එ නමුදු එ වැනි මහලු එ මෙන් ම පිළිකුල් උපදවන මිනිහකු සමඟ සංවාස කිරීම ගැන මට කල්පනා නොවීම මහත් වාසනාවකි. එ වකට අවුරුදු දහතුනක් පමණ කැකුළු වයසේ පසු වූ මා හට රති වින්දනය ගැන තිබුණේ තරමක මෝඩ අදහසකි.

පසුදින උදෑසන මගේ පියා නැවතත් මට කතා කළේ ය.

"වාරිස් ඔයා දන්නව ද අර ඊයෙ ආව මහත්තයා කවුද කියලා."

"මට හිතාගන්න පුළුවන්" මම කීවෙමි.

"ඒ තමයි ඔයාගෙ අනාගත ස්වාමිපුරුෂයා."

"ඒ වුණාට තාත්තෙ ඒ මනුස්සය හරි ම නාකි මනුස්සයෙක් නෙ."

"එහෙම අයෙක් තමා හොඳ... මොකද එ වැනි මනුස්සයකුට වෙන ගැහැනු පිටුපස්සෙ දුවන්ට බෑ... ඒක හින්දා එයා ඔයා ව හොඳින් බලාගනීවි. මගේ පියා මා ගැන මෙ තරම් අඩු තක්සේරුවක් කරමින් මහලු මිනිහකුට මා විවාහ කර දෙන්නට සූදානම් වූයේ මන්දැයි අදටත් මට ප්‍රහේලිකාවකි.

"ඒ විතරක් නෙමෙයි ඔයා දන්නව ද එයා ඔයා වෙනුවෙන් කීයක් ගෙවන්න පොරොන්දු වුණා ද කියලා" ඔහු මහත් ආඩම්බර ලීලාවකින් පැවසුවේ ය.

"කීයක් ගෙවන්න පොරොන්දු වුණා ද?" මම ඇසුවෙමි.

"ඔයා විශ්වාස කරනව ද මිනිහා ඔටුවන් පස්දෙනෙක් ම දෙන්ඩ පොරොන්දු වුණා... ඔටුවන් පස් දෙනෙක් කිව්වහම සුළුපටු ද?"

මෙතෙක් මගේ පියා දෙස බලා සිටි මම ඔහුගෙන් නෙත් ඉවතට ගෙන උදෑසන හිරු එළිය වැටී ජීවමාන වන කාන්තාරය දෙස බලා සිටින්නට වීමි. මා දෙනෙත් පියාගත් විට උදෑසන හිරු එළිය වැදී මගේ

ගත උණුසුම් වී යනු මට දැනෙන්නට විය. මා නිදිවර්ජිත ව ගත කළ පෙර දින රාත්‍රිය මගේ සිහියට නැගෙන්නට විය. තාරුකා පායා තිබූ අහස් කුස යට මගේ පවුලේ අය අතර නිදිවර්ජිත ව වැතිරී සිටින අතර, මම තීරණයකට එළැඹුණෙමි. තාත්තා විසින් යෝජනා කර ඇති මහලු මිනිසා සමඟ විවාහ වීම ප්‍රතික්ෂේප කර සිටියත් මට මගේ පියාගෙන් ගැලවීමක් නො වන බැව් මම දැන සිටියෙමි. ඔහු මා කිසියම් පුද්ගලයකුට විවාහකර දී ඔටුවන් ලබා ගැනීමට අධිෂ්ඨාන කරගෙන සිටීම එයට හේතුව යි.

"තාත්තේ එහෙනං මම ගිහිල්ලා ඔටුවො ටික දක්කගෙන එන්නම්" මම එ සේ පැවසූ විට ඔහු මහත් සතුටකින් මා දෙස බැලුවේ ය. ඔහු සිතුවාට වඩා ලෙහෙසියෙන් මා විවාහයකට කැමැති කරවා ගන්නට හැකි බැව් ඔහු සිතන්නට ඇත.

බැටළුවන් එහෙ මෙහෙ පනිමින් සෙල්ලම් කරන අයුරු බලා සිටින අතර, මගේ පියාට අයත් බැටළු රැළ මා විසින් බලාගන්නා අවසාන දිනය අද නො වේදැයි මට කල්පනා විය. එ මතු ද නො ව, ඒ මහලු මිනිසාත් සමඟ මගේ විවාහ ජීවිතය කෙබඳු වේදැයි මම කල්පනා කරන්නට වීමි. තෙරක් නො පෙනෙන කාන්තාරයේ කොහේ හෝ හුදකලා වූ ස්ථානයක මට ඔහුත් සමඟ ජීවත් වන්නට සිදුවෙනු ඇත. හැරමිටියේ වාරුවෙන් ඔහු මා වටා කැරකෙවෙමින් සිටින අතර, ගෙදර සියලු ම වැඩ මට තනිව ම කරගන්නට සිදුවනු ඇත. දරුවන් හතර පස්දෙනෙක් ලැබුණාට පසු ව හෘදයාබාධයක් වැනි ලෙඩකින් ඔහු මිය ගියහොත් වැන්දඹුවන්ට නැවත විවාහ වීමේ චාරිත්‍රයක් නො මැති සෝමාලියාවේ මට තනියෙන් ම ඒ දරුවන් හදා වඩා ගන්නට සිදුවනු ඇත. එ වැනි ජීවිතයක් මට කොහෙත්ම නො ගැළපෙන බව තේරුම් ගත් මම කළ යුතු දේ තීරණය කළෙමි.

දවසේ වැඩ හමාර කොට එ දින සවස් වරුවේ ගෙදර පැමිණි විට අම්මා මගෙන් මෙසේ ඇසුවා ය. "මොකද ඔයා නිකං බයවෙලා වගේ."

"අම්ම ඒ මිනිහාව මීට ඉස්සර දැකලා තියනව ද?" මම පෙරළා ප්‍රශ්න කෙරුවෙමි.

"ඔව්.... එදා මෙහෙ ආපු වෙලාවෙ මම දැක්කා" අම්මා පිළිතුරු දුන්නා ය.

"අනේ අම්මෙ මට බෑ ඒ මිනිහ ව කසාද බඳින්න" මගේ පියාට නොඇසෙන සේ මම අම්මා ගේ කනට කොඳුරුවෙමි.

"ඉතින් මම මොකද කරන්නෙ දරුවෝ... මට හයියක් තියනවය, ඔයගොල්ලන්ගෙ තාත්තගෙ තීරණවලට විරුද්ධ වෙන්න" අම්මා පෙරළා පිළිතුරු දුන්නා ය.

නිසැකයෙන් ම ඉදිරි දින කීපය තුළ ඒ මිනිහා මා සොයා එනු ඇත. තාත්තාට ඔටුවන් දී ඒ හිලව්වට මා රැගෙන යනු ඇත. මා එළැඹ සිටි තීරණයට අනුව ඒ මොහොතේ ම මම නිවසින් පලා යන්නට සැලැසුම් කළෙමි.

එ දින රාත්‍රියේ සියලු දෙනා ම නිදාගත් පසු ව පියා ගේ සුපුරුදු ගෙරවීම් හඬට මම කන් දීගෙන සිටියෙමි. අනතුරු ව සද්දයක් නොනැගෙන සේ නැගිට හෙමින් සීරුව තවමත් ගිනිමැලය අසල වාඩි වී සිටින අම්මා ළඟට ගියෙමි.

"අම්මෙ මට ඒ මිනිහව කසාද බඳින්න බෑ... මම කොහෙ හරි යනවා" මම කොඳුරුවෙමි.

"ෂ්... කියන දෙයක් හෙමින් කියන්න... කොහෙද ඔයා යන්ඩ හදන්නෙ" අම්මා පහත් හඬින් ඇසුවා ය.

"මම මොගඩිෂුවලට ගිහිල්ලා පුංචි අම්මා ව හොයා ගන්නවා"

"මම නං දන්නෙ නෑ එයා ඉන්න තැන... ඔයා දන්නව ද එයා ඉන්නෙ කොහෙද කියලා"

"අම්මා බයවෙන්න එපා, මම එයා ව කොහොම හරි හොයාගන්නං"

"මේ මහ රෑ" හරියට ඉරණම් ගමන කළුවරට නවත්වන්නට පුළුවන් වගේ අම්මා මිමුනුවා ය.

"නෑ නෑ දැන් නෙමෙ... පාන්දර... එළිය වැටෙන්න ඉස්සෙල්ලා අම්ම මාව ඇහැරවන්ඩකො."

ගමන පිටත් වන්නට පෙර මට හොඳ නින්දක් අවශ්‍ය බව මම දැන සිටියෙමි.

එ මෙන් ම මගේ පියා අවදි වන්නට පෙර ගමන ආරම්භ කළ යුතු ව තිබුණි.

"මේ ගමන නං මහ භයානක ගමනක්... මම නං ඔය වැඩේට කොහෙත් ම කැමති නෑ" අම්මා තරමක් තරහින් කීවා ය.

"අනේ අම්මෙ මට ඒ මිනිහා කසාද බඳින්න බෑ... මගේ හොඳ අම්මෙ... මම කවද හරි අම්මා බලන්ඩ ආපසු එනවා"

"දැන් ගිහින් නිදාගන්ඩ" ඇය මා දෙස තරහින් බලා කීවා ය. ඇය මගේ තීරණයට එකඟ වී ඇති බව ඇගේ බැල්ම මට කියා පෑවේ ය.

වෙහෙසට පත් ව සිටි අම්මා ඇවිළෙන ගිනිමැලය දෙස බලා සිටින අතර, මම ගොස් නංගිලා මල්ලිලා අතරින් වැතිරුණෙමි.

මා තද නින්දේ සිටිය දී අම්මා මගේ උරහිසට හෙමින් තට්ටු කරනවා මට දැනුණි. "වාරිස් නැගිටලා යන්ඩ" ඇය මා ඉදිරිපිට දණ ගසාගෙන කීවා ය. ගැස්සී ගොස් අවදි වූ මා තුළ කිසියම් සංවේගයක් හටගත්තේ ය. මගේ නංගිලා සහ මල්ලිලා ගේ උණුසුම අතරින් නැගී සිටි මා, මගේ පියා තවමත් නින්දේ පසුවන්නේ දැයි සීරුවෙන් පරීක්ෂා කර බැලුවෙමි. ඔහු ගොරවමින් තද නින්දක පසුවන බව මම සහතික කරගතිමි. අනතුරු ව ගැහෙන හදවතින් යුතු ව අම්මාත් සමඟ කූඩාරමෙන් එළියට ආවෙමි. "අම්මෙ අම්මට පින් සිද්ධවෙනවා මාව වෙලාවට ඇහැරෙව්වට" මම අම්මා ගේ දෑත අල්වාගෙන කීවෙමි. බොහෝ කලකට මට මගේ අම්මා දැක ගන්නට නො හැකි බව දැන සිටි මම අඳුරේ ම ඇය ගේ මුහුණ දෙස බලාගෙන ඇගේ පියකරු මුහුණ මතකයට නඟා ගන්නට උත්සාහ කළෙමි. මා තුළ වූ ශෝකය ඇයට නො දැනෙන ලෙස කටයුතු කිරීමට මම අධිෂ්ඨාන කර ගතිමි. කඳුළු සලනවා වෙනුවට මම ඇගේ දෑත අල්ලා සිප ගත්තෙමි.

"දැන් යන්ඩ... තාත්තා නැගිටින්න ඉස්සෙල්ලා යන්ඩ" ඇය මගේ කනට කෙඳිරුවා ය. ඇගේ උණුසුම් වූ දෑතින් ඇය මා තුරුලු කර ගත්තා ය.

"බයවෙන්න එපා... ඔයාට වරදින්නෙ නෑ... හැබැයි පරිස්සම් වෙන්න... පරිස්සම් වෙන්න" එ සේ කියමින් මෙතෙක් මා තුරුලු කරගෙන සිටි ඇය හෙමින් සීරුවේ සිය ග්‍රහණයෙන් මුදා හැරියා ය.

"වාරිස්... තව එක දෙයක් තියෙනවා කියන්න... අනේ වාරිස් මාව අමතක කරන්න නම් එපා"

"අනේ නෑ අම්මෙ, මම කවදාවත් අම්ම ව අමතක කරන්නෙ නෑ" එ සේ කියමින් මම අඳුර විසින් ගිලගෙන තිබූ කාන්තාරය දෙසට දිව ගියෙමි.

# 6

# මහ මඟ



ජැන්ඩියට ඇඳ පැලඳ සිටි මහත්මයා ගේ මර්සිඩීස් බෙන්ස් රථයේ මට එ තරම් දුරක් ගමන් කරන්නට ලැබුණේ නැත.

"මම නං මෙතැනින් එහාට යන්නෙ නෑ... මම ඔයා ව මෙතැනින් බස්සන්නම්... තවත් වාහනයකින් ඉතුරු ටික යන්න පුළුවන් නෙ" රථය මහා මාර්ගය අයිනේ නතර කරමින් ඔහු කීවේ ය.

"මම ඔයාට සුබ පතනවා" රථයේ වීදුරු කණ්ණාඩිය විවෘත කරමින් සිය සුදෝ සුදු දත් පෙන්වා සිනාසෙන ගමන් ඔහු මට අත වනමින් කීවේ ය. හිරු රශ්මියෙන් ගිනියම් වී තිබූ පාර අයිනේ සිටගෙන මම ද උදාසීන ව පෙරළා ඔහුට අත වැනුවෙමි. අනතුරු ව බෙන්ස් රථය විදුලි වේගයෙන් ගිනියම් වී ඇති වා තලය හරහා ඈතට ඇදී ගියේ ය. කවදා මොගඩිෂු නගරයට යා ගන්නට හැකිවේ දැයි සිතමින් නැවතත් මම මහා මාර්ගය දිගේ ඉදිරියට ඇවිද යන්නට පටන් ගත්තෙමි.

මෙසේ ඇවිද යන අතර, වාහන කීපයකින් ම තවත් කෙටි දුරක් යන්නට කීප වතාවක් ම මට අවස්ථාව ලැබුණි. මේ වනවිට හිරු අවරට හැරෙමින් තිබුණ අතර, ඒ මොහොතේ මහා මාර්ගය දිග ඇදී ආ ලොරියක් මා ඉදිරිපිට මාර්ගය අයිනේ නතර කළේ ය. පෙර ලොරි රියැදුරා සමඟ ඇති වූ සිද්ධිය මගේ මතකයට ගලා එන්නට වූයෙන් මගේ මුළු ගත ම හීතල ව යනු මට දැනෙන්නට විය. බියට පත් ව සිටි මා ලොරියේ පිටුපස වූ රතු ලාම්පු දෙක දෙස බලා සිටින අතර,

රියැදුරා පිටුපස හැරී මා දෙස බලන්නට විය. මා ඉක්මනින් තීරණයක් නො ගතහොත් ඔහු මා දමා යනු ඇතැ යි සිතූ මම ලොරිය වෙත දුව ගියෙමි. රියැදුරා එකවර ම මා සිටි පැත්තේ දොර විවෘත කළේ ය. ලොරියට නැගීමට එ තරම් පහසු නො වූ මුත් මම ඉතා අමාරුවෙන් ලොරියට ගොඩ වුණෙමි. "කොහාට ද යන්නෙ... මම යන්නෙ ගල්සියාඕ නගරයට යි." ඔහු කීවේ ය.

රියැදුරා ගල්සියාඕ නගරය ගැන කී විට එහි වාසය කරන මගේ පොහොසත් මාමා අහමඩ් ගැන මට මතක් විය. මා ගල්සියාඕ නගරයට බොහෝ ළං ව සිටින බව මම ප්‍රත්‍යක්ෂ කළෙමි. දැන් ඉතින් මොගඩිෂු නගරය සොයමින් සෝමාලියාව හරහා කරක් ගහනවට වඩා මගේ පොහොසත් මාමා ළඟට ගොස් එහි නවතින්න හැකි නො වේ දැයි මම කල්පනා කළෙමි. අහමඩ් මාමා සමඟ සපත්තු කුට්ටමක් නිසා ඇති වූ ප්‍රශ්නය ද ඒ මොහොතේ මගේ මතකයට ගලා එන්නට විය. මා ඔහු ගේ සතුන් බලා ගැනීම සඳහා හිලව්වට ඔහු මට දෙන්නට පොරොන්දු වූ සපත්තු කුට්ටම තවමත් මට ලැබී නැත. මාමා ගේ නිවසට ගොස් එහි දී කටට රසට හොඳ කෑම වේලක් භුක්ති විඳින අයුරු සහ ඉන් පසු ව සැප පහසු ඇඳක නිදා ගන්නා අයුරු මනසින් මවා ගන්නට මම උත්සාහ කළෙමි. ඇත්තෙන් ම එම රාත්‍රිය ගසක් යට නිදා ගන්නවාට වඩා සැපදායක වනු ඇත. මගේ ගත සිත ප්‍රමෝදයෙන් ඉපිල යන්නට විය. ලොරියේ පිටුපස පුරවා තිබූ සහල්, ඉරිඟු සහ සීනි ආදිය දුටු මා පෙළමින් සිටි කුසගින්නේ තරම කොපමණදැයි මට පසක් විය.

රියැදුරා අවුරුදු හතළිහක් පමණ වයස අයකු වූ අතර, ඔහු ගේ මනමාල හැසිරීමේ නම් අඩුවක් නො වී ය. ඔහු නිරන්තරයෙන් මා කතාවට පටලවා ගැනීමට උත්සාහ දැරුවේ ය. මට වුවමනා වී තිබුණේ ඔහුත් සමඟ හැකි තරම් සුහද ව සිටීමට වූ නමුදු, මා තුළ අනියත බියක් හටගෙන තිබුණි. මා ගැන ඔහුට වෙනත් හැඟීමක් ඇති නො වන ආකාරයට හැසිරීමට මම වග බලා ගතිමි. මගේ මාමා ගේ ලිපිනය හෝ ඔහු ගල්සියාඕ නගරයේ වෙසෙන ඉසව්ව හෝ නො දැන සිටි මම ඔහු සොයා ගන්නේ කෙසේදැ යි රථයේ වූ කවුළුවෙන් ඉවත බලාගෙන කල්පනා කරන්නට වීමි.

"ගෙදරින් පැනලා යනවා නේද?" රථයේ සහය රියැදුරා ඇසුවේ ය.

"මොකක් ද කිව්වෙ" මම හෙමිහිට ඇසුවෙමි.

"නිකං කොළේ වහන්න හදන්න එපා... මම උඹට හොඳ වැඩක් කරනවා."

"මොනවා... අනේ මට කරදරයක් නං කරන්න හදන්න එපා... කරුණාකරලා මාව ගල්සියාඕ නගරයට ගෙනියන්න... මම මගේ මාමා මුණ ගැහෙන්න යි යන්නෙ. එයා මම එනකල් බලාගෙන ඉන්නවා."

මා කියූ දේ ඔහු තඹදොයිතුවකටවත් විශ්වාස නො කළ බව ඔහු ගේ හැසිරීමෙන් මම දැන ගතිමි. හරියට යා යුතු තැන නො දැන සිටි මම රථයෙන් බැස ගැනීම සඳහා රියැදුරාට කුමක් කිව යුතුදැ යි කල්තියාම සූදානම් වීමි. ඒ වන විට මම මගේ මාමා මුණ ගැහෙන්නට යන බව කියා තිබුණ බැවින් මා බැසිය යුතු ස්ථානය නො දන්නා බව දැන් නම් කොහෙත් ම කියන්නට නො හැකි ය. ලොරිය ගල්සියාඕ නගරයට ඇතුළු වනවාත් සමඟ ම වට පිටාව දෙස බැලූ මා දුටුවේ වාහන සහ ජනයාගෙන් පිරී ගිය නොයෙක් දිසාවන්ට විහිදී ගිය මාර්ග මෙන් ම ඒවා දෙපසේ වූ උස් ගොඩනැඟිලි ය. මීට පෙර මට හමු වූ කුඩා නගරවලට වඩා ගල්සියාඕ නගරය විශාල බැව් එකවර ම මම තේරුම් ගතිමි. මෙ වැනි මහා නගරයක් තුළ මගේ මාමා පදිංචි ව සිටින ස්ථානය සොයා ගැනීම ඇත්තෙන් ම මොන තරම් අසීරු දෙයක් ද යන්න මම පසක් කළෙමි.

ලොරිය තුළ සිට ජනාකීර්ණ නගරයේ තදබදය දුටු විගස රථයෙන් නො බැස සිටින්නට අදහසක් මා තුළ ඇති විය. එ නමුදු රියැදුරා මා නිවසින් පැන අවුත් හොරෙන් පලා යන අයකු ලෙස පොලීසියට අල්ලා දෙන්නට ඉඩ ඇතැ යි සිතූ මම හැකි ඉක්මනින් ලොරියෙන් බැස ගන්නට තීරණය කළෙමි. රියැදුරා ලොරිය විශාල වෙළෙඳ සංකීර්ණයක් හරහා වූ මාවතකට හරවනවාත් සමඟ ම පාර දෙ පස තිබූ වෙළෙඳ සල්වල වූ කෑම ජාති දුටු මම එකවර ම ලොරියේ දොර විවෘත කරගෙන එළියට පැන්නෙමි. "අපේ මාමා අන්න අර පාරෙ ඉන්නෙ" අසල වූ අතුරු පාරකට අත දිගුකර පෙන්වමින් මම කීවෙමි.

"බොහොම ස්තුතියි මට කළ උදව්වට" කියමින් මම ලොරියේ දොර වසා ඇමුවෙමි.

විවෘත වෙළෙඳපොළ හරහා ඇවිද යනවිට මා දුටු කෑම වර්ග ජීවිතයේ කවරදාකවත් දැක නො තිබුණ හෙයින්, ඒ දර්ශනය මා විස්මයට පත් කළේ ය. රතු පාට තක්කලි ගොඩවල්, ඉරිඟු කඳු, කහපාට කෙසෙල්, කොළපාට කොමඩු යන මේ සියල්ල මහත් චමත්කාරයක් මා තුළ ඇති කරන්නට සමත් වූ අයුරු අදටත් මගේ මතකයේ රැඳී ඇත. තක්කලි ගොඩගසා තිබූ වෙළෙඳසලක් ඉදිරිපිට මම නතර වුණෙමි. එදා මම වෙළෙඳසලේ තිබූ ඉදුණු තක්කලි දැකීමෙන් පළමු වරට තක්කලි

කෑමට මා තුළ හටගත් රුචිය අදටත් එ සේ ම ය. එළවළු සහ පලතුරු ආදිය දෙස මා ඇසිපිල්ලත් නො හෙළා බලා සිටින්න වූ අතර, මගේ ඒ හැසිරීම වෙළෙඳපොළේ සිටි ජනයාට අමුත්තක් වූයෙන් ඔවුහු මා දෙස බලන්නට වූහ. එළවළු ලැල්ල අයිති ගැහැනිය රවා බලමින් මා හුන් තැනට පැමිණියා ය. වෛවාරණ ඇඳුමකින් සැරසී සිටි ඇය, තද වර්ණයකින් යුතු රෙදි කැබැල්ලක් හිස පැලඳ සිටියා ය.

"මොනවද ඕනෑ" ඇය ප්‍රශ්න කළා ය.

"කරුණාකරලා මට මේ ගෙඩි දෙක තුනක් දෙනව ද?" තක්කලි ගොඩ දෙසට ඇඟිල්ල දිගු කරමින් මම ඇසුවෙමි.

"කෝ සල්ලි තියනව ද?"

"සල්ලි නං නෑ, මට හරි බඩගිනි යි."

"පලයං... යන දිහාක ආව මෙතැන" ඇය අතක් මා වෙත උලුක් කරමින් මොර දුන්නා ය.

ඊට මඳක් දුරින් වූ තවත් එළවළු ලැල්ලක් ළඟ නතර වූ මම, පෙර මෙන් ම එහි තිබූ එළවළු දෙස බලා සිටින්නට වීමි.

"මම මෙතැන වෙළඳාමක් කරන්නෙ... මං කැමැති නෑ හිඟන්නො මගෙ එළවළු ලැල්ල ඉස්සරහ ඉන්නවට... හොඳ හිතින් යන්ඩයි කීවෙ." එළවළු ලැල්ල අයිතිකාර ගැහැනිය මා දෙස බලා ගිගුරුවා ය.

මම මගේ මාමා අහමඩ් සොයන බැව් කියමින් එහෙම අයකු ඇය දන්නවාදැයි ඇසුවෙමි. මගේ මාමා ගල්සියාම් නගරයේ සිටින පොහොසත් ව්‍යාපාරියකු වූ බැවින් ගල්සියාම් නගරයේ කවුරුත් ඔහු හඳුනනවා ඇතැ යි මම සිතුවෙමි.

"මිනිස්සුන්ට ගරු සරුවක් ඇති ව කතා කරන්න ඉස්සෙල්ලා ම ඉගෙන ගනින්... කාන්තාරෙ ඉඳල ද කොහෙද ඇවිල්ලා එනවා මෙතැන" එ සේ කියමින් ගැහැනිය මගේ ඇඟට කඩා පැන්නා ය.

"ඒයි, ඔය ළමයට මම කතා කරන්නෙ... මෙහාට ආවනං" මා සිටි තැනට මඳක් නුදුරින් ගොඩනැඟිල්ලක බිත්තියට හේත්තු වී සිටි පුද්ගලයෙක් මෙසේ මා ඇමැතුවේ ය. කිසියම් තැති ගැන්මක් මා තුළ ඇති වී තිබුණ ද මම ඔහු වෙත ගොස් ඔහුට කාරණය පැහැදිලි කෙරුවෙමි. අවුරුදු තිහක් පමණ වයසැති ඒ පුද්ගලයා සාමාන්‍ය අප්‍රිකානු මනුස්සයකු වූ අතර, ඔහු ගේ මුහුණේ හි කිසියම් ප්‍රියමනාප බවක් තිබෙන බැව් මම දුටුවෙමි. "මට පුළුවන් මේ ළමයට උදව් කරන්න... ඔය හම්බු

වෙන හැම කෙනාට ම ඔය ළමයගෙ ගෝත්‍රය ගැන කිය කියා යන එක එ තරම් නුවණට හුරු වැඩක් නෙමෙ" ඔහු කීවේ ය.

"ඔය ළමයා මොන ගෝත්‍රයකින් එන කෙනෙක් ද?" ඔහු ප්‍රශ්න කළේ ය.

මගේ පවුල ගැන සහ අහමඩ් මාමා ගැන දැනගෙන සිටි හැම දෙයක් ම මම ඔහුට කීවෙමි.

"හරි මම හිතන්නෙ ඔය කියන පුද්ගලය ව මම දන්නවා... එන්ඩ මාත් එක්ක."

"ඇත්ත ද? අනේ එහෙනං කරුණාකරලා මාව මාමලා ගෙ ගෙදරට එක්ක යන්න" මම බැගෑපත් වීමි.

දෙ පසෙ හි ගස් වැවී ඇති මාවතක් දිග ඔහු මා එක්කරගෙන ගොස් එක්තරා නිවසක් ඉදිරිපිට නතර වී මෙසේ ඇසුවේ ය. "ඔය ළමයට බඩගිනි ද?"

මගේ පෙනුමෙන් මා කුසගින්නේ සිටින බව දැන ගැනීමට කෙනකුට දෙ වරක් මා දෙස බැලිය යුතු නැත.

"ඔව්" මම පිළිතුරු දුනිමි.

"මේ තියෙන්නෙ මගෙ ගෙදර... යමු ඇතුළට... මම ඔය ළමයට කන්ඩ මොනවා හරි දෙන්නම්... ඊට පස්සෙ ඔය ළමයගෙ මාම ඉන්න තැන මම පෙන්නන්නං."

ඔහු ගේ ආරාධනය මම මහත් ගෞරවයෙන් පිළිගත්තෙමි.

ඔහු ගේ නිවසට ඇතුළු වූ විගස මීට පෙර කිසිදින මා දැන නොසිටි කිසියම් සුවඳක් මට දැනෙන්නට විය. මට වාඩිවෙන ලෙස දැන් වූ මෙහෙතෙම, ගෙතුළට ගොස් කෑම පිඟානක් රැගෙන විත් මා හට දුන්නේ ය. මා කෑම අනුභව කොට අවසන් වූ වහා ම ඔහු මට මෙසේ කීවේ ය. "එන්ඩ මාත් එක්ක පොඩ්ඩක් ඇලවෙන්න."

"නිදාගන්න?"

"ඔව් ඔව් ඔය ළමයට මහන්සිත් ඇති නෙ... පොඩ්ඩක් ගිමන් හරින්න."

"අනේ මට ඕනැ ඉක්මනින් මගෙ මාම ව හොයා ගන්න යි."

"මම දන්නවා... ඒ වුණාට මේ වෙලාවෙ කවුරුත් විවේකයෙන් ඉන්න වෙලාව*."

---

*ඇඩ් උශ්ණාධික - අප්‍රිකානු සහ අරාබි රටවල මධ්‍යාහ්නයේ ගිමන් හරින වෙලාවයි. මේ කාලය තුළ කඩ සාප්පු සියල්ල ම වසනු ලැබේ.

"හරි හරි මම ඔයා ව මාම ගාවට එක්කගෙන යන්නම්."

"එහෙනම් ඔබ නිදාගන්න... ඇහැරෙන කල් මම මෙතැන ඉන්නං... මට ප්‍රශ්නයක් නෑ."

ඇත්තෙන් ම එය මධ්‍යාහ්නය වූයෙන් කවුරුත් විවේක ගන්නා කාලය බැව් මම දැන සිටියත්, මේ ආගන්තුක මනුස්සයාත් සමග ඇලවෙන්නට මට කිසියම් වුවමනාවක් නො වී ය. එ මෙන් ම ඇති වේගෙන එන වාතාවරණය එ තරම් සුබදායක නො වන බව ද මට වැටැහිණි. එතකුදු අසරණ තත්ත්වයකට පත් ව සිටි මා හට කළ යුතු දැ කුමක් ද යන්න තීරණයක් ගැනීමට ද ශක්තියක් නො වී ය.

"මේ ඇහුණ ද... උඹට මාම ව හොයා ගන්න ඕනැ නං ඇවිත් මෙතැනින් පොඩ්ඩක් ඇලවෙයන්..." ඔහු තරමක කේන්තියෙන් කීවේ ය.

මට මගේ මාමා පදිංචි ව සිටින ස්ථානය සොයා ගැනීමට මේ මනුස්සයා ගේ උපකාරය අවැසි බැව් මම පසක් කළෙමි. ඒ වනවිට මේ මනුස්සයා තමා සමග පැදුරේ පසෙකින් ඇලවෙන ලෙස මට බල කරන්නට විය. අවසානයේ දී මා විසින් නො කළ යුතු ව තිබූ භයානක ම දේ කරන්නට මම තීරණය කළෙමි. මම ඔහු අසලින් පැදුරේ ඇල වුණෙමි. විවේකයක් ගැනීම කෙසේ වුවත්, තත්පරයක කාලයක් හෝ ඉක්ම යන්නට පෙර ඔහු මගේ ඇඟට ගොඩ වන්නට විය. මම නැගී සිටින්නට උත්සාහ කරත් ම ඔහු මගේ හිසට වේගයෙන් පහරක් එල්ල කළේ ය. වචනයකුදු කතා නො කර අවස්ථාවෙන් ප්‍රයෝජන ගත් මම, ඔහු ගේ අත යටින් රිංගා එ තැනින් පැන දිව්වෙමි. මා පැන දිව යන අතර, මට ආපසු එන ලෙස කියමින් කෑ ගසන හඬ ඇසෙන්නට විය.

පාර දෙ පස වැවී තිබුණ ගස්වල සෙවණැල්ලෙන් අඳුරු වී ගොස් තිබූ මහ පාරට පැමිණි මා, හඬමින් ආරක්ෂාවක් පතා ජනයා ගැවැසෙන වෙළෙඳපොළ දෙසට පිය නගන්නට වීමි. "මොකද බබා අඬන්නෙ" අවුරුදු 60 ක් පමණ වයසැති ගැහැනියක් මා වෙත පැමිණ ප්‍රශ්න කළා ය. අනතුරු ව ඇය මගේ අතින් අල්ලාගෙන ඇගේ කඩය වෙත කැඳවාගෙන ගොස් පුටුවක් පෙන්වා මට වාඩිවෙන ලෙස පවසා, කුමක් නිසා අඬන්නේදැ යි මගෙන් ඇසුවා ය.

එහෙත්, මට සිදු වූ අකරතැබ්බය ගැන ඇයට පවසන්නට තරම් මට මගේ හිත එකග කර ගැනීමට නො හැකි විය. නන්නාඳුනන මනුස්සයකු ගේ කීම අසා ඔහු ගේ නිවසට යාමෙන් මා කළ මෝඩකම ඒ මොහොතේ මට මොනවට පැහැදිලි විය.

"මම මගේ මාම ගෙ නිවස සොයනවා" ඉකිබිඳිමින් මගේ අරමුණ මම ඇයට කියා සිටියෙමි.

"කවුද ඔයාගෙ මාමා... මොකක් ද මාම ගෙ නම" ඇය ඉතා කරුණාවන්ත ව ඇසුවා ය.

"අහමඩ් ඩයිරි" මම පිළිතුරු දුනිමි.

"ආ එයා ද... ආන් අර පේන නිල්පාට ගෙදර තමයි එයා ඉන්නෙ" එකවර ම නැඟී සිටි ඇය, අත දිගු කර පාරෙන් අනෙක් පැත්තේ වූ නිවසක් පෙන්වමින් කීවා ය.

අර වනචරයාට මා බැගෑපත් වූයේ මේ අතේ දුරින් වූ නිවස සොයා දෙන ලෙස නො වේ දැ යි මට ඒ මොහොතේ කල්පනා විය. ඇත්තෙන් ම ඔහුට මගේ කතාව කීමෙන් පසු ව හෙතෙම මගේ මාමා ව පමණක් නො ව මා ගැන ද ඔහු දැන සිටියා විය යුතු යයි පසු ව මට කල්පනා විය.

මාමා ගේ නිවසට ඇරලවන්නට එන්ඩදැ යි මහලු ගැහැනිය මගෙන් ඇසුවා ය. ඒ වනවිට කිසිවකු විශ්වාස නො කරන තත්ත්වයකට පත් ව සිටි මා ඇය දෙස ඔරවා බැලුවෙමි. එ නමුදු ඇය වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ම මැණික කෙනකු බැව් පසු ව මට අවබෝධ විය.

"එහෙනං මාව මාම ගෙ ගෙදරට ඇරලවන්න" මම හදපිරි කරුණාවෙන් යුතු ව කියා සිටියෙමි.

ඇය, මා මගේ මාම ගේ නිවස වෙත රැගෙන ගියා ය. මම නිල් පාට නිවසේ දොරට තට්ටු කළෙමි. එකවර ම මගේ නැන්දා පැමිණ දොර ඇරියා ය. මහලු ගැහැනිය මා ඇරලවා පාර පැන යන්නට ගියා ය.

"වාරිස්... ඔයා මොනව ද මෙහෙ කරන්නෙ?" නො සිතූ මොහොතක මා දැකීමෙන් මවිතයට පත් වූ මගේ නැන්දා ප්‍රශ්න කළා ය.

"මම මෙහෙට ආවා" මම පිළිතුරු දුනිමි.

"දෙවියන්ගෙ නාමයෙන් ඔයා මොනව ද මෙහෙ කරන්නෙ... ගෙදරින් පැනලා ආවා නේද?"

"දැන් ඉතින් කරන්න තියෙන්නෙ ඔයා ආපහු ගෙදරට ඇරලවන එකයි" ඇය ස්ථිරව ම කීවා ය.

මගේ පියා ගේ සහෝදරයා වන මගේ මාමා අහමඩ් ද සිය බිරිඳ මෙන් ම මා දැකීමෙන් මවිතයට පත් වූ අතර, ඔහු ගේ නිවස සොයා

ගන්නට මා සමත් වීම ගැන ඔවුහු පුදුමයට පත්වූහ. මා පැමිණි දිගු ගමනේ දී ලොරි රියැදුරකු ගේ ග්‍රහණයෙන් බේරුණු අයුරු පමණක් නොව මාමා ගේ අසල්වැසියකු වූ කාමාතුරයකුගෙන් බේරුණ ආකාරය ගැන ද මම ඔහුට විස්තර කළෙමි. කාන්තාරය හරහා මෙ වැනි භයානක, එ මෙන් ම දිගු ගමනක් එන්නට මා සතු වූ හැකියාව මාමා අගය කළ ද, මා සිය නිවසේ නතර කර ගැනීමට නම් ඔහු අකැමැති විය. වසර ගණනාවක් පුරා ඔහු ගේ බැටළුවන් සහ ඔටුවන් බලා කියා ගත්තේ මා බැවින් ඉදිරියට ඔවුන් බලා ගන්නේ කවුරුන් ද යන ප්‍රශ්නය ඔහු ගේ එම තීරණයට බලපෑවේ ය. වසර ගණනාවක් පුරා ඔහුට අයත් සතුන් බලා ගැනීම සඳහා මා හට ලැබුණේ රබර් සෙරෙප්පු ජෝඩුවක් පමණි. මේ වනවිට මගේ වැඩිමහල් සහෝදර සහෝදරියන් නිවස හැර ගොස් සිටි අතර, එ වැනි කටයුත්තක් කිරීමට හැකි අයකු වශයෙන් නිවසේ ඉතිරි ව සිටියේ මා පමණි. "ඔයාට මෙහෙ ඉන්න බෑ... ඔයා ආපහු ගෙදර යන්න ඕනෑ... අනෙක කවුද අම්මට යි තාත්තට යි උදව්වට ඉන්නෙ... ඇරත් ඔයා මෙහෙ ඉඳන් මොනවා කරන්න ද?"

අවාසනාවකට මෙන් ඔහු ගේ ප්‍රශ්නවලට දෙන්නට තරම් පිළිතුරු මා සතු නො වී ය. මා නිවසින් පැන ආවේ අන් කිසිවක් නිසා නො ව මගේ පියා මා මහලු මිනිසකුට සරණ පාවා දෙන්නට සූදානම් වූ නිසා බැව් මාමාට කීමෙන් පලක් නො වන බව මම තේරුම් ගතිමි. "ඇහුණ ද වාරිස් ඔයාට තියෙන්නෙ ඔයගොල්ලන්ගෙ තාත්තා යෝජනා කරපු කසාදය කරගන්න... මොකද ඔයගොල්ලන් ගෙ තාත්තට ඔටුවො ලබා ගන්නට වුවමනා යි" ඔහු මා දෙස තීව්‍ර බැල්මක් හෙළමින් කීවේ ය.

අහමඩ් මාමා ගේ පුතුන් දෙදෙනා ඔවුන් ගේ පාසල් නිවාඩු කාලයට පැමිණ අපත් සමඟ නිවාඩුව ගතකොට යන්නට පුරුදු ව සිටියෙන්, මම ඔවුන් දෙදෙනා ව ඉතා සමීප ව දැන හැඳිනගෙන සිටියෙමි. ඒ සෑම අවස්ථාවක ම ඔවුන් දෙදෙනා අපට සෝමාලි වචන කීපය බැගින් කියා දුන් අතර, සතුන් බලා කියා ගැනීමට ද උදව් කරන්නට පුරුදු ව සිටියේ ය. නගරයේ පාසල්වලට යන ළමුන් නිවාඩු සමයේ දී කාන්තාරයේ වෙසෙන අප වැනි එඬේර පවුල් වෙත පැමිණ අපට යමක් කියා දීම එකල සෝමාලියාවේ චාරිත්‍රයක් විය.

මා නිවසින් පලා අවුත් ගල්කියාෆ් නගරයේ අහමඩ් මාමා ගේ නිවසේ රැඳී සිටි දිනවල මගේ මෙම ඥාති සහෝදරයන් දෙදෙනාගෙන් මට ඉතා වැදගත් කරුණක් දැන ගැනීමට ලැබුණි. එ නම් කලකට පෙර අප නිවසින් පලා ගිය මගේ වැඩිමහල් සොහොයුරිය අමන් ගැන විස්තර ඔවුන් දැන සිටීම යි. අමන් විවාහ වී මොගඩිෂු නගරයේ පදිංචි ව සිටින

බැව් ඔවුහු මට කීහ. අමන් නිවසින් පලා ගිය දින සිට මේ දක්වා ඇය ගැන කිසියම් හෝ තොරතුරක් නො දැන සිටි මට, මෙම ප්‍රවෘත්තිය මා හට ඉමහත් සතුටක් ගෙන දුන්නේ ය. මගේ දෙමව්පියන් අමන් ගැන විස්තර දැන සිටින බව සමහර අවස්ථාවල ඔවුන් ගේ කතා බහවලින් මම තේරුම් ගෙන සිටියත් ඇයට නැවත ගෙදර ඒම තහනම් කර තිබූ බැවින් ඔවුහු ඇය ගැන කතා නො කළහ.

මගේ පියා මා සොයාගෙන එන බැව් දැනගත් වහා ම මම කළ යුතු දෑ තීරණය කළෙමි. මොගඩිෂු නගරයට ගොස් අමන් සොයා ගන්නට අවශ්‍ය සියලු ම මාර්ගෝපදේශකත්වය මගේ ඥාති සහෝදරයින් දෙදෙනාගෙන් මම ලබා ගතිමි. එක් උදෑසනක ඔවුන් දෙදෙනා මා නගරයෙන් තරමක් දුර ස්ථානයකට කැඳවාගෙන ගොස්, ඔවුන් අත තිබූ සුළු මුදල ද මා අත තබා යා යුතු දිසාව ද පෙන්වා දුන්හ.

"අපේ තාත්තා මාව හොයාගෙන ඔයගොල්ලන්ගෙ ගෙදරට ආවා ම මා ගැන කිසි ම ආරංචියක් දෙන්ඩ එහෙම එපා... අන්තිමට ඔය දෙන්නා මාව දැක්කේ අද උදේ ගෙදරදි එච්චරයි... ඇහුණ ද?" ඔවුන් දෙදෙනා හිස වනා මගේ ඉල්ලීම අනුමත කරමින් මට යන්නට සමු දුන්හ.

මොගඩිෂු දක්වා ගිය ගමන ඇත්තෙන් ම මන්දගාමී ගමනක් විය. ඒ සඳහා දින කීපයක් ම ගත වූ අතර, මගේ ඥාති සහෝදරයින් දෙදෙනා දුන් සුළු මුදල මා අත වූයෙන්, මගදී කෑමට කිසිවක් මිල දී ගන්නට හැකි විය. බොහෝ විට රථවාහනවලින් ගමන් කරන්නට ලැබුණේ කෙටි දුර ප්‍රමාණයන් වූ බැවින්, ඒ අතරතුර සැතැපුම් ගණනාවක් මම පයින් ගමන් කළෙමි. මේ ආකාරයෙන් මෙතෙක් මගේ ගමන අතිශයින් ම මන්දගාමී වීම නිසා මා තුළ කිසියම් කලකිරීමක් ඇති වූයෙන් අවසානයේ දී මුදල් ගෙවා මිනිසුන් ප්‍රවාහනය කරන ලොරියක ගමන් කරන්නට මම තීරණය කළෙමි. මහජනයා ප්‍රවාහනය කිරීම සඳහා යොදවා ඇති එ වැනි ලොරි සෝමාලියාව තුළ ඉතා ප්‍රචලිත ප්‍රවාහන ක්‍රමයකි. පළමුවෙන් ම ඉරිඟු, උක්දඬු ආදිය පිරවීමෙන් පසු එයට ඈඳා ඇති ට්‍රේලරයට මගීන් තිස්පහක් හතළිහක් පමණ ගොඩ කරගනු ලැබේ. ට්‍රේලරය වටා ලී වැටක් සවි කර ඇති අතර, මගීහු එම ලී වැටට හේත්තු වී ගමන් කළෝ ය. මහජනයා ප්‍රවාහනය කිරීම සඳහා යොදවා ඇති මෙ වැනි ලොරිවලට මගීන් පමණක් නො ව එළුවන්, කුකුළන්, ගෘහ භාණ්ඩ ආදිය ද පටවනු ලැබේ. මීට පෙර මා ගල්සියාඕ දක්වා පැමිණි ගමනේ දී ලත් අමිහිරි අත්දැකීම් නිසා තනි පුද්ගලයකු හෝ පුද්ගලයින් දෙදනකු හෝ සිටින වාහනයක ගමන් කරනවාට වඩා මෙ වැනි ජනයාගෙන් පිරි ලොරියක ගමන් කිරීම ආරක්ෂා සහිත බැව් මම වටහා ගතිමි. අවසානයේ දී මොගඩිෂු නගර

ආසන්නයට පැමිණි ලොරිය මහ මාර්ගය අයිනේ වූ ළිඳක් අසල නතර කළේ ය. අනතුරු ව සියලු ම මගීන්ට රථයෙන් බසින ලෙස රියැදුරා අණ කළේ ය. මම ද ළිඳ වෙත ගොස් අත්ලට පුරවා ගත් වතුර උගුරු කිපයක් පානය කොට මුහුණ ද වතුරෙන් දොවා ගත්තෙමි. ලක්ෂ හතක් පමණ ජනගහනයක් ඇති මොගඩිෂු නගරය විශාල නගරයක් වූ බැවින් නොයෙකුත් දිසාවන්ට විහිදී ගිය මාර්ග මා ඉදිරිපිට පෙනෙන්නට විය. ඔටුවන් දෙදෙනකුත් සමඟ පාර අයිනේ සිටි එඬේරුන් දෙදෙනකු අසලට ගිය මම මොගඩිෂු නගරයට යන මාර්ගය ගැන විමසුවෙමි. "ආ නගරයට යන පාර ද... ඔය තියෙන්නෙ" ඔවුන් දෙදෙනාගෙන් එක් එඬේරකු එක්තරා මාර්ගයකට අත දිගු කරමින් කීවේ ය. එඬේරා විසින් පෙන්වන ලද මාර්ගය දිගේ නගරය දෙසට මම පා නැගුවෙමි.

ඉන්දියන් සාගරයට මුහුණ ලා පිහිටි මොගඩිෂු නගරයේ වරායක් ද විය. එවකට මොගඩිෂු නගරය අලංකාර නගරයක් වූ අතර, එහි වූ සුදු හුණු ගෑ ගොඩනැගිලි වටා වූ තල්ගස් සහ මල් ගොමු සිත් කා වදින දර්ශනයකි. සෝමාලියාව වරෙක ඉතාලිය යටතේ පාලනය වූ කොලනියක් වූයෙන් බොහොමයක් ගොඩනැගිලි ඉතාලි ගෘහ නිර්මාණ ශිල්පයට අනුව, ගොඩනගා තිබූ අතර, එයින් නගරයට මධ්‍යධරණී මුහුදුකරය අවට රටවල්වල ආභාසයක් ලැබී තිබුණි. බොහොමයක් මුස්ලිම් කාන්තාවන් වර්ණවත් රෙද්දකින් හිස සහ මුහුණ ද වසාගෙන සිටිනු මම දුටුවෙමි.

මගේ සහෝදරිය වන අමන් ගේ ලිපිනය මතු නො ව අඩු ම තරමින් ඇය පදිංචි ව සිටින පාරේ නමවත් මම දැන නො සිටියෙමි. එහෙයින් ගල්සියාඕ නගරයට ගොස් අහමඩ් මාමා ගේ නිවස සොයා ගත් විධි ක්‍රමය මම මෙහි දී ද අනුගමනය කළෙමි. ඒ අනුව පළමුවෙන් ම නගරයේ වූ වෙළෙඳපොළ සොයාගෙන ගොස් එහි දී අමන් ගැන විපරම් කරන්නට තීරණය කළෙමි. එහෙත්, මේ වතාවේ දී නන්නාඳුනන මිනිසුන්ගෙන් ප්‍රවේසම් වීමට ද මම වග බලා ගත්තෙමි.

මගේ ඥාති සහෝදරයන් දෙදෙනා විසින් විස්තර කරන ලද ආකාරයට අමන් පදිංචි වී සිටින ප්‍රදේශයේ වූ වෙළෙඳපොළ වෙත මම ගියෙමි. වෙළෙඳපොළේ තිබූ නොයෙකුත් කෑම වර්ග දෙස බලමින් යන අතර, මා ළඟ ඉතිරි ව ඇති අවසාන සෝමාලි සිලිමෙන් කුමක් මිල දී ගත යුතුදැ යි මම කල්පනා කළෙමි. අවසානයේ දී ඉතා ලාභයට කිරි අලෙවි කරමින් සිටි ගැහැනියකුට අයත් වූ කුඩා කඩයකින් කිරි මිල දී ගත්තෙමි. එහෙත්, පළමුවෙනි කිරි උගුර මුවට ගත් වහා ම පිරිසිදු කිරිවල තිබිය යුතු රසය වෙනුවට වෙනත් අමුතු රසයක් එහි ඇති බව මට දැනෙන්නට විය.

"මේ කිරිවල මොකක්දෝ අමුත්තක් තියෙනවනෙ" මම ගැහැනියට වෙනට නැඹුරු වී පැවසුවෙමි.

"නෑ නෑ එහෙම මොකුත් නෑ" ගැහැනිය පෙරළා පිළිතුරු දුන්නා ය.

"මේ මේ කිරි ගැන මට කියන්න එන්න එපා... මොක නැතත් මම දන්නවා නියම කිරිවල රසය... ඔහේ කිරිවලට වතුර කලවම් කළා නේද?"

කිරිවලින් ලාභයක් උපයා ගැනීමට එයට වතුර කලවම් කර ඇති බැව් අවසානයේ දී ගැහැනිය පිළි ගත්තා ය.

කිරි ගැන තවදුරටත් කතා කරන්නට නො ගොස් මම මොගඩිෂු නගරයට පැමිණි කාරණය ඇයට පැහැදිලි කරමින් මගේ සහෝදරිය අමන් ගැන අසා සිටියෙමි. "ඔව් ඔව්... ඔය ළමය ව දැක්ක ගමන් ම මම හිතුව අමන්ගෙ කවුරු හරි වෙන්නට ඕනෙ කියල" ගැහැනිය කීවාය.

එ වදන් ඇසීමෙන් මට එකවර ම සිනහා ගියේ අන් කිසිවක් නිසා නො ව, කුඩා වියේ දී අප දෙදෙනා තිවුන්නු තරමට පෙනුමෙන් එක හා සමාන ව සිටි බැවිනි. අමන් බඩු ගන්නට නිතර වෙළෙඳපොළට එන බැවින් ගැහැනිය ඇය ව හොඳින් දැන සිටියා ය. ගැහැනිය සිය පුතාට කතා කොට මා අමන් ගේ නිවසට ඇරලවා ඉක්මනින් ආපසු එන ලෙස කීවා ය.

හිරු මුදුන් වී තිබුණ ඒ වේලාව සෝමාලියාවේ කවුරුත් පාහේ විවේක ගන්නා වේලාව වූ බැවින් නගරයේ ජනයා ද එ තරම් දක්නට නො වී ය. කිරි වෙළෙන්දිය ගේ පුතා මා කැටුව ගොස් මා හට කුඩා නිවසක් පෙන්වා ආපසු යන්නට ගියේ ය. කොලුවා පෙන්වූ කුඩා නිවස තුළට මා යන විට මගේ සොයුරිය අමන් නිදාගෙන සිටියා ය. මම ඇය ව කීද්දුවෙමි.

"වාරිස්... ඔයා මොකද මෙහෙ" සිහිනයක් දකිමින් සිට අවදි වූවකු මෙන් ඇය මා දෙස බලා ඇසුවා ය. අමන් නිදාගෙන සිටි ඇඳේ කොනක වාඩි වූ මම මීට වසර කීපයකට පෙර ඇය නිවසින් පැන ගිය ආකාරයට ම මා ද පැන ආ බවත්, ඊට හේතුවත් ඇයට කීවෙමි. ඇත්තෙන් ම මා වැටී සිටි තත්ත්වය තේරුම් ගන්නට හැකි මා දන්නා අයකු සමග කතා කරන්නට ලැබීම මට මහත් අස්වැසිල්ලක් විය. මගේ පියා ගේ වාසිය තකා එ වකට දහතුන් වැනි වියේ සිටි මා මහලු මිනිහකුට කරකාර බන්ඳා දීමට විරුද්ධ ව මා ගත් තීරණයේ නිවැරදිභාවය ඇය නිසැකයෙන් ම වටහා ගනු ඇත.

අමන් මොගඩිෂු නගරයට පැමිණි අයුරුත්, ඇය සිය ස්වාමිපුරුෂයා දැන හැඳිනගත් අයුරුත් මට කීවා ය. ඇය ගේ ස්වාමිපුරුෂයා ඉතා නිස්කලංක පුද්ගලයකු වූ අතර, ඒ වනවිට අමන් සිය පළමුවෙනි දරුවා ප්‍රසූත කිරීමට ආසන්න ව සිටියා ය. අඩි හයක් පමණ උසැති අමන් රූමත් තරුණියක් වූ අතර, ඇය හිටගත් විට ගැබ්බරින් සිටින බවක් නම් කොහෙත්ම පෙනෙන්නට නො තිබුණි. ඇය කෙතරම් සුරූපී ද යන්න ඒ මොහොතේ මගේ සිතට නැඟුණු අයුරු දැනුදු මට සිහිපත් වේ. මතුයම් දිනක දරුවකු ගේ ගැබ්බරින් සිටින විට මම ද අමන් මෙන් ම සුරූපී ව සිටිනු ඇතැ යි මා තුළ බලාපොරොත්තුවක් හට ගැනිණි.

මඳ වේලාවක් ආ ගිය තොරතුරු කතා කර සිටීමෙන් අනතුරු ව ඇයගෙන් ඇසිය යුතු තීරණාත්මක ප්‍රශ්නය ඇසීමට අවැසි ආත්ම ශක්තිය වඩවා ගැනීමෙන් පසු මම මගේ ප්‍රශ්නය අමන් වෙත ඉදිරිපත් කළෙමි.

"අමන් අනේ මට ආපහු ගෙදර යන්න නං බෑ... මට ඔයත් එක්ක මෙහෙ නවතින්න පුළුවන් ද?"

"ඔයා එහෙනං අම්මගෙ කරපිටට ඔක්කොම වැඩ පටවලා ගෙදරින් පැනලා ආවා නේද?" ඇය ශෝකයෙන් බර ව කියා සිටියා ය.

එ නමුදු මට අවැසි කාලයක් ඇය ගේ නිවසේ නවාතැන් දෙන්නට ඇය එකඟ වූවා ය. කාමර දෙකකින් සමන්විත ඇගේ නිවසේ වූ කුඩා කාමරයේ මම ලැගුම් ගත්තෙමි. අනෙක් කාමරය අමන්ට සහ ස්වාමිපුරුෂයාට ය. අමන් ගේ ස්වාමිපුරුෂයා පාන්දරින් රැකියාවට ගොස් දවල් ආහාර සඳහා නැවත නිවසට පැමිණ ආහාර ගැනීමෙන් අනතුරු ව හෝරාවක් පමණ නිදාගෙන නැවත රැකියාවට යයි. ඒ ගිය විට ඔහු නැවත ගෙදර එන්නේ බොහෝ රෑ බෝ වූවායින් පසු ව ය. එහෙයින්, ඔහු මට මුණ ගැසුණේ කලාතුරකිනි. ඉතා අඩුවෙන් කතා බහ කිරීමට පුරුදු ව සිටි අමන් ගේ ස්වාමිපුරුෂයා නිවාඩු දිනවල නිවසේ රැඳී සිටියත් වැඩි කතා බහක් නො වූයෙන් යටත් පිරිසෙයින් ඔහු ගේ නමවත් මට දැන ගන්නට නො ලැබුණි.

අමන් ඉතා සුරැබුහුටි දියණියක් ප්‍රසූත කළා ය. සිඟිති දියණිය බලා හදා ගන්නට මම අමන්ට උදව් වූයෙමි. ගේ දොර පිරිසිදු කිරීම, රෙදි සේදීම පමණක් නො ව මාරකැට්ටුවට ගොස් ගෙදරට අවැසි බඩු මුට්ටු ද ගෙනැවිත් දුන්නෙමි. බඩු රැගෙන එන්නට මාරකැට්ටුවට යන මම වෙළෙන්දන් සමඟ බඩු මිල දී ගැනීමේ දී කේවල් කිරීමට ද ඉගෙන ගත්තෙමි.

අමන් නිතර ම මහත් සංවේගයකින් අම්මා ව සිහිපත් කළා ය. මා නිවස හැර ඒමෙන් පසු ව සියලු ම වැඩ අම්මා ගේ කරපිටට වැටී ඇති බැව් කියමින් අමන් අවංකව ම අම්මා ගැන දුක් වූවා ය. ඇය අම්මා ගැන කතා කරන්නට වූ සෑම අවස්ථාවක ම අම්මාට මුහුණ දෙන්නට සිදු වී ඇති කටුක වාතාවරණය සම්බන්ධ සම්පූර්ණ වැරැද්ද මගේ කරපිට පැටෙව්වා ය. අම්මාට මුහුණ දෙන්නට සිදු වී ඇති වාතාවරණය ගැන අමන් දුක් වූ සෑම අවස්ථාවක ම මම ද ඇය හා එක් ව ඒ ශෝකය කනගාටුව බෙදා ගතිමි. එහෙත්, කිසිවිටක හෝ ඇය තමන් අම්මා අත හැර නිවසින් පලා ඒම ගැන නම් වචනයකුදු කතා නො කළා ය. දැන් නම් කාගේත් මතකයෙන් ගිලිහී ගොස් ඇති අප කුඩා කාලයේ අමන් සමඟ ගත කළ ඒ සුන්දර අතීතය මා වෙත ගලා එන්නට විය. එ නමුදු වසර පහකට පමණ පෙර අවසාන වශයෙන් මා දුටු දාට වඩා ඇය බෙහෙවින් වෙනස් වී ඇත. එහෙත්, අමන්ට නම් මා තවමත් ඇය තනිකර දමා පැමිණි පුංචි කෙල්ල ම විය. අප දෙදෙනා ස්වරූපයෙන් එක හා සමාන වුව ද පෞරුෂත්වයෙන් සහ ගති පැවැතුම්වලින් අප දෙදෙනා වෙනස් පුද්ගලයන් දෙදෙනකු බැව් මට පැහැදිලි ව ම ප්‍රත්‍යක්ෂ විය. ඇය ගේ අණසකට යට වී ජීවත් වන්නට සිදුවීමෙන් මා තුළ ඇය කෙරෙහි නුරුස්සන ස්වභාවයක් වර්ධනය වන්නට විය. මගේ පියා මා මහලු මිනිසකුට සරණපාවා දෙන්නට සූදානම් වූ අවස්ථාවේ මා නිවසින් පැන ආවේ අන් කිසිවක් නිසා නො ව, මට සහෝදර සහෝදරියන් සඳහා ඉවුම් පිහුම්, රෙදි සේදීම් සහ දරුවන් බලා ගැනීම වැනි දෑ මා සෑමදාමත් කර ඇති බැවින් මේ ජීවිතය තුළ ඊට වඩා යමක් සාක්ෂාත් කර ගැනීමට හැකි නො වේදැයි මට සිතුණ බැවිනි.

ඉරණම විසින් මා හට දායාද කර ඇති තවත් යමක් ඇත්නම් එය සොයා යාමේ අරමුණ ඇති ව එකමත් එක දිනක අමන්ට නො දන්වා මම ඇය ගේ නිවසින් පිටවූයෙමි. ඒ අවස්ථාවේ ගන්නට තිබූ උචිත ම තීරණය එය වූ නමුදු මේ ජීවිතයේ දී නැවතත් කිසි ම දිනක ඇය මට හමු නො වන බවක් ඒ මොහොතේ දී නම් මම සිහිනයකින්වත් නොසිතුවෙමි.

# 7

# මොගඩිෂු



මා අමන් සමග නැවැතී සිටි කාලයේ දී ඇය මා මොගඩිෂු නගරයේ විසූ මගේ නෑදෑයන් බැහැ දැකීමට කැටුව ගියා ය. ඒ ගිය ගමන්වල දී ජීවිතයේ පළමුවරට අම්මා ගේ පාර්ශ්වයේ බොහොමයක් දෙනා දැන හැඳින ගැනීමට අවස්ථාව ලැබිණි. මගේ අම්මා ඇගේ සහෝදරයන් හතර දෙනා සහ සහෝදරියන් හතර දෙනා සමග මොගඩිෂු නගරයේ හැදී වැඩී ඇත.

මොගඩිෂු නගරයේ විසූ කාලයේ මගේ අත්තම්මා දැන හැඳින ගැනීමට මා හට ලැබුණ අවස්ථාව ඇත්තෙන් ම මගේ ජීවිතයේ ඉමහත් ප්‍රශංසනීය අවස්ථාවක් වශයෙන් මම සලකමි. මෙම වගන්තිය ලියන මේ මොහොතේ ඇය අනූ වැනි වියේ පසුවන අතර, එදා ඇය මට මුණ ගැසුණ අවස්ථාවේ ඇය ගේ වයස හැත්තෑවක් විය. අත්තම්මා මගේ අම්මා ගේ කපාපු පළුව ම ය. ඇය තලඑළලු වූ අතර, ඇය කිසිවකුට නොනැමෙන ගති පැවැතුම් ඇති දරදඬු කාන්තාවක් වූවා ය. කාලාන්තරයක් පුරා පොළොව හෑරූ අයකු ගේ මෙන් ඇගේ දෙ අත් රළු විය.

මගේ අත්තම්මා කිසියම් අරාබි රටක හැදුණ වැඩුණ අයකු විය. නිශ්චය වශයෙන් ම ඇය හැදී වැඩුණේ කිනම් අරාබි රටක ද යන්න නම් මම නො දනිමි. ඇය ඉතා සැදැහැවත් මුස්ලිම් භක්තිමතියකු වූ අතර, දිනකට පස් වතාවක් ශුද්ධ වූ මැකා පිහිටි ඉසව්ව දෙස බලාගෙන යාඥා කරන්නට පුරුදු ව සිටියා ය. ඇය නිවසින් පිට ව යන විට

කළු රෙද්දක් හිසේ සිට පාද දක්වා වැසෙන සේ ඇඳගෙන ගියා ය. (මෙම ඇඳුම අරාබි රටවල හඳුන්වන්නේ "බුර්කා" යන නමිනි.)

"අත්තම්මෙ ඔයාට ඔය රෙද්ද ඇතුළෙන් හොඳට පේනව ද... ඔයා දන්නව ද ඔයා ඔය කොහෙද යන්නෙ කියලා" මේ විධියට මා ඇයට විහිළු කළා ය.

"හරි හරි ඔයා ගෙ වැඩක් බලා ගන්න... මේ රෙද්ද විනිවිද පේන රෙද්දක්."

අත්තම්මාත් සමඟ ඇගේ නිවසේ ගත කළ කාලය තුළ දී මගේ අම්මා සතු වූ නො සැලෙන ධෛර්යය ඇයට ලැබුණේ කෙසේදැයි සැක හැර මම දැන ගතිමි. මගේ සීයා බොහෝ කලකට පෙර මිය පරලොව යාමෙන් පසු අත්තම්මා සියලු ම වැඩ කටයුතු කර ගනිමින් හුදකලා ව ජීවත් වී ඇත. උදෑසන අවදි වන ඇය ඇඳ පැලඳගෙන මට ද ඇඳ පැලඳගෙන ඇය හා යන්නට එන ලෙස බල කරයි.

"ඉක්මනට එන්න වාරිස් පරක්කු වුණා."

මගේ අත්තම්මා පදිංචි ව සිටියේ මොගඩිෂු නගරයේ එක් කෙළවරක වූ බැවින් වෙළෙඳපොළට එහි සිට සැලැකිය යුතු දුරක් තිබුණි. සෑම දිනක ම බඩු ගෙන එන්නට අපි වෙළෙඳපොළට ගියෙමු.

"අනේ අත්තම්මෙ ඔච්චර දුරක් පයින් යන්න නං බෑ... අව්වත් සැරයි. අපි බස් එකේ යමුකො." වෙළෙඳපොළට යන්නට පෙර මම මෙසේ ඇයට බැගෑපත් වෙමි.

"මොනවා... ඔයා වගේ තරුණ ගෑනු ළමයකුට පයින් යන්න බෑ... අනේ මන්දා දැන් හැදෙන ළමයින්ට මොනවා වෙලා ද කියලා... ඇහුණ ද වාරිස් මම ඔයාගෙ වයසෙදි හැතැප්ම ගණන් පයින් ගිහිල්ලා තියෙනවා... වාරිස් ඔයා එනව ද නැත්ද?"

මා අදිමදි කෙරුවහොත් ඇය තනියම වෙළෙඳපොළට යන බැවින්, මම ඇය සමඟ පයින් ම යන්නට එකඟ වෙමි. ආපසු එනවිට බඩු මලු ද රැගෙන පයින් එන ගමන ඇත්තෙන් ම දුෂ්කර ගමනක් විය.

මා මොගඩිෂු නගරය හැර යාමෙන් පසු ව මගේ අම්මා ගේ එක් සහෝදරියක් සිය දරුවන් නව දෙනා මෙ ලොව තනිකර මිය පරලොව ගිය බව දැන ගන්නට ලැබුණි. ඇය ගේ වියෝවෙන් පසු අත්තම්මා ඒ දරුවන් නව දෙනා තමන් ගේ දරුවන් මෙන් බලා ගත්තා ය.

මගේ අම්මා ගේ එක සහෝදරයකු ද එහි දී මට දැන හැඳින ගැනීමට ලැබුණි. දිනක් මා තනිව ම වෙළෙඳපොළට ගොස් ආපසු එනවිට මෙතෙක් මා දැක නො තිබුණ මගේ මාමා වොල්ඩෙබ් ඔහු ගේ එක් දරුවකු ද උකුලේ තබාගෙන අත්තම්මා ගේ නිවසේ සිටිනු මම දුටුවෙමි. මගේ අම්මා ගේ හැඩ රුව තිබූ ඒ මාමා ළඟට ඔහු දුටු සැණින් මම දිව ගියෙමි. මට ද අම්මා ගේ හැඩ රුව පිහිටා තිබුණෙන් ඇත්තෙන් ම ඒ හමුවීම එක අතකින් ප්‍රීතිමත් හමුවීමක් මෙන් ම අනෙක් අතට අරුම පුදුම හමුවීමක් ද විය. ගෙදරින් පලා අවුත් මා මොගඩිෂු නගරයේ සිටින බව ඒ වනවිටත් මාමා දැන සිටියේ ය.

"මම හිතාගෙන හිටපු කෙල්ල ද මේ" එකවර ම ඔහු ඇසුවේ ය.

මා ගෙදරින් පැන ආ පසු එ දින තරම් මා සිනාසුණු තවත් දිනක් නම් නැත. එ මතු ද නො ව වොල්ඩෙබ් මාමාට මගේ අම්මා ගේ හැඩරුව පමණක් නො ව ඇගේ සිනහ උපදවනසුලු කතා විලාසය ද පිහිටා තිබුණේ ය.

අමන් ගේ නිවස අත හැර මම ගියේ මගේ නැන්දා කෙනකු වූ ලුලුල් නැන්දා ගේ නිවසට ය. මොගඩිෂු නගරයට පැමිණ ටික දිනකට පසු ව අමන් සමඟ ලුලුල් නැන්දා ගේ නිවසට එක වතාවක් මා ගොස් තිබුණි. එ දින අමන් ගේ නිවසෙන් පිට වූ මම ලුලුල් නැන්දා ගේ නිවසට ගොස් ඇය ව හමු වී එහි නවතින්නට හැකිදැ යි ඇසීමට තීරණය කළෙමි. ලුලුල් නැන්දා මගේ අම්මා ගේ තවත් සහෝදරයකු වූ සායිඩ් මාමා සමඟ විවාහ වී සිටියා ය. සායිඩ් මාමා රැකියාව කළේ සවුදි අරාබියේ වූ බැවින් ලුලුල් නැන්දාට සිය දරුවන් තිදෙනා තනිව ම රැක බලා ගන්නට සිදු වී තිබුණි. සෝමාලියාව තුන්වෙනි ලෝකයේ දුප්පත් රටක් වූ බැවින් සායිඩ් මාමා සවුදි අරාබියේ සිට රැකියාව කොට ලුලුල් නැන්දාට සහ දරුවන්ට ජීවත්වීම සඳහා මුදල් එව්වේ ය. මා මොගඩිෂු නගරය හැර යන තෙක් ම සායිඩ් මාමා එක වතාවක් හෝ ගෙදර නො පැමිණි බැවින් ඔහු හමුවීමට මට අවස්ථාවක් නො ලැබුණි.

මාගේ පැමිණීමෙන් ලුලුල් නැන්දා විමතියට පත් වුව ද ඇය මා දැකීමෙන් අවංකව ම සතුටු වූවා ය.

"නැන්දෙ අමන් එක්ක මට ඉන්න බෑ... මම තකහනියක් ම නැන්ද ව හොයාගෙන ආවෙ ටික දවසකට මට මෙහෙ නවතින්න පුළුවන් ද කියලා අහන්න."

"ඔයා මෙහෙ ඉන්න... ඒකට ප්‍රශ්නයක් නෑ... සායිඩ් මාමාත් නැති එකේ මට උදව්වටත් එක්ක ඔයා මෙහෙ ඉන්න එක හොඳා."

එ වදන් ඇසීමෙන් මා හට මහත් සැහැල්ලුවක් දැනෙන්නට විය.

අමන් ඇය ගේ නිවසේ මට නවාතැන් දුන්නත් ඒ ගැන ඇය තුළ එ තරම් පැහැදීමක් නො තිබුණි. ඇත්තෙන් ම ඇයට වුවමනා වී තිබුණේ අන් කිසිවක් නො ව වසර කීපයකට පෙර අම්මා ව තනිකර දමා ඒම ගැන ඇයට වධ දෙන ඇය ගේ හෘදය සාක්ෂියෙන් මිදීම සඳහා මා ආපසු හරවා ගෙදර යැවීමට ය.

අමන් ගේ නිවසේත් ලුලුල් නැන්දා ගේ නිවසේත් වාසය කිරීමෙන් ලත් අත්දැකීමෙන් නිවසක් තුළ ජීවත් වීමට මම පුරුදු පුහුණු වූයෙමි. මෙතෙක් මා ජීවත් වූ පරිසරයේ වූ අවකාශය වෙනුවට මෙහි දී මා දුටුවේ නිවසේ සිවිලිමත් මට ඇවිද යන්නට ඇති ඉඩකඩ නිවසේ බිත්තිවලින් අහුරා තිබීමත් නිසා මුල දී නිවසක් තුළ ජීවත් වීම ඇත්තෙන් ම මට නුහුරු නුපුරුදු දෙයක් විය. එ මෙන් ම කාන්තාරයේ වූ පිරිසිදු වාතාශ්‍රය වෙනුවට නගරයේ වූ කැළිකසළවලින් හමන දුර්ගන්ධය මෙන් ම වාහනවලින් පිටවන කාබන් මොනොක්සයිඩ් හේතුවෙන් අපිරිසිදු වූ ජනාකීර්ණ නගරයේ වාතාශ්‍රය ද මට නුපුරුදු අත්දැකීමක් විය. කෙසේ වුව ද ලුලුල් නැන්දා ගේ නිවස අමන් ගේ නිවසට වඩා තරමක් ඉඩකඩ තිබුණ ද එහි ද සැලැකිය යුතු ඉඩ ප්‍රමාණයක් නො වී ය. රාත්‍රියට කාමර උණුසුම් කිරීම වැනි පහසුකම් තිබුණත් බටහිර ලෝකයේ ඇති එ වැනි පහසුකම් දෙස බලන විට ඒ පහසුකම් ඇත්තෙන් ම තිබුණේ ප්‍රාථමික මට්ටමක ය. කාන්තාරයේ හැදී වැඩී ජීවත් වූ අයකු වශයෙන් ජලයේ ඇති වටිනාකම මනා ව දත් මා ජලයට මා තුළ වූයේ මහත් ගෞරවයකි. බූරුවන් බඳින ලද කරත්තවල පටවා ගෙන ජලය අලෙවි කිරීම සඳහා ගෙන ගිය වෙළෙන්දන්ගෙන් අපි ජලය මිල දී ගෙන, ඒ ජලය අපි බැරල්වලට පුරවා පාවිච්චියට ගත්තෙමු. එ සේ මිල දී ගත් ජලය ස්නානය කිරීම, කෑම උයා පිහා ගැනීම, රෙදි සෝදා ගැනීම වැනි අත්‍යවශ්‍ය කර්තව්‍යයන් සඳහා ඉතා ප්‍රවේශමෙන් දිය බිඳක් හෝ අපතේ යා නො දී පාවිච්චි කළෙමු. කෑම උයා පිහා ගැනීම සඳහා ලුලුල් නැන්දා සිය කුඩා කුස්සියේ ගෑස් ලිපක් තබාගෙන සිටියා ය. සැන්දෑ වරුවට නිවසේ වැඩ නිමවා මේසය වටා ඉඳගන්නා අප භූමිතෙල් ලාම්පු එළියෙන් අල්ලාප සල්ලාපයේ යෙදුණෙමු.

ලුලුල් නැන්දා සමඟ මා මුල දී කතිකා කරගත් ප්‍රමාණයට වඩා වැඩ ප්‍රමාණයක් මා හට පැවැරී ඇති බැව් ඇයත් සමඟ පදිංචියට පැමිණ වැඩි කලක් ගත වන්නට පෙර මම තේරුම් ගත්තෙමි. ඇය ගේ දඟකාර දරුවන් තුන්දෙනා ගේ සම්පූර්ණ වැඩ රාජකාරි මා පිට පැවැරිණි.

ඇගේ සිඟිති දරුවා දඟකාර දරුවකු යයි මම නො කියමි. එහෙත්, ඒ දරුවා ගේ හැසිරීම මා විඩාවට පත් කළේ ය.

උදෑසන නවයට අවදි වන ලුලුල් නැන්දා මුහුණ කට සෝදා උදේ කෑම ගැනීමෙන් පසු මහත් ප්‍රීතියෙන් නිවසින් පිට වී ඇගේ මිතුරියන් සොයාගෙන යන්නී ය. එ සේ යන ඇය සිය මිතුරියන් සමඟ එක් වී ඔවුන් ගේ මිතුරන්, නෑදෑයින්, සතුරන් මෙන් ම, අසල්වැසියන් ගැන ද ඕපාදූප කතා කරමින් මුළු දවස ම ගෙවා සැන්දෑවේ නිවස බලා එන්නී ය. ඇය නැති අතර, මාස තුනක් වයසැති ඇගේ සිඟිති දරුවා බඩගිනි වී නොනවත්වා හඬන්නට පටන් ගනී. මා දරුවා අතට ගත් විට ඔහු මගේ කුඩා තනය උරා බොන්නට පටන් ගනී.

"නැන්දෙ දෙවියන්ගෙ නාමෙන් මේ පොඩි දරුවා ගැන පොඩ්ඩක් හිතන්න. මේ ළමයා මගේ තනේ එල්ලෙනවා... අනෙක මා ළඟ ඇති කිරකුත් නෑ... මට උරන්නට දෙන්න තරම් තනයකුත් නෑ."

"ඒ ගැන ඔයා ඔච්චර කලබල වෙන්න එපා... ළමයා අඬනකොට කිරි ටිකක් හදලා දෙන්න" ඇය ඇඟට නො දැනී කියා සිටියා ය.

නිවස පිරිසිදු කිරීම සහ සිඟිති දරුවා බලා ගැනීමට අමතර ව නැන්දා ගේ අනෙක් දරුවන් දෙදෙනා බලා ගැනීම ද මට පැවැරී තිබුණි. නවවෙනි සහ හයවෙනි වියේ පසු වූ ඔවුන් දෙදෙනා ඇත්තෙන් ම යක්ෂ පැටව් දෙදෙනෙක් යයි කිවහොත් එය අතිශයෝක්තියක් නම් නො වන්නේ ය. ඔවුන් දෙදෙනා හැසිරීම යනු කුමක්දැයි අබමල් රේණුවක් තරම්වත් දැන නො සිටියහ. ඔවුන් ගේ මව ඔවුන්ට ඒ වැනි කිසි ම දෙයක් පුරුදු පුහුණු කර නැති බවට කිසි ම සැකයක් නැත. මා ඔවුන්ට පස්ස රත් වන්නට පහර දී හදන්නට උත්සාහ කළත් හයනා වැනි මෘග සතුන් මෙන් හැසිරෙන්නට පුරුදු ව සිටි ඔවුන් එක රැයක් තුළ දී දේවදූතයන් කිරීම ගලෙන් පට්ටා ගන්නට යෑම වැනි ක්‍රියාවක් පමණි.

ක්‍රමයෙන් කාලය ගෙවී යාමත් සමඟ මෙම වාතාවරණය මා තුළ මහත් කලකිරීමක් ඇති කළේ ය. ජීවිතයේ කිසියම් බලාපොරොත්තු තැබිය හැකි යමක් සිදුවන තෙක් තවත් කොපමණ කලක් නම් මේ බලාපොරොත්තු රහිත වාතාවරණය තුළ ලගින්නට වේදැයි මා තුළ පුදුමාකාර හැඟීමක් ඇති විය. මා හොඳින් දැන සිටි ඒ අරුම පුදුම ඉරණම කරා යන්නට අවැසි පියවර ගැනීමටත් මොන බාධකය පැමිණියත් ඒ සෑම අවස්ථාවක ම කිසිවකින් නො සැලී ඉදිරියට ම යන්නටත් මම කටයුතු කළෙමි. සෑම දිනක ම ඒ දිනය උදාවන්නේ කවදාදැ යි මම කල්පනා කළෙමි. මා කළ යුත්තේ කුමක් ද? යා යුත්තේ කොතැනකට ද යන

සිතුවිලි මා තුළ හොල්මන් කරන්නට විය. එ වැනි සිතුවිලි මා තුළ හැ
ගත්තේ මන්දැයි ඇත්තෙන් ම මම නො දනිමි. මෙ වැනි සිතුවිලි සෑ
අයකු තුළ ම පහළ වනු ඇතැ යි එ කල මම අනුමාන කළෙමි. මගේ
මතකයේ හැටියට ඈත දුර අතීතයේ සිට ම එ වකට මා වටා සිටි අය
අයට වඩා මගේ ජීවිතය සම්පූර්ණයෙන් වෙනස් එකක් වන බව මම
දැන සිටියෙමි. එහෙත්, ඒ වෙනස කුමන ආකාරයේ වෙනසක් ද යන්න
නම් මම දැන නො සිටියෙමි.

ලුලුල් නැන්දා ගේ නිවසට පැමිණ මසක් ගත වී ගිය තැන අප ගේ
සම්බන්ධයට කණ කොකා හැඬුවේ ය. දිනක් සවස් වරුවේ ලුලුල් නැන්දා
සුපුරුදු ලෙස අනුන් ගේ ඕපාදූප කතා කිරීමට ඇගේ මිතුරියන් සොයා
ගොස් සිටි අතර, අවුරුදු නවයක් වයසැති ඇගේ දියණිය අතුරුදහන්
විය. නිවස තුළ ඇය නො මැති බව දැන ගත් මම එළියට ගොස් ඇගේ
නම කියා කෑ ගැසුවත් එයට කිසි ම ප්‍රතිචාරයක් නො වී ය. අනතුරු ව
මම ඈ සොයමින් යන විට බෝක්කුවක් තුළ තවත් පිරිමි ළමයකු සමග
ඈ සිටිනවා දුටුවෙමි. සෑම දෙයක් ගැන ම විචිකිච්චාවක් තිබූ ඇය
බෝක්කුව තුළට වී පිරිමි ළමයා ගේ රහස් ප්‍රදේශය අත ගාමින් සිටියා ය.
බෝක්කුව තුළට ගිය මම ඇය ව එළියට ඇදගෙන ආ අතර, පිරිමි ළමයා
බියට පත් සතකු මෙන් එකවර ම නැඟී සිට පැන දිව්වේ ය. ජීවිතයේ
කිසි ම දිනක ළදරුවකු ගැන මා මෙ තරම් කලකිරුණ අවස්ථාවක්
නො වූ අතර, ඇය නිවස වෙත රැගෙන එන අතරමඟ දී මම ඇයට
කෝටුවකින් හොඳට ම තැළුවෙමි.

එ දින සවස ඇගේ මව ගෙදර පැමිණි විගස මා ඇයට නො සෑහෙන්න
කෝටුවකින් තැළූ බව කියමින් ඇය හඬන්නට වූවා ය. දියණිය ගේ
චෝදනාව ඇසූ ලුලුල් නැන්දා තරහෙන් පිපිරෙන්නට විය.

“ඇයි ඔයා මගෙ ළමයට ගැහැව්වෙ” ඇය මගෙ ඇඟට කඩා
පැන්නා ය.

“ආයෙත් එහෙම ඔයා මගෙ චූටි බබාට අත තියලා තිබුණොත්
මම දන්නවා ඔයාට කරන වැඩේ” එ සේ කියමින් ඇය මා අසලට
පැමිණියා ය.

“නැන්දෙ නැන්දා දන්නවනං මම මේ ළමයට ගැහැව්වෙ මොකද
කියලා... නැන්දා මෙහෙම කතා කරන එකක් නෑ... මම දැකපු දේ නැන්දට
දැන ගන්නට ඕනැ නැති එකයි මෙතන තියෙන ප්‍රශ්නෙ... ඇත්තට ම
නැන්දා දන්නව නම් මේ ළමය මම යනකොට කර කර හිටිය දේ
නැන්දා මේ ළමය ව නැන්දගෙ දුවෙක් හැටියට භාර ගන්න එකක් නෑ...

මේ ළමයවනං ලේසියෙන් මට්ටු කරන්න හම්බුවෙන ළමයෙක් නෙමේ... වල් සතෙක් වාගෙ හැදිලා තියෙන්නෙ."

මා දුන් පිළිතුර තඹදොයිතුවකට මායිම් නො කළ ඇය සිය අත උලුක් කරගෙන මට පහර දෙන්නට ඉදිරියට ආවා ය.

"මේ නැන්දෙ... මට අත තිබ්බොත් බලාගෙන යි" මම කෑ ගැසුවෙමි.

එයින් පසු මට පහර දෙන්නට ඇය ඉදිරිපත් නො වූව ද මා මේ නිවසින් පිට වී යා යුතු බැව් මම තේරුම් ගතිමි. එහෙත්, මේ වතාවේ මා කොහේ යන්න ද? කා ළඟට යන්න ද?

මොගඩිෂු නගරයේ වෙසෙන මගේ අම්මා ගේ තවත් සොහොයුරියක් වන සහරු නැන්දා ගේ නිවස වෙත ගොස් මම දොරට තට්ටු කළෙමි. ඇය මා දැකීමෙන් මවිතයට පත් වූවා ය. අනතුරු ව ඇය මට නිවස තුළට එන ලෙස ආරාධනා කළා ය. ඇයට දරුවන් පස්දෙනෙක් සිටියා ය. නැවතත් මා පැමිණ සිටින්නේ පෙර කර්මය ම විඳීමට සිදුවිය හැකි තැනකට නො වේදැ යි මට ඒ අවස්ථාවේ කල්පනා විය. එහෙත්, පික් පොකට් ගැසීම හෝ හිඟා කෑම හෝ ඇරුණුකොට වෙන විකල්පයක් මට තිබේ ද? ලුලුල් නැන්දා ගේ නිවස හැර එන්නට සිදු වූ කාරණා ගැන කතා නො කර සහරු නැන්දා ගේ නිවසේ මට ටික කලක් නවතින්නට හැකිදැ යි මම නැන්දාගෙන් ඇසුවෙමි.

"ප්‍රශ්නයක් නෑ වාරිස් ඔයාට මෙහෙ නවතින්න පුළුවන්... අනෙක ඔයාට ගැළැපෙන යාළුවකුත් මෙහෙ ඉන්නවා.. ඔයාට මොනව හරි කියන්න තියෙනවනං මාත් එක්ක කතා කරන්න." මා පුදුමයට පත් කරමින් ඇය කීවා ය.

මා කිසි විටක නො සිතූ ආකාරයට තත්ත්වය යහපත් අතට හැරී තිබෙනවා නො වේදැ යි මම කල්පනා කළෙමි. මම නැන්දා ගේ ගේ දොර වැඩ කටයුතුවලට උදව් කරන්නට පටන් ගත්තෙමි. ඒ වනවිට ඇගේ වැඩිමහල් දියණිය පාතිමාට අවුරුදු දහඅටක් වූ අතර, ගේ දොර වැඩ කටයුතුවලින් වැඩි කොටස ඇය වෙත පැවැරී තිබුණි.

ඇත්තෙන් ම පාතිමා වහලියක් මෙන් වැඩ කළා ය. සෑම දිනක ම උදෑසන අවදි වී පාසල් යන ඇය දවල් 12 ට පමණ පෙරළා නිවසට පැමිණ දවල් කෑම පිළියෙල කර තබා නැවතත් පාසලට යන්නී ය. නැවතත් සවස හයට පමණ ගෙදර පැමිණෙන ඇය සියලු දෙනාට ම රාත්‍රී කෑම පිසින්නී ය. අනතුරු ව පිඟන් කෝප්ප ආදිය පිරිසිදු කර තබා

බොහෝ රෑ වන තුරු පාඩම් කරන්නී ය. කිසියම් හෝ කරුණක් නිසා සහරු නැන්දා ඇයට සැලකුවේ ඇගේ අනෙක් දරුවන්ට වඩා වෙනස් ආකාරයකට ය. පාතිමා මට මිතුරියකට මෙන් ආදරයෙන් සැලකුවා ය. ඇත්තෙන් ම ඒ අවස්ථාවේ මට එ වැනි මිතුරියක ගේ ළෙන්ගතුකම අවශ්‍ය වී තිබුණි. ඇගේ අම්මා ඇයට සලකන ආකාරය ඇත්තෙන් ම අසාධාරණ යයි මට හැඟුණ වාර බොහෝ ය. කුස්සියේ වැඩවලට මම ඇයට උදව් කළෙමි. ආහාර පිසින්නට මා දැන නො සිටියත් පාතිමා ආහාර පිසින දෙස බලා හිඳ ආහාර පිසින්න ඉගෙන ගන්නට මම උත්සාහ කළෙමි. පළමුවරට මගේ ජීවිතයේ දී නූඩ්ල්ස් අනුභව කළේ සහරු නැන්දා ගේ නිවසේ දී ය. එ දින පාතිමා පිළියෙල කරන ලද නූඩ්ල්ස් අනුභව කරන විට මා දිව්‍යලෝකයේ සිට අමුර්තය වළඳනවා යයි මට සිතුණි.

සහරු නැන්දා ගේ නිවසේ දී වැඩියෙන් ම මා හට පැවැරී තිබුණේ ගේ දොර පිරිසිදු කිරීම ය. මා තරම් ඒ කටයුත්ත කිරීමට දක්ෂ අයකු මීට පෙර නම් සහරු නැන්දාට හමු වී නැතැ යි වරෙක ඇය කීවා ය. දිනපතා ම නිවසක් පිරිසිදු කිරීම ඇත්තෙන් ම ලේසි පහසු කාර්යයක් නො වේ. එහෙත්, විශේෂයෙන් ම පසුගිය මාස කීපය තුළ මා ලද අත්දැකීම්වලට අනුව ගේ දොර පිරිසිදු කිරීම සහ ළමයි බලා ගැනීමට සත්‍ය වශයෙන් ම මම ප්‍රිය කළෙමි.

අම්මාට උදව් පදව් කිරීමට ඇය ළඟ වැඩිමහල් දරුවකු නො මැති බැව් කියමින් අමත් මෙන් ම සහරු නැන්දා ද නිතර ම කනගාටු වූවා ය. සතුන් බලා ගැනීමට මගේ පියා උදව් කළත් ඉවුම් පිහුම්, රෙදි සේදීම්, දරුවන් බලා ගැනීම සහ මලු විවීම වැනි දහසකුත් එකක් වැඩට පියාගෙන් නම් කිසි ම හව්හරණක් නො ලැබෙනු ඇත. නිවසක මෙ වැනි වැඩ කටයුතු ස්ත්‍රී පාර්ශ්වයට අයත් කාර්යයන් වූයෙන්, ඒවා තනිව ම කර ගැනීම ඇත්තෙන් ම අම්මාට අයත් ප්‍රශ්නයකි. එ දින පාන්දර අවසාන වතාවට අඳුර මැදින් අම්මා ගේ මුහුණ දුටු අවස්ථාවේ හුදකලා වූ අම්මාට මුහුණ දීමට ඇති වාතාවරණය ගැන මම ද දරාගත නො හැකි වේදනාවකින් පෙළුණෙමි. ඇය ගැන සිතන හැම මොහොතක ම මා නිවසින් පැන ආ දිනට පෙර දින රාත්‍රියේ ගිනි මැලයේ රත්පැහැ ගැන් වූ ආලෝකය තුළින් මා දුටු අම්මා ගේ විඩාබර මුහුණ නිරන්තරයෙන් මට මැවී පෙනේ. කාන්තාරය පසුකර මොගඩිෂු දක්වා මා පැමිණි දිගු එ මෙන් ම කටුක ගමන පුරා මොහොතකට හෝ අම්මා ගැන නො සිතා සිටින්නට මම අපොහොසත් වීමි. මෙතෙක් මා පැමිණ ඇති ගමනේ නිමාවක් නැතුවා මෙන් ම අම්මාට මුහුණ දෙන්නට සිදු වී ඇති ප්‍රශ්නය විසින් මා තුළ

ඇති වී ඇති මානසික කලබගෑනියට ද පිළිතුරක් නැතිවා සේ ය. කාන්තාරය හරහා ආ ගමනේ මග දී ගසක් පාමුල සිට ගිමන් හරිමින් සිටි මොහොතේ මම අම්මා ගැන මෙසේ සිතුවා මට මතක ය. අප සියලු දෙනා ඇති දැඩි කොට බලා කියා ගත් අම්මා අසරණ ව සිටින මේ මොහොතේ ඇය ව බලා කියා ගන්නේ කවුද?

එහෙත්, දැන් ආපසු යාමෙන් නම් පලක් නො මැත. එ සේ කළහොත් සිදුවන්නේ පසුගිය මාස කීපය පුරා මා වින්ද දුක් කම්කටොලු සියල්ල ම ගඟට කැපූ ඉනි මෙන් අපතේ යාමක් පමණි. මා ආපසු ගියහොත් මගේ පියා නිසැකයෙන් ම නැවතත් කාන්තාරයේ ජීවත් වන ඔටුවන් ඇති මහලු මිනිසකුට මා සරණපාවා දී ඔටුවන් ලබා ගැනීමට උත්සාහ කරනු ඇත. එ මතු ද නො ව විවාහයෙන් පසු ඒ පුද්ගලයාත් සමඟ මා ගිය පසු ඇත්තෙන් ම අම්මා බලා ගැනීමට කිසි ම අවස්ථාවක් ලැබෙන්නේ ද නැත. අම්මා මුහුණ දී සිටින ප්‍රශ්නය තරමක් හෝ නිරාකරණය කර ගැනීම සඳහා කෙසේ හෝ රැකියාවක් කොට මුදල් උපයා ඇයට යැවිය යුතු යැයි දිනක් මම තීරණය කළෙමි. එවිට නිවසේ දෛනික පැවැත්ම සඳහා වුවමනා බඩු බාහිරාදිය මිල දී ගැනීමට හැකිවන හෙයින් ඇයට කරන්නට තිබෙන වැඩ ප්‍රමාණයෙන් කොටසක් අඩු වනු ඇත.

කෙසේ හෝ රැකියාවක් සොයා ගැනීමට තීරණය කළ මම රැකියාවක් සොයා නගරය පුරා ඇවිද්දෙමි. දිනක් නිවසට අවශ්‍ය බඩු කීපයක් රැගෙන ඒම සඳහා සහරු නැන්දා විසින් මා මාරකැට්ටුවට යවන ලදු ව, බඩු රැගෙන ආපසු එන අතරමග දී ගොඩනැගිල්ලක් ඉදි කරමින් සිටින කම්කරු පිරිසක් මම දුටුවෙමි. මම නැවැති ඔවුන් වැඩ කරන දෙස මොහොතක් බලා සිටියෙමි.

"මේ ඇහුණ ද... ඔතන තවත් රැකියා තියෙනව ද?" මම ප්‍රශ්න කළෙමි.

"ඇයි කාට ද?" ගඩොලින් බිත්තියක් බඳිමින් සිටි කම්කරුවෙක් සිනාසෙමින් මගෙන් ප්‍රශ්න කළේ ය.

"මට... මම රස්සාවක් හොයනවා."

"ආහ්... උඹ වගේ කෙට්ටු කෙල්ලකුට මෙතැන දෙන්න රස්සාවක් නෑ... ඇරත් මම හිතන්නෙ නෑ උඹට බිත්ති බඳින්න පුළුවන් කියලා" ඔහු නැවතත් කොක් හඬලා සිනාසෙමින් කීවේ ය.

"ආ... එහෙම කියන්න එපා... අන්න අර අය කරනවා වගේ මටත් ඔය ඕනෑ වැඩක් කරන්න පුළුවන්." සිමෙන්ති අනමින් සිටි පිරිසකට අත දිගු කරමින් මම කියා සිටියෙමි.

"හොඳයි එහෙම නං කවදට ද වැඩට එන්න පුළුවන්."

"හෙට ඉඳලා පුළුවන්" මම ක්ෂණික ව පිළිතුරු දුන්නෙමි.

"එහෙනං හෙට උදේ හයට මෙතෙන්ට එන්න... හොඳයි අපි බලන්න ඔය ළමයට මොනව ද කරන්න පුළුවන් කියලා."

මම ආපසු නො බලා සහරු නැන්දා ගේ නිවස වෙත දිව ගියෙමි.

"නැන්දෙ මම රස්සාවක් හොයා ගත්තා... රස්සාවෙන් හම්බුවෙන සල්ලි එකතු කරලා මම අම්මට යවනවා."

"කොහෙද?" සහරු නැන්දා පුදුමයට පත් ව ඇසුවා ය.

මා වැනි ළමයකු එ වැනි රැකියාවකට තෝරා ගනීවි යයි ඇය කොහෙත් ම විශ්වාස නො කළා ය. එහෙත්, එය සැබෑවක් බැව් මා ස්ථිරව ම කියා සිටින විට මගේ වචනය පිළිගැනීම හැරුණ කොට ඇයට කළ හැකි වෙනත් දෙයක් නො වී ය. ස්ථිර වශයෙන් ම මා හට රැකියාවක් ලැබී ඇති බැව් දැන ගත් සහරු නැන්දා මා මෙතෙක් කරමින් සිටි ගේ දොර වැඩ කටයුතු පසෙක ලා ඇගේ නිවසෙ හි රැඳී සිට රැකියාවට යන්නට මා ගත් තීරණය ගැන ඇය මහත් සේ කිපුණා ය.

"නැන්දෙ මම රස්සාවක් කරන්න යන්නෙ අම්මට මුදල් යවන්න ඕන හන්දා... මුදල් හොයා ගන්න මට මේ රස්සාව හරි වෙන රස්සාවක් හරි කරන්න වෙනවා... ඔයාට තේරෙනව ද?" මම තරමක කේන්තියෙන් කියා සිටියෙමි.

පසුදින උදෑසන මම ගොඩනැගිලි කම්කරු ස්ත්‍රියක් ලෙස මගේ රැකියාව ආරම්භ කළෙමි. ඇත්තෙන් ම එම රැකියාව මා හිතූ තරම් ලේසිපහසු රැකියාවක් නො වී ය. දවස පුරා ම දැරිය නො හැකි තරම් බරැති වැලි පිර වූ බාල්දි ඔසවාගෙන යන්නට සිදුවිය. වැඩ කරන විට පාවිච්චි කරන අත්වැසුම් මා ළඟ නො තිබුණ බැවින් බාල්දිවල යකඩ අල්ලුවට මගේ දෑත් කැපී ගියේ ය. වැඩ අහවර වන විට මගේ දෑත්වල නැගුණ දියපට්ට පුපුරා ගොස් ලේ ගලන්නට විය. වැඩපොළේ කවුරුත් පසුදින මා වැඩට එනැ යි විශ්වාස නො කළෝ ය. එහෙත්, මම පසුදින වැඩට යන්නට අධිෂ්ඨාන කර ගත්තෙමි.

මගේ දෑත්වල වූ තුවාල නිසා ඇඟිලි නවන්නට පවා නො හැකි තත්ත්වයක් උද්ගත වූයෙන් රැකියාව අත්හැර දැමීමට මට සිදුවිය. එහෙත්, ඒ වන විට මම අමෙරිකානු ඩොලර් හැටකට සමාන මුදලක් රැකියාවෙන් හම්බු කරගෙන සිටියෙමි. අම්මාට යවන්නට මුදලක් මා ඉතුරු කරගෙන සිටින බැව් මහත් ආඩම්බරයකින් මම සහරු නැන්දාට කීවෙමි.

සහරු නැන්දා හොඳින් දන්නා කියන පුද්ගලයකු ඇය බැහැ දැකීමට පැමිණි අතර, ඒ පුද්ගලයා සිය පවුලත් සමඟ නැවතත් ඉක්මනින් ම කාන්තාරයට යන්නට සූදානම් ව සිටියේ ය.

"ඔය මනුස්සය මම හොඳට දන්නවා... ප්‍රශ්නයක් නෑ විශ්වාස යි... එයාට ඔය මුදල් ටික දෙන්න, මිනිහා ගෙනිහිල්ලා ඔයාගෙ අම්මට දෙයි" සහරු නැන්දා කීවා ය.

මා දහදිය මහන්සියෙන් හම්බු කර ගත් මුදලෙන් තඹ දොයිතුවක්වත් අම්මාට නො ලැබුණ බව පසු ව මට දැන ගන්නට ලැබුණි.

රැකියාවෙන් අස් වූ දින සිට මම සහරු නැන්දා ගේ ගේ දොර ශුද්ධ පවිත්‍ර කිරීම ආදී වැඩ නැවතත් පටන් ගත්තෙමි. දිනක් මා නිවසේ වැඩ කටයුතු කරමින් සිටින අතර, සම්භාවනීය අමුත්තකු නිවසට පැමිණියේ ය. ඔහු සෝමාලියානු රජය විසින් එංගලන්තයේ සෝමාලියානු තානාපතිවරයා වශයෙන් පත් කර සිටියේ ය. මොහොමඩ් චාමා ෆර්හ නමැති මෙම පුද්ගලයා අන් කිසිවකු නො ව මගේ අම්මා ගේ තවත් සොහොයුරියක් වන මාරියුම් ගේ ස්වාමිපුරුෂයා ය. මා නිවසේ කාමරයක් ශුද්ධ පවිත්‍ර කරමින් සිටි අතර, තානාපතිවරයා සහ සහරු නැන්දා අතර වූ කතා බහ මට හොඳින් ඇසුණේ ය. එංගලන්තයේ සෝමාලියානු තානාපති වශයෙන් ඔහු සෝමාලියානු රජය විසින් පත් කරනු ලැබ ඇති බවත්, වසර හතරක කාලයක් ඔහුට එහි සේවය කළ යුතු ව ඇති බවත්, එහි දී තම නිවසේ වැඩ කටයුතු සඳහා වැඩකාරියක් සොයා ගන්නා අදහසින් සහරු නැන්දා සොයා පැමිණි බවත් ඔහු කීවේ ය. මා මෙතෙක් කල් බලා සිටි අවස්ථාව මා සොයාගෙන පැමිණ ඇති බව මම එකවර ම තේරුම් ගතිමි.

ඔවුන් දෙදෙනා කතා කරමින් සිටි කාමරයේ දොර අසලට ගිය මම සහරු නැන්දාට කතා කළෙමි. "නැන්දෙ එනව ද පොඩ්ඩකට... මට නැන්දට කියන්න දෙයක් තියෙනවා."

"මොනවා ගැන ද වාරිස්" නැන්දා තරහෙන් ඇසුවා ය.

"මෙහෙම කියන්න බෑ ඒක... නැන්දා පොඩ්ඩකට කාමරයට එනව ද?"

නැන්දා මා සිටි කාමරයට පැමිණියා ය. මම ඇය ගේ අතක් තදකර අල්ලා ගතිමි.

"අනේ නැන්දෙ ඒ මාමට කියන්නකො ගෙදර වැඩට මාව එක්ක යන්න කියලා."

නැන්දා තරහින් මා දෙස බැලුවා ය. නො සැලෙන ආත්ම ශක්තියක් තිබූ මම මට වුවමනා දේ කරගන්නට සමත්තියක් වීමි.

"මේ ලෝකෙ දෙයක් දන්නෙ නැතුව... ඔයා මොනවා කරන්න ද එංගලන්තෙට ගිහිල්ලා."

"මට ගෙවල් ශුද්ධ කරන්න පුළුවන්... අනේ මාව ලන්ඩන්වලට එක්ක යන්න කියලා කියන්න."

"දැන් ඉතින් මට කරදර කරන්නෙ නැතුව ගිහිල්ලා ඉතුරු වැඩ ටික කරලා දාන්න" නැන්දා එ සේ කියමින් නැවතත් සාලයට ගොස් තානාපතිවරයා අසලින් ඉඳ ගත්තා ය. ඇය තානාපතිවරයාට මෙසේ කියනවා මට ඇසුණි. "මේ ඉන්න ළමයා එක්කගෙන යන්නකො... වැඩ හොඳට පුළුවන්... ඒ වගේ ම කඩිසරයි."

අනතුරු ව නැන්දා මට කතා කළා ය. මම අතු ගාමින් සිටි කොස්ස ද අතැති ව ඔවුන් දෙදෙනා අසුන් ගෙන සිටි සාලයේ දොර අසලට ගියෙමි.

"මගෙ නම චාරිස්... ඔයා අපේ නැන්දගෙ මහත්තයා නේද? මම මෙතෙක් මුව තුළ වූ චුයින්ගම හපමින් ඇසුවෙමි.

"කරුණාකරලා ඔය චුයින්ගම් එක එළියට අරගෙන කතා කරනව ද?" තානාපතිවරයා මා වෙත තුරුස්සනා බැල්මක් හෙළමින් කීවේ ය.

"මෙයා ද සහරු කිව්ව ළමයා" අනතුරු ව ඔහු නැන්දා දෙසට හැරී ඇසුවේ ය.

"ඔව් ඔව්... මට ගෙවල් සුද්ධ පවිත්‍ර කරන්න හොඳට පුළුවන්. උයන්න පුළුවන්... ළමයි බලා ගන්ඩත් මට හොඳට පුළුවන්."

"මට පේනවා" ඔහු කීවේ ය.

"චාරිස් ඔය ඇති... දැන් ගිහිල්ලා ඉතුරු වැඩ ටික කරන්න."

"ඔය ළමයා පොඩි වුණාට වැඩට හරි ම දක්ෂයි... ඔයගොල්ලන් ගෙ ගෙදර වැඩ කටයුතුවලට මේ කෙල්ල හරියට ම හරි යනවා." නැන්දා එ සේ කියනවා මම අසාගෙන සිටියෙමි.

"හොඳයි... මම ඔයාට ලන්ඩනයට යන්න ගමන් බලපත්‍රයකුත් ලෑස්ති කරගෙන හෙට දවල්ට එනවා එක්කගෙන යන්න... ලෑස්තිවෙලා ඉන්න... ඊට පස්සෙ අපි ලන්ඩනයට යනවා" මොහොමඩ් මාමා මොහොතක් මා දෙස බලා සිට කීවේ ය.

# 8

# ලන්ඩන් නුවරට යාම



එවකට මා ලන්ඩන් නගරය ගැන කිසිවක් දැන සිටියේ නැත. එහෙත්, ලන්ඩන් යන වචනය උච්චාරණය කරන විට නැගෙන ශබ්දයට මම ප්‍රිය කළෙමි. ලන්ඩන් නගරය තිබෙන්නේ කොහි ද යන්න ගැන මම දැන නො සිටියත් ඒ නගරය පිහිටා තිබෙන්නේ බොහෝ දුර බව නම් මම දැන සිටියෙමි. ඇත්තෙන් ම මගේ අභිලාෂය වූයේ ද දුර රටකට යන්නට ය. ඒ අවස්ථාව ලබා දෙන මෙන් ඉල්ලා සර්වබලධාරි දෙවියන්ට මා විසින් කරන ලද යාඥාවට දැන් පිළිතුරු ලැබී ඇති සෙයක් පෙනෙන්නට ඇත.

"නැන්දෙ එහෙනම් මම ලන්ඩන් නගරයට යනවා" මම කෑ ගැසුවෙමි.

මගේ මුහුණේ වූ තැති ගැන්ම දුටු නැන්දා මෙසේ පිළිතුරු දුන්නා ය. "හරි හරි ඔයා ලන්ඩන් නගරයට යනවා... දැන් ඉතින් කෑ ගහන්නෙ නැති ව ඉන්න."

අනතුරු ව මම රාත්‍රී කෑම පිළියෙල කරමින් සිටි සහරු නැන්දා ගේ වැඩිමහල් දියණිය පාතිමා වෙත දිව ගියෙමි. "මම ලන්ඩන්වලට යනවා" ඒ සේ කියමින් කුස්සිය තුළ මම නටන්නට වීමි.

"මොනවා ඔයා ලන්ඩන්වලට යනවා... ඒ කියන්නෙ ඔයා සුදු ගැතියෙක් වෙනවා?" ඇය මගේ අතක් අල්ලාගෙන ඇසුවා ය.

ජීවිතයේ කවරදාක හෝ සුදු ජාතිකයකු දැක නො තිබුණ හෙයින් පාතිමා කියවන්නේ කුමක් ගැනදැයි මට මහත් ප්‍රහේලිකාවක් විය.

"මට තේරෙන්නෙ නෑ ඔයා මොනවා කියනව ද කියලා... ඔයාට යන්න බැරි හින්දා ඔයාට ඊර්ෂ්‍යා ඇති මම ලන්ඩන් යනවට" එ සේ කියමින් මම දිගට ම නටන්නට වීමි.

"වාරිස්!!" නැන්දා මා දෙස තරහින් බලා කෑ ගැසුවා ය.

එ දින හැන්දෑවේ සහරු නැන්දා මා යනවිට ඇඳ ගෙන යන්නට මට ගවුමක් මසා දුන්නා ය. එ මතු ද නො ව හම්වලින් මසන ලද සෙරෙප්පු ජෝඩුවක් ද ඇය ගෙනැවිත් දුන්නා ය. ජීවිතයේ පළමු වරට හම් සෙරෙප්පු ජෝඩුවක් මට ලැබුණ පළමුවෙනි වතාව ද එය විය. පසුදින මොහොමඩ් මාමා මා කැඳවාගෙන යන්නට එනවිට නැන්දා විසින් මසන ලද නොයෙකුත් වර්ණයන්ගෙන් යුත් දිග ගවුමත්, ඊට උඩින් දමා ගැනීමට වූ අප්‍රිකානු සළුවත් මා පැලඳගෙන සිටි අතර, ඇඳගෙන සිටින ගවුම හැරුණුකොට වෙනත් රැගෙන යන්නට යමක් මා ළඟ නො වී ය.

ගුවන්තොටුපොළ බලා යන්නට නිවසින් පිට වන්නට පෙර මම සහරු නැන්දා සිප ගතිමි. අනතුරු ව මගේ ආදරණීය පාතිමා ඇතුළු පවුලේ සියලු දෙනා ම සිප වැලඳගෙන ඔවුන්ගෙන් සමු ගත්තෙමි. පාතිමා ද කැටුව යන්නට මා තුළ තිබූ වුවමනාව දුටු ඇය මා වෙත මහත් කරුණාවක් දැක්වූවා ය. එහෙත්, රැකියාවක් ඇත්තේ එක් අයකුට පමණි. ඒ අවස්ථාව මා හට ලැබීම ගැන මම ප්‍රීති වෙමි. මා රැගෙන යන්නට පැමිණි මොහොමඩ් මාමා ගමන් බලපත්‍රය මා අත තැබුවේ ය. ගමන් බලපත්‍රයක් මතු නො ව මගේ නමින් උප්පැන්න සහතිකයක් හෝ එ වැනි වෙනත් සහතිකයක්වත් හෝ කිසි දිනක නො තිබුණ මා සෝමාලි රජයෙන් නිකුත් කර ඇති මෙම ගමන් බලපත්‍රය දෙස මහත් වුවමනාවකින් බැලුවෙමි. මා රැගෙන යන්නට පැමිණ තිබූ වාහනයට ගොඩවැදුණ මා තුළ මහත් ආඩම්බරයක් ඇති විය. මා රැගත් වාහනය ඉදිරියට ඇදෙනවාත් සමඟ ම මා දෙස බලා සිටින සහරු නැන්දා පාතිමා ඇතුළු සියලු දෙනාට ම අත වනමින් මම ඔවුන්ගෙන් අවසාන වරට සමු ගත්තෙමි.

කාන්තාරයට ඉහළින් පියාසර කරන ගුවන්යානා අනන්තවත් මා දැක ඇතිවා පමණක් නො ව, සමහර දිනවල මගේ එළුවන් රැළත් සමඟ ජලය සොයා ගිය අවස්ථාවල ගුවන්යානා ඉතා පහළින් පියාසර කරනු ද මම දැක ඇත්තෙමි. එහෙයින් එ වැනි දෑ මේ ලෝකයේ තිබෙන බව මම දැන සිටියෙමි. එහෙත්, එ දින සවස් වරුවේ මා සෝමාලියාවෙන් පිට වී

ආ දිනයේ මොගඩිෂු ගුවන් තොටුපොළේ දී දුටු තරම් සමීප ව ජීවිතයේ කිසි ම දිනක මම ගුවන්යානයක් දැක නො තිබුණෙමි. මොහොමඩ් මාමා සමඟ ගුවන් තොටුපොළ තුළින් ඇවිද ගොස් ගුවන්යානය වෙත යන්නට ඇති දොර අසලට අපි දෙදෙන පැමිණියෙමු. බ්‍රිතාන්‍ය ගුවන් සේවයට අයත් ජෙට් යානයක් අප්‍රිකානු හිරු එළියෙන් දිලිසෙමින් තිබෙනු මම දුටුවෙමි.

"ඇහුණ ද වාරිස්... මරියුම් නැන්දා ඔයා ව එක්කගෙන යන්න ලන්ඩන් ගුවන් තොටුපොළට ඇවිල්ලා ඉඳී... මට ඔයත් එක්ක යන්න ලැබෙන්නෙ නෑ... මට යන්ඩ ඉස්සෙල්ලා ඉවර කරගන්න මෙහෙ තව වැඩ ටිකක් තියෙනවා... හොඳේ."

එකවර ම මම මොහොමඩ් මාමා දෙස හැරී බැලුවෙමි.

"මෙන්න ටිකට් එක... පාස්පෝර්ට් එකයි ටිකට් එකයි නැති කර ගන්න එහෙම එපා" මාමා ගුවන් බලපත්‍රය මා අත තබමින් කීවේ ය.

"ඇයි මාමා මාත් එක්ක යන්ඩ එන්නෙ නැත්ද?" මට කියාගත හැකි වූයේ එ පමණකි.

"නෑ... මම ඔයාට කිව්වනෙ මට තව දවස් කීපයක් මෙහෙ ඉන්ඩ වෙනවා කියලා" ඔහු කලබලයෙන් කීවේ ය.

එ වදන් ඇසූ මම හඬන්නට පටන් ගතිමි. තනියම ගමන් කිරීමට මා තුළ අනියත බියක් ඇති විය. මා දන්නා එක ම ස්ථානය සෝමාලියාව පමණි. තව මොහොතකින් මා මගේ මව්බිමින් පිට වී යා යුතු ය. තමුන් දන්නා කියන රට හැර දමා යන්නට ගත් තීරණය ගැන මා තුළ ඒ මොහොතේ තරමක සැකයක් ඇති විය.

"හා දැන් යන්න... ලන්ඩන් ගුවන් තොටුපොළෙන් බැහැපුවා ම ඔයාට කවුරු හරි උදව් කරයි... බය වෙන්ඩ දෙයක් නෑ."

මට ඉබේ ම ඉකි ගැසෙන්නට විය. මොහොමඩ් මාමා ඉතා කරුණාවෙන් හෙමින් සීරුවෙ මා ගුවන්යානය වෙත යන්නට ඇති දොර දෙසට තල්ලු කළේ ය.

"ඉක්මන් කරලා යන්න වාරිස්... නැත්නම් අහස් යාත්‍රාව යයි... යන්ඩ වාරිස්!!!"

ගුවන්යානය වෙත මම සෙමින් පිය නැඟුවෙමි. ගුවන්යානයෙන් පිටත කාර්මික ශිල්පීන් කීප දෙනෙක් ගුවන්යානය ගුවන් ගත කිරීමට සූදානම් කරමින් සිටි අතර, කම්කරුවෝ ගුවන්යානයට බඩු පටවමින්

සිටියහ. ගුවන්යානයට ගොඩ වෙන්නට ඇති පඩිපෙළ දුටු විගස එය
නගින්නේ කෙසේදැයි මා තුළ අනියත බියක් ඇතිවිණි. සෙරෙප්පු
පැලඳගෙන ඇවිදින්නට එ තරම් පළපුරුද්දක් නො මැති ව සිටි මම
ඇඳගෙන සිටි දිගු ගවුම පැටලී නො වැටෙන්නට වග බලා ගනිමින්
සීරුවෙන් ඇලුමිනියම් පඩිපෙළ තරණය කළෙමි. යානය තුළට ඇතුළු වූ
මම යා යුත්තේ කොතැනට ද, කළ යුත්තේ කුමක් ද නො දැන ගල්
ගැසී එක තැන සිට ගත්තෙමි. සියලු ම මගීන් යානයට ඇතුළු වී අසුන්
ගෙන සිටි අතර, ඔවුන් ඉතා විමසිල්ලෙන් මා දෙස බලන බැව් ඔවුන්
ගේ ඉරියව්වලින් මම තේරුම් ගතිමි. ගුවන්යානයක ගමන් කළ යුතු
ආකාරය නො දන්නා මේ ගෝළු කෙල්ල කව්දැයි නිසැකයෙන් ම ඔවුන්
සිතන්නට ඇත. ගුවන්යානය සිසාරා බැලූ මම හිස් ව තිබූ ආසනයක
වාඩි ගතිමි.

මා සුදු මිනිස්සු දුටු පළමුවෙනි වතාව එය විය. "මේ ආසනය ඔබ ගේ
ආසනය නො වෙයි" මා හිඳගෙන සිටි ආසනයට අල්ලපු ආසනයේ සිටි
සුදු ජාතිකයා කීවේ ය. ඉංග්‍රීසි වචනයකුදු දැන නො සිටි මම ඔහු ප්‍රකාශ
කළ දෙයෙ හි අරුත මෙය වන්නට ඇතැ යි මම උපකල්පනය කළෙමි.
ඔහු නැවත වරක් පෙර කී දේ ම පුනරුච්චාරණය කළේ ය. සංත්‍රාසයට
පත් ව සිටි මම, ඔහු දෙස එක එල්ලේ ම බලා සිටියෙමි. දෙවියන්ට පින්
සිදුවන්නට ඒ මොහොතේ ගුවන් සේවිකාවක් මා වෙත පැමිණ මා අත
වූ ගමන් බලපත්‍රය ගෙන පිරික්සා බැලුවා ය. මා ගුවන්යානයක ගමන්
කරන පළමු වෙනි වතාව මෙය බවත්, ඒ නිසා ම ඒ සම්බන්ධ ව කිසියම්
අවබෝධයක් මා හට නො මැති බවත් ගුවන් සේවිකාව නිසැකයෙන් ම
දැන ගන්නට ඇතුවාට සැකයක් නැත. ඇය මගේ අතින් අල්ලා ගෙන
මා හට හිමි ආසනය වෙත රැගෙන ගිය අතර, එම ආසනය පෙර මා
නො දැනුවත් ව අසුන් ගත් පළවෙනි කැලෑසියේ ආසනයක් නො වී ය.
ගුවන් සේවිකාව විසින් මා මගේ ආසනය වෙත රැගෙන යන අතර, මග
දෙ පස අසුන් ගෙන සිටි මගීහු මා දෙස බලන්නට වූහ. ප්‍රසන්න සිනහ
රැල්ලක් මුවගට නංවා ගනිමින් ගුවන් සේවිකාව ඇඟිල්ල දිගු කර මගේ
ආසනය මා හට පෙන්වූවා ය. ගුවන් සේවිකාව විසින් පෙන්වන ලද
අසුනෙ හි වහා ම මම අසුන් ගතිමි. එතකුදු මා වෙත ඇසි පිය නො
හෙළා බලා සිටින මගීන් ගේ දර්ශන පථයෙන් ඉවත් වීමට ලැබීම ගැන
මම ප්‍රීති වීමි. ගුවන් සේවිකාව දෙස බලා හිස වනමින් මම ඇයට ස්තුති
කළෙමි.

ගුවන්යානය ගුවන් ගත වීමෙන් මඳ වේලාවකට පසු මා හට උදව්
කළ ගුවන් සේවිකාව පෙර සිනහව ම මුවගේ රඳවාගෙන පැණි රස

කෑම වර්ග සහිත බන්දේසියක් ගෙනැවිත් මා වෙත දිගු කළා ය. මා ඇඳ සිටි ගවුමේ වාටිය උස්සා කුඩා මල්ලක් ආකාරයට සකස් කර ගනිමින් අනෙක් අතින් බන්දේසියේ වූ පැණි රස කෑම ජාති කීපයක් ගෙන ඒ මත තබා ගත්තෙමි. මෙ වැනි කෑමක් නැවතත් ලැබේදැයි නො දැන සිටි මා තවත් ටොෆි කීපයක් ගැනීමට ගුවන් සේවිකාව අත වූ බන්දේසිය දෙසට අත දිගු කළ නමුදු ඇය බන්දේසිය ඉවතට ගත්තා ය.

හෙමින්සීරුව එක ටොෆිය බැගින් ගෙන එය දවටා තිබූ කොළය දිග හැර එකිනෙක මම ගිල දැමුවෙමි. ඒ දුටු මගීන් හිරිකිතයකින් මෙන් මා දෙස බලන්නට විය. "ඔබලාට තියෙන ප්‍රශ්නය හරියට හිරු එළිය වැදිලා නැති කමයි" මා ඉංග්‍රීසි බස දැන සිටියා නම් නිසැකයෙන් ම එ සේ පවසනවා නො අනුමාන යි. ඔවුන් ගේ හම සුදු වී තිබී ම තාවකාලික තත්ත්වයක් මත ඇති වුවක් යයි මම කල්පනා කළෙමි. ඔවුන් සදාකාලිකව ම මේ ආකාරයෙන් නො සිටිනු ඇත. මෙ මිනිසුන් ගේ හම සුදුපාට වීමට හේතු වී ඇත්තේ බොහෝ කලක් ඔවුන් හිරු එළිය නො මැති ව ජීවත්වීම නිසා ය. අවස්ථාවක් ලැබුණ විගස සුදු ජාතිකයකු ස්පර්ශ කිරීමට මා තුළ වුවමනාවක් ඇති විය. සමහර විට සුදු හමට යටින් කළු හම තිබෙන්නට පුළුවන. ඔවුන් ගේ හම පිරිමැද්ද හොත් සුදු පාට ඉවතට ගොස් කළු පාට මතු වන්නට ඉඩ ඇත.

ගුවන්යානය ගුවන් ගත වී පැය දහයකට පමණ පසු මට බලවත් ලෙස මුත්‍රා බරක් ඇති විය. මගේ වකුගඩු පැළී යන තරම් තත්ත්වයක මා සිටියත්, ඒ සඳහා යා යුතු ස්ථානය ගැන මට කිසියම් හෝ දැනුමක් නො වී ය. මා අසල අසුන් ගෙන සිටි මගීන් වරින් වර කිසියම් දොරක් වෙත ගොස් එයින් ඇතුළු වන බව මම ඉතා වුවමනාවෙන් නිරීක්ෂණය කළෙමි. මගේ වුවමනාව ඉටුකර ගැනීම සඳහා යා යුතු ස්ථානය එ තැන බැව් මම තීරණය කළෙමි. මෙතෙක් හිඳගෙන සිටි අසුනෙන් නැගී සිටි මා, එම දොර දෙසට ගමන් කරන අතර, මගියෙක් ඒ තුළ සිට එළියට ආවේ ය. දොරෙන් ඇතුළු වූ මම දොර වසා දමා වට පිට පරීක්ෂා කර බැලුවෙමි. මට අවශ්‍ය ව ඇති කාරණය සඳහා නිසි ස්ථානයට මා පැමිණ සිටින බවට සැකයක් නැතත් ඒ කර්තව්‍යය කිරීම සඳහා වූ නියම ස්ථානය කුමක්දැයි මට ප්‍රහේලිකාවක් විය. පළමුවෙන් ම මා මුහුණ කට සෝදා ගැනීම සඳහා වූ බේසම පරීක්ෂා කළෙමි. එහෙත්, එය මට අවශ්‍ය කාරණය සඳහා සුදුසු ස්ථානය නො වන බව තේරුම් ගතිමි. අනතුරු ව කොමෝඩය දෙසට මුහුණ ළං කොට ඉව කර බැලුවෙමි. මගේ අවශ්‍යතාවයට නිසි තැන එය බැව් ප්‍රත්‍යක්ෂ කොට ගත් මා එහි වාඩි වී සතුටින් බර සැහැල් කර ගත්තෙමි.

බරෙන් නිදහස් වී නැඟී සිටි විට, මුත්‍රා එ තුළ රැඳී තිබෙන බව මම දුටුවෙමි. දැන් කළ යුත්තේ කුමක් ද? ඊළඟට එන මගියාට මගේ මුත්‍රා දකින්නට තබා යාම කොහෙත් ම කළ නො හැක්කකි. එහෙත්, මුත්‍රා පහ කර යවන්නේ කෙසේදැයි මට දැනීමක් නැත. Flush යනුවෙන් එක්තරා බොත්තමක ලියා තිබූ ඉංග්‍රීසි වචනයේ අර්ථය කුමක්දැයි මම නො දනිමි. ජීවිතයේ කිසි ම දිනක එ වැනි වැසිකිළියක් මා පාවිච්චි කර නො මැති බැවින්, එම ඉංග්‍රීසි වචනයේ අර්ථය මා දැන සිටිය ද එයිනුදු පලක් නො වනු ඇත. වැසිකිළිය තුළ වූ නොයෙකුත් බොත්තම් මම සීරුවෙන් පරීක්ෂා කළෙමි. මුත්‍රා පහකර යැවීම සඳහා නියමිත බොත්තම අනුමාන කළත්, එය තද කිරීමට මා තුළ අනියත බියක් ඇති වී තිබුණේ එ වැනි ක්‍රියාවන් නිසා මොගඩිෂුවල ඇති වූ පිපිරීම් ගැන මා මීට පෙර අසා තිබුණ බැවිනි. එ මතු ද නො ව සිවිල් යුද්ධයකට මුහුණ දී සිටින සෝමාලියාවේ නොයෙකුත් ස්ථානවල සෑම දිනක ම මෙන් නොයෙකුත් පිපිරීම් ඇතිවන හෙයින් මෙම බොත්තම තද කළහොත් එ වැනි පිපිරීමක් ඇති වන්නට ඉඩ ඇතැයි ද සමහර විට එම බොත්තම මත ඉංග්‍රීසි බසින් ලියා ඇති වචනයේ අර්ථය එය ම වන්නට ඉඩකඩ ඇතැයි ද මා තුළ දෙගිඩියාවක් ඇති විය. මුත්‍රා ස්වල්පයක් පහ කර යැවීම සඳහා එ වැනි අන්තරාදායක ක්‍රියාවක් නො කළ යුතු බැව් මම තීරණය කළෙමි. එහෙත්, මගේ මුත්‍රා මෙසේ තබා යන්නට ද නො හැකි ය. වැසිකිළිය තුළ තිබී පාවිච්චි කළ ප්ලාස්ටික් කෝප්පයක් සොයා ගත් මම එයට කිප වතාවක් වතුර පුරවා වැසිකිළි වළ පිරවීමි. මුත්‍රා වතුරත් සමඟ මිශ්‍ර වීම නිසා එහි දුර්ගන්ධය පහ වී යන අතර, කොමෝඩය ජලයෙන් පිරී තිබී ම නිසා මීළඟට වැසිකිළිය පාවිච්චි කිරීමට එන තැනැත්තා එහි ඇත්තේ ජලය බව සිතනු ඇත. ඒ වනවිට වැසිකිළිය පාවිච්චි කිරීමට පැමිණි මගීන් දොර අසල රැස් වී සිටියා පමණක් නො ව ඔවුන් දොරට තඩි බාන්නට ද විය. අනතුරු ව සීරුවෙන් මගේ ගවුම ද සකස් කර ගත් මම දොර විවෘත කර එහි රැස් වී සිටි මගීන් අතරින් බිම බලාගෙන මගේ ආසනය වෙත ගියෙමි.

ගුවන්යානය ලන්ඩන් හීත්‍රෝ ගුවන් තොටුපොළට ගොඩ බැස්සවීම සඳහා ක්‍රමයෙන් පහත් කරනවාත් සමඟ ම ගුවන්යානයේ කවුළුව තුළින් මෙතෙක් මා දුටු සුදු වලාකුළු වෙනුවට කළු පැහැති අඳුරු වලාකුළු පෙනෙන්නට විය. යානය ධාවන පථය දිග ඇදී ගොස් නතර වූ පසු අනෙක් මගීන් අසුන්වලින් නැඟී සිටිනු දුටු මම ද නැඟී සිටියෙමි. මගීන් අතරට මැදි වූ මා ඔවුනුත් සමඟ තෙරපෙමින් ඉදිරියට ඇදුණ නමුදු යා යුත්තේ කොතැනකට ද? කළ යුත්තේ කුමක්දැයි මා තුළ

කිසි ම අවබෝධයක් නො වී ය. මගීන්ට මැදි වී තෙරපෙමින් ඉදිරියට තල්ලු වී ගිය මා නැවැතුණේ පඩිපෙළක් ඉදිරිපස ය. පඩිපෙළ ධාවනය වනු දුටු මගේ ගත හීතල වී යන්නට විය. එතකුදු මා සමඟ සිටි මගීන් කලබලයකින් තොර ව ධාවනය වන පඩිපෙළේ පඩි මත සීරුවෙන් අඩි තබා ඉහළට යන අයුරු මම බලා සිටියෙමි. ඔවුන් ව අනුගමනය කරමින් මා ද ධාවනය වන පඩිපෙළේ පඩියක් මතට ගොඩ වූ අතර, මා දමාගෙන සිටි මගේ අලුත් ම සෙරෙප්පු කුට්ටමේ එක් සෙරෙප්පුවක් ගැලවී විසි වී ගියේ ය. "මගෙ සෙරෙප්පුව... මගෙ සෙරෙප්පුව" කියා මම සෝමාලි බසින් කෑ ගසමින් එය සොයා ගැනීමට ආපසු යන්නට උත්සාහ කළ ද මට පිටුපසින් සිටි මගීන් නිසා එයට කොහෙත් ම ඉඩක් නො ලැබුණි.

ධාවනය වන පඩිපෙළින් ඉවත් වූ මා එක සෙරෙප්පුවක් නොමැති ව නොණ්ඩි ගසමින් මගීන් සමඟ ඉදිරියට ගියෙමි. ඊළඟට අප පැමිණියේ රේගු නිලධාරීන් වෙත ය. නිල ඇඳුමින් සැරසී සිටි බ්‍රිතාන්‍ය රේගු නිලධාරීන් දෙස මම බැලුවෙමි. එහෙත්, ඔවුන් කවුරුන්දැයි මා හට කිසි ම අවබෝධයක් නො වී ය. එක් රේගු නිලධාරියෙක් ඉංග්‍රීසි බසින් මා ඇමැතුවේ ය. ඒ අවස්ථාව ප්‍රයෝජනය ගත් මම ධාවනය වන පඩිපෙළ දෙස බලමින් මම සෝමාලි බසින් මෙසේ කෑ ගැසුවෙමි.

"මගෙ සෙරෙප්පුව... මගෙ සෙරෙප්පුව."

රේගු නිලධාරියා මා දෙස එක එල්ලේ ම මුහුණ ඇඹුල් කරගත් අසා සිටියේ ය. කලබල වී බලාගෙන පෙර ඇසූ ප්‍රශ්නය ම නැවතත් අසා සිටියේ ය. කලබල වී සිටි මා මොහොතකට සෙරෙප්පුව ගැන අමතක කොට රේගු නිලධාරියා දෙස බලා මෝඩ ලෙස සිනාසුණේ ය. නිලධාරියා මා අත වූ ගමන් බලපත්‍රය දෙසට ඇඟිල්ල දිගු කර සංඥාවක් කළේ ය. මම ගමන් බලපත්‍රය ඔහු අත තැබුවෙමි. ගමන් බලපත්‍රය අතට ගත් රේගු නිලධාරියා එය ඉතා ඕනෑකමින් පරීක්ෂා කර බලා එය මත මුද්‍රාවක් තබා නැවතත් ගමන් බලපත්‍රය මා අත තබා අත වනා මට එ තැනින් යන්නට අවසර දුන්නේ ය.

අනතුරු ව රේගු නිලධාරියා පසුකර යත් ම රියැදුරකු ගේ යුනිෆෝර්මයක් ඇඳ සිටි පුද්ගලයකු මා වෙත අවුත් සෝමාලි බසින් මෙසේ ඇසුවේ ය.

"ඔබ ආවෙ මිස්ටර් ෆාර් මොහොමඩ් මහත්මයගෙ නිවසේ වැඩ කරන්නට ද?"

මගේ මව්බස කතා කරන අයකු මුණ ගැසීමෙන් මම මහත් අස්වැසිල්ලක් ලැබුවෙමි.

"ඔව්... ඒ මම තමයි... මගෙ නම වාරිස්" මම වියරුවෙන් මෙන් කෑ ගැසුවෙමි.

රියැදුරා මා එළියට කැඳවාගෙන යන්නට සූදානම් විය.

"මගෙ සෙරෙප්පුව... මගෙ සෙරෙප්පුව... අර පඩිපෙළ පහළ" මම මොහොතකට නැවැතී කීවෙමි.

"මොනවා සෙරෙප්පුවක්."

"ඔව් ඔව්... මගෙ සෙරෙප්පුව අර අතැන."

"කොහෙද?"

"අර කැරකෙන පඩිපෙළ පහළ. මම පඩිපෙළට නගිනකොට සෙරෙප්පුව ගැලැවුණා." මම ඒ දෙසට අත දිගු කරන ගමන් කීවෙමි.

ඔහු මගේ දෙපා දෙස බැලුවේ ය. ඔහුට කාරණය වැටහිණ.

වාසනාවකට මෙන් රියැදුරාට ඉංග්‍රීසි බස කතා කරන්නට හැකි වූ බැවින් ඔහු රේගු නිලධාරියෙක් සමග කතා කොට පහළට ගොස් සෙරෙප්පුව රැගෙන එන්නට අවසර ලබා ගත්තේ ය. අප දෙදෙනා පඩිපෙළේ පහළට බැස මගේ සෙරෙප්පුව ගැලැවී වැටුණ ස්ථානයට ගිය නමුදු, සෙරෙප්පුව එහි නො තිබුණි. අවාසනාවක තරම කොපමණදැයි ඒ මොහොතේ මට කල්පනා විය. කරන්නට දෙයක් නො මැති වූ හෙයින් අනික් සෙරෙප්පුවත් ගලවා මම අතට ගත්තෙමි. දැන් අපට නැවතත් රේගුව හරහා යන්නට සිදුවිය. මේ වතාවේ දී ඉංග්‍රීසි බස වහරන අයකු මා සමග සිටි බැවින් පළමුවෙනි වතාවේ ඔවුන්ට මගෙන් අසා දැන ගන්නට තිබූ ප්‍රශ්න සියල්ල අසන්නට වූ අතර, රියැදුරාට මගේ පිළිතුරු ඉංග්‍රීසි බසට පරිවර්තනය කොට රේගු නිලධාරියාට කියන්නට සිදුවිය.

"කොපමණ කාලයක් ඔබ ලන්ඩන් නගරයේ ඉන්නට බලාපොරොත්තු වෙනව ද? කොහෙද ඔබ නවතින්නට යන්නෙ..."

"සෝමාලියානු තානාපතිගෙ ගෙදර... ඒ මගෙ මාමා" මම ආඩම්බරයෙන් පිළිතුරු දුනිමි.

"ඔබගෙ ගමන් බලපත්‍රයෙ තියෙන විධියට ඔබට වයස අවුරුදු 18 යි. ඒක හරි ද?"

මගේ වයස වැරැදි බව කියමින් මට දහඅටක් නො වන බව මම රියැදුරාට කීවෙමි.

රියැදුරා එය නිලධාරියාට පරිවර්තනය කර කීවේ ය.

"ඔබ ගෙනැවිත් තියෙන බඩු මොනව ද?"

මගේ අතේ තිබූ සෙරෙප්පුව මම ඔහුට පෙන්නුවෙමි.

නිලධාරියා මා අත වූ සෙරෙප්පුව දෙස බලා ගමන් බලපත්‍රය මා අත තබමින් අපට යන ලෙස අතින් සංඥා කළේ ය.

රියැදුරා මා ජනාකීර්ණ ගුවන් තොටුපොළ තුළින් එළියට කැඳවාගෙන ගියේ ය.

"ඇහුණ ද වාරිස්... ඔයාගෙ පාස්පෝර්ට් එකේ තියෙන්නෙ ඔයාට වයස 18 යි කියලා. ඒකයි මම අර නිලධාරියාට එහෙම කිව්වෙ... අනෙක කවුරු හරි ඔයාගෙ වයස ඇහුව්වොත් ඔයා කියන්න ඕනැ ඔයාට වයස අවුරුදු 18 යි කියලා... තේරුණාද?"

"මට අවුරුදු 18 ක් නැ" මම තරහින් කීවෙමි.

"එහෙනං ඔයාගෙ වයස කීය ද?" රියැදුරා පෙරළා ප්‍රශ්න කළේ ය.

"මම දන්නෙ නැ සමහර විට දාහතරක් විතර ඇති."

"මේ අහන්න... පාස්පෝර්ට් එකේ තියෙන්නෙ අවුරුදු 18 යි කියලා... ඒ හින්දා ඒක තමයි ඔයාගෙ වයස."

"මොනවද ඔය කියන්නෙ... මට වැඩක් නැ පාස්පෝර්ට් එකේ තියෙන දේවල්... පාස්පෝර්ට් එකේ තියෙන වයස වැරදියි."

"ඒ විධියට තමයි ඔයාගෙ මාමා මේ පාස්පෝර්ට් එක හදලා තියෙන්නෙ."

"එයා දන්න ඉටිගෙඩියක් නැ... එයාට පිස්සු."

ගුවන්තොටුපොළේ බහින් බස් වෙමින් ආ අප දෙදෙන ඒ වනවිට ගුවන්තොටුපොළේ පර්යන්ත ගොඩනැඟිල්ලෙන් එළියට පැමිණ සිටියෙමු. මුල් දිනයේ ම මොහොමඩ් මාමා ගේ රියැදුරා සමඟ ඇති වූ බහින් බස් වීම නිසා අප දෙදෙනා අතර, බලවත් නොහොඳ නෝක්කඩුවක් ඇති විය.

පාවහන් නො මැති ව මාමා ගේ නිල රථය වෙත ඇවිද යනවිට ලන්ඩන් නගරයට හිම වැටෙමින් තිබුණි. මා අත වූ සෙරෙප්පුව නැවතත් දමා ගත් මම සිනිඳු උතුරු සළුව ඇඟ වටා දවටා ගතිමි. මෙ වැනි කාලගුණයක් මින් පෙර කිසි ම දිනක මම අත්දැක නො තිබුණි.

"අම්මෙ... මෙහෙ හරි හීතලයි නෙ."

"ඒකට පුරුදු වෙන්න" රියැදුරා කීවේ ය.

ගුවන්තොටුපොළෙන් එළියට ආ රථය වාහනවලින් වැඩී ගිය මහා මාර්ගයට අවතීර්ණ විය. සුදු මුහුණු පමණක් නෙත ගැටෙන මේ නුපුරුදු නව පරිසරය තුළ මට මහත් කාන්සියක්, පාළුවක් සහ ශෝකයක් දැනෙන්නට විය. ඒ මොහොතේ අම්මා ගේ උණුසුම මට අන් කවරදාකටවත් වඩා දැනෙන්නට විය. එක ම එක කළු අයකු ඒ මොහොතේ මා අසල සිටියේ මොහොමඩ් මාමා ගේ රියැදුරා පමණක් වූ නමුදු, එය මට කිසිසේත් ම සැනසිල්ලක් නො වූවා පමණක් නො ව, ඒ වනවිට අප අතර එකිනෙකා තුරුස්සන තත්ත්වයක් ද උද්ගත ව තිබුණි.

ගුවන්තොටුපොළේ සිට මාමා ගේ නිවස වෙත යන අතරමඟ දී මාමා ගේ නිවසේ තොරතුරු රියැදුරා විසින් මා හට විස්තර කරන ලදී. මොහොමඩ් මාමා ගේ නිවසේ ඔහු ගේ මව්, මා කිසි දිනක දැක නො මැති මාමා කෙනෙක්, මරියුම් නැන්දා ගේ සහ මගේ අම්මා ගේ සහෝදරයෙක් සහ ළමයි හත්දෙනෙක් සිටින බව රියැදුරා වැඩි දුරටත් විස්තර කළේ ය. එ මතු ද නො ව මට කරන්නට ඇති වැඩ කොටස, මා අවදි විය යුතු වේලාව, දවසේ වැඩ අහවර කොට රාත්‍රියේ නින්දට යන්නට ලැබෙන වේලාව ආදී දේ ගැන ද ඔහු විස්තරයක් කළේ ය.

"ඔයා දන්නව ද ඔයගොල්ලන්ගෙ නැන්ද ගෙදර පාලනය කරන්නෙ හරියට ඒකාධිපති කෙනෙක් වගේ.. මම ඔයාට දැන්ම කියන්නම් පරිස්සම් වෙන්න, එයා හැම අයෙක්ගෙන් ම ගන්නට හැකි උපරිම වැඩ ගන්නවා" රියැදුරා තත්ත්වය පැහැදිලි කරමින් කීවේ ය.

"ඔව් සමහරවිට එයා ඒ විධියට වැඩ ගන්නට ඉඩ තියෙනවා... ඒත් ඉතින් එයා මගෙ නැන්ද නෙ" මම අපේ නෑදෑකම තහවුරු කරමින් කීවෙමි.

ඒ මොහොතේ මට අම්මා නො මැති පාළුවත්, සහරු නැන්දා සහ පාතිමා ගේ කරුණාවන්තකමත් සිහියට නැගුණි. මා හිඳගෙන සිටි අසුනට හේත්තු වූ මා හට මහත් විඩාවක් දැනෙන්නට විය.

මම රථයේ කවුළුවෙන් පිටත බැලීමි. සුදුපාට කුඩා කැබැලි පොළොවට පාත් වන්නේ කොහේ සිටදැයි සොයා ගැනීමට මම උත්සාහ කළෙමි. ස්වල්ප වේලාවකින් පාර දෙ පස සුදු රෙද්දක් ඇතුරුවාක් මෙන් හිමෙන් වැසී යන්නට විය. රථය මාමා ගේ නිවස ඉදිරිපිට නතර කරනු ලැබී ය. මා අද සිට ජීවත් වන්නට යන්නේ මේ මහා මන්දිරේ නො වේදැයි

යන සිතුවිල්ල ඇති ව මම නිවස දෙස පුදුමයෙන් බැලුවෙමි. මෙ වැනි ඇවැන්ත නිවසක් ජීවිතයේ කිසි ම දිනක මා දැක නො තිබුණි. නිවස තට්ටු හතරකින් සමන්විත විය. මම නිවසට ඇතුළු වන ප්‍රධාන දොර වෙත ගොස් නිවසට ඇතුළු වුණෙමි. ඉතා අලංකාර දොර සහ ඊට පිටුපසින් වූ මන බඳින කණ්ණාඩියක් බිත්තියේ සවි කර තිබුණි. මාරියම් නැන්දා මගේ අම්මාට වඩා තරමක් බාල වූ අතර, ඇය බටහිර පන්නයේ ඇඳුමකින් සැරසී සිටියා ය.

"එන්න ඇතුළට එන්න" ඇය කිසි ම හැඟීමකින් තොර ව කීවාය.

දුවගෙන ගොස් ඇය බදාගෙන හාදුවක් දෙන්නට සිතා සිටියත්, ඇය දෙ අත් එකට බැඳගෙන සිටි අයුරු එ වැනි ක්‍රියාවකට ඉඩක් නො තැබූ අතර, ඒ දසුන දැකීමෙන් මා එක තැන ම ගල් ගැසී ගියේ ය.

"එන්ඩ, ඉස්සෙල්ලා ම මම කැමැතියි ඔයාට කරන්නට ඇති වැඩ කොටස පෙන්නලා දෙන්න."

"නැන්දෙ මට හරි මහන්සියි... කරුණාකරලා මට ටිකක් නිදා ගන්න දෙනව ද?" මම පහත් හඬින් කීවෙමි.

"හරි මාත් එක්ක එන්ඩ."

තරප්පු පෙළ දිග ඇය මා කාමරයකට කැඳවාගෙන යන අතර, සාලයේ වූ ඉතා අලංකාර බඩු භාණ්ඩ දුටුවෙමි. මා ඇගේ කාමරයට කැඳවාගෙන ගිය නැන්දා මට ඇගේ ඇඳ පෙන්වා එහි නිදා ගන්නට සැලැස්සුවා ය. ඒ කාමරය සෝමාලියාවේ අප ගේ මුළු පවුල ම ජීවත් වූ කුඩාරම තරම් විය.

"ඔයා ඇහැරුණා ම මට කතා කරන්න. එතකොට මම කරන්න තියෙන වැඩ කටයුතු ටික පෙන්වන්නම්."

"එහෙනං නැන්දා මාව ඇහැරවනව ද?"

"නෑ ඔයාට කැමැති වේලාවක් නිදාගෙන ඇහැරුණ වෙලාවට මට කතා කරන්න."

අනතුරු ව නැන්දා කාමරයේ දොර හෙමින් වසාගෙන පිට වී යනවාත් සමඟ ම මම නින්දට වැටුණෙමි.

# 9

# ගෘහ සේවිකාව



පසුදින අවදි වූ මා හට දැනුණේ මා සිහින ලෝකයක සිටින බවකි. ඇත්තෙන් ම එය නම් අති සුන්දර සිහින ලොවකි. නැන්දා ගේ අලංකාර නිදන කාමරයේ වූ සුඛෝපභෝගී සයනය මත සිටින කල මා වටා ඇති මේ සියල්ල සත්‍යයක්දැයි එකවර ම අදහා ගැනීමට මම අපොහොසත් වීමි. නැන්දා ගේ සයනය මත මා මළමිනියක් මෙන් නිදා වැටුණ නිසා නැන්දා පසුගිය රාත්‍රියේ ඇගේ දරුවකු ගේ කාමරයක නිදා ගන්නට ඇත. පසුදින මා අවදි වී මොහොතකින් මෙතෙක් මා සිටි සුන්දර මනඃකල්පිත ලෝකය සත්‍ය ලෝකය ඉදිරියේ සුනුවිසුනු වී යන්නට විය.

සයනයෙන් බැස ගත් මා දැවැන්ත නිවස හරහා නැන්දා සොයා යන විට ඇය මට සාලයේ දී හමුවිය.

"ආ... ඔයා නැගිට්ට ද? හරි එන්ඩ යන්න මාත් එක්ක කුස්සියට... මම පෙන්වන්නම් මේ ගෙදර ඔයාට කරන්න තියෙන වැඩ මොනව ද කියලා."

නැන්දා පිටුපස වැටී මම අරමුණකින් තොර ව ඇය කුස්සිය යනුවෙන් නම් කරන ලද කාමරයට ගියෙමි. සහරු නැන්දා ගේ නිවසේ වූ කුස්සියට වඩා මෙය හාත්පසින් ම වෙනස් කුස්සියකි. සුදු පාට කැබිනෙට්ටු කුස්සිය වටා නිල්පාට කිරිගරුඬ අල්ලා ඇති බිත්තිවලට සවිකර තිබුණ අතර, කෑම ජාති හයක් එකවර පිසීමට හැකි ගිනි උඳුනක් එහි මැද විය. කැබිනෙට්ටු විවෘත කරමින් එහි වූ දෑ ගැන ඇය මට විස්තර කරන්නට විය.

"මේ තියෙන්නෙ උයන්නට පාවිච්චි කරන භාජන... එතකොට මේ තියෙන්නෙ හැඳි, ගෑරුප්පු, පිහි" ඇය එකිනෙක පෙන්වමින් දිගට ම කියාගෙන යන්නට විය.

ඇය විස්තර කරන්නේ කුමක් ගැන ද? මේ දේවල් පාවිච්චි කරන්නේ කෙසේ ද? පාවිච්චි කරන්නේ කුමක් සඳහා ද යන්න ගැන මා හට කිසි ම තේරුමක් නො වී ය.

"මොහොමඩ් මාමා උදෙන් ම තානාපති කාර්යාලයට යන හින්දා හරියට ම උදේ හයට එයාගෙ උදේ කෑම සූදානම් කරලා මේසයට ගෙන එන්නට ඕනෑ... අනෙක එයාට දියවැඩියාව තියෙන හින්දා එයාගෙ කෑම ගැන අපි සැලකිලිමත් වෙන්න ඕනෑ... එයා හැමදා ම උදේට කෑමට ගන්නෙ බාගෙට තම්බපු බිත්තර දෙකක් එක්ක තේ කෝප්පයක් හරි ද? හත වෙනකොට ඔයා මගේ කෝපි එක මගේ නිදන කාමරයට ගෙනත් දෙන්න ඕනෑ... ඊට පස්සෙ ළමයින්ට පෑන් කේක් හදලා හරියට ම අට වෙනකොට මේසයට ගේන්ඩ ඕනෑ... මොකද ඒගොල්ලො නවය වෙනකොට ඉස්කෝලෙ ඉන්ඩ ඕනෑ."

"නැන්දෙ ඔය කිව්ව එකක්වත් හදන්න මම දන්නෙ නෑ... කවුද මට ඒවා හදන්න උගන්වන්නෙ... මොනව ද ඔය පෑන් කේක් කියන්නෙ... මම දන්නෙ නෑ."

දිගු සුසුමක් ඉහළට ගත් මරියුම් නැන්දා මා ඇය පළමුවරට දුටු අවස්ථාවේ සිටි අන්දමට දෙ අත් එක් කරගෙන මා දෙස ත්‍රාසය මුසු බැල්මක් හෙළමින් ඉහළට ඇදගත් සුසුම පහත හෙළන්නට විය.

"මම ඔයාට මේවා හදන හැටි එක සැරයක් කියලා දෙන්නම්... හොඳට බලාගෙන මම කියන දේ හොඳට අහගෙන ඉගෙන ගන්න... තේරුණා ද?"

පළමුවෙනි සතිය තුළ මා අතින් සුළු සුළු වැරැදි සිදු වූ නමුදු දවසේ දින චරියාවට හුරු පුරුදු වූ මා, වසරේ 365 දවසෙ ම එම කාර්යයන්වල නිරත වෙමින් ඉදිරි වසර හතර තුළ ද ඒ ආකාරයෙන් ම ඒ රාජකාරි සඳහා තියැළුණෙමි. මෙතෙක් ජීවිතයේ කිසි ම දිනක කාලය ගැන කිසියම් හැඟීමක් නො තිබුණ මා හට ඔරලෝසුවේ කටු කැරකෙන ආකාරයට ජීවත් වන්නට සිදුවිය. උදේ හයට මාමා ගේ උදේ කෑම පිළියෙල කිරීම, හතට නැන්දා ගේ කෝපි එක සූදානම් කර ඇගේ නිදන කාමරයට ගෙන යාම, අටට ළමයින්ට උදේ කෑම පිළියෙල කර දීමෙන් අනතුරු ව නැන්දා ගේ නිදන කාමරය සහ නාන කාමරය සෝදා පිරිසිදු කිරීම පමණක් නො ව, ඉන් පසු නිවසේ සෑම කාමරයක් ම පිරිසිදු කර තැබීම මගේ

වැඩ කොටස විය. එතකුදු මගේ වැඩ ගැන සෑහීමකට පත් නො වූ අයෙක් මෙසේ මට දොස් පැවැරුවේ ය. "ඔයා මගෙ නාන කාමරය හරියට සුද්ද කරලා නෑ... අනෙක් වතාවෙ ඒක හරියට කරන්න... අර සුදුපාට පිඟන් ගඩොල්වල තියෙන පැල්ලම් නැති වෙන්න සුද්ද කරන්න ඕනෑ තේරුණා ද?"

රියැදුරා සහ කෝකියා ඇරුණු කොට නිවසේ වැඩට සිටියේ මා පමණි. මෙ වැනි කුඩා නිවසක වැඩට මෙහෙකරුවන් කීප දෙනෙක් අනවශ්‍ය බැව් වරක් නැන්දා මට කීවා ය. කෝකියාට වැඩ කරන්නට තිබුණේ සතියේ දින හයක් පමණි. ඉරිදා ඔහු ගේ නිවාඩු දිනය වූ අතර, එ දින කෑම පිසින්නට සිදුවූයේ ද මට ය. මා නැන්දා ළඟ වැඩ කළ වසර හතරට ම එක ම එක නිවාඩු දිනයක් හෝ මට ලැබුණේ නැත. කීප වතාවක් නැන්දාගෙන් මම නිවාඩු දිනයක් ඉල්ලා සිටිය නමුදු ඇය මගේ ඉල්ලීම කෝපයෙන් ප්‍රතික්ෂේප කරන ලදු ව, ඉන් පසු එ වැනි ඉල්ලීමක් නො කිරීමට මම වගබලා ගතිමි.

පවුලේ අය සමඟ එකට හිඳ ආහාර ගැනීමට මම නො ගියෙමි. වැඩ කරන අතරතුර අතට හසු වූ යමක් කටේ දමා ගත් මම මැදියම් රැයේ නින්දට යන තෙක් වැඩ කළෙමි. ඔවුන් සමඟ එකට හිඳ රාත්‍රී කෑම ගැනීමට අවස්ථාවක් නො ලැබීම කිසිවිටකත් අඩුවක් වශයෙන් මට නො හැඟුණේ අන් කිසිවක් නිසා නො ව, සෝමාලි ජාතික කෝකියා පිසින කෑම ඇත්තෙන් ම වැදගැම්මකට නො මැති බැවිනි. ඔහු සෝමාලි ජාතිකයකු වුවද අප ගේ ගෝත්‍රයට අයත් නො වූවෙකි. ආඩම්බර, කපටි එ මෙන් ම කම්මැලි පුද්ගලයකු වූ ඔහු, මා මඩවා හැකි තරම් මගෙන් වැඩ ගැනීමෙන් තෘප්තියක් ලබන්නේ යයි මම සිතුවෙමි. "ගිය සති අන්තයේ මම ගෙදර ගිහිල්ලා එනකොට වාරිස් ඔයා කුස්සිය එහෙම පිටින් ම හැඩි කරලයි තිබුණෙ... කුස්සිය සුද්ද කරන්න මට පැයක් විතර ගියා." මොනයම් හෝ මොහොතක මගේ නැන්දා කුස්සියට එන සෑම අවස්ථාවක ම මේ කෝකියා මා ගැන මෙ වැනි බොරු ගොතා ඇයට කියන්නට පුරුදු ව සිටියේ ය. හැම අවස්ථාවක ම ඔහු මගේ නැන්දා සහ මාමා ඉදිරියේ කැපී පෙනෙන ආකාරයට හැසිරුණේ ය. සෝමාලි කෝකියා පිසින කෑම කන්නට මා අකැමැති බැව් දිනක් මම නැන්දාට කීවෙමි. "එහෙනං ඉතින් ඔයාට කැමැති දෙයක් හදාගෙන කන්න" ඇය ගත් කටට ම කීවාය. මොගඩිෂු නගරයේ මගේ නැන්දා ගේ නිවසේ සිටි කාලය තුළ ඇගේ දියණිය පාතිමා උයන පිහන ආකාරය හොඳින් බලා සිට ඉගෙන ගැනීම ගැන ඒ මොහොතේ මා තුළ මහත් සතුටක් ඇති විය. එ මතු ද නො ව කෑම පිසීමට මා තුළ සහජ හැකියාවක් තිබුණ

අතර, මට හිතෙන ආකාරයට පැස්ටා වැනි නොයෙකුත් කෑම හදන්නට මම පටන් ගත්තෙමි. මා පිසින කෑම වර්ග දුටු නැන්දා ගේ පවුලේ අය ඒ කෑම ජාති ඔවුන්ටත් හදා දෙන ලෙස ඉල්ලා සිටියේ ය. එ වැනි කෑම වර්ග පිසීමට අවැසි දෑ මගෙන් අසා දැනගත් ඔවුන් ඊට අවශ්‍ය තුනපහ ආදී දෑ සියල්ල ම ගෙනැවිත් දුන්නේ ය. එ නමුදු මෙම වාතාවරණය සෝමාලි කෝකියා මා කෙරෙහි තිබූ අප්‍රසන්නතාවය දෙගුණ තෙගුණ කරන්නට සමත් විය.

නැන්දා සහ මාමා මා ඔවුන් ගේ නිවසේ වැඩකාරිය වශයෙන් සලකා කටයුතු කරන බවක් ලන්ඩන් නගරයට පැමිණි පළමු සතිය ගෙවී යාමත් සමඟ මම ප්‍රත්‍යක්ෂ කළෙමි. පොහොසතුන් සිය දුප්පත් නෑදෑයන් ගේ දරුවන් රැගෙන ගොස් ඔවුන් ලවා සිය නිවෙස්වල වැඩ රාජකාරි කරවා ගන්නා බවත්, දුප්පත්කම නිසා ඔවුන්ට එ වැනි දෑ කරන්නට සිදු වී ඇති තත්ත්වය මුළු මහත් අප්‍රිකාව පුරා ම ප්‍රචලිත කරුණකි. එතකුදු සමහරක් දෙනා සිය නෑදෑයින් ගේ එ වැනි දුගී දුප්පත් දරුවන් රැගෙන ගොස් ඔවුනට හොඳ අධ්‍යාපනයක් ලබා දී ඔවුන් තමුන් ගේ ම දරුවන් ලෙස හදා වඩා ගන්නා අවස්ථා ද තිබේ. එ නමුදු මා පත් වී සිටින වාතාවරණය සමාන වන්නේ මෙහි ඉහත සඳහන් පළමුවෙනි තත්ත්වයට බැව් සැකයක් නැත. කාන්තාරයේ සිට සිය නිවසේ වැඩ රාජකාරි කරවා ගැනීමට රැගෙන ආ මේ එඬේර කෙල්ලට එ වැනි අධ්‍යාපනයක් දී හදා වඩා ගැනීම ගැන සිතනවාට වඩා වැදගත් රාජකාරි ගැන සිත යොමු කළ යුතු බැවින් එ වැනි මානසික වාතාවරණයක් ඔවුනට නොමැති බව මම පසක් කළෙමි. මගේ මාමාට තානාපතිවරයකු වශයෙන් බොහෝ රාජකාරිවල නිරත වන්නට සිදු ව ඇති බැවින්, ගෙදර දොරේ කටයුතු ගැන සොයා බැලීමට තරම් කාලයක් නො වී ය. මගේ නැන්දා මා ඇගේ ම දියණියක් ලෙස සලකා කටයුතු කරනු ඇතැ යි මා සිහින මැවුවත් නැන්දාට නම් එ වැනි අදහසක් කොහෙත් ම නො තිබුණ අතර, ඇයට මා සිය නිවසේ වැඩකාරිය පමණක් විය. මැදියම් රැයේ තින්දට යනතුරු මට කරන්නට සිදු වී ඇති වහල් වැඩ ගැන සිතන විට මා මෙහි වැඩකාරියක් පමණක් යන්න තේරුම් ගැනීමත් සමඟ ලන්ඩන් නුවරට එන්නට ලැබීම ගැන මා තුළ වූ නො නිමි සතුට කෙමෙන් ගිලිහී යන්නට විය. මගේ නැන්දා සිය නිවසේ වැඩ කටයුතු සියල්ල අකුරට ම සිදුවිය යුතු ය යන මතයේ එල්බගෙන සිටි බැව් මම වටහා ගතිමි. ඇය ගේ අභිමතයට අනුව සියල්ල සිදුවිය යුතු වූ අතර, සෑම දෙයක් ම කලට වේලාවට ද සිදුවිය යුතු ව තිබුණි. අප්‍රිකානු සංස්කෘතියට වඩා හාත්පසින් ම වෙනස් බටහිර සංස්කෘතියට අනුව කටයුතු කිරීමට නම්

එ වැනි දැඩි තීරණ ගත යුතු බැව් සමහර විට ඇය තේරුම් ගත්තා විය යුතු ය. එහෙත්, වාසනාවකට මෙන් නැන්දා ගේ දියණිය බස්මා මා සමග මහත් සේ කුලුපග වූවා ය.

බස්මා මගේ නැන්දා ගේ සහ මාමා ගේ වැඩිමහල් දියණිය වූ අතර, අප දෙදෙනා සම වයස්කාරියන් වූයෙමු. ඉතා පියකරු බස්මා පිටුපස තරුණ කොල්ලෝ හඹා ආ නමුදු ඇය ඔවුන් තඹ සතයකට මායිම් නො කළා ය. පාසල් ශිෂ්‍යාවක් වූ බස්මා ගේ එක ම ආසාව වූයේ පොත් කියවීම ය. සිය කාමරය වෙත යන ඇය සයනය මත වැතිරී පැය හතර පහ එක දිගට පොත් කියවන්නට පුරුදු ව සිටියා ය. බොහෝ අවස්ථාවල ඇය කෑම පවා අමතක කොට පොත් කියවීමට පුරුදු වී සිටි අතර, සමහර අවස්ථාවල ඇය බලහත්කාරයෙන් කෑම මේසය වෙත රැගෙන එන්නට නිවැසියන්ට සිදුවිය.

තනිකම සහ පාළුව දැනෙන විට බස්මා ගේ කාමරයට ගොස් ඇය ගේ සයනයේ පසෙකින් වාඩිවන මම ඇයගෙන් මෙසේ ප්‍රශ්න කරන්නට පුරුදු වීමි.

"මොනවද ඔයා කියවන්නෙ?"

"මට කරදර කරන්නෙ නැති ව ඉන්න" ඇය මා දෙස නො බලා ම පිළිතුරු දෙයි.

"ඒ කියන්නෙ මට ඔයත් එක්ක කතා කරන්න බැරි ද?"

"මොනවා ගැන ද ඔයාට කතා කරන්න තියෙන්නෙ?" ඇය මා වෙත කිසි ම අවධානයක් නො දක්වා පහත් හඬින් පිළිතුරු දෙයි.

"මොනවා ගැන ද ඔයා කියවන්නෙ?"

අවසානයේ දී කෙසේ හෝ ඇය ගේ අවධානය මා වෙත ලබා ගැනීමට මම සමත් වෙමි. එවිට ඇය කියවීම නවතා ඇය කියවමින් සිටි පොත ගැන සියලු ම විස්තර මට පැහැදිලි කර කියන්නී ය.

බොහෝ විට ඇය කියවන්නට පුරුදු ව සිටියේ ශෘංගාරය දනවන බොළඳ නවකතා විය. එ වැනි නවකතාවන් හි නොයෙකුත් හැලහැප්පීම් තිබුණ ද අවසානයේ දී පෙම්වතා සහ පෙම්වතිය සිප වැලඳ ගැනීමෙන් පසු සියල්ල සතුටින් නිමාවට පත්විය. මෙ වැනි කතා ඇසීමෙන් මම මහත් තෘප්තියක් ලැබුවෙමි. දෙ අත් දෙ පසට විසි කරමින් දල්වා ගත් දෙනෙතින් යුතු ව ඇය ඒ කතා මට විස්තර කළා ය. ඈ කිය වූ කතා ඇසීමෙන් පසු මටත් අකුරු උගෙනීමට මහත් ආසාවක් ඇති වූයේ අන්

කිසිවක් නිසා නො ව, මට අවශ්‍ය වූ විටක එ වැනි කතා කියවා රස විඳීමට අවස්ථාවක් ලැබෙන බැවිනි.

මගේ අම්මා ගේ සහෝදරයා අබ්දුල්ලා මාමා අපත් සමඟ මාරියම් නැන්දා ගේ නිවසේ පදිංචි ව සිටියේ ය. ඔහු සිය සහෝදරියත් සමඟ ලන්ඩන් නගරයට පැමිණ සිටියේ විශ්වවිද්‍යාල අධ්‍යාපනය ලබා ගැනීම සඳහා ය. මා අකුරු ඉගෙන ගැනීමට කැමැති දැයි දිනක් ඔහු මගෙන් විමසා සිටියේ ය. "වාරිස් මම හිතන්නෙ ඔයා ලියන්ඩ කියන්ඩ ඉගෙන ගත්තොත් හොඳා කියලා... ඔයා කැමැති නං මට ඒකට උදව් කරන්න පුළුවනි." භාෂාව ඉගෙන ගන්නට ඇති පාසල තිබෙන ස්ථානයත්, එහි පන්ති පැවැත්වෙන වෙලාවල් පමණක් නො ව එහි දී නොමිලේ භාෂාව ඉගෙන ගැනීමට හැකි බවත් ඔහු කීවේ ය. මුදල් ගෙවීමකින් තොර ව භාෂාව ඉගෙන ගැනීමට ඇති අවස්ථාව ගැන දැන ගැනීමට ලැබීම මට ඉතා වැදගත් ආරංචියක් විය.

අබ්දුල්ලා මාමා නො කීවා නම් ඉංග්‍රීසි භාෂාව ඉගෙන ගැනීම සඳහා පාසලකට යන්නට අදහසක් කිසි දිනක මා තුළින් නම් මතු වන්නේ නැත. තානාපතිතුමාගෙන් මසකට වරක් ලැබුණ සොච්චම් මුදල පාසල් ගාස්තු වශයෙන් ගෙවන්නට කිසිසේත් ම ප්‍රමාණවත් නො වේ. පොත් කියවීමට මා තුළ වූ අසීමිත ආසාව නිසා ඉංග්‍රීසි භාෂාව ඉගෙන ගැනීමට මට මහත් වුවමනාවක් ඇති විය. ඉංග්‍රීසි ලියන්න, කියවන්න සහ කතා කරන්න ඉගෙන ගන්න මට වුවමනා බැව් මම මාරියම් නැන්දාට කීවෙමි.

මා එංගලන්තයේ ජීවත් වුව ද අප නිවසේ දී කතා කළේ සෝමාලි භාෂාව පමණක් වූ අතර, නැන්දා ගේ නිවසින් පිට ලෝකයක් සමඟ කිසියම් හෝ සම්බන්ධයක් මට නො තිබුණ හෙයින්, ඒ වනවිට මා දැන සිටියේ ඉංග්‍රීසි භාෂාවේ වචන කීපයක් පමණි. මගේ ඉල්ලීමට නැන්දා ගේ පිළිතුර මෙසේ විය. "මම ඒ ගැන කල්පනා කරලා බලන්නම්" නැන්දා මේ සම්බන්ධ ව මාමා සමඟ කතා කළ අවස්ථාවේ ඔහු මගේ ඉල්ලීම තරයේ ම ප්‍රතික්ෂේප කර තිබුණි. එහෙත්, මම නැන්දාට මගේ වුවමනාව ඉටු කරදෙන ලෙස බලකර සිටියත්, ඇයට මාමා ගේ තීරණයට ඉහළින් කටයුතු කරන්නට කොහෙත් ම ශක්තියක් නො තිබුණි. අවසානයේ දී ඔවුන් ගේ අවසරයක් නො මැති ව ඉංග්‍රීසි පාසලට යන්නට මම තීරණය කළෙමි. පාසල පැවැත්වූයේ සතියකට දින තුනක් රාත්‍රී නවයේ සිට එකොළහ තෙක් ය. පාසලට යන අයුරු පෙන්වා දීමට අබ්දුල් මාමා ඉදිරිපත් විය. ඒ වනවිට පහළොස්වන වියේ පසු වූ මා ජීවිතයේ පළමු වරට පාසලක පන්ති කාමරයකට ගිය පළමු වතාව ද එය ම විය. ලෝකයේ නොයෙකුත් රටවලින් පැමිණි විවිධ වයස් ප්‍රමාණයේ

අයගෙන් පන්ති කාමරය පිරී තිබුණි. කිසිවකුට නො දැනෙන්නට නිවසින් පිටවන මා පන්තියේ දී හමු වූ තරමක් වයස්ගත ඉතාලි ජාතිකයකු සිය රථයෙන් මා පන්තියට රැගෙන ගොස් පන්තිය අහවර වූ විට නැවත නිවසට ගෙනැවිත් ඇරලවා ගියේ ය. මම ඉතා වුවමනාවෙන් ඉගෙන ගත් අතර, "වාරිස් ඔයා හුඟක් හොඳයි" කියා ගුරුතුමිය ලවා කියවා ගැනීමට මම උත්සුක වීමි. මම ඉංග්‍රීසි හෝඩිය උගත්තෙමි. අනතුරු ව ඉංග්‍රීසි භාෂාවේ මූලධර්ම ඉගෙන ගැනීමට පටන් ගන්නවාත් සමඟ ම මාමාට සහ නැන්දාට හොරෙන් මා රාත්‍රියට පාසල් යන බව මාමා විසින් සොයා ගන්නා ලදී. මාමාට අකීකරු වී වැඩ කිරීම ගැන මහත් සේ කුපිත වූ හෙතෙම මගේ පාසල් ගමන නවතා දැමුවේ ය.

තව දුරටත් පාසලට ගොස් ඉංග්‍රීසි භාෂාව ඉගෙන ගැනීමට නොහැකි වුවත්, ඥාති සහෝදරිය බස්මාගෙන් පොත්පත් ඉල්ලා ගෙන අඩු තරමින් කියවන්නවත් ඉගෙන ගැනීමට මම උත්සාහ කළෙමි. පවුලේ අය සමඟ වාඩි වී රූපවාහිනිය නැරඹීමට මා හට අවසර නො මැති වුවත්, මා ඔවුන්ට නො දැනෙන්න දොර ළඟට වී ඉංග්‍රීසි වචන උච්චාරණයට සවන් දී සිටීමෙන් නිවැරදි ව ඉංග්‍රීසි වචන උච්චාරණය කිරීමට උත්සාහ කළෙමි. දිනක් මා ඉහළ මහලයේ වූ නිදන කාමරයක් අස් කරමින් සිටින විට වැදගත් යමක් කියන්නට ඇතැ යි කියා නැන්දා මට කතා කරන තෙක් මගේ ජීවිතය සුපුරුදු ආකාරයට ගෙවී යමින් තිබුණි.

"වාරිස් ඔය වැඩේ ඉවර කරලා පහළට එන්න... මට තියෙනවා ඔයාට කාරණයක් කියන්න."

කාමරය අස්පස් කොට හමාර කළ මම පහත මහලයට ගියෙමි.

"මොකද්ද ඔයාගෙ පුංචි මල්ලිගෙ නම?"

"අලි" මම පිළිතුරු දුනිමි.

"නෑ නෑ අර කොණ්ඩෙ සුදු එක්කෙනා."

"ආ නැන්දා ඔය කියන්නෙ ඕල්ඩ්මෑන්" *(ඕල්ඩ්මෑන් යනු සුරතලයට කියන නම)*

"මට හරි කනගාටුයි වාරිස්... ඕල්ඩ්මෑනුයි ඔයාගෙ අක්කා අමානුයි දෙන්නම මැරිලා... ඒ බව කියලා මට අද එහෙන් ටෙලිෆෝන් කෝල් එකක් ආවා."

එ වදන් ඇසීමෙන් මට මගේ ම දෙසවන් අදහා ගනු නො හැකි විය.

නැන්දා දෙස එක එල්ලේ බලා සිටින මට ඇය විහිළු කරනවා යයි සිතුණි. නැතිනම් මම කළ වැරැද්දකට දඬුවමක් කිරීම සඳහා ඇය මෙ වැනි භයානක කතාවක් ගොතා කියනවා යයි සිතුණි.

එහෙත්, එ වැනි යමක සේයාවකුදු ඇගේ මුහුණෙ හි නො වී ය. මගේ දෙපා හිතල වී ගොස් පණ නැති වී යන්නා සේ මට දැනෙන්නට විය. අසල වූ සුදු පැහැති සෝපාවේ මම හිඳ ගතිමි. සමහර විට නැන්දා මට සිද්ධිය ගැන විස්තර කීවා විය හැකි ය. එහෙත්, ඒ කිසිවක් මට ඇසුණේ නැත. මම දෙපා දෙකට වාරුගෙන හතරවෙනි තට්ටුවේ වූ මගේ කාමරය වෙත ගියෙමි. කිසියම් හෝ දෙයක් හරියාකාර ව තේරුම් බේරුම් කර ගැනීමට නො හැකි වූ මම දවස පුරා ම ඇඳ මත වැතිරී සිටියෙමි.

අහෝ! අමන් අක්කාත් ඕල්ඩ්මැනුත් සදහට ම අප අත හැර ගොසිනි. එය සිදුවූයේ කෙසේ ද? මා ගෙදරින් පලා ආ බැවින් ඔවුන් දෙදෙනා සමග කෙළිදෙලෙන් කාලය ගත කරන්නට තිබූ අවස්ථාව මට අහිමි විය. ඔවුන් දෙදෙනා නැවතත් කිසි දිනක මට මුණ නො ගැසෙනු ඇත. ඕල්ඩ්මැන් බුද්ධිමත් වූ අතර, අමන්ට ඕනෑ ම අවස්ථාවකට මුහුණ දෙන්නට ශක්තියක් තිබුණි. එහෙයින් ඔවුන් දෙදෙනා ගේ වියෝව කොහෙත් ම පිළි ගන්නට නො හැකි ය. සත්‍ය වශයෙන් ම ඔවුන් දෙදෙනා මිය ගොසින් නම් අප වැනි හව්හරණක් නො මැති අහිංසක පවුලක අනාගතය කෙබඳු වේ ද?

තවදුරටත් ඔවුන් ගැන සිතා ශෝක නො විය යුතු බැව් එ දින හැන්දෑවේ මම කල්පනා කළෙමි. පියා ගේ තීරණයට විරුද්ධ ව මා ගෙදරින් පලා ආ දින සිට මේ දක්වා කිසි ම දෙයක් මා බලාපොරොත්තු වූ ආකාරයට සිදු වී නො මැත. මේ වන විට මා ලන්ඩනයට පැමිණ දෙවසරක් ගෙවී ගොස් තිබුණි. මගේ අම්මා, සහෝදර සහෝදරියන් අතහැර දමා මා පැමිණි දිගු ගමන තුළ දී ඔවුන් ගේ උණුසුම නො ලැබී යාම නිසා පෙර මට කිසි දා නො දැනුණ තනිකමක් දැනෙන්නට විය. ඒ කිසිවකටත් වඩා ඕල්ඩ්මැන් සහ අමන් අක්කා අප අතරින් සදහට ම සමුගෙන ගොස් ඇති බව සිහි වනවිට දැනෙන ශෝකය දරා ගන්නට මම අපොහොසත් වීමි. පහත මහලයේ ඇති මුළුතැන් ගෙය වෙත ගිය මම පිහි ආදිය දමා ඇති ලාච්චුවක් විවෘත කොට එහි වූ උල් පිහියක් අතට ගෙන නැවතත් මගේ කාමරයට පිය නැගුවෙමි. කාමරයට ගොස් ඇඳ මත වැතිරුණු මා උල් පිහියෙන් ඇනගෙන සිය දිවි නසා ගන්නට කල්පනා කෙරුවෙමි. එවිට අසරණ වී සිටින අම්මා මගේ මතකයට ගලා එන්නට විය. මේ සතිය තුළ මට දෙදෙනෙක් ම අහිමි ව ගොස් ඇත. ඇයට තිදෙනකු අහිමි වී ඇත. මෙ වැනි මොහොතක මා ද සියදිවි නසාගැනීම

ඇයට කරන මහත් අසාධාරණයක් වනු ඇතැ යි මම කල්පනා කළෙමි. මා අත වූ උල් පිහිය ඇඳ අසල වූ මේසය මත තැබූ මම අරමුණකින් තොර ව සිවිලිම දෙස බලා සිටින්නට වීමි. බාස්මා කාමරයට පැමිණ පිහිය ගැන විපරම් කරන තෙක් පිහිය මා අසල මේසය මත තැබූ බව මට සහමුලින් ම අමතක වී ගොස් තිබුණි.

"මොකද මේ පිහියක් මෙතන."

මම ඈ නැඟූ ප්‍රශ්නවලට පිළිතුරු නො දී සිවිලම දෙස ම බලා සිටියෙමි. එවිට මේසය මත වූ පිහිය අතට ගත් බාස්මා කාමරයෙන් පිට වී යන්නට ගියා ය.

එම සිද්ධියට දින කීපයකට පසු දිනක් මා ඉහළ මහලයේ වැඩ කරමින් සිටින විට මාරියම් නැන්දා නැවතත් මා පහළට කැඳවූවා ය. මා පහළ මහලයට යනවිට ඇය මා එනතුරු බලා සිටිනවා මම දුටුවෙමි.

"වාරිස් ඉක්මනට ගිහිල්ලා ටෙලිෆෝන් එක ගන්න."

කිසි ම දිනක දුරකතනයකින් කතා කොට නො තිබුණ මම එ වදන් ඇසීමෙන් විස්මයට පත්වීමි.

"මට ද කීවේ" මම ඇසුවෙමි.

"ඔව් ඔව් ඉක්මනට ගිහිල්ලා කතා කරන්න" ඇය මේසය මත තබා ඇති ටැලිෆෝනයට ඇඟිල්ල දිගු කරමින් කීවා ය.

"ඕක අරගෙන කනේ තියා ගන්න."

ටෙලිෆෝනය වෙත ගිය මම මේසය මත වූ රිසීවරය අතට ගත්තෙමි. කනේ තබා ගත යුතු පැත්ත ගැන මා හට කිසි ම දැනුමක් නො වී ය.

"ඕක කනේ තියාගෙන කතා කරන්න" නැන්දා රිසීවරයේ කනේ තබා ගත යුතු පැත්ත හරවා දෙමින් කීවා ය.

"හලෝ"

එකවරම කිසියම් ළයාන්විත කටහඬක් අනෙක් කෙළවරින් මගේ දෙසවන තුළ දෝංකාර වන්නට විය. ඒ මගේ අම්මා ගේ කටහඬ විය.

"මගෙ දෙවියනේ... මේ අම්මා නේද? අම්මේ ඔයා හොඳින් ඉන්නව ද?"

"නෑ වාරිස්... මට යන්ඩ එන්ඩ තැනක් නෑ... මම ගහක් යටයි ජීවත් වුණේ." අමන් අක්කා සහ ඕල්ඩ්මෑන්ගේ මරණයෙන් පසු ඇයට සිදු වූ

සියල්ල ඇය මට කීවා ය. ඔවුන දෙදෙනා ගේ මරණයෙන් පසු ඇයට කිසිවකු හමුවන්නට හෝ කිසිවකු සමග කතා බහ කරන්නට හෝ රුචියක් නො වූයෙන් ඇය කාන්තරයට පලා ගොස් ඇත. ඉන් පසු ඇය මොගඩිෂු නගරයේ වෙසෙන ඇය ගේ සොහොයුරිය වන සහරු නැන්දා ගේ නිවසට ගොස් ඇත. තවමත් ඇය සහරු නැන්දා ගේ නිවසේ සිටියි. මෙම දුරකතන ඇමතුම ඇය රැගෙන ඇත්තේ සහරු නැන්දා ගේ නිවසේ සිට ය. එදා මම සිය දිවි හානි කර ගත්තා නම් අම්මා කිව නො හැකි තරම් කනගාටුවට පත්වනවා නො අනුමාන යි. එහෙයින් ඒ තීරණය එදා මම වෙනස් කිරීම ගැන දැන් මා තුළ ඇත්තේ අසීමිත සතුටකි.

ඕල්ඩ්මෑන් සහ අමන් මිය ගිය ආකාරය ඇය මට විස්තර කරන්න උත්සාහ කළත් ඇය කළ විස්තරය එ තරම් පැහැදිලි නැත... ඕල්ඩ්මෑන් හදිසියේ ම රෝගාතුර වී ඇත. කාන්තාරයේ තැනින් තැන යමින් ජීවත් වන අප වැනි එඬේරුන්ට වෛද්‍ය පහසුකම් හෝ රෝගය සම්බන්ධ ව යමක් දැන ගැනීමට හෝ ක්‍රමයක් එහි නො මැති අතර, ඇත්තේ විකල්ප දෙකකි. එ නම් ජීවිතය හෝ මරණය යි. යමකු ලෙඩ දුක්වලින් තොර ව ජීවත් වන තුරු සියල්ල හොඳ ය. ලෙඩ දුක් ගැන ද අපි එ තරම් තැකීමක් නො කළේ අන් කිසිවක් නිසා නො ව වෛද්‍ය පහසුකම් නො මැති එ වැනි වාතාවරණයක් තුළ යමකු රෝගාතුර වුවහොත් ඔහු හෝ ඇය හෝ වෙනුවෙන් අපට කරන්නට දෙයක් නො මැති නිසා ය. රෝගයකින් කිසිවකු මරණයට පත් වුවත් එය ද අපට එක් සිද්ධියක් පමණක් වූ අතර, අන් අය පෙර පරිදි ම ජීවන අරගලයට මුහුණ දෙමින් ජීවිතය ජීවත් කරවීමට වෙහෙසෙනු ඇත. *In' shallah* නැති නම් සෑම දෙයක් ම සිදු වන්නේ දෙවියන් ගේ කැමැත්ත අනුව යන්න මේ සියල්ලට ම අප දන්නා පිළිතුර වේ. ජීවිතය අප ලද ආයාදයක් වන අතර, මරණය දෙවියන් ගේ තීරණය මත සිදුවන්නක් බැවින් එය තර්කයකින් තොර ව පිළිගත යුතු ය.

ඕල්ඩ්මෑන් අප පවුලේ සිටි සුවිශේෂ දරුවකු වූ බැවින් ඔහු රෝගාතුර වීම මගේ දෙමව්පියන් අතිශයින් බියට පත් කළේ ය. වෙනත් කළ යුතු දෙයක් නො මැති හෙයින් මොගඩිෂු නගරයේ වෙසෙන අමන් අක්කාට එන්නට කියා අම්මා ඇයට පණිවිඩයක් යවා ඇත. ඕල්ඩ්මෑන් වෛද්‍යවරයකු වෙත ගෙන යාම අරමුණු කරගෙන අමන් අක්කා මොගඩිෂුවල සිට පයින් ම එන්නට පිටත් ව ඇත. ඒ වනවිට මගේ පවුල කාන්තාරයේ කිනම් ඉසව්වක සිටියා ද, නැතිනම් අගනුවර සිට එම ස්ථානයට කෙතරම් දුර ද යන්න ගැන නම් මම කිසිවක් නො දනිමි. අමන් අක්කාට එන ලෙස අම්මා පණිවිඩයක් ඇර තිබුණ නමුත්, ඇය

අට මසක් ගැබබරින් සිටින බවක් අම්මා කිසිසේත් ම දැනගෙන සිටින්නට නැත. අමන් අක්කා පැමිණ ඕල්ඩ්මැන් වෛද්‍යවරයකු වෙත ගෙන යන අතරමග දී අමන් අක්කා ගේ දෙ අත් මත ඕල්ඩ්මැන් අවසන් හුස්ම හෙළා ඇත. එයින් කම්පාවට පත් වූ අමන් අක්කා ද දින කීපයකට පසු මිය ගොස් ඇත. මොන යම් සිද්ධියක් හමුවේ වුව ද නො සැලී සිටින්නට පුදුම හැකියාවක් තිබූ අම්මාට අමන් ගේ සහ ඕල්ඩ්මැන් ගේ හදිසි වියෝව දරා ගත නො හැකි ව නිවස අතහැර කාන්තාරය හරහා සිය සහෝදරිය වෙත යන්නට ඇත. අප පවුලේ කොඳුනාරටිය මෙන් සිටි අම්මා නො මැති ව අප පවුලේ අනෙකුත් අය ගේ ඉරණම ගැන සිතන විට මා තුළ ඇති වූයේ දරාගත නො හැකි වේදනාවකි. අසරණ වී ඇති අම්මාට මේ මොහොතේ උදව් කළ යුතු ව තිබිය දී ලන්ඩන් නගරයේ හිර වී සිටින්නට සිදුවීම ගැන මා ගැන මට ම කලකිරීමක් ඇති විය.

★ ★ ★ ★

කරුණු එ සේ වුව ද මේ සියලු ම ප්‍රශ්නයන් මැද ඔවුන් සිය ජීවිත සටන ඉදිරියට ගෙන යනු ඇත. මම ද මගේ ජීවිතය හැකි තරම් සතුටින් ගත කරන්නට උත්සාහ කළෙමි. නැන්දා ගේ නිවසේ මට අයත් රාජකාරිය නිසියාකාර ව ඉටු කරමින් මගේ ඥාති සහෝදරියන් සහ ඔවුන් හමුවීමට එන මිතුරු මිතුරියන් සමග මම කෙළිදෙළෙන් කාලය ගත කෙරුවෙමි.

ලන්ඩන් නගරයට පැමිණියාට පසු ඇඳුම් පැලඳුම්වලට මා තුළ මහත් රුචියක් ඇති වී තිබුණි. එහෙත්, එ වැනි ඇඳුම් පැලඳුම් ලබා ගන්නට මා හට එ තරම් ආසාවක් නො තිබුණත් එ වැනි නොයෙකුත් ඇඳුම් ඇඳ බැලීමෙන් මම මහත් සතුටක් ලැබුවෙමි. එ මතු ද නො ව ඕනෑ ම අයකු අනුකරණය කිරීමට මට හැකියාවක් තිබුණි. දිනක් නැන්දා ඇතුළු පවුලේ සියලු ම දෙනා රූපවාහිනිය නරඹමින් සිටින අතර, මම මාමා ගේ කාමරයට ගොස් දොර වසා දමා ඔහු ගේ අල්මාරියේ තිබූ ඇඳුම් කට්ටල අතරින් හොඳ ම ඇඳුම් කට්ටලය තෝරා එළියට ගෙන එය ඇඳ මත තැබුවෙමි. සුදු කමිසයක්, සේදවලින් මසන ලද ටයි පටියක්, සත්ව හමකින් නිම කරන ලද තොප්පියක් සහ මෙස් කුට්ටමක් එහි විය. එම ඇඳුම් කට්ටලය මම ඇඟලා ගතිමි. මාමා ටයි පටිය ගැට ගසනවා දැක තිබූ හෙයින් ඒ ආකාරයට ටයි පටිය ගැට ගසා ගැනීමට උත්සාහ කළෙමි. සියල්ල ඇඟලා ගත් පසු මම මගේ ඥාති සොයුරිය බස්මා සොයා ගියෙමි.

මා දුටු ඇය කොක් හඩලා සිනහසෙන්නට පටන් ගත්තා ය.

"ඔයා ගිහිල්ලා ඔයගොල්ලන්ගෙ ඩැඩීට කියන්න කවුද කෙනෙක් ඩැඩී ව හම්බු වෙන්න ඇවිල්ලා ඉන්නවා කියලා."

"ඔයා එයාගෙ ඇඳුම් ඇඳගෙන ඉන්නවා දැක්කම ඩැඩීට හොඳට ම තරහ යයි."

"ඔයා ගිහිල්ලා ඩැඩීට කියන්ඩකෝ මම කිව්ව දේ."

බස්මා මා කියූ දේ ඇගේ පියාට කියන තෙක් මම දොර මුල්ලට වී බලා සිටියෙමි.

"ඩැඩී ඔයා ව හම්බු වෙන්න කවුද ඇවිල්ලා ඉන්නවා." බස්මා සිය පියාට කීවා ය.

"මේ වෙලාවෙ කවුද මා හම්බු වෙන්න ඇවිල්ලා ඉන්නෙ... මොකක්ද එයාගෙ නම... මොනවට ද ඇවිල්ලා ඉන්නෙ... එහෙම අයෙක් දුව මීට ඉස්සෙල්ලා දැකලා තියෙනව ද?"

"ආ... මම හිතන්නෙ ඩැඩී එයා ව දන්නවා... ඇයි ඩැඩී එයාට ඇතුළට එන්ඩ නො කියන්නෙ... එයා අර දොර ළඟ ඉන්නවා" ඇය තරමක් ගොත ගසමින් කීවා ය.

තොප්පිය ඇස් දෙක වැසෙන සේ පහත් කොට සකස් කරගත් මම කලිසම් සාක්කු දෙකෙ හි දෑ අත් රුවාගෙන සාලය මැදට ගියෙමි.

"හලෝ... මිස්ටර්ට මාව අඳුරන්න බැරි ද?" මම ගොරෝසු හඬකින් කියා සිටියෙමි.

දෙ ඇස් ලොකු කර මා දෙස බැලූ මොහොමඩ් මාමා පහත් වී තොප්පියෙන් වැසී ඇති මගේ ඇස් දෙක දෙස බැලුවේ ය. මාව හඳුනා ගත් ඔහු කොක්හඬලා සිනාසෙන්නට විය. නැන්දා ඇතුළු පවුලේ සියලු දෙනා ම ද යටිගිරියෙන් කෑ ගසමින් සිනාසෙන්නට වූහ.

"කවුද ඔයාට මගෙ ඇඳුම් අඳින්න අවසර දුන්නෙ" ඔහු මා වෙතට ඇඟිල්ල දිගු කරමින් ප්‍රශ්න කළේ ය.

"මම විහිළුවට කළේ... මාමට විහිළු තේරෙන්නෙ නැතෙ."

ඊට පසු කීපවරක් ම ඒ විධියට මාමා ගේ ඇඳුම් ලාගෙන මාමා නො සිතූ මොහොතක ඔහු ඉදිරිපිටට ගියෙමි.

"ඔය ඇති වාරිස්... මීට පස්සෙ මගෙ ඇඳුම් අල්ලනවා එහෙම නෙ..."

ඔහු ස්ථිරසාරව ම කියා සිටියේ ය. මෙම සිද්ධිය ගැන ඔහු සිය මිතුරන්ට ද කියමින් සිනා සී ඇති බැව් පසු ව මට දැන ගන්නට ලැබුණි.

මා මෝස්තර නිරූපිකාවක් වන්නට උත්සාහ කරන බව නැන්දා ගේ මිතුරියන් ඇයට දන්වා ඇත. එහෙත්, නැන්දා ඒ ගැන කිසි ම ප්‍රතික්‍රියාවක් දක්වා නො මැත. "අපි සෝමාලි ජාතිකයන් වශයෙන් සහ මුස්ලිම් භක්තිකයන් හැටියට ඔය වගේ දේවල් අපට සුදුසු නෑ" දිනක් නැන්දා මට කීවා ය. එහෙත්, නැන්දා ගේ සමීපතම මිතුරිය ගේ දියණිය ඉමාන් වෘත්තීය මෝස්තර නිරූපිකාවක් ලෙස කටයුතු කිරීම ගැන ඇය කිසි ම විරුද්ධත්වයක් නො දැක්කුවා ය. දීර්ඝ කාලයක් තිස්සේ ඉමාන් ගේ මව සහ නැන්දා හිතවතුන් වූයෙන් ඉමාන් හෝ ඇය ගේ මව් හෝ ලන්ඩන් නගරයට ආ විට නැන්දා බලෙන් මෙන් ඔවුන් ව සිය නිවසේ රඳවා ගන්නා ය. මෝස්තර නිරූපිකාවක් වීමට පළමුවරට මා තුළ ආසාවක් ඇති වූයේ ඉමාන් නැන්දා ගේ නිවසේ නතර වී සිටි දිනවල ඇය සිය වෘත්තිය ගැන විස්තර කරමින් කළ කතා ඇසීමෙන් ය. මගේ ඥාති සොයුරිය බස්මා මිල දී ගෙන තිබූ නොයෙකුත් සඟරාවල වූ ඉමාන් ගේ පින්තූර කපා මම මගේ කුඩා කාමරයේ බිත්තියේ ඇලෙව්වෙමි. සෝමාලි ජාතිකයකු වූ ඉමාන්ට මෝස්තර නිරූපිකාවක් වන්නට හැකි නම් ඇයි මට ඒ දේ කරන්නට නො හැකි යන්න, මා තුළ විතර්කයක් ඇති කිරීමට සමත් විය.

ඉමාන් ලන්ඩනයට පැමිණ නැන්දා ගේ නිවසේ නතර වූ හැම අවස්ථාවක ම ඇය සමඟ කතා කරන්නට සුදුසු අවස්ථාවක් සොයා ගන්නට මම උත්සුක වීමි. මට ඇගෙන් අසා දැන ගන්නට අවශ්‍ය ව තිබුණේ මෝස්තර නිරූපිකාවක් වන්නේ කෙසේ ද යන්න ය. මෝස්තර නිරූපිකාවන් වැනි වෘත්තීන් තිබෙන බව මා යාන්තමින් දැන සිටියත් එ වැනි නිරූපිකාවක් වන්නේ කෙසේ ද යන්න ගැන මා හට කිසියම් හෝ හැඟීමක් නො වී ය. ඉමාන් මාරියම් නැන්දා ගේ නිවසේ නතර වන්නට ආ සෑම අවස්ථාවක ම ඇය නැන්දා සහ මාමා සමඟ අල්ලාප සල්ලාපයේ යෙදෙන්නට පුරුදු ව සිටි අතර, ඔවුන් ගේ කතා බහවලට බාධා කරමින් නිරූපිකාවක් වීමට මට ඇති ආසාව ගැන කතා කිරීමට යාම නැන්දා සහ මාමා කොහෙත් ම අනුමත නො කරන බව මම දැන සිටියෙමි. එ නමුදු දිනක් සන්ධ්‍යා කාලයේ ඇය සමඟ කතා කරන්නට අවස්ථාවක් මම සොයා ගතිමි. ඉමාන් ඇයට දී තිබුණ කාමරයේ සයනය මත වැතිරී පොතක් කියවමින් සිටියා ය. "නිදාගන්න ඉස්සෙල්ලා ඔයාට මොනවා හරි බොන්ඩ අරගෙන එන්න ද?" මම ඇගේ කාමරයේ දොරට තට්ටු කරන ගමන් ඇසුවෙමි. "හොඳයි එහෙනං මට තේ වතුර එකක්

ගෙනත් දෙන්න" ඇය පොත කියවීම මඳකට නතර කොට කීවා ය. තේ කෝප්පයක් ගෙනැවිත් දෙන ගමන් මම කතාව පටන් ගත්තෙමි. "ඔයාගෙ පින්තූර මගේ කාමරේ තියෙනවා... මමත් කැමැති මෝස්තර නිරූපිකාවක් වෙන්න... ඔයා හිතනව ද ඒක අමාරු වැඩක් කියලා... කොහොමද ඔයා මෝස්තර නිරූපිකාවක් වුණේ."

ඇගෙන් මම කුමන පිළිතුරක් බලාපොරොත්තු විය යුතු දැයි මා හට කිසියම් හෝ හැඟීමක් නො වී ය. ඇය විසින් මැජික් යෂ්ටියක් මා වටා කරකවා, මම ද හැඩකාරියක් කරනු ඇතැ යි යන්න මගේ බලාපොරොත්තුව වූවා විය හැක. මෝස්තර නිරූපිකාවක් වන්නට මා තුළ වූ අදහස ඇත්තෙන් ම කිසියම් වියුක්ත අදහසක් පමණි. එදා රාත්‍රියේ ඉමාන් සමඟ මේ සම්බන්ධ ව කතා කිරීමෙන් පසු එ වැනි නොකෙරෙන අරමුණක් පසුපස එල්ලී කාලය කා දැමීම වෙනුවට නැන්දා ගේ නිවසේ දෛනික වැඩ කොටස ගැන කල්පනා කිරීම මැනැවයි මම කල්පනා කළෙමි.

මේ වන විට දාසය වැනි වියේ පසු වූ මම ලන්ඩන් නගරයට පැමිණ වසර දෙකක් ගෙවී තිබුණ අතර, එම කාලය තුළ බටහිර ජීවිතය ගැන සැලැකිය යුතු අවබෝධයක් ලබා සිටි හෙයින් කාලය පිළිබඳ හොඳ වැටහීමක් ද තිබුණි. එය 1983 වසර යි.

1983 වසරේ ගිම්හාන සෘතුවේ දී ජර්මනියේ පදිංචි ව සිටි මගේ මාමා ගේ නැඟණිය මිය ගියා ය. ඇගේ වියෝවෙන් හුදකලා වූ ඇගේ කුඩා දියණිය සොෆී අපත් සමඟ පදිංචියට ලන්ඩනයට පැමිණියා ය. මාමා විසින් ඇය ව ශුද්ධ වූ ආත්මයන් ගේ ක්‍රිස්තියානි පාසලට ඇතුළත් කරන ලදී. කුඩා සොෆී ව අප ගේ නිවස අසල වූ එම පාසලට රැගෙන යාම ද මට පැවැරුණි.

එක් උදෑසනක සොෆීත් සමඟ මා පාසල වෙත යන අතරතුර එක්තරා නාඳුනන පුද්ගලයෙක් මා දෙස ඉතා වුවමනාවෙන් බලා සිටිනු මම දුටුවෙමි. පෙනුමෙන් වයස අවුරුදු හතළිහක් පමණ වූ ඔහු, කොණ්ඩය පිටුපසට පීරා පෝනිටේලයක් ගැට ගසා සිටියේ ය. ඔහු කිසි ම පැකිළීමකින් තොර ව ඍජුව ම මා දෙස බලා සිටියේ ය. සොෆී පාසලට ඇරලවා ආපසු එන අතරතුර මේ පුද්ගලයා මා පසුපස එමින් මා සමඟ කතා කරන්නට උත්සාහ කළේ ය. ඉංග්‍රීසි භාෂාව මා හරිහැටි දැන නොසිටි බැවින් ඔහු කුමක් කියන්නේ ද යන්න මට තේරුමක් නො වී ය. බියට පත් වූ මම පසුපස නො බලා ම නිවස වෙත දිව ගියෙමි. පසු දින ද මා සොෆී පාසල වෙත රැගෙන යනවිට මේ පුද්ගලයා මා සමඟ

කතා කරන්නට උත්සාහ කළ අතර. මම නිවස වෙත දිව ගියෙමි. මේ ආකාරයෙන් මෙම සිද්ධිය කීප දිනක් ම සිදුවිය. දිනක් මා සොපීත් සමඟ පාසල ඇරී ගෙදර යන අතර, පාසලේ දී ඇයට හමුවුණ නව මිතුරියක් ගැන ඇය තොරතෝංචියක් නැති ව කියවන්නට විය. මම උනන්දුවකින් තොර ව ඇගේ කතාවට හූමිටි දුන්නෙමි. තවත් දිනක සොපී රැගෙන ඒමට ප්‍රමාද වී පාසලට යන්නට සිදු වූ අතර, මා එහි යනවිට සොපී තවත් කුඩා දැරියක් සමඟ සෙල්ලම් කරමින් මා එන මඟ බලා සිටියා ය.

"වාරිස්... මේ මගෙ මිතුරිය" ඇය ආඩම්බරයෙන් කීවා ය.

සොපී ගේ නව මිතුරියට මඳක් දුරින් අවුරුද්දක පමණ කාලයක් තිස්සේ මා ලුහුබඳින පෝනිටේල්කාරයා සිටගෙන සිටිනු මම දුටුවෙමි.

"හා යමු" මම සොපී ගේ අතින් අල්ල ගන්නා ගමන් පෝනිටේල්කාරයා වෙත ඇස් දල්වාගෙන කීවෙමි.

ඉංග්‍රීසි සහ ජර්මන් භාෂා ව හොඳින් දැන සිටි සොපීට පෝනිටේල්කාරයා ඉංග්‍රීසි බසින් මොනවදෝ කීවේ ය.

"ඔය මිනිහගෙන් පරිස්සම් වෙන්න... හා දැන් ඉතින් යමු" මම සොපීට අනතුරු අඟවමින් ඇය ගේ අතින් ඇද්දෙමි.

"වාරිස් ඔහොම පොඩ්ඩක් ඉන්න... එයාට දැනගන්න ඕනැලු ඔයාට ඉංග්‍රීසි කතා කරන්න පුළුවන් ද කියලා" සොපී මා දෙසට හැරී කීවා ය.

ඒ සමඟ ම පෝනිටේල්කාරයා සොපීට යමක් ඉංග්‍රීසියෙන් පැවැසුවේ ය.

"එයාට මොනව ද ඔයාගෙන් අහන්ඩ තියෙනවලු" සොපී මා වෙත හැරී කීවා ය.

"මම එයත් එක්ක කතා කරන්න කැමැති නෑ කියලා එයාට වෙන අතක් බලාගෙන යන්න කියන්න" මම ඉවත බලාගෙන කෝපයෙන් කීවෙමි.

එ වදන් මගේ මුවින් පිට වී අවසන් වන්නටත් පෙර සොපී මා කියූ දේ ඔහුට පරිවර්තනය කර කියන්නට සූදානම් විය.

"මෙන්න මෙහෙ එන්ඩ" මම සොපී ගේ අතින් අදිමින් කීවෙමි.

ඒ සිද්ධියට ටික දිනකට පසු දිනක් මා සොපී පාසලට ඇරලවා ගෙදර පැමිණ නිවසේ උඩුමහලේ කාමරයක් අස්පස් කරමින් සිටින අතර, නිවසේ සීනුව නාද විය. එකනෙහි ම මා දොර හරින්නට පහළට දිව

ගිය නමුදු ඒ වනවිටත් මාරියම නැන්දා දොර වෙත ගොස් එය විවෘත කොට තිබුණි. තරප්පු පෙළ මත සිට දොර දෙස එබිකම් කොට බැලූ විට පෝනිටේල් මහත්තයා දොර ළඟ සිටගෙන සිටිනවා දැකීමෙන් මගේ සරුවාංගය පුරා ම හිරිගඩු පිපෙන්නට විය. පාසලේ සිට සොයි රුගෙන ගෙදර එනවිට ඔහු අප ගේ නිවස තෙක් මාව ලුහුබැන්දා විය හැකි ය. මා ඔහු සමඟ නිදා ගත්තා හෝ නැතිනම් මා යමක් සොරකම් කළා හෝ වැනි කිසියම් මුසාවාදයක් ගොතා ගෙන එය නැන්දාට කියන්නට පැමිණ ඇතැ යි පළමුවෙන් ම මා තුළ සැකයක් හට ගැනිණි.

"ඔබ කවුද?" මාරියම් නැන්දා ඇගේ චතුර ඉංග්‍රීසි බසින් ප්‍රශ්න කළා ය.

"මගේ නම මැල්කම් ෆෙයර්චයිල්ඩ්... කරදරයක් කළා නම් මට සමාවෙන්න... මට පුළුවන් ද ඔබත් එක්ක පොඩ්ඩක් කතා කරන්න" ඔහු ඇසුවේ ය.

"මොන කාරණයක් සම්බන්ධව ද?" නැන්දා පෙරළා ඇසුවා ය.

මාරියම් නැන්දා තැතිගෙන සිටින බව මම දුටුවෙමි.

පෝනිටේල් මගේ නැන්දාට මා ගැන කුමක් කියන්නට පැමිණියේදැ යි ආපසු හැරී උඩුමහලට යන ගමන් මම සිතුවෙමි. එකෙනෙහි ම දොර වැසෙන සද්දය මට ඇසුණේ ය. මම නැවතත් පහත මහලයට දිව ගියෙමි. මා එහි යනවිට නැන්දා කුස්සිය දෙසට යමින් සිටියා ය.

"නැන්දෙ කවුද ආවෙ?" මම ඇසීමි.

"මං දන්නෙ නෑ කවුද මිනිහෙක්.... ඒ මිනිහට ඔයාගෙ පින්තූරයක් ගන්න වුවමනාලු. ඒ හින්ද ඔයත් එක්ක ඒ ගැන කතා කර ගන්න ආවා කියලා කිව්වෙ... විකාර." ඇය මා දෙස තීව්‍ර බැල්මක් හෙළමින් කීවා ය.

"නැන්දෙ ඔය මිනිහත් එක්ක මම වචනයක්වත් කතා කරලා නෑ."

"මං දන්නවා... ඒක හින්ද තමයි ඒ මිනිහා මෙහෙට ඇවිල්ලා තියෙන්නෙ... හා හා ඒකෙන් වැඩක් නෑ, ඔයා ගිහිල්ලා ඔයාගෙ වැඩ ටික ඉවරයක් කරන්න... මම ඒ මිනිහා ගැන බලා ගන්නම්" ඇය කීවා ය.

එහෙත්, ඒ ගැන වැඩි යමක් කීමෙන් ඇය වැළකී සිටියා පමණක් නො ව ඇය තරමක කෝපයෙන් සහ ඉච්චාභංගත්වයකින් පසුවනු දුටු මා තුළ එ සේ වන්නට හේතුව පෝනිටේල්ට මගේ නිරුවත් පින්තූර ගැනීමට වුවමනා බවක් නැන්දාට කියා සිටියා දැයි මා තුළ සැකයක්

පහළ විය. එයින් පසු මින් ඉදිරියට එ වැනි සිදුවීමක් නො වන්නට මම කටයුතු කළෙමි.

එම සිද්ධියෙන් පසු සොපීව රැගෙන එන්නට මා පාසලට ගිය සෑම අවස්ථාවක ම මෙන් පෝතිවේල් එහි සිටියත්, ඔහු මා සමඟ කතා කරන්නට උත්සාහ නො කළ අතර, ආචාරශීලී ව මා දෙස බලා සිනා සී ඔහු පැමිණි කාර්යයේ නියැළිණි. දිනක් මා සොපීත් සමඟ පාසලේ සිට එන අතරතුර දී පෝතිවේල් මා පිටුපසින් පැමිණ මා අත කාඩ්පතක් තබා යන්නට ගියේ ය.

"පලයන් යන්ඩ... මට මගෙ පාඩුවෙ ඉන්ඩ දීලා" එ සේ බැණ වදිමින් මම ඔහු ගේ මුහුණ දෙස බලාගෙන ම කාඩ්පත ගෙන සාක්කුවේ රුවා ගතිමි.

සොපීත් සමඟ ගෙදර පැමිණි වහා ම මම නිවසේ උඩුමහලට ගොස් මගේ ඥාති සොහොයුරිය බස්මා ගේ කාමරයට ඇතුළු වුණෙමි. මා එහි යනවිට ඇය සුපුරුදු ලෙස පොතක් කියවමින් සිටියා ය.

"බස්මා මේ බලන්ඩ" මා ද සුපුරුදු ලෙස ඇය ගේ කියවීමට බාධා කරමින් පෝතිවේල් දුන් කාඩ්පත ඇය අත තැබුවේ ය.

"මතක ද මම ඔයාට කියලා තියෙනවා අර හැමදා ම මා පිටිපස්සෙන් එන මිනිහෙක් ගැන... ඒ මිනිහා තමයි මේ කාඩ් එක මට දුන්නෙ... මොනව ද ඕකෙ ලියලා තියෙන්නෙ."

"මේකෙ තියෙන්නෙ ඒ මිනිහා ඡායාරූප ශිල්පියෙක් කියලා."

"මොන වගේ පින්තූර ගන්න කෙනෙක් ද?"

"විලාසිතා පින්තූර ගන්න කෙනෙක්."

"වි ලා සි තා ඡායාරූප ශිල්පියෙක්" මම ඒ හැම වචනයක් ම සීරුවෙන් උච්චාරණය කළෙමි.

"ඒ කියන්නෙ අලුත් ඇඳුම් පැලඳුම්වල පින්තූර ගන්න කෙනෙක්... ඒ කියන්නෙ මට ඇඳුම් අන්දවලා එයා මගෙ පින්තූර ගන්නවා."

"මම දන්නෙ නෑ වාරිස්... ඇත්තට ම මම දන්නෙ නෑ" එ සේ කියමින් බස්මා නැවතත් පොත කියවන්නට පටන් ගත්තා ය.

මම කාඩ්පත ඇගෙන් ඉල්ලා ගෙන කාමරයෙන් පිට වුණෙමි. මගේ කාමරයේ එක් තැනක මම කාඩ්පත සඟවා තැබුවෙමි. කිසියම් අදෘශ්‍යමාන හඬකින් ඒ කාඩ්පත ගැන විශ්වාසය තබන ලෙස කවුදෝ කියනු මට ඇසුණි.

මගේ ඥාති සහෝදරිය බස්මා මගේ උපදේශිකාව වූවා පමණක් නො ව, ඇය මට ශක්තියක් වූවා ය. ඇගේ සහෝදරයා ගේ හැසිරීම සම්බන්ධ ව ඈ මා හට ලබා දුන් ගුරුහරුකම ගැන මා තුළ ඈ කෙරෙහි පෙර නො වූ විරූ කෘතඥතාවයක් ඇති විය.

විසිපස් හැවිරිදි හජ්ජි මගේ මාමා ගේ දෙවන පුතා ය. ඔහු සිය පියා මෙන් ම ඉගෙන ගැනීමට අති දක්ෂයකු වූ අතර, ඒ වන විට හෙතෙම ලන්ඩන් විශ්වවිද්‍යාලයේ ඉගෙනුම ලබමින් සිටියේ ය. මා මෙහි පැමිණි දින සිට ඔහු මා හට මහත් කුලුපගකමක් දැක්වූයේ ය.

"වාරිස් ඔයා නාන කාමරය සුද්ද කරලා ඉවර ද?"

"නෑ තව ටිකක් තියෙනවා."

"ඔයාට පාවිච්චි කරන්න ඕනෑ නම් එන්න... ඊට පස්සෙ මට සුද්ද කරන්න පුළුවන්."

"නෑ නෑ... මම ඇහුවෙ ඔයාට මොනව හරි උදව්වක් අවශ්‍ය ද කියලා" හජ්ජි කීවේ ය.

"එහෙනම් ඉන්ඩ මම පහළට ගිහිල්ලා ඔයාට බොන්න මොනවා හරි අරගෙන එන්නම්." ඇත්තෙන් ම ඔහු ගේ කාරුණිකභාවය ගැන මා තුළ සතුටක් ඇති වී තිබුණි. අපි නිතර ම විහිළු තහළු කරමින් කතා බහ කරන්නට පුරුදු ව සිටියෙමු.

සමහර අවස්ථාවල මා නාන කාමරයේ සිට එළියට එන විට හජ්ජි දොර ළඟට වී මට එළියට යා නො හැකි වන සේ දොර හරස් කරගෙන සිටියි. මා කෙසේ හෝ පැන යන්නට සූදානම් වනවිට ඔහු එය වළක්වන්නට උත්සාහ කරයි. මේ ආකාරයට නිතර නිතර අප අතර විහිළු තහළු ඇති විය. එහෙත්, ඔහු ගේ මෙම හැසිරීමේ කිසියම් සැඟවුණු අර්ථයක් ඇති බව මා හට ඇනෙන්නට වූයෙන් මා තුළ කිසියම් නොසන්සුන්තාවයක් ඇති වන්නට පටන් ගැනුණි. එ මතු ද නො ව හජ්ජි ඔහු නිතර ම මා දෙස අමුතු විදියකට බලන්නට පටන් ගත්තේ ය. හජ්ජි ගේ මෙම හැසිරීම මා තුළ ඔහු කෙරෙහි කිසියම් පිළිකුලක් ඇති කිරීමට සමත් වූයෙන් ඔහුගෙන් මම ඈත් වී සිටින්නට තීරණය කළෙමි.

දිනක් මා වැසිකිළිය පිරිසිදු කර බාල්දිය සහ මුස්නය ද රැගෙන එළියට එනවිට හජ්ජි දොර හරස් කරගෙන සිටියේ ය. ඔහු එකවර ම මගේ අතින් අල්ලා ඔහු වෙතට මා ඇද්දේ ය.

"මොකද මේ" මම නො සන්සුන් ව කෑ ගැසුවෙමි.

"නෑ නෑ මොකුත් නෑ" කියමින් ඔහු එකවර ම මා මුදා හැරියේ ය. බාල්දිය රැගත් මම කිසිවක් සිදු නො වූවාක් මෙන් ඊළඟ කාමරය පිරිසිදු කරන්නට ගියෙමි. එම සිද්ධියෙන් පසු ව මෙ වැනි සිද්ධියක් නැවත ඇති වුවහොත් ඒ ගැන පුදුම නො විය යුතු යයි මගේ හෘදසාක්ෂිය මට දෙස් දෙන්නට විය.

පසු දින රාත්‍රියේ පාන්දර තුනට පමණ මා නිදා සිටින විට එකවර ම කවුරුන් හෝ පියගැට පෙළ නැඟ උඩුමහලට එන අඩි ශබ්දයක් මට ඇසෙන්නට විය. මගේ කාමරයේ අනෙක් කෙළවරේ බස්මා ගේ කුඩා නැඟණිය සුක්‍රී නිදාගෙන සිටි අතර, ඇය තද නින්දකට වැටී සිටියා ය. හජ්ජි කොහේ හෝ ගොස් ගෙදරට පැමිණ ඇති බවත්, ඔහු ගේ කාමරය තිබුණේ මගේ කාමරයට යාබද ව බැවින් අනුමානයක් නැති ව හජ්ජි උඩුමහලට එනවා ඇතැ යි මම සිතුවෙමි. ඔහු අඩි තබන සද්දයට අනුව හජ්ජි බීමත් ව ඇතැ යි මම අනුමාන කළෙමි. මගේ මාමා ඇතුළු පවුලේ සියලු ම දෙනා ම අවංක මුස්ලිම් බැතිමතුන් වූයෙන් මෙ වැනි හැසිරීමක් කොහෙත් ම අනුමත නො කරනු ඇත. එහෙත්, හජ්ජි තරුණ වියට පා තබා ඇති අයකු බැවින් තමන් කැමැති දේ කරන්නට හෙතෙම උත්සාහ කරනවා ඇතැ යි මම කල්පනා කළෙමි.

එකවර ම මගේ කාමරයේ දොර සෙමින් විවෘත වන්නට විය. එය දුටු සැණින් මගේ සර්වාංගය පුරා ම හිරිගඩු පිපෙන්නට විය. හජ්ජි ඔහු ගේ නැඟණිය අවදි නො කරන්නට වග බලා ගනිමින් සීරුවෙන් අඩි තබමින් ඉදිරියට එනු අඩ අඳුරේ මම දිටිමි. එකවර ම පය පැටලී වැටුණු හජ්ජි බඩ ගාගෙන මගේ ඇඳ වෙතට පැමිණියේ ය. සයනය වෙත පැමිණි හජ්ජි එහෙ මෙහෙ අතපත ගාමින් මගේ මුහුණ සොයන්නට උත්සාහ දැරුවේ ය. තද නින්දේ පසුවන බවක් අඟවමින් මම නිසොල්මන් ව ඇඳ මත වැතිරී සිටියෙමි. සිහිනයක් දැක තැති ගත් අයකු මෙන් සුක්‍රීව අවදි කර ගැනීමෙ අදිටනින් නොයෙකුත් සද්ද නැඟුවෙමි. වාරිස් කියා වරක් ඔහු මා ඇමැතුවේ ය. ඔහු ගේ මුවෙන් ගලා ආ මද්‍යසාර උෂ්ණය ඔහු බීමත් ව ඇතැ යි මා ගත් නිගමනය සැබෑ කළේ ය. තවදුරටත් කාමරයේ සිටින්නට තරම් ආත්ම ශක්තියක් නො මැති වීමෙන්දෝ හජ්ජි කාමරයෙන් පිට වී ඔහු ගේ කාමරයට ගොස් දොර වසා ගත්තේ ය.

පසුදින උදාසන ම මම බස්මා ගේ කාමරයට ගියෙමි.

"බස්මා මට කාරණයක් තියෙනවා ඔයත් එක්ක කතා කරන්න" මම කීවෙමි.

මගේ මුහුණේ ඉරියව් වෙනස් වී ඇති බව දුටු බස්මා මෙ වතාවේ නම් මා ඇගේ කාමරයට පැමිණ සිටින්නේ කාලය කා දැමීමට නොවන බව ඇය තේරුම් ගත්තා ය.

"එහෙනං ඔය දොර වහන්න" ඇය කීවා ය.

"මේක ඔයා ගේ සහෝදරයා හජ්ජි ගැනයි" මම දිගු සුසුමක් ඉහළට ගනිමින් කීවෙමි.

මෙය කෙසේ ඇයට කිව යුතුදැයි මා තුළ දෙගිඩියාවක් ඇති ව තිබූ අතර, මා ඇයට කියන්නට යන දේ ඇය විශ්වාස කරත්වා යි මම දෙවියන්ට යාඥා කළෙමි.

"මොකක් ගැන ද වාරිස්" ඇය තැති ගත් ස්වරයකින් ඇසුවා ය.

"ඊයෙ රෑ හජ්ජි මගෙ කාමරයට ආව නෙ... එතකොට වෙලාව පාන්දර තුනට විතර ඇති."

"ඉතින්... මොනව ද එයා කළේ."

"එයා මගෙ මූණ අතගාන්න හැදුවා... ඒ විතරක් නෙමෙයි මගෙ නම කියලා කතා කළා."

"ඔය ඇත්තම ද? නැත්තං ඔයා හීනයක්වත් දැක්ක ද?"

"මට හොඳට ම මතකයි එයා මා දිහා බලාගෙන හිටි හැටි. හරියට ම එයා තනිය ම මාව හමුවුණ වෙලාවට මා දිහා බලන විදියට ම යි බලාගෙන හිටියෙ."

"ඔයා ක්‍රිකට් ගහන පිත්තක් හරි මුස්නයක් හරි ගෙනැවිල්ලා ළඟ තියා ගන්න... නෑ නෑ අර කටු තියන රෝල්පින් එක ගෙනැල්ලා කොට්ටෙ යට තියා ගන්න... ආයෙත් එයා රෑට ආවොත් හොඳට දැන බලා අල්ලගෙන රෝල්පින් එකෙන් ඔළුවට පාරක් දෙන්න... ඊට පස්සෙ හයියෙන් කෑ ගහන්න ගෙදර ඔක්කොට ම ඇහෙන්න."

"දෙවියන්ට පින්සිදු වේවා... බස්මා මගේ පැත්තට ඉන්නවා."

මෙ වැනි සිද්ධියකට මුහුණ දෙන්න සිදු නො වේවායි මම දෙවියන්ට යාඥා කළෙමි. යම් හෙයකින් ඔහු නැවතත් මගේ කාමරයට ආවොත් නිසැකයෙන් ම රෝල්පින් එකෙන් ඔහුට පහර දෙන්නට මට සිදුවනු ඇත. ඊට පසු සිද්ධිය සම්පූර්ණයෙන් ම විකෘති කොට ඔහු සිය දෙමව්පියන්ට කීවොත් ඔවුන් බොහෝවිට මා ගෙදරින් පන්නා දමන්නට ඉඩ ඇත.

එහෙත්, ඕනෑ ම දෙයකට මුහුණ දෙන්නට සූදානමින් සිටිය යුතු බව ඉවෙන් මෙන් මම වටහා ගතිමි.

පසුදින සැන්දෑ වරුවේ කුස්සියට ගොස් එහි වූ රෝල්පින් එක සඟවා ගෙනැවිත් මගේ ඇඳේ මෙට්ටය යට තැබුවෙමි. එ දින රාත්‍රියේ බස්මා ගේ කුඩා නැඟණිය නින්දට වැටෙන තුරු බලා සිටි මම රෝල්පින් එක ගෙන මා අසලින් තබා ගත්තෙමි. හරියට ම පාන්දර තුනට හජ්ජි මගේ කාමරය වෙත පැමිණ කාමරයට ඇතුළුවන දොර අසල නැවැතුණේ ය. මම එක ඇහැක් ඇරගෙන සයනය මත වැතිර සිට ඔහු දෙස බලා සිටියෙමි. කොරිඩෝවේ වූ ජනේලයක් තුළින් වැටී තිබූ මලානික එළියෙන් ඔහු ගේ උපැස් යුවළ දිලිසෙන සැටි මම දුටුවෙමි. අනතුරු ව ඔහු මගේ සයනය වෙත පැමිණ මගේ උරහිසට තට්ටු කරන්නට විය. මද්‍යසාර උෂ්ණය ඔහු වෙතින් ගලා ආවේ ය. එහෙත්, මම නො සැලී, වෙන්නට යන දේ ගැන පමණක් සැලකිලිමත් ව සිටියෙමි.

හජ්ජි මගේ සයනය අසල දණ ගසාගෙන මා පොරවා ගෙන සිටි රෙද්දට යටින් අත දමා මගේ එක් පාදයක් මත අත තබා එය මගේ කලවා තෙක් ගෙන ආවේ ය. අනතුරු ව ඔහු එ තැනින් නතර නො වී සිය අත මගේ යට ඇඳුම තෙක් ගෙන ආවේ ය. ඔහු පැලඳ සිටි උපැස් යුවළ බිඳ දැමිය යුතු යයි මම කල්පනා කළේ අන් කිසිවක් නිසා නො ව, එය ඔහු මගේ කාමරයට පැමිණි බව ඔප්පු කිරීමට හොඳ නිදසුනක් බැවිනි. රෝල්පින් එකේ මිට තදකර අල්ලා ගත් මා ඔහු ගේ මුහුණ හරහා වැරෙන් පහරක් එල්ල කළෙමි. එකවර ම බොල් හඬක් නැඟුණ අතර, උස් හඬින් කෑ ගැසුවේ ය.

කෑ ගසන හඬින් අවදි වූ සුක්‍රි නැඟිට සයනය මත හිඳ ගත්තා ය. එකනෙහි ම නිවසේ නොයෙකුත් පැතිවලින් මගේ කාමරය දෙසට එන අඩි සද්ද ඇසෙන්නට විය. හජ්ජි ගේ උපැස් යුවළ මා ගැසූ පහරින් කුඩු වී ගොස් තිබුණි. උපැස් යුවළ නො මැති ව ඔහුට කිසිවක් නො පෙනුණ හෙයින් ඔහු බඩ ගාගෙන ඔහු ගේ කාමරයට ගියේ ය.

බස්මා පැමිණ මගේ කාමරයේ විදුලි ලාම්පුව දැල්වුවා ය.

"මේ මොකද?" සියල්ල හොඳින් දැන සිටි බස්මා ඒ කිසිවක් නොදන්නා බව හඟවමින් ඇසුවා ය.

"හජ්ජි අපේ කාමරයට ආවා" සුක්‍රි පිළිතුරු දුන්නා ය.

ඒ සමඟ ම මාරියම් නැන්දා මගේ කාමරයට පැමිණියා ය.

"නැන්දෙ හජ්ජි කාමරයට ආවා... ඊයෙ රෑත් ආවා... මට කරදර කරන්න හැදුවා. ඉතින් මම ගැහැව්වා" හජ්ජි ගේ කැඩී බිඳී ගොස් තිබූ උපැස් යුවලේ වීදුරු කටු ඇයට පෙන්වමින් මම කීවෙමි.

"මීට පස්සෙ මේ වගේ දෙයක් අහන්න ඉඩ තියන්න එපා... දැන් ඔක්කොම කාමරවලට ගිහිල්ලා නිදාගන්න එකයි ඇත්තෙ" ඇය දැඩි ස්වරයකින් කියා සිටියා ය.



# 10

# මම නිදහස් ගැහැනියක්මි



එදා රාත්‍රියේ මා හජ්ජිට පහර දීමේ සිද්ධිය සම්බන්ධ ව තිවසේ කිසිවකු නැවතත් ඒ ගැන කතා නො කළේ ය. වෙනදා මෙන් හජ්ජි තවදුරටත් මා දෙස කෑදර ව බලන්නට පුරුදු ව සිටි කෑදර බැල්ම, එම සිද්ධියෙන් පසු වෙනස් නො වන්නට ඇත්තේ ම එදා සිදු වූ සිද්ධිය හුදෙක් සිහිනයක් පමණක් විය හැකි ව තිබුණි. වෙනදා ඔහු මා දෙස බැලූ කෑදර බැල්ම වෙනුවට දැන් දැන් එහි ද්වේෂයක් වෛරයක් ගැබ් වී ඇති බවක් පෙනෙන්නට විය. ඒ අමිහිරි ප්‍රශ්නය අහවර වනවාත් සමග ම තවත් ප්‍රශ්නයකට මා හට මුහුණ දෙන්නට සිදුවිය. එ නම් මොහොමඩ් මාමා ගේ රාජකාරි කාලය අවසන් වීම හේතුවෙන් සති දෙක තුනක් ඇතුළත සිය පවුල ම පෙරළා සෝමාලියාවට යන බව මාමා ප්‍රකාශයට පත් කිරීමත් සමග මා නැවතත් ප්‍රශ්නයකට මැදිවිය.

මා මෙහි පැමිණි දිනවල මට දැනුණේ අවුරුදු හතරක් යනු කල්පාන්තයක් මෙනි. එහෙත්, ඇස් ඇදැහිය නො හැකි ලෙස දැන් ඒ කාලය ගෙවී ගොස් හමාර ය. පෙරළා සෝමාලියාවට යන්නට සිදුවීම ගැන මා හට එ තරම් ප්‍රශ්නයක් නො වූවත් එංගලන්තය වැනි පොහොසත් රටක සිට තම ගම් රටවල් බලා යන සෑම අප්‍රිකානු ජාතිකයකු ගේ ම මෙන් ම මගේ ද එක ම සිහිනය වූයේ සාර්ථක ගැහැනියකු මතු නො ව අතමිට සරු ව ගෙදර යන්නට ය. සෝමාලියාව වැනි දුගී දුප්පත් රටවල වෙසෙන ජනයා මොන යම් හෝ මාර්ගයකින් සෞදි අරාබියට, යුරෝපයට නැතිනම් ඇමෙරිකාව වැනි රටවලට යන්නට උත්සාහ කිරීමේ

ඒකාන්ත අරමුණ අන් කිසිවක් නො ව මුදලක් හරි හම්බ කරගෙන එ මඟින් තම අන්ත දුගී දුප්පත් පවුල්වලට උදව් උපකාර කිරීම ය.

එ නමුදු දැන් මට පෙරළා ගම්රට බලා යන්නට සිදු ව ඇත්තේ හිස් අතිනි. ගෙදර ගිය පසු අම්මාට කියන්නට තිබෙන්නේ මොනවා ද? පැස්වා පිසින්ට දන්නා බව ද? නැතිනම් තාත්තාට කියන්නට තිබෙන්නේ මා වැසිකිළි පිරිසිදු කිරීමට උගත් බව ද? හුහ්... වැසිකිළි යනු කුමක්දැයි තාත්තා නිසැකයෙන් ම අසනු ඇත. එහෙත්, මා සල්ලි රැගෙන පැමිණ ඇති බව ඔහුට කිවහොත් නිසැකයෙන් ම ඔහුට එය ඒකාන්තයෙන් ම වැටහෙනු ඇත. මන්ද මුදල් යනු විශ්ව භාෂාවක් බැවිනි.

මාමා ගේ නිවසේ වැඩකාරියකු වශයෙන් පුරා වසර හතරක් වැඩ කිරීම සඳහා මට ලැබුණ සුළු වැටුප ඇත්තෙන් ම සැලකිය යුතු මුදලක් නොවී ය. මගේ එක ම සිහිනයත් අරමුණත් ජීවිතය රැක ගැනීමට දහසකුත් දුෂ්කරතාවයන්ට මුහුණ දෙමින් කාන්තාරයේ තැනින් තැනට යන අම්මාට නිවසක් ලබා දීමට ප්‍රමාණවත් මුදලක් උපයා ගැනීම ය. නිවසක් මිල දී ගැනීම සඳහා මුදලක් හරිහම්බ කිරීම භාරදූර කාරියක් වශයෙන් පෙනුණත් අමෙරිකානු ඩොලරයකට සෝමාලියාවේ දී ලබාගත හැකි මුදල දෙස බලන විට ඩොලර් දෙදාහක් ඇත්නම් මගේ අරමුණ ඉටුකර ගැනීමට ප්‍රමාණවත් ය. එංගලන්තයට මා පැමිණි දින සිට ම මගේ එක ම අරමුණ වූයේ මෙහි රැඳී සිට අම්මාට නිවසක් අරගෙන දීමට ප්‍රමාණවත් මුදලක් සොයාගෙන ගෙදර යන්නට ය. මන්ද යම් හෙයකින් සෝමාලියාවට යන්නට සිදු වුවහොත් නැවත යුරෝපා රටකට එන්නට නො හැකි බව මා දැන සිටි බැවිනි. එහෙත්, මගේ ඒකායන අරමුණ කෙසේ ඉටුකර ගත හැකිදැයි මා තුළ කිසි ම අදහසක් නො වූවත්, මාමා ළඟ මේ කරගෙන යන වහල් සේවයෙන් මිදුණ දිනට කෙසේ හෝ මගේ අරමුණ ඉටුකර ගැනීමට හැකි වේ යයි දැඩි විශ්වාසයක් මා තුළ විය.

ලන්ඩනයේ නතර වීමට මා තුළ වූ අදහසට නැන්දා සහ මාමා සම්පූර්ණයෙන් ම විරුද්ධත්වය ප්‍රකාශ කළහ.

"අවුරුදු දහඅටක කෙල්ලෙක්... හරි හමන් රැකියාවක් නැති ව... ඉන්ඩ හිටින්ඩ තැනක් නැති ව ඒ විතරක් නෙමෙයි රැකියා බලපත්‍රයක් නැති ව ඉංග්‍රීසිත් බැරුව කොහොමද ඔයා තනියම මෙහෙ ජීවත් වෙන්නෙ" නැන්දා බෙරිහන් දුන්නා ය.

"නෑ නෑ... ඔයා අපිත් එක්ක යන්ඩ ලෑස්ති වෙන්ඩ ඕනෑ" ඇය ස්ථිරසාරව ම කීවා ය.

ලන්ඩනය හැර යන දිනය අප වෙත ඇනුම් දුන් මාමා තම තමන් ගේ ගමන් බලපත්‍ර නිසි අන්දමින් තිබෙනවා ද යන්න පරීක්ෂා කර බලන ලෙස ලන්ඩනය හැර යන්නට සති කීපයකට කලින් අපට කීවේ ය. ඔහු කියූ ආකාරයට මම මගේ ගමන් බලපත්‍රය තුලට ම ආරක්ෂා කර ගතිමි. මගේ ගමන් බලපත්‍රය පොලිතීන් කවරයකට දමා සීල් තබා එය ගෙන ගොස් නිවස පිටුපස වූ උද්‍යානයේ වළක් කපා එහි වළලා දැමුවෙමි.

ලන්ඩන් නගරය හැර යන්නට යෙදී තිබුණ දිනට පෙර දින උදා වන තෙක් නො ඉවසිල්ලෙන් බලා සිටි මම මගේ ගමන් බලපත්‍රය තබා තිබූ තැන නො මැති බව නැන්දාට කීවෙමි. මගේ සැලැස්ම සරල ය. එ නම් ගමන් බලපත්‍රයක් නො මැති ව ඔවුන්ට මා රටෙන් පිටතට රැගෙන යාමට නො හැකි ය.

“වාරිස් ඉතින් කොහෙද ඔයාගෙ පාස්පෝර්ට් එක ඇත්තෙ... අනෙක ඔයා ගෙදරින් පිට කොහේවත් ගියා ද පාස්පෝර්ට් එකත් අරගෙන” මාමා සැකයෙන් ප්‍රශ්න කළේ ය.

“ඒක තමයි මටත් හිතා ගන්න බැරි... සමහර වෙලාවට මම කාමරේ සුද්ද කරද්දි බැරිවෙලා පාස්පෝර්ට් එකත් වීසි කරලා දැම්ම ද දන්නෙ නෑ” මම මාමා ගේ මුහුණ දෙස සෘජුව බලාගෙන කීවෙමි.

ලන්ඩන් නගරයේ රැඳී සිටීමට මා තුළ වූ ඉමහත් අභිලාෂය ගැන මාමා තේරුම් ගෙන මා සෝමාලියාවට රැගෙන යනවා වෙනුවට එංගලන්තයේ නවතින්නට වීසාවක් සාදා දෙනු ඇතැ යි මම බලාපොරොත්තු වූයෙමි. ඔහු තවමත් සෝමාලියාවේ බ්‍රිතාන්‍ය තානාපති බැවින් අවශ්‍ය නම් එය ඔහුට කළ හැකිව ද තිබුණි.

“දැන් ඉතින් අපි මොකද කරන්නෙ වාරිස්... අපිට බෑ ඔයාට ඔහොම ඉන්ඩ ඇරලා යන්ඩ.”

මගේ ගමන් බලපත්‍රය කෙසේ හෝ නැති වී ඇති බව මම දිගට ම කියා සිටියෙමි. එහෙත්, මා වෙනුවෙන් කිසි ම උදව්වක් කිරීමට නොහැකි බව මොහොමඩ් මාමා පුන පුනා කීවේ ය.

“දැන් ඉතින් කරන්ඩ තියෙන්නෙ ඔයාගෙ අත පය බැඳලා බැග් එහෙකට දාලා අහස් යාත්‍රාවට ගෙනියන එකයි.” මාරියම් නැන්දා ඇගේ අදහස කීවා ය. ඇත්තෙන් ම එය තර්ජනයක් බැවින් මගේ අවධානය එයට යොමු වූයේ නිතැතිනි.

“නැන්දෙ මම එකක් කියන්නම්... ඔයා මට ඒ වගේ වැඩක් කළොත් ඒකනං මම කිසිදාක අමතක කරන්නෙ නෑ” මම කීවෙමි.

"මට මෙහෙ ඉන්ඩ ඇරලා ඔයගොල්ලො යන්ඩ... මම මා ගැන බලා ගන්නම්."

"ඔව් ඔව් ඔයා බලා ගනී... ඒක ඔයාට කවදාවත් කරන්ඩ බෑ" ඇය සරදම් ලෙස කීවා ය.

ඇය කනස්සල්ලෙන් පසුවන බව ඇගේ ඉරියව්වලින් පැහැදිලි විය. මුළුමහත් ලන්ඩන් නගරය පුරා ම ඇයට මිතුරියන් ඇත. එ මෙන් ම මාමාට නොයෙකුත් උසස් මෙන් ම බලවත් අය සමඟ සම්බන්ධකම් ඇත. එක දුරකථන ඇමැතුමකින් මට කරදරයකින් තොර ව ලන්ඩනයේ රැඳී සිටින්නට අවස්ථාවක් ඔවුනට සලසා දෙන්නට පුළුවන. ඔවුන් දෙදෙනා කෙසේ හෝ මා සෝමාලියාවට රැගෙන යන්නට උත්සාහ කළා මිස එ වැනි දුරකථන ඇමැතුමක් දී මට සහනයක් සලසා දෙන්නට නම් ඉදිරිපත් වූයේ නැත.

තට්ටු හතරකින් සමන්විත නිවස තුළ පසුදින එක ම ගාලගෝට්ටියක් විය. සෑම අයෙක් ම ගෙන යා යුතු බඩු අහුරමින් සිටි අතර, දුරකථනය නො නවත්වා ම නාද වන්නට විය. පුරා වසර හතරක් තුළ මා එක්කාසු කරගත් සුළු සුළු දේවල් බෑග් එකකට දමාගෙන මම මගේ කුඩා කාමරයෙන් පිට වන්නට සූදානම් වූයෙමි. මට ලැබුණ නොයෙකුත් ඇඳුම් මා වැනි ගැහැනියකට නො ගැළපෙන බව වැටහුණ බැවින් ඒ ඇඳුම් මම විසිකර දැමුවෙමි.

එ දින උදාසන හතට පමණ රියැදුරා විසින් අත් බෑග් ආදිය රථයට පටවන අතර, නැන්දා ගේ පවුලේ සියලු ම දෙනා නිවසේ සාලයට එක් රොක් වූහ. ලන්ඩන් නගරය මතට හිම පතිත වෙමින් තිබූ ඒ අඳුරු දිනයේ මා නැන්දා ගේ නිවසට පැමිණි පළමුවෙනි දිනයත් රියැදුරා විසින් ගුවන් තොටුපොළ සිට මා මෙහි රැගෙන ආ සැටිත්, රථයෙන් බැස සාලයට පැමිණි මට මාරියම් නැන්දා පළමු වරට මුණ ගැසුණ අයුරුත් මගේ මතකයට ගලා එන්නට විය. මා ජීවිතයේ පළමුවරට හිම දුටුවේ ද එ දින ය. මෙ රට එදා මට පෙනුණේ කිසියම් අරුම පුදුම රටක් වශයෙනි. ශෝකයෙන් බර ව සිටි නැන්දා පිටුපසට වැටී රථය වෙත යන අතරතුර ඇය මට මෙසේ කීවා ය.

"දැන් මම ගිහිල්ලා ඔයාගෙ අම්මට මොනවද කියන්නෙ."

"කියන්ඩ මම හොඳින් ඉන්නවා කියලා... ඉක්මනින් ම මම අම්මට කතා කරනවා කිව්වා කියලත් කියන්ඩ."

නැන්දා හිසවනා මා කියූ දේ තේරුම් ගත් බව අඟවමින් රථයට ගොඩ වූවා ය. රථය සෙමින් ඉදිරියට ඇදෙනවාත් සමග ම මම ඔවුන්

සියලු දෙනාට ම අත වනා සමු දුන්නෙමි. අනතුරු ව ශේවුවෙන් එළියට ගොස් ඔවුන් සියලු දෙනා රැගත් රථය නො පෙනී යන තෙක් බලා හුන්නෙමි.

සත්‍ය වශයෙන් ම ඒ මොහොතේ මා තුළ මහත් බියක් ඇති ව තිබිණි. ඔවුන් රථයට ගොඩ වී පිට ව ගිය මොහොත දක්වා ම ඔවුන් මා මෙහි දමා යනු ඇතැ යි මම විශ්වාස නො කළෙමි. ඔවුන් අප සියලු දෙනා එක ම පවුලක ඥාතීන් ය. එහෙයින් නැන්දා සහ මාමා ගැන මා තුළ කිසියම් හෝ අහිතක් නැත. ඔවුන් මා ලන්ඩන් නගරයට රැගෙන ඒම ගැන මම ඔවුන්ට කෘතඥ වෙමි. මා හැර දමා යන අතරතුර ඔවුන් මෙසේ සිතන්නට ඇතැ යි මම සිතුවෙමි. "වාරිස් ඔයාට ඕනැ වුණානෙ ලන්ඩන්වල නතර වෙන්ඩ... ඒක තමයි වාරිස් ඔයාගෙ දෛවය... දැන් ඉතින් ඔයාට කැමැති දෙයක් කරන්න... නමුත් ඔයා අපිත් එක්ක සෝමාලියාවට යන්ඩ නාව එක අපි අමතක කරන්නෙ නෑ."

තරුණ ගැහැනු ළමයකු වූ මා කිසිවකු ගේ හවිහරණක් නො මැති ව ලන්ඩන් වැනි නගරයක සිටීම නිසැකයෙන් ම මහත් නින්දාවක් වශයෙන් ඔවුන් සලකන්නට ඇති බවට සැකයක් නැත. කරුණු එ සේ වුව ද ලන්ඩන් නගරයේ නැවැතීමට ගත් තීරණය මගේ ඒකමතික තීරණයක් බැවින් මගේ ඉරණම් ගමන ගැන සම්පූර්ණ වගකීම මා භාර ගත යුතු ව ඇත.

හුදකලා වීමෙන් මා තුළ ඇති වූ නොයෙකුත් අභූත සිතුවිලි සමඟ පොර බදමින් මම හිස් ව ගිය නිවස හරහා කුස්සිය දෙසට පිය නැඟුවෙමි. මා හැර නිවසේ ඉතිරි ව සිටි එක ම පුද්ගලයා සෝමාලි කෝකියා පමණි.

"ආ වාරිස් දැන් ඉතින් ඔයාට මෙහෙ ඉන්ඩ බෑ... මෙහෙ ඉන්ඩ පුළුවන් මට විතරයි... දැන් ඉතින් යන දිහාකට යන්ඩ" නිවසට ඇතුළු වන දොර දෙසට ඇඟිල්ල දිගු කරමින් ඔහු කීවේ ය.

තනි වූ මා හට අණ කිරීමෙන් ඔහු තෘප්තියක් ලබන බැව් ඔහු ගේ අකාරුණික මුහුණෙන් මොනවට පැහැදිලි විය. කුස්සියට ඇතුළු වන දොරේ කවුළුවට හේත්තු වී නිවස සිසාරා බැලූ විට හිස් ව ගිය නිවස කෙතරම් නිස්කලංකදැයි මට සිතුණි.

"වාරිස් දැන් ඉතින් ඉක්මනට මෙ තැනින් පිටවෙන එකයි ඇත්තෙ" කෝකියා උඩු බුරුලන්නට විය.

"හරි හරි මම යනවා තමයි... මම ආවෙ මගෙ බෑග් එක ගන්න."

"එහෙනං ඉක්මනට ගන්න දෙයක් අරගෙන පිටවෙන එකයි ඇත්තෙ."

ඔහු ගේ වදන් මායිම් නො කොට මම තරප්පු පෙළ දිග උඩ තට්ටුවට ගියෙමි. හිටපු තානාපතිවරයා පිට ව ගොස් නව තානාපතිවරයා එන තුරු වූ කෙටි විරාමය තුළ නිවසේ ප්‍රධානියා කෝකියා ය. මේ නිවස තුළ මා සිටි කාලය තුළ මට මුහුණ දෙන්නට වූ මිහිරි මෙන් ම අමිහිරි මතකයන් සිහි කරමින් මගේ මීළඟ නිවහන කෙබඳු ස්ථානයක් වේ ද යන්න ගැන සිතමින් මම හිස් වී පාළුවට ගිය කාමර හරහා ඇවිද ගියෙමි. ඇඳ මත වූ මගේ බෑගය ගෙන කරේ එල්ලා ගත් මම තරප්පු පෙළ බැස දොර දෙසට පිය නැඟුවෙමි. මා ලන්ඩනයට පැමිණ දින මෙන් නො ව එ දින වසන්තයේ හිරු එළියෙන් නැහැ වී ගිය ඉතා ප්‍රභාවත් දිනයක් විය. අනතුරු ව උද්‍යානයේ මගේ ගමන් බලපත්‍රය වළලා ඇමූ ස්ථානයට ගොස් ගල් කැටයකින් පොළොව හාරා පොලිතින් කවරයක දමා තිබූ ගමන් බලපත්‍රය අතට ගෙන එහි වූ පස් පිස දමා බෑගයේ ලාගෙන නිවසේ ගේට්ටුවෙන් පිට වී මහ පාරට බැස්සෙමි. මම දැන් නිදහස් ගැහැනියක් යන සිතුවිල්ල නිසා හට ගත් සතුට හේතු කොටගෙන මටවත් නවතා ගත නො හැකි වූ සිනහ ව මුවඟ රඳවා ගෙන මම පදික වේදිකාව දිග ඇවිද ගෙන ගියෙමි. දැන් මගේ දිවි මඟ මා ඉදිරියෙ හි වැටී ඇත. මා ඒ මඟ දිග යා යුතු ව ඇත. මගේ අරමුණ කෙසේ හෝ ඉටුවන බව මම දැන සිටියෙමි.

මා පළමුවෙන් ම ගියේ අප ගේ නිවසට ඉතා කිට්ටුවෙන් තිබූ සෝමාලියානු තානාපති කාර්යාලයට ය. එහි ගිය මම තානාපති කාර්යාලයේ දොරට තට්ටු කළෙමි. දොර විවෘත කිරීමට පැමිණි පුද්ගලයා මාව හොඳින් දැන සිටි අතර, සමහර අවස්ථාවල ඔහු මගේ මාමා ගේ නිල රථය ද පැදවූයේ ය.

"ආ මේ වාරිස් මෙනෙවිය නේද... මොකද මෙහෙ කරන්නෙ."

"ෆාරා මහත්තය ඉන්නව ද?"

"එයා සෝමාලියාවට යන්ඩ ගියානෙ."

"එහෙනං මට ඇන් නෝන මහත්තය ව හම්බු වෙන්ඩ පුළුවන් ද... එයාට කියලා මට මෙහෙ මොකක් හරි රැකියාවක් හොයා ගන්න පුළුවන් ද කියලා බලන්න."

මා දෙස සාවඥ ලෙස සිනාසුණ ඔහු නැවතත් ගොස් ඔහු ගේ කාර්යාල මේසයේ වාඩි විය. මම ඔහු ගේ මේසය ඉදිරිපිට සිට ගත්තෙමි.

එහෙත්, ඔහුගෙන් කිසි ම ප්‍රතිචාරයක් නො වී ය. මීට පෙර මා සමඟ ඉතා ගරුසරු ව කතා බහ කළ මේ මිනිසා ගේ එ දින හැසිරීම මට මහත් ප්‍රශ්නයක් විය. එකෙනෙහි ම මට කාරණය අවබෝධ විය. සෝමාලි කෝකියා මෙන් ම මොහු ගේ ක්ෂණික වෙනස් වීමට හේතුව මගේ මාමා සහ සිය පවුල එංගලන්තය හැර යාම විනා අන් කිසිවක් නොවේ. මගේ නැන්දා සහ මාමා නො මැති ව තනි වූ මා ඇත්තෙන් ම තිකම්යක් පමණි. එහෙයින් මේ අධමයින් ගේ අභිලාෂය වූයේ මගෙන් අයුතු ප්‍රයෝජන ගැනීම ය.

"ඇන් නෝන ව කොහොමවත් මේ වෙලාවෙ නං හම්බු වෙන්න බෑ... එයාට හරියට වැඩ."

"කොහොම හරි මට අද එයා ව හමු වෙන්න ම ඕනෑ"

ඇන් නෝනා මගේ මාමා ගේ ලේකම්වරිය වූවා පමණක් නො ව ඇය මට කවදත් කරුණාවන්ත වූවා ය. මගේ කටහඬ ඇසුණ ඇය එකවර ම සිය කාමරයෙන් එළියට පැමිණියා ය.

"වාරිස්... මොකද ඔයා මෙහෙ කරන්නෙ?"

"මට ආපසු සෝමාලියාවට යන්ඩ බෑ... මම මාමාලත් එක්ක යන්නෙ නැති ව මෙහෙ නතර වුණා... ඒ හින්දා දැන් මට ඒ ගෙදර ඉන්ඩත් බෑ." මම මගේ තත්ත්වය ඇයට විස්තර කළෙමි.

"ඔයාට පුළුවන්ද මට රැකියාවක් හොයලා දෙන්න... මොන රැකියාවක් වුණත් කමක් නෑ... මම ඕනෑ දේකට ලෑස්තියි."

"අනේ පැටියො... මෙච්චර ඉක්මනට කොහොමද මම ඔයාට රස්සාවක් හොයන්නෙ" ඇය කීවා ය.

"වාරිස්... ඔයා කොහෙද දැන් නවතින්නෙ."

"මම දන්නෙ නෑ... ඒක ප්‍රශ්නයක් කරගන්න එපා" මම කීවෙමි.

"හොඳයි එහෙනං ඔයා ඉන්ඩ යන තැනක ටැලිෆෝන් නොම්මරය මට දෙනව ද?"

"මම දන්නෙ නෑ අද රෑට මම කොහෙ නවතී ද කියලා... සමහර විට මම ඔය ලාබ හෝටලයක නවතින්න ඉඩ තියෙනවා."

ඇන් පදිංචි ව සිටියේ කුඩා කාමරයක නො වුණා නම් ඇය මට ඇයත් සමඟ ඉන්නට ආරාධනා කරන බව මම දැන සිටියෙමි.

"මම ඉන්න තැන ටැලිෆෝන් නොම්මරය මම ඔයාට පස්සෙ ගෙනත් දෙන්නම්... ජොබ් එකක් ගැන ආරංචියක් ලැබුණොත් මට කියන්න."

"හොඳයි... ඒක නෙමේ පරිස්සම වෙන්න."

"ඒ ගැන බය වෙන්න එපා... ඔයා හම්බු වෙන්ඩ මම ආයෙ එනවා... එහෙනං මම යනවා."

ඈන්ගෙන් සමුගත් මම ඉරු එළියෙන් නැහැ වී තිබූ මහ මාර්ග යට නැවතත් පැමිණියෙමි. නැන්දා ගේ නිවසේ වැඩකාරියක් වශයෙන් වැඩකොට ඉතුරු කරගත් සුළු මුදලෙන් රැකියාවක් ලැබෙන තෙක් මා ජීවත් විය යුතු ය. මම දැන් ලන්ඩන් නගරයේ ජීවත් වන තරුණියක් බැවින්, ඊට සරිලන ආකාරයට හැඳ පැළඳ සිටිය යුතු නිසා ඇඳුමක් මිල දී ගන්නට සාප්පුවකට යන්නට මම තීරණය කළෙමි. සෝමාලියන් තානාපති කාර්යාලයේ සිට මම ඔක්ස්ෆර්ඩ් වීදියේ වූ විශාල සාප්පුවක් වෙත ගියෙමි.

සාප්පුවේ රාක්කවල අසුරා තිබූ නොයෙකුත් වර්ගයේ ඇඳුම් විලාසිතා ඇත්තෙන් ම මන බඳනසුලු ය. නොයෙකුත් ඇඳුම් ඇඟ ලා බලමින් සෑහෙන වේලාවක් මෙහි ගත කිරීමට හැකි නො වේදැයි මට සිතුණි. ජීවිතයේ පළමු වතාවට කිසිවකු ගේ මැදිහත් වීමකින් තොර ව මට කැමැති දේ තෝරා ගන්නටත්, මට කැමැති තීරණයක් ගැනීමටත් ලැබුණ අවස්ථාව එය විය. එළුවන්ගෙන් කිරි දොවන්න, වැසිකිළි සුද්ද කරන්න නැත්නම් තේ හදන්න වැනි දේ කියා අණ කරන්නට දැන් කිසිවකු මා වටා නැත. මගේ ජීවිතය වෙනුවෙන් තීරණ ගැනීම දැන් සම්පූර්ණයෙන් ම මා සතු ය.

මගේ සුළු ඉංග්‍රීසි දැනුම සහ ඉංග්‍රීසි බසින් කියා ගන්නට බැරිවන විට හස්ත මුද්‍රාව පාවිච්චි කොට සාප්පුවේ සේවකයන් දෙදෙනකු ගේ ආධාරය ලබා ගත් මම ඊළඟ හෝරා කීපය තුළ නොයෙකුත් ඇඳුම් ඇඳ බලන්නට වීමි. හෝරා කීපයක් ගෙවී ගිය තැන මා අඳින ලද ඇඳුම් ගණනාවක් ඇඳුම් අඳින කැබිනයෙන් පිට ගොඩ ගැසී තිබුණ අතර, එක් සේවකයෙක් මා දෙස බලා සිනාසෙන ගමන් මෙසේ ප්‍රශ්න කළේ ය.

"ඉතින් ඔයා ඇඳුමක් තෝර ගත්ත ද?"

ඇත්තෙන් ම තෝරා ගන්නට නො හැකි තරම් එකිනෙකට නො දෙවෙනි ඇඳුම් විලාසිතා මා විස්මයට පත් කළේ ය. එහෙත්, ඊළඟ සාප්පුවේ මීට වඩා නවීන විලාසිතාවලට අනුව මසන ලද බොහෝ ඇඳුම් තිබෙන්නට හැකි යයි ඒ මොහොතේ මා හට කල්පනා විය. ඉතා ම වෙහෙස මහන්සියෙන් බැල මෙහෙවර කොට උපයා ගත් සුළු මුදලින් එක පවුමක් හෝ අපතේ නො යන ආකාරයට වියදම් කිරීමට

වගබලා ගත යුතු හෙයින් මා හරියට ම ගැළපෙන ඇඳුම තෝරා ගත යුතු ව ඇත.

"බොහොම ස්තුතියි... තවම මම තීරණයක් ගත්තෙ නෑ" මම සුහදශීලී ව කීවෙමි.

මා අඳින ලද ඇඳුම් සියල්ල දෙ අතේ රැවා ගත් සේවකයා මා දෙස අවිශ්වාසයෙන් බලා නැවත තම සහෝදර සේවකයා දෙස බැලුවේ ය. සේවකයින් දෙදෙනා පසුකොට සාප්පුවෙන් එළියට අවුත් ඔක්ස්ෆර්ඩ් වීදියේ ඇති අනෙකුත් සාප්පුවලට යන අදහස ඇති ව ඉදිරියට ඇදුණෙමි. අනතුරු ව සාප්පු කීපයකට ම ගිය මා මෙතෙක් කිසිවක් මිල දී නොගත් නමුදු, නොයෙකුත් මනස්කාන්ත ඇඳුම් ඇඟලා බැලීමෙන් මම මහත් සතුටක් වින්දෙමි. එක් සාප්පුවකින් එළියට පැමිණි විට මා දුටුවේ මෙතෙක් හිරු එළියෙන් නැහැ වී ගොස් තිබූ පරිසරය වෙනුවට ඕන සෑතුවේ දක්නට ලැබෙන අඳුරකින් පරිසරය වැසී ගොස් ඇති බව ය. එකතුදු මා තවමත් නවතින්නට තැනක් සොයා ගෙන නො මැති බැව් මට සිහිපත් විය. ඒ ගැන ද සිතෙ හි තබාගෙන මම ඊළඟ සාප්පුවට ඇතුළු වූයෙමි. සාප්පුවේ එක් කෙළවරක අප්‍රිකානු කාන්තාවක් ස්වෙටර් තෝරමින් සිටිනු දුටුවෙමි. පෙනුමෙන් ඇය සෝමාලියන් කාන්තාවක් යයි අනුමාන කළ මා ඇය සමඟ කතා කරන්නට ක්‍රමයක් ගැන සිතන්නට වීමි. මම ඇයට සිනහවකින් සංග්‍රහ කරමින් මෙසේ කීවෙමි.

"මමත් මේ ඇඳුමක් ගන්න බලනවා. ඒත් මොකක් ගන්ඩ ද කියලා හිතා ගන්ඩ බෑ."

"ඇහුණ ද ළමයා මම නං ඕන තරම් හොඳ ඇඳුම් දාලා තියෙනවා දැක්කා."

අප දෙදෙනා කතාවට වැටුණෙමු. හලු ඇගේ නම විය. තරමක සුහදශීලී කාන්තාවක් වූ ඇය නිතර ම සිනාසුණා ය.

"වාරිස් කොහෙද ඔයා ඉන්නෙ... මොනවද කරන්නෙ?"

"මගේ තත්ත්වය ගැන කිව්වොත් ඔයා හිතයි මම පිස්සු කෙල්ලෙක් කියලා... ඇත්තෙත් ම මට ඉන්ඩ තැනක් නෑ... මම වැඩ කරපු ගෙදර අය අද සෝමාලියාවට යන්ඩ ගියා."

එකවර ම ඇගේ දෙනෙතෙ හි අනුකම්පාවක් දිස්වනු මම දුටුවෙමි. ඇය ද මා මෙන් ම දහසකුත් එකක් දුෂ්කරතාවයන් මැදින් පැමිණි අයෙක් බැව් පසු ව මම දැන ගතිමි. මොන යම් හෝ වාතාවරණයක් තුළ හෝ පෙරළා සෝමාලියාවට යන්නට නො හැකි බව මුවින් නො කීවත් එය

අප දෙදෙනා ම දැන සිටියෙමු. අප ගේ මවබිමත් එ මෙන් ම දෙමවපියන් ඥාතීන් ආදීන් මතකයට ආවත් සෝමාලියාවට ගොස් කුමක් කරන්න ද? ඔවුවන් පසුපස යමින් නන්නාඳුනන මහලු මිනිසකුට අඹුව වෙන්ඩ ද?

මගේ මාමා මෙහි සෝමාලියානු තානාපති වශයෙන් වැඩ කළ බවත්, දැන් ඔහු සිය පවුලත් සමඟ පෙරළා සෝමාලියාවට ගොස් ඇති බවත් මම ඇයට කීවෙමි.

"අද උදේ ඒ ගෙදරින් මාව එළියට දැම්මා... මම දන්නෙ නෑ කොහෙ යන්ඩද... මොනව කරන්ඩ ද කියලා" මම සිනාසෙමින් කීවෙමි.

"ඇහුණ ද වාරිස් මේ පාරෙ කෙරවලේ වයි.ඇම්.සී.ඒ. ගොඩනැගිල්ලෙ කාමරයක මම ඉන්නෙ. ඒකෙ ඒ තරම් ඉඩකඩ නම් නෑ. ඔයාට කැමැති නං ඇවිල්ල අද රෑට මාත් එක්ක ඉන්ඩ පුළුවන්. කෑම උයා පිහා ගන්න පහළ තට්ටුවෙ තියෙනවා කුස්සියක්."

"ෂා කොච්චර එකක් ද... ඒ වුණත් ඇත්තට ම ඔයාට කරදරයක් නැත්ද මම ආවට" මම ඇසුවෙමි.

"කරදර නැත්තෙ නෑ... ඉතින් එහෙම කියලා කොහොම ද... ඔයාට යන්ඩ තැනක් නැති එකේ."

ඇයත් සමඟ මම ඇගේ කාමරයට පිය නැගුවෙමි. අලුතින් ගොඩනඟා තිබුණ වයි.එම්.සී.ඒ. ගොඩනැගිල්ලේ බොහොමයක් පදිංචි ව සිටියේ ශිෂ්‍ය, ශිෂ්‍යාවන් ය. හලු ගේ කාමරයේ කොනක දෙදෙනකුට නිදාගත හැකි ඇඳක්, කුඩා පොත් රාක්කයක් සහ ලස්සන රූපවාහිනී යන්ත්‍රයක් විය.

"මට රූපවාහිනිය බලන්න පුළුවන් ද?"

"ඕකත් අහන්ඩ දෙයක් ද... ආන්ඩ... ආන්ඩ..."

රූපවාහිනිය ක්‍රියාත්මක කළ මා එය ඉදිරිපිට බිම වාඩි වී මහත් ආසාවෙන් රූපවාහිනිය නරඹන්නට වීමි.

අවුරුදු හතරකට පසු කිසිවකු ගේ බලපෑමකින් තොර ව මට රූපවාහිනිය නැරඹීමට ලැබුණ ප්‍රථම අවස්ථාව එය විය.

"ඇයි ඔයා මාමලා ගෙ ගෙදර ඉන්නකොට ටෙලිවිෂන් බැලුවෙ නැත්ද?" පුදුමයෙන් මෙන් ඇය ඇසුවා ය.

"ඔයා විහිළු කරනව ද... ටෙලිවිෂන් බලලා අහු වුණොත් නැන්දා මාව කන්ඩ හදනවා."

එ වැනි අවස්ථාවක තැන්දා ගිහු වදන් මගේ මතකයට ගලා එන්නට විය.

"වාරිස් ඔයා ඔතන මොකද කරන්නෙ... ඔයා ව අපි එක්කගෙන ආවෙ වෙලිවිෂන් බලන්න නෙමේ."

ලන්ඩන් නගරයේ ජීවිතය ගැන මා පළමුවෙන් ම උගත්තේ හලුගෙනි. ඇය මගේ මහාචාර්යවරිය වූවා ය. අපි දෙදෙනා ඉතා කුලුපග මිතුරියන් බවට පත්වීමු. මම දින කීපයක් ම ඇය ගේ කාමරයේ නවාතැන් ගතිමි.

"වාරිස් ඇයි ඔයා වයි.එම්.සී.ඒ. එකේ කාමරයක් ගන්න උත්සාහ නොකරන්නෙ" දිනක් ඇය මගෙන් ඇසුවා ය.

"මම කොහොම ද කාමරයක් අරගෙන කුලී ගෙවන්නෙ... අනෙක මට ඉස්කෝලෙකට යන්ඩ ඕනැ ඉංග්‍රීසි ටිකක් ඉගෙන ගන්න... එතකොට මට වැඩ කරන්න වෙලාවක් නැති ව යනවා."

"ඔයාට පුළුවන් ද ඉංග්‍රීසි ලියන්ඩයි කියවන්ඩයි."

"ඔව්" ඇය මා දෙස බලා පිළිතුරු දුන්නා ය.

"ඒ කියන්නෙ ඔයාට ඉංග්‍රීසියෙන් කතා කරන්ඩත් පුළුවන් ද?"

"ඔව්."

"මට ඔය එකක්වත් බෑ... ඒ හින්දා මට ඉගෙන ගන්න ඕනෑ... ඒක තමයි මගේ දැන් තියෙන එකම අරමුණ... මම වැඩ කරන්න පටන් ගත්තොත් ඉගෙන ගන්න වෙලාවක් නැති ව යනවා."

"ඉතින් ඔයාට පුළුවන්නෙ වැඩ කරන ගමන් ඉගෙන ගන්න... ඒ හින්දා ඔයා මොකක් හරි පොඩි රස්සාවක් හොයා ගන්න."

"හලු ඔයාට පුළුවන් ද මට මේවට උදව් කරන්න."

"ඕකත් අහන්ඩ දෙයක් ද... මම ඔයාට උදව් කරන්නම්."

වයි.එම්.සී.ඒ. ගොඩනැගිල්ලේ කාමරයක් ගන්නට මම උත්සාහ කළෙමි. බොහෝ තරුණ තරුණියන් එහි කාමර ගැනීමට ඉල්ලුම් පත්‍ර දමා තිබුණි. ඊට හේතුව කාමර කුලිය අඩු නිසාත්, එහි වූ නාන තටාකය සහ ව්‍යායාම කිරීමට ඇති පහසුකම් නිසා ය. අහිංසක හලු ගේ පුංචි කාමරයේ දිගට ම රැඳී සිටීමට නො හැකි නිසා මම ද කාමරයක් ඉල්ලා ඉල්ලුම් පත්‍රයක් ඇමුවෙමි. හරියට ම වයි.එම්.සී.ඒ. ගොඩනැගිල්ල ඉදිරිපිට වයි.එම්.සී.ඒ. එකට ම අයත් ගොඩනැගිල්ලේ තාවකාලික ව කාමරයක්

ලබාගෙන එහි පදිංචියට ගොස් එ තැන් සිට මම රැකියාවක් සොයන්නට පටන් ගත්තෙමි. එහි කාමරවල නිවැසියන් ඉතා මහලු අය වූයෙන් ඒ දර්ශනය මා තුළ කිසියම් පසුබෑමක් ඇති කළේ ය.

"වාරිස් ඇයි ඔයා මේ ළඟපාතින් රැකියාවක් සොයා ගැනීමට උත්සාහ නො කරන්නෙ."

"කොහෙන් ද ඔයා මට ළඟපාතින් රැකියාවක් හොයන්න කියන්නෙ."

"අර තියෙන්නෙ වැඩ කරන්න තැනක් නෙ" ඇය මට මැක්ඩොනල්ඩ් ආපන ශාලාවක් පෙන්වමින් කීවා ය.

"එ තැන වැඩ කරන්න නං මට බැරිවෙයි... අමතක කරන්න එපා මට ඉංග්‍රීසි කතා කරන්නවත් ලියන්නවත් බැරි බව... අනෙක ඒ වගේ තැනක වැඩ කරන්න රැකියා බලපත්‍රයක් මට නෑ."

එහෙත්, බලපත්‍රයක් නො මැති ව එ වැනි තැනක රැකියාවක් ලබා ගන්නා අයුරු හලු දැන සිටියා ය. ඈ යෝජනා කළ පරිදි මම කුස්සියේ රැකියාවක් ඉල්ලා සිටියෙමි. ඇත්තෙන් ම හලු ගේ යෝජනා ව කෙතරම් නිවැරදි ද යන්න මැක්ඩොනල්ඩ් ආපන ශාලාවේ වැඩ කරන්නට පටන් ගත් පසු මම දැන ගතිමි. නීත්‍යානුකූල ව රැකියාවක් කරන්නට මා හට බලපත්‍රයක් නො තිබීම මගෙන් අඩු පඩියකට වැඩ ගැනීමට පාලකයින් ආයුධයක් කරගත්තා විය හැකි ය. කරුණු කෙසේ වුව ද මහන්සි නොබලා උනන්දුවෙන් වැඩ කරන තාක් පාලකයින් කිසිවකට ඇඟිලි නො ගසනු ඇත. මරියම් නැන්දා ගේ නිවස සුද්ද කිරීම, පොළොව සේදීම, පිඟන් කෝප්ප සේදීම යන ආදී නොයෙකුත් වැඩ කිරීමෙන් මා ලබාගත් පුහුණුව මැක්ඩොනල්ඩ් ආපන ශාලාවේ වැඩ කිරීමට මට මහත් රුකුලක් විය. වැඩ අහවර වී කාමරයට යනවිට මගේ සරුවාංගයේ ම පිලිස්සුණු තෙල් ගැල්වී තිබුණා පමණක් නො ව තෙල් උෂ්ණය මා තුළින් වහනය වන්නට විය. කුස්සියේ වැඩට අවැසි තරම් සේවකයින් නො සිටිය නමුදු, ඒ සම්බන්ධ ව පැමිණිලි කරන්නට මම නො ගියෙමි. ඒ කිසිවකට වඩා වැදගත් වන්නේ මෙම රැකියාවෙන් දැනට මගේ කටයුතු කර ගැනීමට හැකි වීම යි. ඇත්තෙන් ම ඒ රැකියාවට මා ගරු කළ අතර, බොහෝ කලක් මා එහි රැඳී නො සිටින බව මම දැන සිටියෙමි.

ඉංග්‍රීසි ලියන්නට කියවන්නට ඉගෙන ගැනීම සඳහා විදේශිකයින්ට නොමිලේ ඉංග්‍රීසි භාෂාව උගන්වන පාසලකට යන්නට මම පටන් ගතිමි. එ මතු ද නො ව ජීවිතයේ පළමු වතාවට වැඩ කිරීමට අමතර ජීවිතයකුත්

මම හඳුනා ගතිමි. සමහර දිනවල හලූ මා රාත්‍රී සමාජ ශාලාවකට රැගෙන ගිය අතර, එහි සිටි හැම අයකු මෙන් ඇය ව දැන හැඳින සිටියේ ය. ඇය ගේ ප්‍රිය උපදවන හැසිරීම නිසා කවුරුත් හලූ ඇසුරු කරන්නට මනාපයක් දැක් වූයේ ය. දිනක් අප දෙදෙනා රාත්‍රී සමාජ ශාලාවකට ගොස් පැය ගණනාවක් නටන්නට වූ අතර, අප දෙදෙනා වටා මිනිස්සු රොක් වී සිටින බවක් එකවර ම මම දුටුවෙමි.

"හලූ මොකද මේ මිනිස්සු අපි ව වට කරගෙන... ඔයා කියන්නෙ මේ මිනිස්සු අපිට කැමැති ද?"

"ඔව් ඔව්... මේ මිනිස්සු අපිට හරි කැමැතියි."

එ වදන් ඇසීමෙන් මම විස්මයට පත්වීමි. අප වටා රොක් ව ඇති මිනිසුන් දෙස බැලූ විට හලූ කිව් දේ නිවැරැදිභාවය සනාථ විය. මට කිසි ම දිනක ආදරවන්තයෙක් නො සිටි අතර, හජ්ජි වැනි පිස්සු කොල්ලකු හැර අන් කිසිවකු මා කෙරෙහි ලැදියාවක් දැක් වූ අවස්ථාවක් ද නැත. මා කවදත් කැමැත්තක් දැක්වූයේ අප්‍රිකානු මිනිසුන්ට වුවත් බොහොමයක් මා ගැන උනන්දුවක් දැක්වූවෝ සුදු මිනිසුන් ය. සෝමාලියාව වැනි අප්‍රිකානු රටක සංස්කෘතියට අනුව හැදුණ වැඩුණ අයෙක් වුව ද ඒ සියල්ල අමතක කර දැමූ මම කළු සුදු භේදයකින් තොර ව සෑම අයකු සමඟ ම කතා බහ කරන්නට උත්සාහ කළෙමි. එංගලන්තය වැනි රටක තනි ව ජීවත් වීමට නම් මා හැදී වැඩුණ කාන්තාරයේ සංස්කෘතිය අනුව නො ව මේ රටට ගැළපෙන ආකාරයට ජීවත් වීමට පුරුදු විය යුතු නො වේදැයි මම මගෙන් ම ප්‍රශ්න කර ගතිමි. මෙහි දී මම ඉංග්‍රීසි භාෂාව ඉගෙන ගත යුතු අතර, ඕනෑ ම අයකු සමඟ කතා බහ කරන්නට ද පුරුදු විය යුතු යි. ඔටුවන් සහ එළුවන් ගැන මා සතු දැනුම ලන්ඩන් නගරයේ ජීවත් වීමට කොහෙත් ම ප්‍රමාණවත් නැත.

රාත්‍රී සමාජ ශාලා, එහි ගැවැසෙන පුද්ගලයින්, ඔවුන් ගේ අදහස් උදහස්, චේතනාවන් සහ ගති පැවැතුම් විග්‍රහ කරමින් හලූ ඒ විෂය සම්බන්ධ ව මට කෙටි පන්තියක් පැවැත්වූවා ය. ඇය කාමය ගැන කතා කරමින් මෙ වැනි සමාජ ශාලාවලට එන මිනිසුන් ගේ අරමුණු, ලන්ඩනයේ ජීවත් වන අපි වැනි අප්‍රිකානු ගැහැනුන්ට මුහුණ දෙන්නට ඇති සුවිශේෂ ප්‍රශ්න සහ අපි ප්‍රවේසමෙන් කටයුතු කළ යුතු ඉසව් ගැන ඇය පැහැදිලි කිරීමක් කළා ය. මගේ ජීවිතයේ කවරදාකවත් මෙ වැනි විෂයන් ගැන මෙතෙක් කිසි ම අයකු මා සමඟ කතා කර නො මැත.

"වාරිස් ඒ තැන්වලට ගියා ම නටලා, කාල බීල හිනාවෙලා ගෙදර යනවා හැර ඔවුන් එක්කල ඊට වැඩි දෙයක් ගැන කතා කරන්න යන්න

එපා... මොකද ඒ මිනිස්සු හිතන්නෙ අප්‍රිකානු ගෑනුත් සුදු ගැහැනු වගේම යි කියලා... අනෙක ඒ මිනිස්සු දන්නෙ නෑ වර්මච්ඡේදනය කරනවා කියන්නෙ මොකක්ද කියලා."

වයි.එම්.සී.ඒ. ගොඩනැගිල්ලේ කාමරයක් ලබා ගන්නට කාලයක් තිස්සේ මා බලා සිටි අතර, එක් ශිෂ්‍යාවක් ඇයට තම කාමරය තනියෙන් නඩත්තු කරගන්නට නො හැකි නිසා කමරයට හවුල්කාරියක් සොයන බවක් මට දැන ගන්නට ලැබිණ. ඇත්තෙන් ම ඒ අවස්ථාව මා හට කදිම අවස්ථාවක් වූයේ අන් කිසිවක් නිසා නො ව කාමරයක් තනිව ම නඩත්තු කිරීමට තරම් තත්ත්වයක මා ද නො සිටිය බැවිනි. එ මෙන් ම එ වැනි කාමරයක දෙදෙනකුට ප්‍රමාණවත් ඉඩකඩ ඇති බැව් ද මම දැන සිටියෙමි. හලු ඇත්තෙන් ම කල්‍යාණ මිතුරියෙකි. තරුණ තරුණියන්ගෙන් පිරී ඉතිරී ගිය වයි.එම්.සී.ඒ. ගොඩනැගිල්ලේ දී තවත් බොහෝ මිතුරු මිතුරියන් ඇති කර ගැනීමට මම සමත් වීමි. ඒ වනවිට මා තවමත් ඉංග්‍රීසි භාෂාව හදාරමින් මැක්ඩොනල්ඩ් ආපන ශාලාවේ රැකියාව කරමින් සිටි අතර, මගේ ජීවිතය හැලහැප්පිලිවලින් තොර ව කිසියම් ස්ථාවරභාවයකින් ඉදිරියට යමින් තිබුණි. එ නමුදු කිනම් මොහොතක මොන යම් ආකාරයකට මගේ ජීවිතය වෙනසකට භාජනය වේවිදැයි මා තුළ කිසියම් හෝ අදහසක් නො වී ය.

දිනක් මැක්ඩොනල්ඩ් ආපන ශාලාවේ වැඩ අහවර කළ මා පාරිභෝගිකයින් ආපන ශාලාවට ඇතුළුවන දොරින් පිට ව යා යුතු යයි සිතා ඒ මැදින් යන අතරමඟ දී මරියම් නැන්දා ගේ කුඩා දියණිය සොෆී ගිය, සියලු ආත්මයන් ගේ පාසල අසල දී මා පිටුපස හඹා ආ මිනිසා සිය දියණියත් සමඟ එහි මේසයක් අසල වාඩිවී "බිග් මැක්" *(මැක්ඩොනල්ඩ් ආපන ශාලාවේ එක් කෑම වර්ගයක නම)* අනුභව කරමින් සිටිනු දැකීමෙන් මා තුළ මහත් තිගැස්සීමක් ඇති විය.

"හලෝ" මා ඔවුන් පසු කරගෙන යන ගමන් කීවෙමි.

මැක්ඩොනල්ඩ් වැනි ස්ථානයක දී මා හමුවෙතැ යි ඔහු කිසිදාක නො සිතන්නට ඇත.

"ආ කොහොම ද?" ඉතා ළෙන්ගතුකමකින් ඇසුවේ ය.

"හොඳයි... හොඳයි" ඔහු ගේ දියණිය දෙස බලා මම පිළිතුරු දුනිමි.

"ඔයාට කොහොම ද?" මගේ ඉංග්‍රීසි දැනුම විදහා දැක්වීමෙන් සතුටක් ලබන ගමන් මම ඇසීමි.

"හොඳයි" ඇගේ පියා පිළිතුරු දුන්නේ ය.

"දැන් එයා ඉස්සරට වැඩිය ලොකුයි... එහෙනං මට පරක්කු වෙනවා, මම ගිහින් එන්නම්."

"ඒක නෙමේ කොහෙද ඔයා ඉන්නෙ... පොඩ්ඩක් ඔහොම ඉන්න."

මට ඒ පුද්ගලයා ගැන කිසියම් හෝ විශ්වාසයක් නො තිබුණ හෙයින් මම එන්නට හැරුණෙමි. පෙරළා වයි.එම්.සී.ඒ. එකේ මාගේ කාමරයට ආ විගස ම මේ අද්භූත මිනිසා ගැන සියල්ල දත් මා මිතුරිය හලුට කිව යුතු යයි මම තීරණය කළෙමි. මම මගේ මේස ලාච්චුවේ දමා තිබූ ගමන් බලපත්‍රය එළියට ගෙන එහි තුළ පරිස්සමෙන් තබා තිබූ මැල්කම් ෆෙයර්වයිල්ඩ් ගේ කාඩ්පත එළියට ගතිමි. පහත මහලයේ වූ හලු ගේ කාමරයට ගිය මා මැල්කම් ගේ කාඩ්පත ඇය ගේ අතේ තැබුවෙමි.

"මේ කාඩ් එකේ මොනවද තියෙන්නෙ... ඒ ගැන මොනවද ඔයාට හිතෙන්නෙ... මම දන්නවා ඕකෙ තියෙන්නෙ ඔය මිනිහා විලාසිතා ඡායාරූප ශිල්පියෙක් කියලා... මොකක්ද ඒකෙ තේරුම."

"ඒකෙ තේරුම නොයෙකුත් ඇඳුම් විලාසිතා අන්දවලා පින්තූර ගන්න කෙනෙක්" හලු කාඩ් එක දෙස බලා කීවා ය.

"ඇත්තෙන් ම හලු ඒකට නම් මම හරි ම කැමැතියි" මම පිළිතුරු දුනිමි.

"කොහෙන් ද ඔයාට මේ කාඩ් එක හම්බු වුණේ... කවුද මේ මිනිහා."

"අපේ නැන්දගෙ දුව ඉස්කෝලෙ ඉඳලා එක් කරගෙන එන්න ගිය වෙලාවෙ ඔය මිනිහා මට හම්බුවෙලා ඔය කාඩ් එක මට දුන්නා... ඊට පස්සෙ ඔය මිනිහා අපේ ගෙදර තියෙන තැන බලාගෙන... දවසක් ගෙදරට ඇවිත් මාරියම් නැන්දට මොනවද කියලා තියෙනවා... පස්සෙ නැන්දා මිනිහ ව පන්නගෙන තියෙනවා."

"ඉතින් මිනිහා කවුද කියලා හරියට ම දැන ගන්නට ඕනෙ නම් මේකෙ තියෙන ටෙලිපෝන් නොම්මරයට ටැලිපෝන් කරලා කාරණය දැන ගන්න පුළුවන්නෙ" හලු කීවා ය.

"ඇත්තටම ද? එහෙනං මම කෝල් එකක් දාන්ඩ ද?" මම චකිතයෙන් ඇසුවෙමි.

"ඒක නෙමෙයි... ඔයාට බැරි ද මාත් එක්ක ගිහිල්ල මේ මිනිහට ටෙලිපෝන් කරලා විස්තරේ දැන ගන්න... මට නාම හරියට ඉංග්‍රීසි බැරි හින්දා."

"ප්‍රශ්නයක් නෑ මම එන්නම්" ඇය ගත් කටට ම කීවා ය.

එහෙත්, ටැලිපෝන් කළ යුතු ද නැත්ද යන්න තීරණයක් ගැනීමට මට තවත් දවසක් ගතවිය. පසුදින මම හලුත් සමඟ ප්‍රසිද්ධ ටැලිපෝන් කුටියක් වෙත ගියෙමි. ටැලිපෝන් කුටියට ඇතුළ වූ මොහොතේ සිට මගේ පපුව ගැහෙන්නට විය. හලු කාසියක් ටැලිපෝන් යන්ත්‍රයට දමා රිසීවරයෙන් නියම ශබ්දය ඇසෙන තුරු බලා සිටින්නට වූවා ය. අනතුරු ව කුටිය තුළ වූ මඳ එළියට කාඩ්පත අල්වා එහි වූ නොම්මර කීපයක් කරකවන්නට විය. මොහොතක නිහැඬියාවකින් පසු ව ඇය කතා කරන්නට විය.

"කරුණාකරලා මට පුළුවන් ද මැල්කම් ෆෙයාර්චයිල්ඩ්ට කතා කරන්න."

"ඔව් කතා කරනවා... මොකක්ද වුවමනාව."

"ඔයා කවුද... ඔයා මගේ යාළුවට ඔයාගෙ කාඩ් එකක් දීලා තියෙනවා... ඔයා වල් මිනිහෙක් නෙමෙ නේද? ඔයා මගෙ යාළුවට කරදරයක් කරන්නෙ නෑ නේද? මොකද ඔයා ගැන අපි මොකවත් දන්නෙ නෑ... ඔයා කොහෙද පදිංචිය" ඇය උස් හඬින් සිනාසෙමින් කතා කරන්නට විය. ඇය කිසියම් කඩදාසි කැබැල්ලක යමක් කුරුටු ගානවා මම දුටුවෙමි.

"මොනවද එයා කියන්නෙ" මම නො ඉවසිල්ලෙන් ඇසුවෙමි.

ඇය අතින් සංඥා කරමින් මට නිශ්ශබ්ද වන ලෙස සැල කළා ය.

"හොඳයි... අපි එහෙම කරන්නම්."

හලු රිසීවරය ආපසු තබා දිගු සුසුමක් හෙලුවා ය.

"එයා කිව්වා එයාගෙ ඡායාරූප ශාලාවට අපි දෙන්නට ම එන්ඩ කියලා... එතකොට එයා කරන වැඩේ බලා ගන්න පුළුවන් කියලා... ඊට පස්සෙ අපිට ඕනෑ තීරණයක් ගන්ඩ කියලත් කිව්වා."

"අපි යනව ද මිනිහව හම්බු වෙන්න. ඉතින් ඔයා මොකද කියන්නෙ."

"ඔව්... අපි ගිහිල්ලා බලමු ඔයා පිටි පස්සෙ ආව මේ හාදය කවුද කියලා" හලු මා දිරි ගන්වමින් කීවා ය.

# 11

# මෝස්තර නිරූපිකාවිය



පසුදින හලුත් මමත් මැල්කම් ෆෙයාර්චයිල්ඩ් ගේ ඡායාරූප ශාලාව වෙත ගියෙමු. ඡායාරූප ශාලාවක් යනු කෙබඳු ස්ථානයක් ද යන්න ගැන මා හට කිසියම් හෝ හැඟීමක් නො තිබූ නමුදු එහි ඇතුළු වූ විගස මා අමුතු ම ලෝකයකට පැමිණ ඇති බවක් මට දැනෙන්නට විය. ශාලාවේ බිත්තිවල ඉතාමත් සුරූපී යුවතියන් ගේ විශාල ඡායාරූප එල්ලා තිබෙනු මම දුටුවෙමි. ඡායාරූපවල වූ ඉතා සුරූපී මනබඳන යුවතියන් ගේ ඡායාරූප නරඹමින් යන අතර "මෙ තැනයි මට හිමි තැන" මම මට ම කියා ගතිමි. එදා මොගඩිෂුවල සහරු නැන්දා ගේ නිවසේ දී මොහොමඩ් මාමා කියූ වදන් මට සිහිපත් විය. "මම ගෑනු ළමයෙක් හොයනවා ලන්ඩන්වලට එක්ක යන්න" ඒ මොහොතේ මට දැනුණ සිතුවිල්ල මට මේ මොහොතේ ද දැනෙන්නට වූ අතර, මට මෙසේ සිතුණි. "මෙන්න අවස්ථාව අත ළඟට ම ඇවිල්ලා... මා ගැළපෙන්නෙ මේ වගේ තැනකටයි... අනෙක මට වුවමනාත් මෙ වැනි රැකියාවකුයි."

මඳ වේලාවකට පසු මැල්කම් පැමිණ අප ව සාදරයෙන් පිළිගෙන අපට තේ කෝප්පයකින් සංග්‍රහ කළේ ය.

"මට ඕනැ වෙලා තිබුණෙ මේ ළමයගෙ පින්තූරයක් ගන්ඩයි... ඊට වැඩි දෙයක් නෑ" ඔහු වාඩිවෙන ගමන් කීවේ ය.

"අවුරුදු දෙකක් තිස්සෙ පින්තූරයක් ගන්න මම මේ ළමයා පිටිපස්සෙ ලුහු බඳිනවා... පින්තූරයක් ගන්න මේ තරම් මහන්සි වෙච්චි අවස්ථාවක් මගෙ වෘත්තිමය ජීවිතයේ දී කිසි දිනක සිදුවෙලා නෑ."

"දැන් මට තේරෙනවා... ඔබට ඕනැ කරන්නෙ මේ බිත්තිවල එල්ලා තියෙන පින්තූරෙ වගේ පින්තූරයක් මගෙත් ගන්න නේ" බිත්තියේ එල්ලා තිබූ මනස්කාන්ත පින්තූරයකට අත දිගු කරමින් මම කීවෙමි.

"අන්න හරි" ඔහු ස්ථිරසාරව ම කීවේ ය.

"මට ඕනැ කරන්නෙ මේ ළමයගෙ මුහුණෙ පැතිකඩක පින්තූරයක් ගන්න" ඔහු හලු දෙස බලමින් කීවේ ය.

ඇත්තෙන් ම මේ මනුස්සයා අවුරුදු දෙකක් මා පිටුපස ආවේ මහුට මගේ මුහුණේ පැතිකඩක පින්තූරයක් ගන්ඩ වුවමනා බැව් කියන්ට ද? එහෙනම් දැ අවුරුද්දක් වැනි දිගු කාල පරාසයක් අපතේ ගොස් නොවේදැයි මට ඒ මොහොතේ කල්පනා විය. එකනෙහි ම පසුගිය කාලය තුළ මිනිසුන්ගෙන් මට සිදු වන්නට ගිය කරදර චිත්‍රපටයක රූපරාමු මෙන් මා ඉදිරියේ මැවී පෙනෙන්නට විය.

"හොඳයි එහෙම පින්තූරයකට පෙනී සිටින්නට මම කැමැතියි... හැබැයි මම එන්නෙ මේ මගේ මිතුරියත් එක්කයි... පින්තූරෙ ගන්න කොට මෙයා මා ළඟ ඉන්ඩ ඕනැ" මම හලුගේ කර වටා අත දමමින් කීවෙමි.

"ඒකට ප්‍රශ්නයක් නෑ... එහෙනං යාළුවත් එක්ක අනිද්දා උදේ දහයට මෙතෙන්ට එන්න... මම වේශ නිරූපණ ශිල්පිනියකට එන්න කියන්නම්" ඔහු ගාම්භීර බැල්මක් මා වෙත හෙළමින් කීවේ ය.

දින දෙකකට පසු ඔහු දැන්වූ වේලාවට මම හලුත් කැටුව මැල්කම් ගේ ඡායාරූප ශාලාවට ගියෙමි. මා පුටුවක වාඩි කරවූ වේශ නිරූපණ ශිල්පිනිය නොයෙකුත් බුරුසු සහ පවුඩර් වර්ග මගේ මුහුණේ තවරන්නට පටන් ගත්තේ ය. ඇය කුමක් කරන්නේ ද යන්න ගැන මට කිසියම් හෝ අදහස් නො වූ නමුදු, මේ විස්මයජනක බුරුසු සහ පාට වර්ගවලින් ඇය කරන කර්තව්‍යය දෙස මම නිසොල්මන් ව බලා සිටියෙමි. හලු අසල වූ පුටුවක හිඳගෙන නිදි කිරන්නට විය. මා විටින් විට ඇය දෙස බලමින් නිදි කිරන්නේ නැතු ව සිටින ලෙස සංඥා කළෙමි.

"දඟලන්නෙ නැති ව ඉන්න" වේශ නිරූපණ ශිල්පිනිය එකවර ම මට අණ කළා ය.

අනතුරු ව ඇය මා වෙතින් තරමක් දුරට ගොස් සිය දෙ අත් ඉනේ තබාගෙන කිසියම් තෘප්තියකින් මා දෙස මොහොතක් බලා සිට මෙසේ කීවා ය.

"දැන් කණ්ණාඩියෙන් බලන්න කොහොම ද කියලා."

මම හුන් තැනින් නැගී සිට කණ්ණාඩිය දෙස බැලුවෙමි. මගේ මුහුණේ එක් පැත්තකට නොයෙකුත් වර්ණ යොදා තිබුණ අතර, අනෙක් පැත්ත පරණ වාරිස් ගේ මුහුණ ම විය.

"ඔ... ඇයි මූණෙ එක් පැත්තක් විතරක්" මම ප්‍රශ්න කළෙමි.

"මිස්ටර් මැල්කම්ට වුවමනා ඔයාගෙ මූණෙ එක පැත්තක විතරක් පින්තූර ගන්න."

අනතුරු ව ඇය මා ඡායාරූප ගන්නා කාමරයට කැඳවාගෙන ගිය අතර, මැල්කම් මා එහි වූ පුටුවක නිසි අන්දමට වාඩිකර වූයේ ය. මම හිස කරකවා කාමරය සිසාරා බැලුවෙමි. අධි බලැති විදුලි ලාම්පු, වයර් සහ බැටරි ආදී මා කිසිදාක නො දුටු දේ එහි විය. කැමරා කාචයට අංශක අනූවක කෝණයක් සිටින සේ මැල්කම් මා සැකැසුවේ ය.

"වාරිස් ඔයාගෙ තොල් දෙක එකට තියාගෙන නිකට පොඩ්ඩක් උස්සලා කෙළින් බලන්න... අන්න හරි."

ඒ සමඟ ම 'ක්ලික්' යන හඬින් ඇසුණ ශබ්දයත් සමග දෙ ඇස් තිලංකාර වී යන එළියක් පත්තු වී නිවී ගියේ ය. චිත්‍රපට නිළියන් මංගල දර්ශනවලට සහභාගි වීමට එනවිට ඔවුන් සිනාමුසු මුහුණින් පත්තරකරුවන් ගේ ඡායාරූපවලට මුහුණ දෙන අන්දම මා රූපවාහිනියෙන් දැක ඇති අතර, මමත් එ වැනි නිළියක් නො වේදැයි ඒ මොහොතේ මට කල්පනා විය. අනතුරු ව මැල්කම් කිසියම් කොළයක් කැමරාවෙන් එළියට ගෙන ඒ දෙස බලා හිඳින්නට විය.

"මොනවද ඔබ බලන්නෙ" මම ඇසුවෙමි.

මැල්කම් මා දෙස බලා ඔහු සිටින තැනට එන ලෙස සංඥාවක් කළේ ය. විදුලි ලාම්පු අතරින් ඔහු වෙත ගියවිට ඔහු අත තිබූ කොළයේ උඩ කොටස විවෘතකොට එය මා අත තැබුවේ ය. පොලරොයිඩ් ඡායාරූප කොළය මත ගැහැනියකු ගේ රූපයක් කෙමෙන් මතු වී එනු මම දුටුවෙමි. එහි ඉන්නේ මා බැව් එකවර ම මට හඳුනා ගන්නට අපහසු විය. මගේ මුහුණේ දකුණු පැත්ත ඡායාරූපයේ දිස්විය. වැඩකාරියකු වූ වාරිස් වෙනුවට මා විලාසිතා නිරූපිකාවියක් ලෙස එහි දිස්විය. මැල්කම් ගේ ඡායාරූප ශාලාවේ එල්ලා ඇති මනබඳන යුවතියක් බවට මා ද මැල්කම් විසින් පරිවර්තනය කොට ඇත.

සතියකට පමණ පසු මැල්කම් විසින් නෙගටිව් පටය සුද්ධ කොට මුද්‍රණය කරන ලද පින්තූර මට පෙන්නුවේ ය. ඒ පින්තූර දැකීමෙන් මා අමන්දානන්දයට පත්වීමි. මගේ පින්තූරවල කොපි කීපයක් මට ලබාදෙන

ලෙස ඉල්ලූ විට ඔහු කියා සිටියේ එය බොහෝ මුදල් වැයවන බවත්, එ වැනි මුදලක් වැය කිරීමට ඔහුට හැකියාවක් නො මැති බවත් ය.

ඡායාරූප ගැනීමෙන් මාස දෙකකට පමණ පසු දිනක් මැල්කම් දුරකථනයෙන් මා ඇමැතුවේ ය.

"වාරිස් මම දන්නෙ නෑ ඔබ නිරූපිකාවියක් වෙන්ඩ කැමැති ද කියලා... හැබැයි කීපදෙනෙක් ම ඔබේ පින්තූර දැකලා ඔබ ව මුණ ගැසෙන්නට වුවමනාවෙන් ඉන්නවා... මගේ ඇල්බම් එකේ තිබිලා ඔබ ගේ පින්තූර දැක්ක එක විලාසිතා ඒජන්සියක් මට කිව්වා ඔබට කියන්න කියලා ඔබ කැමැති නම් ඒ අයට දුරකථන ඇමැතුමක් දෙන්න කියලා... ඒ අය සමහර විට ඔබත් සමඟ කොන්ත්‍රාත්තුවක් අත්සන් කරලා ඔබට රැකියාවක් දේවි."

"මම කැමැතියි... හැබැයි මේකයි ප්‍රශ්නෙ... මට තනියම යන්න මොකද්ද වගේ. ඔබට බැරි ද මා එක්කගෙන ගිහිල්ලා ඔවුන්ට මාව අඳුරලා දෙන්න."

"ඒක නං මට කරන්න බෑ... මම ඔබට ඔවුන් ගේ ලිපිනය යි ටෙලිපෝන් නොම්මරය යි දෙන්නම්" ඔහු මට ඒජන්සියේ ටෙලිපෝන් නොම්මරය සහ ලිපිනය දුන්නේ ය. ක්‍රෝෆෝඩ් විලාසිතා ඒජන්සියට යනවිට ඇඳගෙන යන්නට උචිත ඇඳුමක් ඉතා පරිස්සමෙන් මම තෝරා ගතිමි. එ දින ගිම්හාන සෘතුවේ ඉතා උෂ්ණාධික දිනයක් වූ බැවින් "වී" අකුර හැඩයේ කර ඇති ලාබ අත්කොට රතු ගවුමකින් සැරැසුණ මම ඒජන්සිය වෙත ගියෙමි.

ඒජන්සියට ඇතුළු වූ මම කෙළින් ම පිළිගැනීමේ නිලධාරිනිය සිටි තැනට ගියෙමි. මගේ පින්තූරයක් මා ගෙනැවිත් ඇත්දැයි ඇය ඇසුවා ය. පින්තූරයක් ඇති බැව් මම ඇයට කීවෙමි. ඇය මා ඉතාමත් සුරූපී එ මෙන් ම ජැන්ඩියට ඇඳ පැලඳ සිටි තරුණියකට මා හඳුන්වා දුන්නා ය. ඇගේ නම වෙරෝනිකා ය. වෙරෝනිකා මා ඇය ගේ කාමරයට කැඳවාගෙන ගොස් ඇය ගේ මේසය ඉදිරිපිට වූ අසුනේ අසුන් ගන්නා ලෙස සැල කළා ය.

"වාරිස් ඔයාගෙ වයස කීය ද?"

"මම තරුණයි... ඇත්තෙන් ම තරුණයි."

ඇය ගේ පළමු ප්‍රශ්නයට පිළිතුරු වශයෙන් මට හැඟුණ දේ එ ලෙස ම මම කියා සිටියෙමි.

"මේ මගේ මූණෙ තියෙන සමහර රැලි උප්පත්තියෙන් ම තියෙන ඒවා."

"ඒකට කමක් නෑ" ඇය සිනහවක් මුවග රඳවාගෙන කීවා ය.

අනතුරු ව වෙරෝනිකා මා කියන දේ කොළයක සටහන් කර ගන්නට පටන් ගත්තා ය.

"කොහෙද ඔබ පදිංචි වෙලා ඉන්නෙ."

"මම ඉන්නෙ වයි. එකේ."

"කොහෙ කිව්වා" ඇය අපහසුතාවයකින් ඇසුවා ය.

"මම වයි.එම්.සී.ඒ. කාමරයක නැවතිලා ඉන්නෙ."

"වාරිස් රැකියාවක් කරනව ද?"

"ඔව්."

"මොනව ද කරන්නෙ?"

"මැක්ඩොනල්ඩ් එකේ."

"ආ... හරි ඔබ විලාසිතා නිරූපණය ගැන දන්නව ද?"

"ඔව්."

"මොනව ද ඔබ ඒ ගැන දන්නෙ... ඔබ හුඟක් ඒ ගැන දන්නව ද?"

"නෑ... ඒ වුණාට මට ඕනැ නිරූපණ ශිල්පිනියක් වෙන්න."

"ඔබ ළඟ ඔබගෙ පින්තූර ඇල්බම් එකක් තියෙනව ද?"

"නෑ."

"ඔබ ගේ පවුලේ අය මෙහෙ ඉන්නව ද?"

"නෑ."

"එහෙම නං ඔබගෙ පවුලේ අය කොහෙද ඉන්නෙ?"

"අප්‍රිකාවෙ."

"එහෙනං ඔබ අප්‍රිකාවෙ ඉඳලා එන අයෙක්."

"ඔව්... මම එන්නෙ සෝමාලියාවෙන්."

"ඒ කියන්නෙ ඔබ ගේ පවුලේ කවුරුවත් මෙහෙ නෑ."

"නෑ... මගේ පවුලේ කවුරුවත් මෙහෙ නෑ."

"හොඳයි දැන් ඔයා මම කියන තැනට හැකි ඉක්මනින් යන්න... මේ වෙලාවෙ එ තැන නළුවරණයක් කෙරෙනවා."

ඇය කියූ නළුවරණය යන වචනය මට කොහෙත් ම නො තේරුණ බැවින් ඒ වචනයේ තේරුම සොයා ගන්නට මම උත්සාහ කළෙමි.

"මට සමාවෙන්න. ඔබ කියූ දේ මට තේරුණේ නෑ."

"රස්සාවක් ලබා ගන්නට ගියා ම සම්මුඛ සාකච්ඡාවක් පවත්වනවා වගේ... එ තැන දැන් සම්මුඛ සාකච්ඡාවක් පැවැත්වෙනවා... සම්මුඛ සාකච්ඡාවක්... දැන් තේරුණා ද?"

ඇත්තෙන් ම මට එය නො තේරුණත් මම තේරුණ බවක් හැඟවූයෙමි. වෙරෝනිකා මා අත ලිපිනයක් තබා හැකි ඉක්මනින් එහි යන ලෙස කීවා ය.

"මම දැන් එතෙන්ට කෝල් කරලා කියන්නම් ඔයා එනවා කියලා... ඔයාට ටැක්සියක යන්න මුදල් තියෙනව ද?"

"නෑ... මට පයින් යන්න පුළුවන්" මම කීවෙමි.

"නෑ නෑ එතෙන්ට සැහෙන දුරයි... පයින් යන්න බෑ... මෙන්න මෙ තැන පවුම් දහයක් තියෙනවා. සම්මුඛ සාකච්ඡාව ඉවර වුණා ම මට කෝල් එකක් දෙන්න." ඇය මා අත පවුම් දහයේ නෝට්ටුවක් තබමින් කීවා ය.

උතුරා යන ප්‍රීතියෙන් මා ලන්ඩන් නගරය හරහා ටැක්සියෙන් යන අතරතුර මට මෙසේ සිතුණි. 'ඕ වාරිස් එහෙනං ඔයා විලාසිතා නිරූපිකාවක් වෙන්නට යනවා.'

ලිපිනයේ සඳහන් ස්ථානය ඉදිරිපිට ටැක්සිය නතර කළ විට මම මුදල් ගෙවා ඉන් බැස ගතිමි. ගොඩනැඟිල්ල තුළට ඇතුළු වූ විට මා දුටුවේ තවත් ඡායාරූප ශාලාවකි. ශාලාව තුළ ඉතා සුරූපී ගැහැනු ළමයින් විශාල පිරිසක් සිටිනු මම දුටුවෙමි. ඔවුහු සිංහ ධේනුවක් ගොදුරක් සොයමින් ඇවිද යන ආකාරයට ශාලාව තුළ ඔබ මොබ ඇවිදිමින් කණ්ණාඩි ඉදිරිපිටට ගොස් කෙස් වැටිය සකස් කර ගනිමින් පාදවල දුඹුරු පැහැති ආලේප ගල්වමින් සම්මුඛ සාකච්ඡාවට සැරසෙමින් සිටිනු මම දුටුවෙමි.

"මොන වගේ රස්සාවකට ද අද සම්මුඛ සාකච්ඡාව පැවැත්වෙන්නෙ" මා හිඳගෙන සිටි පුටුවට අල්ලපු පුටුවේ සිටි ගැහැනු ළමයකුගෙන් මම ඇසුවෙමි.

"පිරෙලි කැලැන්ඩරයට පින්තූර ගන්න සුදුසු අය තෝරගන්න."

එ වැනි කැලැන්ඩරයක් ගැන මා කිසි දිනක අසා නො තිබුණ බැවින් මට ඇය කියූ දේ නො තේරුණා පමණක් නො ව, මට එය ප්‍රහේලිකාවක් ද විය. මහත් නො සන්සුන්තාවයකට පත් ව සිටි මා දෙ පැත්තට ඇඹරෙමින් මගේ වාරය එනතුරු බලා සිටියෙමි. එකවර ම මා වෙත පැමිණි සුරූපී කාන්තාවක් ඊළඟට මගේ වාරය බැව් දැනුම් දුන්නා ය. එ වදන් ඇසීමෙන් මගේ ගත හීතල ව යන්නට විය. මම මගේ මිතුරිය එනකල් සිටින බව කියමින් මා අසල සිටි අනෙක් ගැහැනු ළමයාට ඒ වාරය ගන්නා ලෙස කියා මම නිහඬ වීමි. ශාලාව තුළ සිටි සියලු ම දෙනා ගේ පින්තූර ගෙන අහවර වන තෙක් මම ඒ සෙල්ලම දිගට ම කරගෙන ගියෙමි. පෙර මා වෙත පැමිණි සුරූපී යුවතිය නැවතත් මා සිටි තැනට පැමිණියා ය.

"ඔබ එනව ද... නැත්නම් ඔබට යන්ඩ පුළුවන්" ඇය බිත්තියට හේත්තු වන ගමන් කීවා ය.

කතා බහකින් තොර ව හුන් තැනින් නැඟී සිටි මා ඇයත් සමඟ ඡායාරූප ගන්නා ශාලාව වෙත ගියෙමි.

"ඔය පොළොවෙ ඇඳලා තියෙන සලකුණ උඩ හිටගෙන ඔබ ගේ උඩුකය විවෘත කරන්න" කැමරාව අසල සිටි මිනිහෙක් මා ශාලාවට ඇතුළු වනවාත් සමඟ ම මොර දෙන්නට විය.

එ වදන් ඇසීමෙන් මට ඔක්කාර ගතියක් ඇති විය.

"ඇහුණ ද මම කිව්ව දේ... කරුණාකරලා ඔබෙ උඩුකය නිරුවත් කරන්න... ඔබ මෙ තැනට ආවෙ මොකටද දන්නවනෙ." ඔහු කැමරාවෙන් හිස මැත් කොට ගිගුරුවේ ය.

"ඒකනම් කොහොමටවත් කරන්න බෑ... අනෙක මම බ්‍රා (තනපටක්) එකක් ඇඳලා නෑ."

"හරියට හරි එහෙම තමයි අපිට පින්තූරය ගන්න ඕනෑ කරන්නෙ."

"ඒක කරන්න බෑ."

"ගැහැනු සිය ගණන් පොර කනවා මේ වගේ අවස්ථාවක් ලබා ගන්න... ඔබ කියනවා මෙතෙන්ට ඇවිල්ලා ඒක කරන්න බෑ කියලා."

"කරුණාකරලා මට සමාවෙන්න... මේක වැරැදීමක්" ශාලාවෙන් පිට වී යන දොර දෙසට දුවන ගමන් මම කීවෙමි.

එකවර ම තරබාරු පුද්ගලයෙක් කාමරයට ඇතුළු විය.

"මොකක්ද ප්‍රශ්නෙ" ඔහු කට කොනකින් සිනාසෙමින් ඇසුවේ ය.

"මට සමාවෙන්න ඔය කියන විදියේ පින්තූරයකට පෙනී සිටින්න මට බෑ" මම එ සේ කියමින් ශාලාවේ දොර වසාගෙන එළියට පැමිණියෙමි.

එකවර ම මගේ දෙනෙත කඳුළින් තෙමී යන්නට විය. විලාසිතා නිරූපිකාවක් වන්නට මා තුළ වූ බලාපොරොත්තුව බොඳ ව ගියෙන් මා මහත් කලකිරීමකට පත් විය.

"වාරිස් ඔයාට කෝල් එකක්" එ දින හැන්දෑවේ මහත් සේ කලකිරීමට පත් ව ඇඳ මත වැතිර සිටින මා වෙත පැමිණි කාමරයේ මා සමඟ පදිංචිව සිටි මගේ මිතුරිය කීවා ය.

මම ටෙලිපෝනය වෙත ගොස් රිසීවරය කනේ තබා ගතිමි. වෙරෝනිකා ගේ කටහඬ මම එකවර ම හඳුනා ගතිමි.

"ආ ඔයාද? මට ඔයත් එක්ක මීට පස්සෙ කතාවක් නෑ... ඔයා මාව නරක තැනකට ඇරියෙ... ඒවා කරන්න මම කැමැති නෑ."

"හරි හරි වාරිස්... පොඩ්ඩක් කලබල වෙන්න නැතුව මම කියන දේ අහන්ඩකො... ඔයා දන්නව ද අද ඔයා ව පින්තූර ගන්න හිටපු කැමරා ශිල්පියා කවුද කියලා."

"මම දන්නෙ නෑ."

"එයා තමයි ටෙරන්ස් ඩොනවන් කියන්නෙ... ඔයා දන්න යාළුවෙක් ඉන්නව ද හොඳට ඉංග්‍රීසි කතා කරන්න පුළුවන්."

"ඔව්."

"ලන්ඩන්වල ඉන්න ඕනෑ ම ඉංග්‍රීසි කතා කරන්න පුළුවන් කෙනෙක් දන්නවා ටෙරන්ස් ඩොනවන් ගැන... එයා තමයි රැජිනගෙ, ඩයනා කුමරියගෙ එහෙම පින්තූර ගන්නෙ... කොහොම හරි වාරිස් එයා කැමැතියි ඔයාව ආයෙ මුණ ගැසෙන්න... අනෙක ඔයාගෙ පින්තූරයක් ගන්න."

"එයා මට ඇඳුම් ගලවන්න කිව්වා... ඇයි ඔයා මට ඒ බවක් ඉස්සෙල්ලා කිව්වෙ නැත්තෙ."

"ඒ වෙලාව හරිම කලබල වෙලාවක්... ඒකයි මට විස්තර කියන්න බැරි වුණේ... මට හිතුණ ඔයා ඒ වැඩේට හරියනවා කියලා... ඒකයි මම ඔයාට තවම යන්න කීවෙ... අද මම එයාට ටැලිපෝන් එකෙන් කිව්වා... ඔයාට තවම හරියට ඉංග්‍රීසි කතා කරන්න බෑ කියලා. අනෙක ඒ වගේ පින්තූරවලට

පෙනී සිටීම ඔයාගෙ සංස්කෘතියට විරුද්ධයි කියලා... මේ වැඩේට ඔයා ඉදිරිපත් වුණොත් ඊට පස්සෙ ඔයාට ඕන තරම් වැඩ ලැබෙයි... ඔයා අර ගන්නව ද... වෝග්, එලේ වගේ විලාසිතා සඟරාවල්."

"නෑ... මට ඒවා ගන්න සල්ලි නෑ... මම ඔය පත්තර කඩයක් ළඟින් යනකොට ඒ වගේ සඟරා අරගෙන බලලා ආපහු තියලා යනවා."

"හරි... ඔයා ඒ සඟරා දැකලා තියෙනවනෙ... අන්න ඒ වගේ පින්තූරවලට තමයි ඔයාට පෙනී සිටින්න වෙන්නෙ... ඒ වගේ පින්තූර ගන්න දක්ෂ ම ප්‍රසිද්ධ ම ඡායාරූප ශිල්පියා තමයි ටෙරන්ස් ඩොනවන්... වාරිස් ඔයාට විලාසිතා නිරූපිකාවක් වෙන්න ඕනැ නම්... ඔයා මේ පින්තූරයට පෙනී ඉන්ඩ ඕනෑ... ඊට පස්සෙ ඔයාට ඕනෑ තරම් සල්ලි හම්බු කරන්න පුළුවන්."

"ඒ වුණාට මට බෑ පපුව පේන්න ඇඳුම් ගලවන්න."

ඈය දිගු සුසුමක් හෙළන හඬ මට යාන්තමින් ඇසුණි. "ඔයා වැඩ කරනවා කිව්වෙ කොහෙද?"

"මැක්ඩොනල්ඩ් එකේ."

"ඔයාට එ තැන පඩිය කීයක් ගෙවනව ද?"

මට ලැබෙන පඩිය මම ඇයට කීවෙමි.

"වාරිස්... එයා එක දවසකට ඔයාට ගෙවනවා පවුම් එක්දාස් පන්සීයක්."

"ඒ කියන්නෙ එක්දාස් පන්සීය ම මට ද?"

"ඔව් ඔව්... පින්තූර ගන්න ඔයාට බාත්වලට යන්න වෙයි. මම දන්නෙ නෑ මීට ඉස්සෙල්ලා ඔයා එතෙන්ට ගිහිල්ලා තියෙනව ද කියලා... හරි ම ලස්සන තැනක්... ඔයාට ඉන්ඩ ලැබෙන්නෙ රෝයල්ටන් එකේ... ඔයා මොකද කියන්නෙ ඔයා මේ පින්තූරයට පෙනී සිටින්න යනව ද නැත්ද?"

මේ පින්තූරයට පෙනී සිටීමේ වටිනාකම වෙරෝනිකා ඒ වනවිට මට ඒත්තු ගැන්නුවා ය. මේ තරම් විශාල මුදලක් ඒ අය මට ගෙවන්නේ නම් ඉක්මනින් මට සෑහෙන මුදලක් හම්බු කරගන්නට හැකි බවත්, ඉක්මනින් ම අම්මාට උදව් කරන්න පුළුවන් බවත් මම වටහා ගතිමි.

"හරි මම කවද්ද ආයෙත් එයා ගාවට යන්න ඕනෑ."

"හෙට උදේ ඔයාට යන්න පුළුවන්ද?"

"ඒ කියන්නෙ මගේ බිරා (තනපට) එක විතරයි මට ගලවන්න තියෙන්නෙ... ඔයාට හොඳට ම විශ්වාස ද පවුම් එක්දාස් පන්සීයට මට ඒ මිනිහත් එක්ක බුදිය ගන්න වෙන්නෙ නැහැ කියලා."

"නෑ නෑ එහෙම දෙයක් එ තැන නෑ."

"ඔයාට හොඳට ම විශ්වාස ද මට මගෙ කකුල් දෙක පළල් කරන්න වගේ විකාර කරන්න කියන එකක් නෑ කියලා... ඕ වෙරෝනිකා එහෙම දෙයක් තියෙනව නං දැන්ම මට කියන්න."

"එයාට වුවමනා ඔයාගෙ උඩුකයේ පින්තූරයක් ගන්න විතරයි... හෙට එයා ඔයාගෙ පින්තූරයක් පොලරොයිඩ් කැමරාවෙන් ගනී. ඒක බලලා ඔයා ඒකට සුදුසු ද නැත්ද කියලා කියයි. ඒ හින්දා වැඩේට ඔයාගෙ උපරිම සහයෝගය දෙන්න.

පසු දින මා එහි ගිය විට ටෙරන්ස් ඩොනවන් මා දෙස බලා සිනාසෙන්නට විය.

"ආ... මේ අර සෝමාලියාවේ ඉඳලා ආව එක්කෙනා නේද? එන්ඩ එන්ඩ... මොකක්ද ඔයාගෙ නම?"

ඒ මොහොතේ සිට ඩොනවන් ඉතාමත් ම සංයමයකින් මා සමග කටයුතු කරන්නට පටන් ගත්තේ ය. ටෙරන්ස් ඩොනවන් පියකු වූයෙන් මගේ මානසිකත්වය ඔහු හොඳින් තේරුම් ගත්තේ ය. පළමුවෙන් ම මා හට තේ කෝප්පයකින් සංග්‍රහ කළ ඔහු, මා කැඳවාගෙන ගොස් ඔහු විසින් ඡායාරූපයට නගන ලද ලෝකයේ රූමත් ම යුවතියන් ගේ ඡායාරූප පෙන්නුවේ ය. ඒ කාමරයේ වූ රාක්කවල සහ ලාච්චුවල සිය ගණනක් ඔහු විසින් ඡායාරූපයට නගන ලද පින්තූර විය.

"වාරිස් මේ තියෙන්නෙ ගිය අවුරුද්දෙ මම කළ පිරෙලි කැලැන්ඩරය" මේසයක් මත තිබූ එක්තරා කැලැන්ඩරයක පිටු පෙරළමින් ඔහු කීවේ ය.

සෑම පිටුවක ම එකිනෙකට වෙනස් ආකාරයකින් ඡායාරූපයට නගන ලද ඉතාමත් රූමත් තරුණියන් ගේ ඡායාරූප විය.

"මේ කැලැන්ඩරය මම හැම අවුරුද්දක ම කරනවා... මේ සැරේ තියෙන එක ම වෙනස මම අප්‍රිකානු තරුණියක ගේ පින්තූර තමයි යොදන්නට බලාපොරොත්තු වෙන්නෙ... සමහර පින්තූර ඇඳුම් ඇඳලා ගන්ඩ වෙනවා. සමහර ඒවා නිරුවත් ව ගන්ඩ වෙනවා."

ඔහු මා විසින් කළ යුතු කර්තව්‍යය විස්තරාත්මක ව මට පැහැදිලි කර දුන්නේ ය. ඒ වනවිට ඔහු අනවශ්‍ය දෙයක් මගෙන් බලාපොරොත්තු නො වන අව්‍යාජ ඡායාරූප ශිල්පියකු බැව් මට වැටහී ගියෙන් මා තුළ මෙතෙක් වූ නො සන්සුන්තාවය පහ ව ගියේ ය.

"හරි එහෙම නම් අපි දැන් පොලරොයිඩ් ඡායාරූපය ගන්ඩ සූදානම් වෙමු... ඔයා ලෑස්ති ද?"

මේ පින්තූරයට පෙනී සිටිනවාට මට ලැබෙන මුදල ගැන වෙරෝනිකා කිව දේ මගේ දෙ සවන් තුළ දෝංකාර දෙන්නට විය.

"හරි මම ලෑස්තියි" මම නො පැකිළි ව පිළිතුරු දුන්නෙමි. ඒ මොහොතේ සිට මා වෘත්තීමය විලාසිතා නිරූපිකාවක් මෙන් හැසිරෙන්නට පටන් ගතිමි. උඩුකය නිරුවත් කළ මම කැමරාව ඉදිරිපිට වූ සලකුණ මත සිටගෙන බිය සැකයකින් තොර ව කැමරාවට මුහුණ දුන්නෙමි.

"ඕ. කේ." ඔහු ගේ මුවින් පිට විය.

කළු සුදු වර්ණයෙන් ගන්නා ලද ඡායාරූපය ඔහු මා අත තැබුවේ ය. ඒ ඡායාරූපය දුටු සැණින් මා අප්‍රිකාවේ සිටින බවක් මට දැනෙන්නට විය. ඡායාරූපය පෙනුමෙන් සරල ඡායාරූපයක් වුව ද එහි කලාත්මක ගැඹුරක් ඇති බව පැහැදිලි ව පෙනෙන්නට තිබුණ අතර, එහි කිසියම් හෝ අශ්ලීල බවක් නම් පෙනෙන්නට නො තිබුණේ ය. ඡායාරූපය පුරා විද්‍යාමාන වූයේ කාන්තාරයේ හැදී වැඩුණ වාරිස් නමැති දැරිය ගේ කුඩා පියයුරු යුගල හිරු එළියට අනාවරණය කර ඇති අයුරු පමණි.

කැලැන්ඩරය සඳහා ඡායාරූප ගැනීමට මා තෝරාගෙන ඇති බවත්, ලබන සතියේ බාත් නමැති ස්ථානයට යන්නට සූදානම් විය යුතු බවත්, ඒජන්සිය විසින් මගේ කාමරයේ මිතුරියට පණිවුඩයක් දී තිබුණි. එ දින හැන්දෑවේ මා කාමරයට පැමිණි විගස මා හට පණිවුඩය ලැබුණ අතර, වෙරෝනිකා ඇගේ නිවසේ පුද්ගලික දුරකථන අංකය ද දී තිබුණි. එහෙත් මැක්ඩොනල්ඩ් ආපන ශාලාවේ වැඩ කරන්නට මට නියමිත ව ඇති බවත්, ඡායාරූප සඳහා මට ලැබිය යුතු මුදල ලබා ගන්නට කොපමණ කලක් ගතවේ ද යන්න මම වෙරෝනිකාගෙන් අසා සිටි අතර, මුදල් ගැන කලබල නො වන ලෙසත්, අවශ්‍ය නම් මට අත්තිකාරම් වශයෙන් මුදලක් ලබා දෙන්නට හැකි බවත් ඇය කීවා ය.

ඉන් පසු කිසි ම දිනක මම මැක්ඩොනල්ඩ් ආපන ශාලාවේ රැකියාවට නො ගියෙමි. වෙරෝනිකා සමඟ දුරකථනයෙන් කතා කිරීමෙන් අනතුරු ව නව රැකියාව ගැන මගේ මිතුරියන්ට දන්වන්නට මම වයි.එම්.සී.ඒ. ගොඩනැගිල්ලට දිව ගියෙමි.

"ඉ වාරිස්... දෙවියන්ගෙ නාමෙන් ඔය කයිවාරුව නවත්ත ගන්න... ඔය වගේ පොඩි දේකට පවුම් එක්දාස් පන්සීයක්."

"විලාසිතා නිරූපණ රැකියාව ඔයා හිතන විදියෙ එකක් නෙමේ... හරි ම සුන්දරයි."

"ඔයා ඔය කතාව මේ ගොඩනැගිල්ලෙ අයට ආයෙ කියනව එහෙම නෙමේ... ඇහුණ ද වාරිස්."

මීට පෙර මා මෙ වැනි ගමනක් ගොස් නො තිබුණු හෙයින් බාත්වලට යන්නට යෙදී තිබුණ දිනට පෙර දින රාත්‍රියේ මට නින්ද ගියේ නැත. මේ ගමනට අවශ්‍ය වියදම් ඔවුන් දරනවා පමණක් නොව, ටෙරන්ස් ඩොනවන් මා වික්ටෝරියා දුම්රිය පොළට රැගෙන යන්නට සුඛෝපභෝගී මෝටර් රථයක් ද එවනු ඇත. එහි දී මට ඡායාරූප ශිල්පියා, වේශ නිරූපණ ශිල්පිනියන් සහ අනෙකුත් විලාසිතා නිරූපිකාවන් හමුවෙනු ඇත. එ දින වික්ටෝරියා දුම්රියපොළට ගොස් සිටි පළමුවැනියා මම විය. ඊට හේතුව නියමිත වේලාවට දුම්රියපොළට යා ගන්නට නො හැකි වේ යයි මා තුළ මහත් බියක් ඇති වී තිබුණ බැවිනි. ඊළඟට වික්ටෝරියා දුම්රියපොළට පැමිණියේ නයෝමි කැම්ප්බල් ය. බාත්වලට පැමිණි අපි රෝයල්ටන් හෝටලයට ගියෙමු. ඇත්තෙන් ම එය මාළිගාවක් මෙන් විය. මට නවතින්නට සූදානම් කර තිබූ විශාල කාමරය මා මවිතයට පත් කළේ ය. රෝයල්ටන් හෝටලයේ ගත කළ පළමු දිනයේ දී නයෝමි කැම්ප්බල් මගේ කාමරයට පැමිණ ඇයට මගේ කාමරයේ නිදා ගන්නට හැකිදැයි ඇසුවා ය. එකල ඇය අවුරුදු දාසයක නැති නම් දාහතක තරුණියක් වූයෙන් තනියම කාමරයක නිදා ගන්නට බියෙන් සිටියා ය. මම ඉතා කැමැත්තෙන් ඇය ගේ ඉල්ලීමට ඉඩ දුනිමි.

"හැබැයි මෙක කාටවත් කියන්න එහෙම එපා... මොකද කාමරයකට සල්ලි ගෙවලා ඒකෙ කවුරුත් නැති බව දැන ගත්තොත් ඔවුන්ට තරහ යාවි." ඇය කීවා ය.

"ඒ ගැන බයවෙන්න එපා... ඔයා මගේ කාමරයට ඇවිල්ලා නිදා ගන්න."

වසර ගණනාවක් පුරා මම මගේ නංගිලා මල්ලිලා බලා ගැනීමෙන් ඇති අත්දැකීමක් සමඟ මම අම්මා ගේ භූමිකාව නිරූපණය කළෙමි.

පසුදින ඡායාරූප ගැනීම ආරම්භ කෙරිණි. වරකට දෙදෙනා බැගින් ගොස් වේශ නිරූපණය කරවාගෙන කොණ්ඩා මෝස්තර ද දමාගෙන සිටිය යුතු ව තිබුණි. ඒ දෙදෙනා දර්ශන තලයට ගොස් ඡායාරූපවලට

පෙනී සිටින අතර, ඊළඟ දෙදෙනා ගොස් වේශ නිරූපණය නොව කොණ්ඩා මෝස්තර සකස් කරගෙන සිටිය යුතු විය.

මැක්ඩොනල්ඩ් ආපන ශාලාවේ වැඩ කළ කාලය ඇතුළත එහි කැබි අනුභව කිරීම නිසා මා තරමක් මහත් වී සිටි බැවින් මගේ පෙනුමට නව මුහුණුවරක් දීමේ අරමුණ ඇති ව පළමුවෙනි දිනයේ දී මා මගේ කොණ්ඩය කොටට කපන්නට තීරණය කොට ඒ බව මම කොණ්ඩ මෝස්තර දමන්නාට දන්වා සිටියෙමි. ඔහු මගේ කොණ්ඩය කොටට ම කැපුවේ ය. කොණ්ඩය කපා දැමීමෙන් පසු මගේ පෙනුම සම්පූර්ණයෙන් ම වෙනස් වී ඇති බව හැම අයෙක් ම පාහේ කියන්නට විය.

"මම මගෙ කෙස් පාට කරන්න තීරණය කළා" කොණ්ඩ මෝස්තර දමන්නාට කීවෙමි.

"මගෙ දෙවියනේ ඒකනම් මම කොහොමවත් කරන්නෙ නෑ... එහෙම කළොත් ඔයා නිකම් පිස්සියක් වගේ පෙනේවි." කොණ්ඩ මෝස්තර දමන්නා ගිගුරුවේ ය.

"ඒක නෙමෙයි වාරිස් ඔයා දන්නව ද... කවද හරි ඔයා ප්‍රසිද්ධ විලාසිතා නිරූපිකාවක් වෙනවා... එදාට ඉතින් මාව නම් අමතක කරන්න එපා." ඇත්තෙන් ම සිදු වූයේ අනෙකකි... නයෝමි විලාසිතා නිරූපිකාවියක් ලෙස ප්‍රසිද්ධියට පත් විය.

අපි දින හයක් දිගට ම එහි රැඳී වැඩ කළෙමු. හයවන දිනයේ දී මගේ වේතනය මට ලැබුණ අතර, ඇත්තෙන් ම එය මම බලාපොරොත්තු නොවූ සිදුවීමකි. මුදල් ලැබුණ වහා ම මම ඇඳ පැලඳගෙන කාමරයෙන් එළියට පැමිණියෙමි. එහි සිටි සියල්ලෝ ම මා කොහෙ යන්නට සැරසී සිටින්නේ දැයි ප්‍රශ්න කරන්නට වූහ. "මම යනවා ෂොපින්" මම මගේ සුපුරුදු පිළිතුර දුනිමි. ඔවුන් මට ෂොපින් යන්නට රියැදුරා සමග සුඛෝපභෝගී රථයක් දුන්නේ ය. අවසානයේ දී ටෙරන්ස් ඩොනවන් කැලැන්ඩරයේ මුල් පිටුව සඳහා මගේ ඡායාරූපය තෝරාගෙන තිබුණි. ඇත්තෙන් ම එය මට ලැබුණ නො සිතූ ගෞරවයක් මෙන් ම, එ මගින් මට මහත් ප්‍රසිද්ධියක් ද ලැබුණි.

පසුදින අපි දුම්රියෙන් ලන්ඩන් බලා පැමිණියෙමු. ලන්ඩනයට පැමිණි වහා ම අප ව නිවෙස් කරා ගෙන යන්නට එවා තිබුණ සුඛෝපභෝගී රථයකට මම ගොඩ වුණෙමි. මා ගමන් කරන්නට බලාපොරොත්තු වන ස්ථානය කුමක්දැයි රියැදුරා මගෙන් අසා සිටියේ ය. මා ඒජන්සියට රැගෙන යන ලෙස මම රියැදුරාට දැන්වීමි. මා ඒජන්සියට ඇතුළු වූ

එහා ම නව ජේම්ස් බොන්ඩ් චිත්‍රපටයට ජේම්ස් බොන්ඩ් ගේ පරිවාර යුවතියන්ට සුදුසු අය තෝරන සම්මුඛ සාකච්ඡාවක් පැවැත්වෙන බවත්, එය පැවැත්වෙන්නේ ඒජන්සිය ඇති පාරේ ම කෙළවරේ බවත්, මට එහා ම එ තැනට යන ලෙස ඔවුන් මට දන්වා සිටියේ ය.

"ඒක නං කොහෙත් ම කරන්න බෑ... මට හරි මහන්සියි... මම ඒකට ගෙට යන්නම්" මම ඔවුන් ගේ ඉල්ලීම ප්‍රතික්ෂේප කරමින් කීවෙමි.

"ගෙට ගියාට වැඩක් වෙන්නෙ නෑ. ඒ අය සුදුසු ගැහැනු ළමයින් ව සොයනවා ටිමෝති ඩල්ටොන් එක්ක රඟපාන්න... ඔයාගෙ බෑග් මෙහෙ තියලා ඉක්මනට එතෙන්ට යන්ඩ."

ඒජන්සියේ වැඩ කරන එක් පුද්ගලයකු මා සමඟ පැමිණ සම්මුඛ සාකච්ඡාව කෙරෙන ස්ථානය මට පෙන්නුවේය.

"අන්න අර පේන ගොඩනැගිල්ල... අර ගැහැනු අය ඇතුළට යනවා පේන්නෙ ඒකයි තැන." මා සමඟ පැමිණි පුද්ගලයා ඇඟිල්ල දිගු කර ස්ථානය හරියට ම පෙන්නුවේ ය.

මම ගොඩනැගිල්ල ඇතුළට ගියෙමි. ශාලාව ගැහැනු ළමයින්ගෙන් පිරී ගොස් තිබුණි. මෙම ස්ථානය ටෙරන්ස් ඩොනවන් ගේ ඡායාරූප ශාලාවේ දී සිදුවුණ ආකාරයට ම සියල්ල කෙරීගෙන යන බව මම එකවර ම තේරුම් ගතිමි.

"සම්මුඛ සාකච්ඡාවට කැඳෙව්වා ම සෑම අයෙක් ම වචන කීපයක් කතා කරන්න සූදානම් විය යුතුයි" එහි සිටි පුද්ගලයෙක් අප සියලු දෙනාට ම ඇසෙන සේ කීවේ ය.

එ වැනි දෙයක් මා බලාපොරොත්තු නො වූවත් මම ටෙරන්ස් ඩොනවන්ට වැඩ කර ඇති වෘත්තීමය විලාසිතා නිරූපිකාවක් බැවින් කලබල නො වී සිටිය යුතු යයි මම සිතා ගතිමි. මගේ වාරය පැමිණි විහා ම ඔවුන් මා ඡායාරූප ගන්නා ශාලාව තුළට කැඳවා පොළොවේ ලකුණු කර ඇති සලකුණ මත සිට ගන්නා ලෙස කීවේ ය. මට හොඳින් ඉංග්‍රීසි භාෂාව කතා කරන්නට නො හැකි බව මම ඔවුනට කියා සිටියෙමි. "ආ ඒක ඒ තරම් ප්‍රශ්නයක් නො වේ" කිසියම් වගන්ති කීපයක් ලියා ඇති කොළයක් මට පෙනෙන සේ අල්වා ගත් අයෙක් මා දෙස බලාගෙන කීවේ ය.

"සමාවෙන්න මම පොඩ්ඩකට එළියට ගිහිල්ලා එන්නං" ඒ ගැන වැඩි සැලකිල්ලක් නො දක්වමින් මම කීවෙමි.

එ තැනින් පිට වූ මා මගේ බෑග් එක ගැනීම සඳහා කෙළින් ම ඒජන්සිය වෙත ගියෙමි. ඔවුන් මගේ පැමිණීම බලාපොරොත්තුවෙන් කොපමණ වේලාවක් බලා සිටින්නට ඇත් ද යන්න දන්නේ දෙවියෝ පමණි. මගේ වාරයට තව බොහෝ කල් වේලා ඇති නිසා මම මගේ බෑග් එක රැගෙන යන්නට ආ බව මම ඒජන්සියට කීවෙමි. ඒ වනවිට වේලාව දහවල් එකට දෙකට පමණ විය. ඒජන්සියෙන් පිට වූ මා කෙළින් ම මගේ කාමරයට ගොස් බෑගය එහි දමා බාබර් සැලුන් එකක් සොයාගෙන ගියෙමි. වයි.එම්.සී.ඒ. ගොඩනැගිල්ල අසල පිහිටි බාබර් සැලුන් එකකට මම ගොඩ වැදුණෙමි. එහි සිටි කරනැවැමියා කළ යුතු දෑ මගෙන් අසා සිටියේය.

"මට මගේ කෙස් 'බ්ලොන්ඩ්' පාට කරගන්න ඕනෑ."

"කරලා දෙන්න පුළුවන්... නමුත් අටට සාප්පුව වහනවා." ඔහු සිය ඇහිබැම් උඩ ඉන්දවාගෙන කීවේ ය.

"හරි එහෙනං අට වෙනකල් වෙලා තියෙනවනෙ මම ඉන්නං" මම පැකිළීමකින් තොර ව කීවෙමි.

"ඒ වුණාට ඔබට ඉස්සෙල්ලා වෙලාවල් අරගෙන තියෙන අය ඉන්නවා."

කෙසේ හෝ එ දින ම මගේ වැඩය කර දෙන මෙන් මම කරනැවැමියාට බැගෑපත් වීමි. අවසානයේ දී ඔහු වැඩය කරන්නට එකඟ විය. කරනැවැමියා මගේ හිස මත 'බ්ලොන්ඩ්' වර්ණය ගැල්වූයේ ය. එහි වූ පෙරොක්සයිඩ්වලට මගේ හම පිච්චී යන්නට වූයෙන් මට මහත් වේදනාවක් දැනෙන්නට විය. වර්ණය ගල්වා එය හිස මත මඳ වේලාවක් තිබෙන්නට හැරීමෙන් අනතුරු ව ඔහු මගේ හිසකෙස් සේදූවේ ය. හිසකෙස් සේදීමෙන් පසු මගේ කෙස් තැඹිලි පාටට දිස් වන්නට වූයෙන් නැවතත් එම ආලේපය ම ඔහු මගේ හිස මත ගැල්වූයේ ය. දෙවන වතාවේ දී මගේ කෙස් කහ පාටක් ගෙන තිබුණ හෙයින් තුන්වෙනි වතාවටත් එම වර්ණය ම ආලේප කරන්නට සිදු වූ අතර, තෙවෙනි වතාවේ දී කෙස් මට අවශ්‍ය බ්ලොන්ඩ් පාට ගැන්වී තිබුණි.

බාබර් සාප්පුවෙන් එළියට පැමිණි මා උමං දුම්රිය පොළට යන අතරතුර මවත් සමඟ ඒ දෙසට යමින් සිටි කුඩා දරුවන් දෙදෙනෙක් මෙසේ කියනු මට ඇසුණි.

"අම්මෙ අම්මෙ... බලන්න අර කවද කියලා. එයා ගෑනු කෙනෙක් ද නැත්නම් පිරිමි කෙනෙක් ද?"

එ වදන් ඇසීමෙන් සන්තකට ම මහ වැරැද්දක් කරගෙන ඇති බව හැඟී ගියෙන්, මා තුළ තිබියම බියක් ඇති වන්නට විය. එ නමුදු මම මගේ කේෂ වර්ණය වෙනස් කළේ මට වුවමනා නිසා මිස කුඩා ළමයින් සතුටු කරන්නට නො වන බැවින් ඒ කිසිවක් ගණන් නො ගන්නට මම තීරණය කළෙමි. ඒජන්සියෙන් ටෙලිෆෝන් කරමින් මා කොහිදැයි විමසූ බව කාමරයට ගිය විගස මගේ මිතුරිය කීවා ය. ඒ වනවිට ඒජන්සිය වසා ඇති බැවින් මම වෙරෝනා ගේ නිවසට ටෙලිෆෝන් කළෙමි.

"ඕ වාරිස් ඔයා කොහෙද ගියේ... ඒ අය හිතලා තියෙන්නෙ ඔබ වැසිකිළියට ගියා කියලා... ඔයා හෙට නො වැරදී ම යන්න ඕනෑ... ඔන්න වරද්දන්න එපා."

කෙසේ හෝ පසුදින නො වැරදී ම එහි යන බවට ඇ මා පොරොන්දු කරවා ගත්තා ය.

පසුදින මා ඡායාරූප ශාලාවට ගිය විට සියලු දෙනා මවිත වී මා දෙස බලා මෙසේ කීවේ ය.

"ඕ වාරිස්... හරි ෂෝක්... ඔයා ඒයෙ ද පාට කළේ... ආයෙත් වෙනස් කරන්න එපා... ඔයාට බ්ලොන්ඩ් පාට ගැළපෙනවා."

"නෑ නෑ.. ඒ දැවිල්ල විඳවන්න ආයෙත් ටික කලක් යන්න ඕනෑ" මම කීවෙමි.

"ඔබට ඉංග්‍රීසි කියවන්නට බැරි එක ද ප්‍රශ්නය."

"ඔව්."

ඔවුන් මා කැමරාව ඉදිරිපිට වූ සලකුණ මත සිටුවා මා ඡායාරූපයට නඟන ගමන් මගෙන් මෙ වැනි ප්‍රශ්න කීපයක් ඇසුවේ ය.

"ඔබ ගේ නම මොකක් ද? ඔබ කොයි රටෙන් එන කෙනෙක් ද? ඔබ ව මෙහෙට එව්වෙ කුමන ඒජන්සියකින් ද?"

ඒ ප්‍රශ්න කීපයට පිළිතුරු දෙන්නට මට එ තරම් ප්‍රශ්නයක් නො වී ය.

ඡායාරූප ගැනීමෙන් අනතුරු ව මගේ ඒජන්සියට ගොස් ඔවුන්ට මගේ නවතම කේෂ වර්ණය පෙන්වා යන්නට තීරණය කොට මම ඒජන්සියට ගොඩවැදුණෙමි. මා දුටු ඔවුහු ඇස් අදහාගත නො හැකි ව විස්මයට පත් වූහ.

"වාරිස්... ඔයා මොන මඟුලක් ද ඔය කොණ්ඩෙට කරගෙන තියෙන්නෙ."

"ඇයි එහෙම කියන්නෙ බලන්ඩකො ලස්සන."

"මොන ලස්සනක් ද... දැන් ඉතින් ඔයාට රස්සාවල් අරගෙන දෙන්න අපිට බැරිව යාවි... ඔහොම දෙයක් කරන්න ඉස්සෙල්ලා ඔයාට තිබුණා අපෙන් අහන්න... ඔයාගෙ කොණ්ඩෙ ඔයාට කැමැති දෙයක් කරන්න දැන් ඔයාට බෑ... ඔයාගෙ කොණ්ඩෙ දැන් ඔයාගෙ නෙමෙයි."

නිරූපිකාවන් තෝරන අය විසින් මා නවතම ජේම්ස් බොන්ඩ් චිත්‍රපටයේ රඟපෑම සඳහා තෝරා ගන්නා ලදී.

පසු දිනක ඒජන්සියට ගොස් වෙරෝනිකා හමුවන තෙක් චිත්‍රපට නිළියක් වශයෙන් මගේ නවතම රැකියාව ගැන මා තුළ මහත් නොසන්සුන්තාවයක් ඇති ව තිබුණි.

"ඕ... වාරිස් ඔයාට හොඳ ආරංචියක් කියන්න තියෙනවා... නව ජේම්ස් බොන්ඩ් චිත්‍රපටය *'The Living Day Lights'* රූපගත කරන්නෙ මොරොක්කෝවෙ" ඇය කීවා ය.

එ වදන් ඇසීමෙන් මගේ මුළු සර්වාංගය ම හීතල වී යන්නට විය.

"වෙරෝනිකා... ඔයාට නො කිය යුතු වුවත් මට දැන් ඔයාට කියන්න දෙයක් තියෙනවා... ඔයාට මතක ද මාව හමුවුණ පළවෙනි දවසෙ ඔයා මගෙන් ඇහැව්වා මට ගමන් බලපත්‍රයක් තියෙනව ද කියලා... ඔව් මට ගමන් බලපත්‍රයක් තියෙනවා... ඒත් වලංගු වීසාවක් නැති නිසා මම එංගලන්තෙන් පිට වුණොත් මට ආපහු එන්ඩ ලැබෙන්නෙ නෑ."

"වාරිස්... එහෙනං ඔයා මට බොරු කිව්වා... මේ රටේ ඉන්ඩ වලංගු වීසාවක් නැති ව විලාසිතා නිරූපිකාවක් වෙන්ඩ බෑ... ඒ හින්දා දැන් ඔයාගෙන් අපට වැඩක් නෑ... විලාසිතා නිරූපිකාවක් වුණා ම නිතර ම රටින් පිට යන්නට වෙනවා... දැන් ඉතින් ඔයා ව බොන්ඩ් චිත්‍රපටයෙන් අයින් කරන්නයි වෙන්නෙ."

"නෑ නෑ එහෙම කරන්න එපා... මම ඒකට මොකක් හරි කරන්නම්."

"ඒක ඉතින් ඔයාගෙ වැඩක්" වෙරෝනිකා මා දෙස අවිශ්වාසයෙන් බලා කීවා ය.

කාමරයට වැදුණ මම දින කීපයක් තිස්සේ මේ ප්‍රශ්නය නිරාකරණය කර ගැනීමට ක්‍රමයක් ගැන කල්පනා කරන්නට වීමි. එහෙත්, ප්‍රශ්නය නිරාකරණය කර ගැනීමට කිසි ම ක්‍රමයක් සිතා ගන්නට මම අපොහොසත් වීමි. මෙයට විසඳුමක් සොයා ගැනීමේ අරමුණින් මම

මගේ යාළු මිත්‍රයන් සමඟ කතා කළෙමි. ඔවුන් කියා සිටියේ වලංගු වීසාවක් හදා ගැනීමට ඇති එක ම ක්‍රමය යුරෝපීය ජාතිකයකු සමඟ විවාහ වීම බව ය. එ නමුදු ඒ විදියට විවාහ වීමට අයෙක් මට සිටියේ නැත. මගේ වෘත්තිය මට අහිමි වීම පමණක් නො ව වෙරෝනිකාට බොරු කීමෙන් ඒජන්සිය අපහසුතාවයකට පත් කිරීම ගැන මා තුළ මහත් නො සන්සුන්තාවයක් ද ඇති විණ.

මේ ප්‍රශ්නය ගැන කල්පනා කරමින් සිටි මම එක් සැන්දෑවක වයි.එම්.සී.ඒ. පිහිනුම් තටාකයේ රැකියාව කරන ලන්ඩනයේ උපත ලැබූ අප්‍රිකානු ජාතික මගේ මිතුරිය මැරිලින් හමුවීමට පිහිනුම් තටාකය වෙත ගියෙමි. පිහිනුම් තටාකය වෙත ගිය මම අසල වූ බංකුවක හිඳගෙන මඳ වේලාවක් වතුර දෙස බලා සිටියේ මා කවදත් ජලය දෙස බලා සිටින්නට කැමැති නිසා ය. මා පීනන්ට නො යන්නේ මන්දැයි දිනක් මැරිලින් මගෙන් ඇසූ බව මට මතක් විය. මා පීනන්නට නො දන්නා නිසා එ සේ නො යන බව කී විට ඇය මට පීහිනීමට උගන්වන්න ඉදිරිපත් වූ ආකාරය මට මැවී පෙනෙන්නට විය.

කිසියම් හෝ විපතක් සිදුවන්නට ගියහොත් ඉන් මා ගලවා ගැනීමට මැරිලින් සිටි නිසා මම කිසි ම බියකින් තොර ව දිගු හුස්මක් ඉහළට ගෙන වතුරට පැන්නෙමි. මෙය ඔබ විශ්වාස කරාවිදැයි මම නො දනිමි. වතුරට පැන මා මාළුවකු මෙන් දිය යටින් පීනා ගොස් පිහිනුම් තටාකයේ අනෙක් කෙළවරින් මතු වුණෙමි. "ඇයි ඔයා මට කිව්වෙ ඔයාට පීනන්න බෑ කියලා" මැරිලින් කෝපයෙන් මගෙන් ප්‍රශ්න කළා ය. ඒ සිද්ධියෙන් පසු අපි මිතුරන් වීමු. මැරිලින් පදිංචි ව සිටියේ ඇගේ මවත් සමඟ ලන්ඩන් නගරයේ අනෙක් කෙළවරේ වූ බැවින් සමහර දිනවල රාත්‍රියේ වැඩ අහවර වූ දිනවල ඇය ගෙදර නො ගොස් මගේ කාමරයේ නතර වී යන්නට පුරුදු ව සිටියා ය.

මැරිලින් නිර්ලෝභී මෙන් ම ඉතා ප්‍රියමනාප යුවතියක් වූවා ය. එ දින මම මගේ ගමන් බලපත්‍ර ප්‍රශ්නය අමතක කොට දමා පිහිනුම් තටාකයේ පීනමින් සිටින විට එම ප්‍රශ්නයට විසඳුම මම සොයා ගතිමි.

"මැරිලින් මට ඕනෑ ඔයාගෙ පාස්පෝර්ට් එක" දිය යට සිට උඩට පැමිණ හති දමමින් මම මැරිලින්ට කිව්වෙමි. අනතුරු ව මම ඇයට මගේ ප්‍රශ්නය විස්තර කළෙමි.

"ඔයා මගේ පාස්පෝර්ට් එකෙන් කොහෙ හරි යන්න ගිහිල්ලා බැරි වෙලාවත් අහු වුණොත් ඔයා ව මේ රටෙන් පිටුවහල් කරයි... මට හිරේට

යන්න වෙයි... මොනවට ද මම නිකරුණේ කරදරේ වැටෙන්නෙ... ඔයාගෙ ඔය චිත්‍රපටයක් හින්දා... ඒක නං කොහෙත් ම කරන්න බෑ."

"එහෙම කියන්න එපා මැරිලින්... අපි තැපැල් කන්තෝරුවට යමු. මං ඔයාගෙ නමින් අලුත් පාස්පෝර්ට් එකක් ඉල්ලුම් කරන්නං... ඊට පස්සෙ මම ඔයා ගේ අත්සන ගහලා පාස්පෝර්ට් එක අරගෙන මගෙ පින්තූරෙ පාස්පෝර්ට් එකට දා ගන්නං... මට වැඩි කාලයක් නෑ. ඒ හින්දා මේ විදියට මට පුළුවන් වෙයි තාවකාලික පාස්පෝර්ට් එකක් හදා ගන්න... අනේ මැරිලින් මේ වෙලාවෙ මට උදව් කරන්න... මේක මගෙ ජීවිතේ මට ලැබුණ ලොකු ම අවස්ථාව."

බොහෝ වේලාවක් පින්සෙණ්ඩු වීමෙන් පසු ව මා මොරොක්කෝවට යන්නට නියමිත ව තිබූ දිනට පෙර දින මැරිලින් මාත් සමග තැපැල් කන්තෝරුවට යන්නට කැමැත්ත පළ කළා ය. මම මගේ පින්තූරේ රැගෙන මැරිලිනුත් සමඟ තැපැල් කන්තෝරුවට ගියෙමි. පැයක් ඇතුළත මම බ්‍රිතාන්‍ය ගමන් බලපත්‍රයකට හිමිකාරියක් වීමි. තැපැල් කන්තෝරුවේ සිට මගේ කාමරයට එන තෙක් ම මැරිලින් මහත් බියකින් මැසිවිලි නැඟුවා ය.

"බය වෙන්ඩ එපා... ඔයා මාව විශ්වාස කරන්න මැරිලින්."

"ඔයාගෙ බම්බු විශ්වාසය... මේ එක මෝඩ වැඩක් හින්දා මගේ මුළු ජීවිතය ම කාලකණ්ණි වෙන්ඩ පුළුවන්."

එ දින රාත්‍රිය මැරිලින් ගේ මව ගේ නිවසේ ගත කරන්නට අපි තීරණය කළෙමු. චීන ආපන ශාලාවකින් කෑම ගෙන්වා ගෙන හොඳ වීඩියෝ පටයකුත් රැගෙන අවුත් චිත්‍රපටය බලමින් කෑම කා ටිකක් විනෝදයෙන් ගත කරමු යයි මම මැරිලින්ට යෝජනා කළෙමු. එහෙත්, අපි ඇය ගේ මව ගේ නිවහනට ගොඩ වැදුණ මොහොතේ සිට ඇය ගමන් බලපත්‍රය ඉල්ලා සිටින්නට විය.

"වාරිස්... මේක මහ භයානක වැඩක්... ඒක කොහොමවත් කරන්න බෑ... පාස්පෝර්ට් එක මට ආපහු දෙන්න."

තාවකාලික ගමන් බලපත්‍රය මම ඇයට ආපසු දුන්නෙමි. බොන්ඩ් චිත්‍රපටයට සහභාගි වන්නට මට ලැබුණ අවස්ථාව වියැකී යාම ගැන මා තුළ මහත් ශෝකයක් ඇති විණ.

"ඔයා ඔහොම ඉන්ඩ මම මේ පාස්පෝර්ට් එක උඩ කාමරේ හංගලා එන්නම්."

"ඔයා හිතනවනං ඒක හරි කියලා... ප්‍රශ්නයක් නෑ මැරිලින්."

එහෙත්, එ දින ඇය නිදාගත් පසු සද්ද නො නැගෙන්නට උඩ කාමරයට ගොස් මම පාස්පෝර්ට් එක සොයන්නට පටන් ගතිමි. ඇගේ මේසය උඩ පොත් රාශියක් තිබුණෙන් ඇය නිසැකයෙන් ම පාස්පෝර්ට් එක පොත් අතර සඟවා ඇති බව මම අනුමාන කළෙමි. පසුදින පාන්දර මා ගුවන් තොටුපොළට රැගෙන යාමට වාහනයක් මැරිලින් ගේ නිවස වෙත එන්නට විධිවිධාන යොදා තිබූ බැවින්, හැකි ඉක්මනින් පාස්පෝර්ට් එක සොයා ගත යුතු විය. මම සීරුවෙන් පොත බැගින් ගෙන පෙරළා බැලුවෙමි. මෙසේ පොත බැගින් ගෙන පෙරළමින් සිටින විට එකවර ම පාස්පෝර්ට් එක පොතක් තුළ තිබී බිමට වැටුණි. පාස්පෝර්ට් එක සීරුවෙන් අහුලාගෙන එය මගේ බෑග් එකට දැමූ මම හෙමින් සීරුවෙ නිදා ගන්නට ගියෙමි. පසුදින පාන්දරින් අවදි වූ මම රියැදුරා පැමිණ නිවසේ සීනුව නාද කරන්නට පෙර ඇඳ පැලඳගෙන නිවසින් පිට වී වාහනය එනතුරු පාර අයිනට වී බලා සිටියෙමි. උදේ හතට වාහනය පැමිණ මා හීත්‍රෝ ගුවන්තොටුපොළ වෙත රැගෙන ගියේ ය.

ලන්ඩන් ගුවන්තොටුපොළින් පිට වීමේ දී කිසි ම ප්‍රශ්නයක් ඇති නො වී ය. මොරොක්කෝවේ දී රූපගත කරන ලද ජේම්ස් බොන්ඩ් චිත්‍රපටයේ මට පෙනී සිටීමට තිබුණේ දර්ශන දෙකකට පමණි. එ නම් පිහිනුම් තටාකයක් අසල ඉතා රූමත් යුවතියන් වැතිර සිටින දර්ශනයක් සහ කසබ්ලන්කා හි ධනවතකු ගේ නිවසක් තුළ තවත් රූමත් තරුණියන් පිරිසක් සමඟ තේ පානය කරමින් සිටින අතර, ජේම්ස් බොන්ඩ් නිවසේ වහලයට උඩින් පියාසර කරන අයුරු දකින අපට තිබුණේ දෑතින් මුහුණ වසාගෙන යටිගිරියෙන් කෑ ගසන්නට ය. අධ්‍යක්ෂක ගේ වුවමනාව මත ඒ දර්ශනය සඳහා අපට නිරුවතින් මුහුණ දෙන්නට සිදුවිය. වාසනාවකට මෙන් මට කිසි ම දෙබසක් කියන්නට එහි නො තිබුණි. ඉතිරි කාලය තුළ අපි කමින් බොමින් පිහිනුම් තටාකය අසල හිඳගෙන අල්ලාප සල්ලාපයේ යෙදුණෙමු. හීතල ලන්ඩන් නගරයෙන් පිට වී බොහෝ කලකට පසු හිරු එළියේ ඉඳගෙන සිටීමෙන් මම මහත් ආස්වාදයක් ලදිමි. චිත්‍රපට කලාකරුවන් මීට පෙර හමු නො වී තිබූ බැවින් ඔවුන් සමඟ කොයි ආකාරයකට හැසිරිය යුතු ද යන්න ගැන මට කිසියම් අවබෝධයක් නොවූයෙන් මම බොහෝ විට හුදකලාව කාලය ගත කෙරුවෙමි.

ඔටුවන් පිට නැගී රේස් එකකට සහභාගි වන්නට අවස්ථාවක් ඇති බව දිනක් අප ගේ කණ්ඩායමේ අය කියනු මට ඇසුණි. තරගය පැවැත්වෙන ස්ථානයට ගිය මම, ඒ දෙස මඳ වේලාවක් බලා සිටීමෙන් අනතුරු ව මටත් තරගයට සහභාගි වන්නට හැකිදැයි ජෝකියකුගෙන් ඇසුවෙමි.

"ගැහැනුන්ට ඔටුවන් පිට යන්න තහනම්" ඔහු ගත් කටට ම කීවේ ය.

"මම ඔබත් එක්ක ඕනෑ ම ඔට්ටුවක් අල්ලනවා තරගයෙන් මම ඔබ ව පරද්දනවා කියලා... ඔබ මට පරදී කියලා බයෙන් නේද මට තරගයට සහභාගි වෙන්න නො දෙන්නෙ."

මා කළ අභියෝගයෙන් මහත් සේ කැළඹුණ ජොකියා සිය අභිමානය ආරක්ෂා කරගනු වස් මට තරගයට ඉදිරිපත් වීමට අවසර දුන්නේ ය. මෙම ආරංචිය ලැව්ගින්නක් මෙන් අප ගේ චිත්‍රපට කණ්ඩායම අතර පැතිර ගියේ ය. චිත්‍රපට කණ්ඩායමේ සියලු ම දෙනා තරග පිටියට පැමිණ සිටියහ. ඔවුන් අතරින් කීප දෙනකු මම පරාජයට පත්වන බවට ඔට්ටු අල්ලන්නට විය. එහෙත්, මා මේ තරගයෙන් ජයග්‍රහණය කරන බැව් කියමින් සියලු ම ඔට්ටු මගේ පැත්තට අල්ලන ලෙස මම ඔවුන්ට කීවෙමි. ඔටුවන් පිට නැඟ ගත් මොරොක්කානු ජාතිකයින් දහ දෙනකු පමණ තරගයට ඉදිරිපත් වී සිටියහ. කිසි ම දිනක ඔටුවන් පිට ගොස් නො තිබූ මා හට ඔවුන් වේගයෙන් දුවවන්නේ කෙසේ ද යන්න ගැන අවබෝධයක් නො වී ය. ඔටුවන්, අශ්වයින් මෙන් ඉදිරියට පනිනවා පමණක් නො ව දෙ පැත්තට ම ඇලවෙන බැවින් ජීවිතය බේරා ගැනීමට මම ඔටුවා ගේ ඇගේ එල්ලී සිටියෙමි. යම් හෙයකින් මම ඔටුවා පිටින් බිමට වැටුණා නම් ඔටුවන්ට යට වී මා මිය යන්නට ඉඩ තිබුණි. කෙසේ හෝ තරගයෙන් මම දෙවන ස්ථානය දිනා ගතිමි.

"කොහොම ද ඔයා ඔටුවො පිට යන්න ඉගෙන ගත්තෙ" අපේ කණ්ඩායමේ එක් ගැහැනු ළමයකු ඇසුවා ය.

"ඔටුවො පිට ඉපදුණ අපිට ඕක සුළු දෙයක්" මම සිනාසෙමින් කීවෙමි.

එහෙත්, ලන්ඩන් හීත්‍රෝ ගුවන්තොටුපොළේ දී තිසැකව ම මුහුණ පාන්නට ඇති වාතාවරණයට මුහුණ දීමට ඔටුවන් පන්නා යාමේ තරගයෙන් ලත් ජයග්‍රහණයෙන් ලද ධෛර්යය කිසිසේත් ම ප්‍රමාණවත් නො වනු ඇත. පසුදින හීත්‍රෝ ගුවන්තොටුපොළට සේන්දු වූ ගුවන් යානයෙන් බැස ගත් අප සියලු ම දෙනා ආගමන නිලධාරියා ගේ කවුන්ටරය ඉදිරිපස පෙළ ගැසුණෙමු. පේළිය ඉදිරියට ඇදුණේ ඉතාමත් ම මන්දගාමීව ය. පෝලිමේ සිටි සියලු ම මගීන් සිය ගමන් බලපත්‍ර අතට ගෙන තමුන් ගේ වාරය පැමිණෙන තුරු බලා සිටින්නට වූහ. ආගමන පරිපාලන නිලධාරියා මගීන් ගේ ගමන් බලපත්‍ර පරීක්ෂා කර බලමින් ඔවුන් ව මුදා හරින්නට විය.

"එළඟ එක්කෙනා කරුණා කරලා එන්න" නිලධාරියා මොර දෙන්නට විය.

එ සේ ඔහු කෑ ගසන සෑම වාරයක ම මගේ සර්වාංගය ම කිරි ගැසී යන්නට වූයේ මා අඩියෙන් අඩිය නීතියේ රැහැනට ළං වෙමින් සිටි බවක් හැඟුණ බැවිනි.

බ්‍රිතාන්‍ය ආගමන විගමන නිලධාරීන් එංගලන්තයට එන විදේශිකයන් වෙත දක්වන්නේ තදබල ආකල්පයකි. විශේෂයෙන් ම අප්‍රිකානු ජාතිකයන් වූ විට ඔවුන් ගේ තදබල ගතිය දෙගුණ තෙගුණ වෙයි. අපි වැනි විදේශිකයින් ගේ ගමන් බලපත්‍ර ඔවුන් විශේෂ යන්ත්‍රයක් මගින් පරීක්ෂා කර බලන බැව් ඒ මොහොතේ සිහියට ආවෙන් මට ක්ලාන්ත ගතියක් දැනෙන්නට විය. මැරී වැටුණ විදියට පොළොව මත වැතිරී සිටියොත් සමහර විට මට ආගමන විගමන නිලධාරියාට මුහුණ නො දී එළියට යන්නට හැකි වේ යයි මම සිහින මැව්වෙමි. මම දෙවියන්ට යාඥා කළෙමි. එ සේ යාඥා කරමින් කෙසේ හෝ මේ වතාවේ දී මට එළියට යන්නට ලැබුණොත් නැවතත් කිසි ම දිනක මෙ වැනි මෝඩ ක්‍රියා නො කරන බවට මම දෙවියන් වහන්සේට පොරොන්දු වුණෙමි.

මට ඉදිරියෙන් සිටි මගීන් දෙදෙනකුට පසු එන්නේ මගේ වාරය යි. මගේ දණිස් දෙක වෙව්ලන්නට විය. අපි සමඟ සිටි අප්‍රසන්න පුද්ගලයකු මෙන් ම පිරිමි විලාසිතා නිරූපණ ශිල්පියකු වූ ජෙෆ්රි එකවරම මාගේ ගමන් බලපත්‍රය මා අතින් උදුරා ගත්තේ ය. ඔහු අප්‍රසන්න පුද්ගලයකු වුව ද ඕනෑ ම අවස්ථාවකට නො සැලී මුහුණ දෙන්නට හැකියාවක් ඔහුට තිබුණ අතර, කිසිවකු අපහසුතාවයකට නැතිනම් අභාග්‍ය සම්පන්න තත්ත්වයකට පත්කොට එයින් සතුටට පත්වන ජාතියේ පුද්ගලයෙකි. මම මගේ ගමන් බලපත්‍රය නැවත ලබා ගැනීමට උත්සාහ කළත් ජෙෆ්රි මට වඩා උස පුද්ගලයකු වූයෙන් මගේ උත්සාහය අසාර්ථක විය.

ජේම්ස් බොන්ඩ් චිත්‍රපටයේ රඟපෑම සඳහා මොරොක්කෝවට ගිය ගමන පුරා ම අප ගේ කණ්ඩායමේ සියලු දෙනා ම මා ඇමැතුවේ වාරිස් කියා ය. මගේ නම වාරිස් ඩයිරි බැව් කණ්ඩායමේ සියලු ම දෙනා දැන සිටියහ.

"මේ කවුරුත් මේක අහගන්න... මේ පාස්පෝර්ට් එකේ තියෙන විදියට මෙයාගෙ නම මැරිලින් මැන්රෝ. ඒක තමයි මෙයා නමටත් හරියන විදියට කොණ්ඩය බ්ලොන්ඩ් කරගෙන තියෙන්නෙ" ජෙෆ්රි මගේ පාස්පෝර්ට් එක අනෙක් අයටත් පෙන්වමින් කෑ ගසන්නට විය.

මැරිලින් මොන්රෝ නමින් ප්‍රසිද්ධ නිළියක් සිටි බවක් මා දැන සිටියේ නැත. මා දැනගෙන සිටියේ වයි.එම්.සී.ඒ. හි පිහිනුම් තටාකයේ වැඩ කරන මගේ මිතුරිය මැරිලින් පමණි. ගමන් බලපත්‍රයේ මගේ නම තිබෙන්නේ මැරිලින් මොන්රෝ වීමත් මා උපත ලබා ඇත්තේ ලන්ඩන් නගරයේ බැව් සඳහන් වී තිබීමත් එතකුදු මට නිවැරදි ඉංග්‍රීසි බස වහරන්නට නො හැකි වීමත් ඒ මොහොතේ මගේ සිතට වධ දෙන්නට විය. මගේ ජීවිතයේ සියලු ම කෙරුවාවල් අවසානයකට පැමිණ ඇති බවක් මට දැනෙන්නට වූ අතර, ආගමන විගමන නිලධාරියා ගේ හඬින් තැති ගැන්වී ගිය මගේ සිරුර දහඩියෙන් නෑවී යන්නට විය.

“ඒයි වාරිස් ඔයාගෙ නියම නම මොකක්ද... ඇත්තට ම ඔයාගෙ රට මොකක්ද? එංගලන්තෙලු ඉපදිලා තියෙන්නෙ. ඒත් හරියට ඉංග්‍රීසි බෑ” ජේම්ස් බොන්ඩ් යුවතියන් එ සේ කියමින් කෑ ගසන්නට විය.

අවසානයේ දී ජෙෆ්රි මගේ ගමන් බලපත්‍රය මා හට ආපසු දුන්නේ ය. මම මගේ ගමන් බලපත්‍රය ද රැගෙන පෝලිමේ අගට ගොස් සිට ගත්තෙමි. මගේ වාරය එනවිට අප ගේ කණ්ඩායමේ අන් සියලු ම දෙනා එළියට ගොස් සිටිනු ඇතැ යි මම සිතුවෙමි.

ආගමන විගමන නිලධාරියා පසු කරගෙන කණ්ඩායමේ අන් සියලු දෙනා ම වෙනදා මෙන් කඩිමුඩියේ වාහනවලට නැග නිවෙස් කරා යන්නට සැරසුණේ නැති අතර, ඔවුන් මා එනතුරු බලා සිටින්නට විය.

“බයවෙන්න එපා වාරිස් උඹට පුළුවන් ඔය ප්‍රශ්නයටත් මුහුණ දෙන්න” මගේ යටිහිත මට එ සේ කියන්නට විය.

මම සිනාසෙමින් ගොස් ආගමන විගමන නිලධාරියා අත මගේ ගමන් බලපත්‍රය තැබුවෙමි.

“අද හරි ලස්සන දවසක්” නිලධාරියා මා දෙස බලා කීවේ ය.

සිනහවක් මුවග රඳවාගෙන මම හූමිටි තැබුවෙමි.

ඊළඟ මොහොතේ ඔහු මගේ ගමන් බලපත්‍රය ආපසු දෙමින් මට යන ලෙස අතින් සංඥා කළේ ය. අප ගේ කණ්ඩායම මා දෙස විමතියෙන් බලා සිටින්නට වූහ. සතුට දරා ගත නො හැකි වූ මට එ තැනම බිම දිගා වන්න සිතුණත් ඉක්මනින් ගුවන්තොටුපොළින් පිට වීම නුවණට හුරු බැවින් මම හැකි ඉක්මනින් අප ගේ කණ්ඩායමත් සමග ගුවන්තොටුපොළෙන් පිටවීමි.



'මරි ක්ලෙයාර්' සඟරාව සඳහා ෆොටෝ බොලොපෝ විසින් ගනු ලැබූ වාරිස්ගේ ඡායාරූපයක් (1997)



බ්‍රිතාන්‍ය වර්ජින් දූපත්වල ඡායාරූප ගත කිරීමක දී (1995)

# 12

# වෛද්‍යවරු



දිනක් මා වයි.එම්.සී.ඒ. පිහිනුම් තටාකයේ වට කීපයක් පීනීමෙන් අනතුරු ව ඇඳුම් අඳින කාමරයට ගොස් ඇඳුම් අඳිමින් සිටින විට ඉහළ මහලයේ වූ කුඩා ආපන ශාලාවේ සිට කවුරුන්දෝ මගේ නම කියා මා අමතන්නට විය. මට කතා කළ පුද්ගලයා අන් කිසිවකු නො ව මා සිටින ගොඩනැඟිල්ලේ ම පදිංචි ව සිටින විලියම් බව මම හඳුනා ගතිමි. ඔහු මට කුඩා ආපන ශාලාවට එන ලෙස අතින් සංඥාවක් කළේ ය. මම කුඩා ආපන ශාලාව වෙත ගියෙමි.

"වාඩිවෙන්න වාරිස්... ඔයා මොනව හරි කන්න කැමැතිද?" ඔහු ඉතා කාරුණිකව ඇසුවේ ය.

ඔහු සැන්ඩ්විච් එකක් කමින් සිටියෙන්, මම ද එ වැනි සැන්ඩ්විච් එකක් කන්නට කැමැති බව කීවෙමි. ඒ වන විටත් මගේ ඉංග්‍රීසි දැනුම එ තරම් දියුණු තත්ත්වයක නො තිබුණත් ඔහු කියූ දේ ඉවෙන් මෙන් තේරුම් ගැනීමට මට පුළුවන් විය.

"වාරිස් ඔයා කැමැති නැත්ද මාත් එක්ක චිත්‍රපටයක් බලන්න යන්න" සැන්ඩ්විච් කන ගමන් විලියම් ඇසුවේ ය.

විලියම් එ වැනි ආරාධනයක් මා හට කරන ලද පළමු වතාව එය නො වූ අතර, මීට පෙර ද ඔහු එ වැනි ආරාධනා මා වෙත ඉදිරිපත් කර ඇත. විලියම් ඉතා කඩවසම් ඉංග්‍රීසි ජාතික තරුණයකු විය.

ඔහු කතාවට දක්ෂයකු වූ අතර, බොහෝ විට මම ඔහු කියන දෙයට ඇහුම්කන් දෙනවාට වඩා ඔහු කතා කරන විලාසය දෙස බලා සිටින්නට පුරුදු ව සිටියෙමි.

මගේ මනස මට මෙසේ කියන්නට විය.

"ඔහු මගේ සියලු ම විස්තර දන්නේ නම් පමණක්,
ඔහු සමඟ චිත්‍රපටයක් නරඹන්නට යන්න
ඇත්තෙන් ම ප්‍රියවතකු සිටීම මොන තරම් සුන්දර ද?
කතා බහ කරන්න,
මට ආදරය කරන කවුරුන් හෝ සිටීම කෙතරම් ආනන්දජනක ද,
එහෙත්,
මම ඔහුත් සමඟ චිත්‍රපටයක් නැරඹීමට ගියහොත්
ඔහුට මා සිප වැලඳ ගන්නට ඕනෑ වනු ඇත.
එ මතු ද නො ව
ඔහුට මා සමඟ සංවාස කරන්නට ද ආසාවක් උපදිනු ඇත.
යම් හෙයකින් මම ඔහු සමඟ එ වැනි දේකට එකඟ වුවහොත්
මගේ රහස් පෙදෙස අන් යුවතියන්ට වඩා වෙනස් බවත්,
මගේ යෝනියේ සමහර කොටස් පළුදු වී ගොස් ඇති බවත්
ඔහු දැන ගනු ඇත.
අනෙක් අතට
මා ඔහු ගේ යෝජනාවට එකඟ නො වුවහොත්
ඔහු මා සමඟ උරණ වනු ඇත.
එ වැනි ප්‍රශ්නයක් ඇති කර ගැනීම අවශ්‍ය නැත
එහෙයින්,
ඔහු ගේ ඉල්ලීම ප්‍රතික්ෂේප කරනු."

"ආරාධනයට බොහොම ස්තුතියි... ඒ වුණාට මට එන්න ලැබෙන්නෙ නෑ... ඇත්තෙන් ම මට එහෙම යන්න වෙලාවක් නෑ" මම හිස දෙපසට වනා සිනාසෙමින් කීවෙමි.

මෙ වැනි අවස්ථාවන්ට මා හට මුහුණ දෙන්නට සිදුවූයේ මා වයි.එම්.සී.ඒ. පදිංචියට පැමිණීමෙන් පසු ව ය. සෝමාලියාවේ දී මා අපගේ පවුලත් සමඟ ජීවත් වූ කාලයේ දී කිසි ම දිනක නාඳුනන මිනිසුන් හමුවන්නට තනිපංගලමේ ගොස් නැත. සෝමාලියාවේ දී මා සරණපාවා ගැනීමට අප ගේ නිවහනට පැමිණි මිනිසා, සහරු නැන්දා හෝ මොහොමඩ් මාමාට හෝ අප ගේ සංස්කෘතිය ගැන මනා වැටහීමක් තිබුණෙන්, ඔවුන් මගේ පවුලේ අනුමැතිය නො මැති ව මට කිසිවක්

යෝජනා කරන්නට පැමිණියේ නැත. එහෙත්, මා දැන් හුදකලාව ජීවත් වන බැවින් ජීවිතයේ පළමු වතාවට මෙ වැනි ප්‍රශ්නවලට මට තනිව ම මුහුණ දෙන්නට සිදු ව ඇත. වයි.එම්.සී.ඒ. ගොඩනැගිල්ලේ පදිංචි ව සිටින බොහොමයක් අය විවාහ නො වූ තනිකඩ තරුණයන් ය. එ මෙන් ම මගේ මිතුරිය හලු සමඟ රාත්‍රී සමාජ ශාලාවට ගියත් විලාසිතා නිරූපණයට ගියත් මට වැඩියෙන් ම මුණ ගැසෙන්නේ පිරිමින් ය.

එහෙත්, ඒ කිසිවකුට මා තුළ කැමැත්තක් නො වී ය. මිනිහකු සමඟ සංවාස කිරීම පිළිබඳ අදහසක් කිසි ම දිනක මා තුළ ඇති නො වී ය. එහෙත්, යම් කිසි විධියකින් මා සුන්නත් කිරීමට භාජනය නො වී සිටියා නම් මගේ ජීවිතය කෙබඳු වේදැයි ඇත්තෙන් ම මට සිතාගත නොහැකි ය. මා අති භාවාත්මක හැඟීම් ඇති සුන්දර තැනැත්තියෙකි. මේ වනවිට මා නිවසින් පැන අවුත් වසර හයක් ගෙවී ගොස් තිබුණ අතර, ඒ පුරා වසර හය තුළ මා ගෙවූ හුදකලා ජීවිතය සත්‍ය වශයෙන් ම අති කටුක වසර හයක් බැව් සඳහන් කිරීම ඇත්තෙන් ම අතිශයෝක්තියක් නම් නො වන අතර, මගේ පවුලේ උදවිය අම්මා, සහෝදර සහෝදරියන් නිරන්තරයෙන් මගේ මතකයට නැගේ.

ඇත්තෙන් ම මතුයම් දිනක ස්වාමිපුරුෂයකු ලබාගෙන මට මගේ ම කියා පවුලක් ගොඩ නගා ගැනීමට මා තුළ අසීමිත බලාපොරොත්තුවක් ඇත. පිරිමියකු සමඟ ආදර සම්බන්ධයක් ඇති කර ගැනීමේ ආසාවක් උපදින හැම මොහොතක ම සුන්නත් කිරීමෙන් පසු මගේ යෝනි මාර්ගය වැසී යන සේ මසා ඇති බැව් මතකයට නැගෙන විට ඒ සියලු ම භාවමය හැඟීම් උපන් ගෙයි ම මිය යයි. මෙම වාතාවරණය තුළ ශාරීරික ව හෝ භාවාත්මක ව හෝ කිසි ම පුරුෂයකුට මා තුළට ප්‍රවිෂ්ට වීමට ඇති ඉඩකඩ සහමුලින් ම ඇහිරී ගොස් තිබේ.

පිරිමියකු සමඟ සම්බන්ධයක් ඇති කර ගැනීමට මා ඉදිරියේ ඇති දෙවන බාධකය නම් විශේෂයෙන් ම සුදු ජාතික ගැහැනුන්ට වඩා මා වෙනස් බැව් ප්‍රත්‍යක්ෂ වීමයි. සෑම සෝමාලි ගැහැනු ළමයකුට ම මට මුහුණ දෙන්නට සිදු වූ අත්දැකීමට මුහුණ දෙන්නට සිදු වී නො මැති බැව් මම ලන්ඩනයට පැමිණීමෙන් පසු දැන ගතිමි.

දිනක් මොහොමඩ් මාමා ගේ නිවසේ දී මම මගේ ඥාති සොහොයුරියන් සමඟ නාන කාමරයේ සිටි අවස්ථාවක ඔවුන් බාධකයකින් තොර ව ජල නළයක කරාමයක් බුරුල් කළ විට වතුර ගලා යන්නා සේ මුත්‍රා කරන අයුරු මම පුදුමයෙන් බලා සිටියෙමි. එහෙත්, මට මුත්‍රා කිරීමට වරකට විනාඩි දහයක් පමණ ගත වේ. සුන්නත් කිරීමෙන් පසු මගේ

යෝනි මුඛය පමණක් නො ව මුත්‍රා මාර්ගය ද බාගෙට වැසී යන ලෙ මසා ඇති බැවින් මුත්‍රා පහ ව යන්නේ බිංදුව බිංදුව බැගිනි.

"මොකද ඔයාට ඔච්චර වෙලා යන්නෙ පිප්පි කරන්න" මගේ එක ඥාති සොහොයුරියක් පුදුමයෙන් මා දෙස බලා ඇසුවා ය.

ඔවුන් පෙරළා සෝමාලියාවට ගිය පසු ඔවුන්ට ද මෙම කටුක අත්දැකීමට මුහුණ දෙන්නට සිදුවන බැව් උපකල්පනය කළ මම ඇය ඇසූ ප්‍රශ්නයට පිළිතුරක් නො දී සිනාසී නිහඬ වුණෙමි.

මා වැඩිවියට පැමිණි දින මගේ මතකයට එන්නේ අති වේදනාකාරී අත්දැකීමක් වශයෙනි. වයස අවුරුදු එකොළහේ දී හෝ දොළහේ දී හෝ පමණ මා අත්දුටු එම සිද්ධිය ඇත්තෙන් ම බියකරු සිහිනයක් මෙන් තව ම මගේ මතකයෙ හි රැඳී ඇත. හිරු රශ්මියෙන් කාන්තාරය ගිනියම් ව තිබූ දිනක මම මගේ එළුවන් සහ බැටළු රංචුව බලා ගනිමින් ගසක් යට හිඳගෙන සිටියෙමි. එකවර ම මගේ යටි උදරයේ වේදනාවක් ඇති වන්නට පටන් ගත්තේ ය. මීට පෙර කිසි ම දිනක මා අත් නො දුටු මෙම වේදනාව කුමක්දැයි මම කල්පනා කළෙමි. මම මෙසේ සිතන්නට වුණෙමි.

"සමහර විට මම ගැබ් ගෙන ඇත. නෑ එ සේ වුවත් මම දරුවකු බිහි කරන්නේ නැත. මම මෙතෙක් කිසි ම පිරිමියකු සමඟ සංවාස කර නැති බැවින් එ සේ වන්නට නො හැකි ය."

ක්‍රම ක්‍රමයෙන් වේදනාව උග්‍ර වන්නට විය. උදරයේ වේදනාව හටගෙන හෝරාවකට පමණ පසු මම මුත්‍රා කරන්නට ගියෙමි. මුත්‍රා සමඟ රුධිරය වහනය වන බව දුටු මා හට මරණ බියක් දැනෙන්නට විය. මම එකවරම අම්මා සොයා දිව ගියෙමි. මම මැරෙන්නට යන බව කියමින් බෙරිහන් දුන්නෙමි.

"වාරිස් මොනවද ඔයා ඔය කියවන්නෙ."

"අනේ අම්මෙ මාව බේර ගන්න... පිප්පි කරන විට ලේත් යනවා."

"නෑ නෑ ඔයාට මොකවත් ලෙඩක් නෑ... ඒ ඔයාගෙ ඔසප් වීම පටන් අරගෙන."

ඇය මා දෙස තරමක කෝපයෙන් යුතු ව බලමින් කීවා ය.

මා මීට පෙර ඔසප් වීමක් ගැන අසා නො තිබුණා පමණක් නො ව ඒ ගැන කිසිවක් දැන සිටියේ ද නැත.

"අම්මා කියන දේ මට තේරෙන්නෙ නෑ... මට ඕක තෝරලා කියන්ඩකෝ."

ස්ත්‍රීන් ගේ ඔසප් වීමේ චක්‍රය ගැන අම්මා මට විස්තර කළා ය.

"ඉතින් කොහොම ද මේ වේදනාව නවත්ත ගන්නෙ... මේක නං ඉවසන්න බැරි වේදනාවක්."

"වාරිස් ඔය වේදනාව ඔහොම නවත්තන්න බෑ... පොඩ්ඩක් ඉවසගෙන ඉන්න. දවස් දෙක තුනකින් ඕක ඇරිලා යාවි."

එහෙත්, ඇය කියූ දේ පිළි ගන්නට මැළි වූ මම වේදනාව සමනය කර ගැනීම සඳහා කුමක් හෝ කළ යුතු යයි කල්පනා කළෙමි. කාන්තාරය වෙත දිව ගිය මා ලීයක ආධාරයෙන් ගසක් යට වළක් හෑරුවෙමි. අනතුරු ව එයට බැසගත් මම මගේ උදරය දක්වා පස්වලින් වසා ගත්තෙමි. පොළොව යට අයිස් පෙට්ටියක් තුළ මෙන් හීතල වූයෙන් මගේ වේදනාව තරමක් හෝ සමනය කර ගැනීමට හැකි විය. සවස් භාගයේ හිරු එළියෙන් රත් වී ගිය වාතලය සිසිල් වනතුරු ම මම එහි රැඳී සිටියෙමි.

ඉන්පසු සෑම මාසයක ම ඔසප් වීම හට ගන්නා විට ඇතිවන වේදනාව සමනය කර ගැනීම සඳහා කාන්තාරයේ ගස් සෙවණක් යට වළක් හාරා එහි බැස සිටීමට මම පුරුදු වුණෙමි. මගේ සොහොයුරිය අමාන් ද මා මෙන් කාන්තාරයේ ගසක් යට වළක් හාරා එහි බැස සිට ඔසොප් වීමත් සමග ඇතිවන වේදනාව සමනය කරගත් බව මට පසු ව දැන ගන්නට ලැබුණි.

දිනක් මා ඔසප් වේදනාව සමනය කර ගැනීම සඳහා වළකට බැස සිටි අතර, ඒ අසලින් ගිය මගේ පියා මේ සිද්ධිය දුටුවේ ය. සිරුරෙන් භාගයක් පොළොව යටත්, ඉගටියෙන් උඩ කොටස පොළොවෙන් උඩත් තිබෙන දර්ශනය දෙස දුර සිට බලන්නකුට පෙනෙන්නේ සිරුරෙන් භාගයක් කපා වෙන්කොට ඇති සේ ය.

"හේයි වාරිස් ඔයා මොකද ඔතැන කරන්නෙ" මගේ පියා දුර සිට ම ප්‍රශ්න කළේ ය. පියා ගේ එ වදන් ඇසීමෙන් තැති ගත් මා වළෙන් ගොඩට එන්නට උත්සාහ කළ ද පස්වලට හිර වී සිටි මා හට එය එ තරම් ලෙහෙසි නො වී ය. අනතුරු ව මගේ පියා මා දෙස බලා උස් හඬින් සිනාසෙන්නට විය. එහෙත්, එ සේ කරන්නට බලපෑ කාරණය ඔහුට පැහැදිලි කර දීමට මා මැළි වූයේ අන් කිසිවක් නිසා නො ව, ලැජ්ජාව ම නිසා ය. එම සිද්ධියෙන් පසු මගේ පියා නිතර ම මෙසේ කියමින් මට විහිළු තහළු කළේ ය.

"වාරිස් ඔයාට පණ පිටින් වැළලෙන්නට වුවමනා නම් ඒක හරියට කරන්න..."

මගේ මෙම අරුම පුදුම හැසිරීම ගැන පසු දිනක මගේ පියා මගේ අම්මාගෙන් අසා තිබුණ අතර, ඇය ඔහුට කාරණය පැහැදිලි කර දී ඇත.

ඔසප් වීමත් සමග ඇතිවන වේදනාව සමනය කර ගැනීමට ක්‍රමයක් නො මැති බව ඔසප් වීම හටගත් පළමු වෙනි දිනයේ දී ම අම්මා මා හට විස්තර කර දුන්නත්, එදා එය මට වටහා ගැනීමට නො හැකි වූ නමුදු, පසු ව එය අත්දැකීමෙන් ම මම දැන ගතිමි. කෙසේ වී නමුදු මාසික ශුද්ධිය ඇතිවන විට වහනය වන රුධිරය පිට වූයේ ද මුත්‍රා කරන විට මෙන් ම කඳුළ බැගිනි. එහෙයින්, ඔසප් වීම අහවර වීමට අඩු ම තරමින් දින දහයක්වත් ගත වූ අතර, මා∙හට දරා ගන්නට නො හැකි වේදනාවක් ඇති විය.

මා මොහොමඩ් මාමා ගේ නිවසේ සිටි කාලය තුළ දී මෙම ප්‍රශ්නය උග්‍ර විය. දිනක් මා මාමාට උදය කෑම රැගෙන මේසය වෙත එන අතරතුර දී එකවර ම මා ක්ලාන්ත වී ඇද වැටුණේ ය. මා අත වූ කෑම බන්දේසිය බිම පතිත වී කැබිලිතිවලට කුඩු වී ගියේ ය. කෑම ගෙන එන තුරු මේසය ළඟ වාඩි වී සිටි මාමා එකවර ම දිවගෙන විත් මගේ දෙකොපුල්වලට තට්ටු කරමින් මා හට ප්‍රකෘති සිහිය ලබා දීමට උත්සාහ කළේ ය. මොහොතකින් නැවතත් මා හට ප්‍රකෘති සිහිය ලැබුණ අතර, මාමා මාරියම් නැන්දා ගේ නම කියා යටගිරියෙන් කෑ ගසනවා මට ඇසුණි.

"වාරිස් මොකද ඔයාට අසනීපයක්වත් ද?" මාරියම් නැන්දා මගෙන් ප්‍රශ්න කළා ය.

මට ඔසප් වීම හටගෙන ඇති බව මම ඇයට කියා සිටියෙමි.

"ඒ වුණාට මම හිතන්නෙ ඔයා ව දොස්තර කෙනකුට පෙන්නුවොත් හොඳයි කියලා. ඉන්ට මම දොස්තරට කතා කරලා අද හවස් වරුවෙ ම දොස්තර ව මුණ ගැහෙන්න වෙලාවක් ඉල්ල ගන්නම්."

ඔසප් වීම ඇතිවන කාල පරිච්ඡේදයේ දී මා හට දරා ගත නො හැකි වේදනාවක් ඇති වන බවත්, වේදනාව හේතු කොටගෙන මුත්‍රා පහ ව යන බවත්, මම වෛද්‍යවරයාට විස්තර කළෙමි. එහෙත්, මම චර්මඡේදනයට භාජනය වූවකු බැව් වෛද්‍යවරයාට නො කීවෙමි. ඇත්තෙන් ම එම විෂය ගැන කතා කරන්නට කෙසේ මුල පිරිය යුතුදැයි මා හට කිසි ම අදහසක් නො තිබීම ඊට හේතුව විය. එ වකට දැරියක් ව සිටි මා හට මගේ ම

ශාරීරික තත්ත්වයන් ගැන තිබුණේ ව්‍යාකූලතාවයක්, ලජ්ජාවක් සහ ඒ සම්බන්ධ ව නො දැනුවත්කමක් පමණි. එ මතු ද නො ව මගේ වයසේ සිටි සියලු ම ගැහැනු ළමුන් චර්මඡේදනයට මුහුණ දී සිටි බැවින් ඔසප් වීමත් සමඟ ඇතිවන වේදනාවට හේතුව සත්‍ය වශයෙන් ම චර්මඡේදනය කර සිටීම ද යන්න ගැන මා හට හරි විශ්වාසයක් නො තිබුණි. එ පමණක් ද නො ව මගේ අම්මා දැන සිටි සියලු ම ගැහැනුන් චර්මඡේදනයට භාජනය වූ අය බවත්, ඒ සියලු ම දෙනා මෙම කටුක වේදනාවට මුහුණ දී සිටින අය බව මම දැන සිටි අතර, මෙම අවාසනාවන්ත තත්ත්වය ඔවුන් සැලැකුවේ ගැහැනියක වශයෙන් මෙලොව එළිය දුටුවහොත් එය ඔවුනට උරුම වූ දෙයක් ලෙස ය.

වෛද්‍යවරයා මා පරීක්ෂණයකට භාජනය නො කළ හෙයින් මා විඳවන වේදනාවට හේතුව ඔහුට සොයා ගන්නට නො හැකි විය.

"මට කරන්නට හැකි එක ම උපකාරය තමයි ඔබට උප්පත්ති පාලන පෙති ගැනීමට නියම කිරීම" වෛද්‍යවරයා කියා සිටියේ ය.

උපත් පාලන පෙතිවලට වේදනාව සමනය වන්නේ අන් කිසිවක් නිසා නො ව ඔසප් වීම නැවතී යන හෙයිනි.

වෛද්‍යවරයා ගේ අදහසට මා තුළ කිසි ම කැමැත්තක් නො තිබුණා මෙන් ම උපත් පාලන පෙති පාවිච්චි කිරීම ශරීරයට අගුණ බැව් මගේ ඥාති සහෝදරිය බස්මා ද කියනවා මා අසා තිබුණත් මම උපත් පාලන පෙති ගැනීමට පටන් ගත්තෙමි. උපත් පාලන පෙති පාවිච්චි කිරීමට පටන් ගැනීමෙන් මසකට පමණ පසු ඔසප්වන විට ඇතිවන වේදනාව පහ ව ගිය අතර, ඔසප් වීම ද නැවැතී ගියේ ය. පෙති ගැනීමට පටන් ගැනීමෙන් පසු ශරීරයේ සැලැකිය යුතු වෙනස්කම් කීපයක් ඇති විය. මගේ පියයුරු තිබුණාට වඩා ප්‍රමාණයෙන් වැඩෙන්නට වූ අතර, මගේ පස්ස පැත්තත් මුහුණත් මහත් විය. එ මතු ද නො ව මගේ බර ද වැඩි විය. මගේ ශරීරයේ ඇති වූ මෙම නො සිතූ වෙනස් වීම ඇත්තෙන් ම මගේ සිරුරට අවලස්සන මෙන් ම අස්වාභාවිකත්වයක් ගෙන දුන්නේ ය. ඔසප් වීමේ දී ඇතිවන ඉසිලිය නො හැකි වේදනාව කෙසේ හෝ දරා ගන්නට තීරණය කළ මම දොස්තර විසින් නියම කරන ලද උපත් පාලන පෙති ගැනීම නතර කර දැමීමට තීරණය කළෙමි. පෙති පාවිච්චි කිරීම නතර කිරීමෙන් පසු නැවතත් වේදනාව පෙරට වඩා දරුණු ලෙස ඇති විය.

පසු ව මම වෙනත් වෛද්‍යවරයකු හමු වන්නට ගියේ මගේ ප්‍රශ්නයට සාර්ථක පිළිතුරක් ලබා ගැනීමට හැකි වේ යයි සිතාගෙන ය. එහෙත්, දෙවනු ව මා හමුවීමට ගිය දොස්තර ගේ තීරණය ද පළමු දොස්තර ගේ

තීරණය ම විය. ඔහු මට උපත් පාලන පෙති නියම කළේ ය. මා උපත් පාලන පෙති පාවිච්චි කළ බවත්, එයින් ශරීරයේ නොයෙකුත් අස්වාභාවික වෙනස්කම් ඇතිවන බැවින් මම ඊට අකැමැති බැව් මම ඔහුට කියා සිටියෙමි. එහෙත්, උපත් පාලන පෙති පාවිච්චි නො කළහොත් ඔසප් වීම පටන් ගත් අවස්ථාවේ සිට දින කීපයක් ඉසිලිය නො හැකි වේදනාවකට මුහුණ දෙන්නට සිදුවන අතර, වෙන කිසියම් දෙයක් කරන්නට නොහැකි වනු ඇත. මෙම ප්‍රශ්නයට වෙනත් විසඳුමක් තිබේදැයි මා ප්‍රශ්න කළ විට එයට ඔහු ගේ පිළිතුර වූයේ උපත් පාලන පෙති පාවිච්චි කරන විට ඔසප්වන දින ගණන අඩුවන බැවින් වේදනාව දැනෙන්නේ දිනක් හෝ දෙකක් හෝ පමණක් බව ය. මෙම ප්‍රශ්නයට සාර්ථක පිළිතුරක් සොයා ගැනීම අරමුණු කරගෙන වෙනත් වෛද්‍යවරයකු හමු වන්නට මම තීරණය කළෙමි.

"නැන්දෙ මම හිතන්නෙ මේ ප්‍රශ්නය නිරාකරණය කරගන්න නම් මේ සම්බන්ධ ව කටයුතු කරන විශේෂ වෛද්‍යවරයෙක් හමු වන්නට ගියොත් හොඳා කියලා."

"නෑ... ඒක කරන්න බෑ..." ඇය ස්ථිරව ම කියා සිටියා ය.

"අනෙක ඔය දොස්තරලට ඔයා මොනවා කියන්න ද හිතාගෙන ඉන්නෙ" ඇය තරමක කෝපයෙන් ප්‍රශ්න කළා ය.

"නැන්දෙ මට ඕනැ වෙන මොකුත් නෙමේ මේ වේදනාව නැති කරගන්න."

නැන්දා ගේ වචනවල සැඟවුණ අර්ථය මම හොඳින් තේරුම් ගතිමි. එ නම් ස්ත්‍රීන් ගේ චර්මඡේදනය අප්‍රිකානු ජාතිකයන් වන අප ගේ චාරිත්‍රයක් වන බැවින්, එ වැනි දේ ගැන සුදු වෛද්‍යවරුන් සමඟ කතා කිරීම නොහොබිනා දෙයක් බැව් ඇය විශ්වාස කරන බැවිනි.

මේ ප්‍රශ්නය සම්බන්ධයෙන් කළ යුතු ව ඇත්තේ විශේෂඥ වෛද්‍යවරයකු හමු වී වේදනාව සමනය කර ගැනීම සඳහා යමක් කර ගැනීම හෝ වේදනාව විඳ ගැනීමට හෝ සූදානම් වීම බව ද මම හොඳින් තේරුම් ගතිමි. කළ යුතු දේ මම තීරණය කළෙමි. මගේ තීරණය මගේ පවුලේ අය ද අනුමත නො කරන බව මම දනිමි. කරුණු කෙසේ වුව ද නැන්දාට හොරෙන් රහසිගත ව ගොස් වෙනත් වෛද්‍යවරයකු හමු වී මා චර්මඡේදනයට ලක් වූවකු බව වෛද්‍යවරයාට පවසා මගේ ප්‍රශ්නයට පිළිසරණක් ලබා ගැනීමට මම තීරණය කළෙමි.

මා පළමුවෙන් ම හමු වීමට ගිය වෛද්‍යවරයා වන වෛද්‍ය මැක්රේ ව නැවතත් හමු වන්නට තීරණය කළේ අන් කිසිවක් නිසා නො ව, ඔහුට සැම අතින් ම පහසුකම් ඇති පුද්ගලික ආරෝග්‍යශාලාවක් තිබුණ බැවින්, යම් හෙයකින් ශල්‍යකර්මයක් කරන්නට අවශ්‍ය වුවහොත් එහි දී ම එ වැනි ශල්‍යකර්මයක් කරවා ගැනීමට හැකි නිසාවෙනි. එ නමුදු වෛද්‍ය මැක්රේ ව හමුවන්නට දිනයක් වෙන් කරවා ගැනීමට මාසයක් ගතවිය. වෛද්‍යවරයා හමුවීමට නියමිත ව තිබූ දිනයේ මම නැන්දාට බොරුවක් කියා නිවසින් එළියට යන්නට අවසර ගෙන වෛද්‍ය මැක්රේ හමුවන්නට ගියෙමි.

ඒ වනවිට ඉංග්‍රීසි භාෂාව නිවැරැදිව පරිහරණය කිරීමට නො හැකි ව සිටි මට මෙතෙක් වෛද්‍ය මැක්රේගෙන් මා වසං කරගෙන සිටි රහස ඔහුට විස්තර කිරීම ඇත්තෙන් ම අපහසු කාර්යයක් විය. කෙසේ හෝ මා දැන සිටි ඉංග්‍රීසියෙන් මා සෝමාලි ජාතිකයකු බවත්, මා කුඩා කාලයේ දී චර්මඡේදනයට ලක් කර ඇති බවත් මම ඔහුට කීවෙමි.

"කරුණා කර අර කාමරයට ගිහිල්ලා ඔබගෙ යට ඇඳුම් ගලවන්න. මට ඔබව පරීක්ෂා කරන්න අවශ්‍යයි" මා කළ විස්තරය නිම කරන්නටත් පෙර ඔහු මට කීවේ ය.

ඒ සමග ම මගේ මුහුණින් පිළිබිඹු වූ හැඟීම් බර භීතිය දුටු වෛද්‍යවරයා හෙදියකු කැඳවා මා හට උදව් කරන ලෙස දැන්නුවේ ය.

පරීක්ෂණය සඳහා මා කාමරයට ගෙන ගිය අවස්ථාවේ මෙ තැනට පැමිණීමට මා ගත් තීරණය ගැන මම මගෙන් ම ප්‍රශ්න කර ගත්තෙමි. මගේ දෙ පා දෙ පසට විහිදුවා සුදු දොස්තර මහතකුට මගේ රහස් පෙදෙස පරීක්ෂා කිරීමට ඉඩ දීම සෝමාලි ජාතිකයකු හැටියට මොන තරම් නින්දා සහගත ක්‍රියාවක්දැයි මට ඒ මොහොතේ කල්පනා විය.

"බය වෙන්න දෙයක් නෑ, මම දොස්තර කෙනෙක්" වෛද්‍ය මැක්රේ මගේ දණිස් දෙකෙන් අල්ලා දෙ පා තවත් පුළුල් කරන ගමන් කීවේ ය.

මෙතෙක් පුටුවේ දිගා වී සිටි මම මඳක් පෙරට නැඹුරු වී වෛද්‍යවරයා කරන්නට යන්නේ කුමක්දැයි බැලීමට උත්සුක වූ විට හෙදිය මා දෙස බලා සිනාසෙන අයුරු මම දුටුවෙමි. වෛද්‍යවරයාට ඕනෑ ම දෙයක් කරන්නට ඉඩ දී මම වෙනත් දෙයක් ගැන සිත යොමු කිරීමට උත්සාහ කළෙමි.

"මෙහෙ ඉන්නව ද සෝමාලි භාෂාව කතා කරන කවුරු හරි

නැවැතිලා" වෛද්‍යවරයා පරීක්ෂණය අවසන් කරමින් හෙදියගෙන් ප්‍රශ්න කළේ ය.

"ඔව් ඔව් මෙහෙ වැඩ කරන සෝමාලි ගෑනු කෙනෙක් ඉන්නවා" හෙදිය පෙරළා පිළිතුරු දුන්නා ය.

එහෙත්, හෙදිය පහන මහලට ගොස් කැඳවූ ආවේ සෝමාලි ගැහැනු කෙනකු නො ව සෝමාලි මිනිසෙකි. සෝමාලි මිනිසකු මෙ වැනි දෙයක් පරිවර්තනය කිරීමට පැමිණීම මොන තරම් අවාසනාවන්ත සිදු වීමක්දැයි ඒ මොහොතේ මට කල්පනා විය.

"මෙයාට පැහැදිලි කරලා කියන්න ඇය ගේ මූත්‍රා මාර්ගය සහ යෝනි මාර්ගය වැසී යන ආකාරයට මහලා තිබෙන බව... ඇත්තෙන් ම මට හිතා ගන්න බෑ මෙයා මෙච්චර කලක් මෙහෙම හිටියෙ කොහොම ද කියලා."

සෝමාලි ජාතිකයා වෛද්‍යවරයා දෙස මොහොතක් බලා සිටියේ ය. ඔහු ගේ ඉරියව්වලින් තත්ත්වය එ තරම් හොඳ නැති බව මම තේරුම් ගතිමි.

"ඔබ කැමැති නම් ඒ මැහුම කපල දාන්න පුළුවන් කියලා දොස්තර කියනවා... ඒත් ඔබ දන්නවනෙ එහෙම කළොත් ඒක ඔහේගෙ රටේ සංස්කෘතියට විරුද්ධයි කියලා."

මම ඔහු දෙස මොහොතක් බලා සිටියෙමි.

"ඔබගෙ පවුලෙ උදවිය දන්නව ද ඔහෙ මෙහෙම දෙයක් කරන්න යන බව."

"ඇත්ත ම කියනව නං කවුරුත් දන්නෙ නෑ."

"කොහෙද ඔබ පදිංචි වෙලා ඉන්නෙ."

"මගෙ නැන්දයි මාමයි එක්ක."

"ඔබ මෙහෙම දෙයක් කරන්නට යන බව ඒ ගොල්ලො දන්නව ද? ඇත්තෙන් ම මම නං ඉස්සෙල්ලා ම කරන දේ තමයි මේක ඒ අයට දන්වන එක."

සත්‍ය වශයෙන් ම එය නම් නියම අප්‍රිකානු ජාතිකයකු ගේ මතය විනා අන් කිසිවක් නො වේ. *(ඒ මොහොතේ මට මෙසේ සිතුණි. - ඔබ ගේ උපදෙසට බොහොම ස්තුතියි සහෝදරයා. ඔබ කියන දෙය කරන්නට ගියහොත් මට සිදුවන්නේ හැමදාම මේ වේදනාව විඳින්නට පමණයි.)*

ශල්‍යකර්මයක් කරන්නට හැකි බවත්, ඒ සඳහා දිනයක් වෙන් කරවා ගන්නා ලෙස වෛද්‍ය මැක්රේ මා හට කියා සිටියේ ය. එහෙත්, එය කොහොමටවත් කළ නො හැකි ය. එ සේ කරන්නට ගියහොත් නිසැකයෙන් ම මේ රහස නැන්දාට දැන ගන්නට ලැබෙනවා ඇත.

"හොඳයි මම දුරකථන ඇමැතුමක් දීලා දිනයක් වෙන් කරවා ගන්නම්" මම වෛද්‍යවරයාට කීවෙමි.

වෛද්‍ය මැක්රේ හමු වී වසරක් ගෙවී ගියත් මම ඔහුට දුරකතන ඇමැතුමක් නො දුන්නෙමි. එහෙත්, මගේ නැන්දා ගේ සිය පවුල ම ආපසු සෝමාලියාව බලා යන්නට ගිය පසු මම ශල්‍යකර්මය සඳහා දිනයක් ඉල්ලා දුරකතන ඇමැතුමක් දුන්නෙමි. දිනයක් ලබා ගැනීමට මට මාස දෙකක් බලා සිටින්නට විය. මාස දෙක කෙමෙන් ගෙවී යනවාත් සමඟ ම මා චර්මඡේදනය කළ අවස්ථාවේ මට විඳවන්නට සිදු වූ වේදනාව නැවතත් මගේ මතකය තුළ හොල්මන් කරන්නට විය. මා දැන් මුහුණ දෙන්නට යන ශල්‍යකර්මය චර්මඡේදන ක්‍රියාවලිය ම නැවත කිරීමක් යයි මට සිතුණ හෙයින් එ වැනි වේදනාවකට නම් නැවතත් මුහුණ දෙන්නට මට කොහෙත් ම නො හැකි බව මම තීරණය කළෙමි. ශල්‍යකර්මය කිරීමට නියමිත දිනයේ මා ඔවුනට දුරකථන ඇමැතුමක් හෝ නො දී එහි යාමෙන් වැළකී සිටියෙමි.

මේ වනවිට මා වයි.එම්.සී.ඒ හි පදිංචි ව සිටි අතර, ඔසප් වනවිට ඇති වන වේදනාවේ නම් කිසියම් හෝ අඩුවක් නො වී ය. වේදනාව හේතු කොටගෙන සතියක් දෙකක් රැකියාවට යන්නට නො හැකි වුවහොත් නිසැකයෙන් ම මගේ රැකියාව අහෝසි වනු ඇත. දිනක් මා වේදනාවෙන් පෙළෙමින් සිටිනු දුටු මගේ මිතුරිය මැරිලින් ඒ ගැන මගෙන් නො කඩවා ම ප්‍රශ්න කරන්නට වූවා ය. සෝමාලියාවේ මා දැරියක ව සිටි අවධියේ මා චර්මඡේදනයට ලක් කර ඇති බව මම ඇයට විස්තර කළෙමි.

එහෙත්, මගේ මිතුරිය ලන්ඩනයේ ඉපදී හැදුණ වැඩුණ අයෙක් හැටියට මා කළ විස්තරය තේරුම් ගැනීමට ඇය අපොහොසත් විය.

"මට තේරෙන්නෙ නෑ වාරිස් ඔයා මේ මොනවා ගැන ද කතා කරන්නෙ කියලා... ඇයි ඔයා ඕක මට පෙන්වන්නෙ නැත්තෙ... මොනව ද කපලා ඇල තියෙන්නෙ... ඇයි එහෙම කරන්නෙ... මට තේරෙන්නෙ නෑ."

දිනක් මා මගේ කලිසම් සහ යට ඇඳුම් පහත් කොට ඇයට මගේ යෝනි ප්‍රදේශය පෙන්නුවෙමි.

එය දුටු ඇය ගේ මුහුණෙ හි ඇති වූ බියකරු පෙනුම මට මගේ ජීවිතයේ කිසි ම දිනක අමතක නො වේ. මගේ යෝනිය වෙතින් ඇය දෙනෙත් ඉවතට ගන්නා විට ඇගේ දෙ නෙතින් උතුරා ගිය කඳුළු දෙ කොපුල් මත රූරා ගලා හැලෙනු මම දුටුවෙමි.

"වාරිස් ඔයාට මොනව හරි හැඟීමක්... දැනීමක් තියෙනව ද?" මෙම බියකරු දර්ශනය දැකීමෙන් පසු ඒ ඇය නැගූ පළමුවෙනි ප්‍රශ්නය යි.

"මේ දේ කරන්න ඉස්සෙල්ලා ඔයා පුංචි ළදැරියක් කාලෙ තිබුණ හැටි ඔයාට මතක ද?"

"ඔව්... දැන් ඉතින් මේ මගෙ හැටි තමයි" මම පහත් හඬින් පිළිතුරු දුනිමි.

චර්මඡේදනයට ලක් වූ සෑම ගැහැනියක් මෙන් ම මම ද දැන් වෙනස් ගැහැනියකු බව තවදුරටත් පුදුමයට කාරණයක් හෝ සිහිනයක් හෝ නොවේ. මා විඳවන වේදනාව වචනයෙන් විස්තර කළ නො හැකි අතර, මගේ සතුරකුටවත් එ වැනි දෙයකට මුහුණ දෙන්නට සිදු නො වේවා යන්න මගේ පැතුමයි.

"මේක මොන තරම් කෲර වැඩක් ද වාරිස්... මට නං කොහෙත් ම විශ්වාස කරන්න බෑ සිත් පිත් ඇති කෙනෙක් මෙ වැනි දෙයක් ඔයාට කරයි කියලා" ඇය දෙ පසට සිය හිස වනමින් හඬා වැටෙන්නට විය.

"ඕ... මැරිලින් ඕක නවත්ත ගන්න... මාව තවත් වේදනාවට පත් කරන්නෙ නැතුව."

"අනේ වාරිස් මට මේක දරාගන්න බෑ... ඕක කරපු එවුන් ගැන මට තියෙන්නෙ කියන්න බැරි වෛරයක්. මට දුක වෙන මොකවත් හින්දා නෙමේ පුංචි කෙල්ලකුට මේ වගේ විනාශයක් කරන්න පුළුවන් මිනිස්සු මේ ලෝකේ ඉන්න එක ගැන."

අනතුරු ව අපි දෙදෙනා කතා බහකින් තොර ව එක තැන මඳ වේලාවක් හිඳගෙන සිටියෙමු. ඒ අතරතුර ඇය නො නවත්වා ම ඉකිබිඳින හඬ මට ඇසෙන්නට විය. එහෙත්, ඇය දෙස බලන්නට තරම්වත් ශක්තියක් මට නො තිබුණි.

"මම වෛද්‍ය මැක්රේත් හමුවෙලා ශල්‍යකර්මය කරවා ගන්නවා. එතකොට මට සැනසීමෙන් මුත්‍රා කරන්නටවත් හැකි වෙයි... ඒ සැනසීමවත් දැන් මට ඇති."

"මම එනවා ඔයත් එක්ක දොස්තර හම්බු වෙන්න යන්න" ඇය කිව්වා ය.

පසු දින මැරිලින් වෛද්‍ය මැක්රේට දුරකථනයෙන් කතා කොට ශල්‍යකර්මය සඳහා දිනයක් වෙන් කරවා ගත්තා ය. මේ වතාවේ වෛද්‍යවරයා හමුවීමට මට මාසයක් බලා සිටින්නට සිදුවිය. ශල්‍යකර්මය සඳහා යන්නට යෙදී තිබුණ දිනයේ මැරිලින් පාන්දරින් ම මගේ කාමරයට පැමිණියා ය. අපි දෙදෙන වෛද්‍ය මැක්රේ ගේ ආරෝග්‍ය ශාලාවට ගියෙමු. හෙදියක් පැමිණ ශල්‍යකර්මය සඳහා ඇති කාමරයට මා රැගෙන ගියා ය. ශල්‍යකර්ම කාමරය තුළ කෙළවරක තබා තිබූ ශල්‍යකර්ම සඳහා පාවිච්චි කරන පුටුව දුටු විගස මට කාමරයෙන් පැන දුවන්නට සිත්විය. එහෙත්, කාන්තාරයේ ගසක් යට ඇති කළු ගලකට වඩා මේ ශල්‍යකර්ම පුටුව හොඳ නො වේදැයි මට එකවර ම සිත් විය. එ මෙන් ම මේ වතාවේ ශල්‍යකර්මය සිදු වන්නට යන පිළිවෙළ ගැන මා තුළ තරමක විශ්වාසයක් ගොඩනැඟී තිබුණි. වෛද්‍ය මැක්රේ මා ශල්‍යකර්මය සඳහා වූ පුටුවේ ඉන්දවා මට නිර්වින්දනයක් ලබා දුන්නේ ය. එදා අභිකුණ්ඨක ගැහැනිය මා චර්මඡේදනයට ලක් කළ අවස්ථාවේ මෙ වැනි නිර්වින්දනයක් තිබුණා නම් මොන තරම් දෙයක්දැයි මට ඒ මොහොතේ කල්පනා විය. නිර්වින්දකය ලබා දීමෙන් අනතුරු ව මා නින්දට වැටෙනවාත් සමඟ ම මැරිලින් මගේ අතින් අල්ලාගෙන සිටියා ය.

ශල්‍යකර්මයෙන් පසු මට සිහිය එනවිට මා දරුවකු ලැබෙන්නට සිටින තරුණියක් සිටි කාමරයකට ගෙනැවිත් තිබුණි. මෙම යුවතිය ශල්‍යකර්මයට පෙර මා දවල් කෑම ගන්නට ගිය අවස්ථාවේ තවත් කීප දෙනකු සමඟ ආපන ශාලාවේ දී හමුවුණා මට මතක ය.

"ඔබට තියෙන අමාරුව මොකක්ද?"

මගේ ප්‍රශ්නය මා ඇයට කෙසේ නම් විස්තර කරම් ද? මගේ යෝනියේ කිසියම් ආබාධයක් නිවැරදි කර ගැනීමට මෙහි පැමිණ සිටින බව මා ඇයට පවසන්න ද...? බඩේ අමාරුවකට ප්‍රතිකාර ගැනීමට මා පැමිණ සිටින බව මම ඇයට පැවැසුවෙමි.

ශල්‍යකර්මයෙන් පසු තුවාලය ඉක්මනින් සුව අතට හැරෙමින් තිබුණ අතර, මා චර්මඡේදනය කළ අවස්ථාවේ මුහුණ දෙන්නට සිදු වූ අමිහිරි මතකයන් මගේ මතකයට ගලා එන්නට විය. එ මතු ද නො ව මුත්‍රා කරන විට ද පෙර මෙන් දැවිල්ල ඇති විය. වාසනාවකට මෙන් හෙදිය මට ස්නානය කරන්නට අවසර දුන්නා ය. වෛද්‍ය මැක්රේ වේදනා නාශක පෙති නියම කළෙන් වේදනාව පහ ව ගියේ ය.

ඇත්තෙන් ම වෛද්‍ය මැක්රේ ශල්‍යකර්මය ඉතා හොඳින් සිදුකර තිබුණි. සදාකාලිකව ම මම ඔහුට ණයගැති වෙමි. ඔහු මට මෙසේ කීවේය:

"ඔබ දන්නව ද... මම ඔබට කියන්නම්... මම මෙ වැනි ශල්‍යකර්මයක් කළ පළමුවෙනි අවස්ථාව මේක නෙමේ... සුඩාන්, ඊජිප්තු සහ සෝමාලියාව වැනි රටවල ස්ත්‍රීන් බොහොමයක් මේ ශල්‍යකර්මය ම කර ගැනීමට මා ගාවට ඇවිල්ලා තියෙනවා. සමහරක් අය දරු ප්‍රසූතියට ළංවෙලා සිටි අය... ඇත්තෙන් ම චර්මච්ඡේදනයෙන් පස්සෙ යෝනි මාර්ගය තරමක් හෝ වැසෙන ආකාරයට මසා තිබීම දරුවන් ප්‍රසූත කිරීමට බාධාවක් පමණක් නෙමේ. සමහර විට හුස්ම හිරවෙලා දරුවන් මැරෙන්න පුළුවන්... ඒ හැම ස්ත්‍රියක් ම තමන්ගෙ ස්වාමිපුරුෂයාට නොකියා තමයි මේ ශල්‍යකර්මය කරගන්න ඇවිල්ලා හිටියෙ."

සති දෙක තුනක් ගෙවී ගිය පසු මගේ තත්ත්වය සම්පූර්ණයෙන් ම නො ව බොහෝ දුරට යථා තත්ත්වයට පත්විය. අඩු ම තරමින් දැන් මට බාධකයකින් තොර ව මුත්‍රා කළ හැකි ය. ඇත්තෙන් ම ඒ නිදහස වචනයෙන් විස්තර කළ නො හැකි ය.



# 13

# ගමන් බලපත්‍රය



ජේම්ස් බොන්ඩ් චිත්‍රපටයේ රූපගත කිරීම් අහවර කොට පෙරළා ලන්ඩන් හීත්‍රෝ ගුවන්තොටුපොළට පැමිණි මා කෙළින් ම මගේ මිතුරිය මැරිලින් මොන්රෝ ගේ නිවසට රැගෙන යන ලෙස රියැදුරාට දැන්වූයෙමි. මොරොක්කෝවට ගිය පසු අඩු ම තරමින් මම ඇයට දුරකථන ඇමතුමක් හෝ නො දුන්නේ අන් කිසිවක් නිසා නො ව, ඇයට සන්සුන් වන්නට කාලය දී පසු ව ලන්ඩන්වලට පැමිණි පසු හමුවීමට සිතාගෙන ය. මැරිලින්ට දෙන්නට ගෙනා තෑගි මල්ල ද අතෙ හි රඳවාගෙන ගැහෙන හදවතින් මම ඇගේ නිවසේ සීනුව නාද කළෙමි. ඇය පැමිණ දොර විවෘත කළා ය. මොහොතක් මා දෙස භීතියෙන් මෙන් බලා සිටි ඇය එකවර ම මා සිප වැලඳ ගත්තා ය.

"එහෙනං උඹ මගේ පාස්පෝර්ට් එකෙන් මොරොක්කෝවට ගිහිල්ලත් ආවා... පිස්සු කෙල්ල" මැරිලින් කෑ ගැසුවා ය.

ඇගේ ගමන් බලපත්‍රය ඇයට නො දන්වා හොරෙන් ගෙන යාම ගැන මම ඇයගෙන් සමාව ඉල්ලා සිටියෙමි. මැරිලින් ගේ පොත් සියල්ල අවුස්සා ඇයට හොරෙන් ගමන් බලපත්‍රය සොයාගෙන එය රැගෙන යාමට තරම් මා සතු ආත්ම ශක්තිය ඇය මහත් සේ අගය කළා ය. අප දෙනො ගේ ම සුබසෙත සඳහා මින් ඉදිරියට මා එ වැනි ක්‍රියාවක් නො කරන බවට මම ඇයට පොරොන්දු වුණෙමි. වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ම මැරිලින් අවංක මිතුරියක් වූ නිසා ඒ ගැන ඇය මා හට

කමා කිරීම ගැන ඇත්තෙන් ම මම සතුටු වෙමි. විශේෂයෙන් ම ඡායාරූප ශිල්පි ටෙරන්ස් ඩොනවන් සමඟ වැඩ කිරීමත්, එ මෙන් ම ජේම්ස් බොන්ඩ් චිත්‍රපටයේ රඟපෑමට ලැබුණ අවස්ථාවත් නිසා මොරොක්කෝවේ සිට පෙරළා ලන්ඩනයට පැමිණි පසු වෘත්තීම ය මෝස්තර නිරූපිකාවියක් ලෙස මගේ ගමන ආරම්භ වූවා යයි මම සිතා සිටියත්, මෝස්තර නිරූපිකාවියක් ලෙස මා ආරම්භ කළ ගමන උපන් ගෙයි ම මියැදී ගියේ ඇස් අදහාගත නො හැකි අයුරිනි. ඒ වනවිට මැක්ඩොනල්ඩ් ආපන ශාලාවේ රැකියාවෙන් ද ඉවත් වී වයි.එම්.සී.ඒ. පදිංචිය ද අත හැර තිබූ වාතාවරණය තුළ රැකියාවක් නො මැති නිසා වෙනත් වාසස්ථානයක් ද සොයා ගැනීමට නො හැකි ව සිටි මට මැරිලින් සහ ඇගේ මව සමඟ ඔවුන් ගේ නිවසේ පදිංචි වීමට මා ඉබේ ම තල්ලු වී ගියේ ය. එ නමුදු ඔවුන් ගේ නිවසේ පදිංචි වීමට ලැබුණ අවස්ථාව සෑම අතකින් ම මා වෙත සතුටක් ගෙන දුන්නේ අන් කිසිවක් නිසා නො ව, මැරිලින් ගේ පවුලේ සාමාජිකයකු වශයෙන් එහි ජීවත් වීමෙන් ලැබුණ සතුට සහ උණුසුම හේතුකොට ගෙන ය. මාස හතක් ඔවුන් සමඟ ජීවත් වීමෙන් නිසැකයෙන් ම මා ඔවුනට කරදරයක් වුවත්, ඔවුහු ඒ ගැන වචනයකුදු කතා නො කළහ. නිරූපිකාවියක් ලෙස වැඩ කිරීමට ඉඳහිට අවස්ථාව ලැබුණත් කාමරයක් කුලියට ගෙන පදිංචි වන්නට තරම් මුදලක් එයින් උපයා ගැනීමට නො හැකි විය. මැරිලින් ගේ නිවසේ වාසය අත හැර මගේ කරුණැවැති මිතුරිය මඟින් මා දැන සිටි ෆ්‍රැන්කි නමැති චීන මිතුරා ගේ නිවසේ පදිංචියට මම ගියෙමි. නිදන කාමර දෙකකින් සමන්විත වූ ඔහු ගේ නිවස ඇත්තෙන් ම මා දුටුවේ විශාල නිවසක් ලෙසිනි. මගේ මෝස්තර නිරූපිකා වෘත්තිය දියුණු කර ගන්නට රුකුලක් වෙමින් ෆ්‍රැන්කි ඔහු ගේ නිවසේ කාමරයක් නිර්ලෝභී ව මා හට දුන්නේ ය.

වර්ෂ 1987 දී මා ෆ්‍රැන්කි ගේ නිවසේ පදිංචියට ගොස් ටික දිනකට පසු මගේ ඡායාරූප රැගත් "*The Living Day Light*" නමැති සඟරාව ප්‍රකාශයට පත් විය. ඊට සති දෙකකට පමණ පසු ඒ වසරේ නත්තල් උත්සවයට ගොස් විනෝද වී පසුදින පාන්දර නිවසට විත් නිදා ගන්නට සැරසෙනවාත් සමඟ ම කවුදෝ මගේ ජනේලයට තට්ටු කරනවා මට ඇසෙන්නට විය. අඩ නින්දේ සිටි මම නො නවත්වා ම ජනේලයට තට්ටු කරන හඬින් අවදි වුණෙමි. ජනේලය විවෘත කළ විට මා දුටුවේ නත්තල් උත්සවයේ සිටි මා නිවස වෙත ගෙනැවිත් ඇරලූ මගේ මිත්‍රයා පුවත්පතක් ද අතැති ව කවුළුව දෙස බලා සිටින අයුරු ය.

"වාරිස් අද 'සන්ඩේ ටයිම්ස්' පත්තරේ මුල් පිටුවෙ ඔයාගෙ පින්තූරයක් තියෙනවා."

"ඇත්තට ම... මගෙ පින්තූරයක්" මම දෑ ඇස් පිරිමදිමින් ඇසුවෙමි.

"මේ බලන්ඩ" ඔහු පුවත්පත ජනේලය දෙසට දිගු කරමින් කීවේ ය.

ඇත්තට ම පුවත්පතේ මුල් පිටුවෙන් තුනෙන් දෙකක් පමණ වැසෙන සේ ගින්දර මෙන් දිලිසෙන මගේ බ්ලොන්ඩ් කෙස් කළඹත්, අධිෂ්ඨානයෙන් පිරි මගේ මුහුණ රැගත් එහි වූ පින්තූරය මම දුටුවෙමි.

"ඒක හොඳයි... මට නිදිමතයි මම යනවා නිදා ගන්න" එ සේ කියමින් මම සයනය වෙත ගියෙමි. ලන්ඩන් නගරයේ ප්‍රසිද්ධියට පත් කරන 'සන්ඩේ ටයිම්ස්' වැනි පුවත්පතක මුල් පිටුවේ ඡායාරූපයක් පළ වීම යනු නිසැකයෙන් ම ඉදිරියේ දී මට හොඳ කලක් උදා වෙන්නට හැකි බව එ දින දවල් වරුවේ අවදි වූ මා හට ප්‍රත්‍යක්ෂ විය. මම කඩිමුඩියේ ම මුළුමහත් ලන්ඩන් නගරයේ වූ නිරූපිකාවන් බඳවා ගන්නා ආයතනවලට ගොස් මගේ පින්තූර ආදිය ඉදිරිපත් කළ නමුදු, ඔවුන් කිසිවකුගෙන් යහපත් ප්‍රතිචාරයක් ලැබුණේ නැත.

"ඇහුණ ද චාරිස්... අප්‍රිකානු නිරූපිකාවන්ට ලන්ඩන්වල එ තරම් ඉල්ලුමක් නෑ... ඔයාට රැකියාවක් සොයා ගන්න නම් අඩු ම තරමින් පැරිස්, මිලාන් නැති නම් නිව්යෝර්ක් වැනි නගරයකට යන්ට වෙයි" මගේ නව ඒජන්සියේ කළමනාකරු කීවේ ය.

මට ඇති එක ම ප්‍රශ්නය අන් කිසිවක් නො ව, නීත්‍යානුකූල ව ගමන් කරන්නට හැකි ගමන් බලපත්‍රයක් නො මැති වීමයි. ගමන් බලපත්‍ර හදා දෙන හැරල්ඩ් වීලර් නමැති නීතිඥයකු ගැනත් අප්‍රමාද ව ඔහුට කතා කර බලන ලෙසත් මගේ ඒජන්සියෙන් මට දන්වන ලදි.

හැරල්ඩ් වීලර් නමැති නීතිඥයා හමු වන්නට මම ගියෙමි. ගමන් බලපත්‍රයක් සාදා දීම සඳහා පවුම් 2000 ක මුදලක් ඔහු අය කරන බව මට දැන්වූයේ ය. කෙසේ හෝ ගමන් බලපත්‍රයක් සාදාගතහොත් මා හට පිටරටවලට ගමන් කරන්නට පුළුවන් වන අතර, ඒ මුදල ඉක්මනින් ම සොයා ගැනීමට හැකි වනු ඇතැ යි මම කල්පනා කළෙමි.

මා දන්නා හැම තැනකට ම කතා කළහොත් මේ මුදල සොයා ගන්නට අපහසු නො වනු ඇත. මේ ආකාරයෙන් ණය වී ලබා ගන්නා මුදල වංචාකාරයකු අතට නො යන්නට වගබලා ගත යුතු බව මම හොඳින් තේරුම් ගෙන සිටියෙමි.

දෙවෙනි වතාවට නීතිඥයා හමුවන්නට යනවිට මුදල් ගෙදර තබා යන්නට තීරණය කළ මම, මේ වතාවේ දී මගේ මිතුරිය මැරිලින් ද කැටුව

නීතිඥයා හමුවන්නට යන්නට සිතුවේ මේ සම්බන්ධ ව ඇගේ මතය ද මට වැදගත් වන හෙයිනි. මා වීලර් ගේ කාර්යාලයට දුරකතන ඇමැතුමක් ගත්තෙමි. ඔහු ගේ ලේකම්වරිය අපට එහි එන ලෙස දැන්වූවා ය. අපි දෙදෙන එහි ගියෙමු. මැරිලින්ට ලොබියේ ඉන්නට සැලැස්වූ මම නීතිඥ වීලර් ගේ කාමරයට ගියෙමි.

"මිස්ටර් වීලර් මට ඇත්ත ම කියන්න, ඔබ මට හදා දෙන්නට යන ගමන් බලපත්‍රය ඇත්තෙන් ම පවුම් 2000 ක් වටිනව ද...? අනෙක කරදරයක් නැති ව මට නීත්‍යානුකූල ව ඕනෑ ම රටකට යන්න පුළුවන් ද? නැත්නම් කොහෙදි හරි මාව අල්ලලා ආපහු සෝමාලියාවට යවයි ද? අනෙක තමයි මට දැන ගන්නට ඕනෑ කොහෙන් ද ඔබ ඔය පාස්පෝර්ට් ලබා දෙන්නෙ?"

"ඒ ප්‍රශ්නයට මට පිළිතුරු දෙන්න බැහැ... ඒවා වෘත්තියට අදාළ රහස්... ඔබ මේ වැඩේ මට භාර දෙන්ඩකො... මම ඔබට නීත්‍යානුකූල ව ඕනෑ ම රටකට යන්නට පුළුවන් ගමන් බලපත්‍රයක් හදලා දෙන්නම්... හැබැයි මේ කටයුත්තට සති දෙකක් විතර ගත වෙනවා. ගමන් බලපත්‍රය සූදානම් කළාට පස්සෙ මගෙ ලේකම්වරිය ඔබට දුරකතනයෙන් ඒ බව දන්ව යි... එතකොට ඇවිල්ලා ගමන් බලපත්‍රය අරගෙන යන්න."

"හොඳයි... එහෙනම් මම ඔබගෙ වචනය විශ්වාස කරනවා."

අනතුරු ව ඊළඟට ගත යුතු පියවර කුමක් ද යන්න වීලර් මට පැහැදිලි කළේ ය. එ නම් අයිරිෂ් ජාතිකයකු සමඟ මා විවාහ විය යුතු බවත්, පවුම් 2000 න් ඔහුට ලැබෙන්නේ සොච්චමක් බවත්, ඉතිරි මුළු මුදල ම අයිරිෂ් ජාතිකයා ලබා දෙන සේවය සඳහා ගෙවිය යුතු බවත්, ඔහු මට විස්තර කළේ ය. එ මතු ද නො ව මගේ කසාදය සිදුවන දිනය සහ වේලාව ඔහු මට කොළ කැබැල්ලක ලියා දුන් අතර, ඒ එන විට පවුම් 2000 ට අමතර ව තවත් පවුම් 150 ක් රැගෙන එන ලෙස කීවේ ය.

"මිස් වාරිස් සුලිවන් මහත්තයා එදාට රෙජිස්ටාර් කාර්යාලයේ දී ඔබට මුණ ගැසෙයි... එයා තමයි ඔබගෙ අනාගත ස්වාමිපුරුෂයා" ඔහු නියම ඉංග්‍රීසි ඌරුවට බස හසුරුවමින් සිය අත මා වෙත දිගු කර මට සුබ පැතුවේ ය.

මේ නීතිඥයා විශ්වාසය තැබිය හැකි අයෙක්දැයි මම මැරිලින් ගේ අදහස දැන ගැනීමේ අටියෙන් ඇසුවෙමි.

"ඔව්... මොකද ඔහුට වැදගත් පරිසරයක අලංකාර ගොඩනැගිල්ලක ලස්සන කාර්යාලයක් තියෙනවා... ඔහු ගෙ නම කාර්යාලයට ඇතුළු වන

දොර අසල ගහලා තියෙනවා... අනෙක ඔහුට හොඳ ලේකම්වරියක් ඉන්නවා... ඒවා ගැන බලන විට මිනිහා බොරුකාරයෙක් වෙන්ඩ බෑ."

මගේ විවාහයේ සාක්කිකරුවකු වශයෙන් මගේ මිතුරිය මැරිලින් ද එ දින විවාහ ලියාපදිංචි කරන කාර්යාලයට පැමිණියා ය. වෙලාව එනතුරු මමත්, මැරිලිනුත් විවාහ ලියාපදිංචි කරන කාර්යාලය ඉදිරිපිට හිඳින විට හිස කෙස් අවුල් වූ වැරහැලි ඇඳගත් මුහුණ මැලැවී ගිය මහලු මනුස්සයෙක් දෙ පසට වැනි වැනී අප සිටින දෙසට එනු අපි දුටුවෙමු. මේ පුද්ගලයා පැමිණ විවාහ ලියාපදිංචි කරන කාර්යාලයේ පියගැට පෙළ නගින්නට පටන් ගත්තේ ය. අප දෙදෙනා පුදුමයෙන් මෙන් එකිනෙකා ගේ මුහුණ බලා ගත්තෙමු.

"ආ... ඔබ ද මිස්ටර් සුලිවන් මහත්තයා" සැකයෙන් මෙන් මම ඔහුට කතා කළෙමි.

"ඔව් ඔව් ඒ මම තමයි... ආ ඔබ ද අර කියාපු ගැහැනු ළමයා" ඔහු පහත් හඬින් විමසුවේ ය.

මම හිස වනා එය අනුමත කළෙමි.

"ඔබ අර කියාපු පවුම් 150 ගෙනාව ද?"

"ඔව්."

"හොඳ ළමයා... බොහොම හොඳයි... බොහොම හොඳයි... එහෙනං කාලය නාස්ති කරන්න වුවමනා නෑ අපි ඇතුළට යමු."

මගේ අනාගත ස්වාමිපුරුෂයා වෙතින් නො සෑහෙන තරමට විස්කි ගඳ වහනය වන්නට වූ අතර, නිසැකයෙන් ම ඔහු බීමත් ව සිටියාට කිසි ම සැකයක් නැත.

"ඇහුණ ද මැරිලින් උඹ හිතනව ද මට පාස්පෝර්ට් එක ලැබෙන කල් මේ මිනිහා ජීවත් වෙයි කියලා" මම මැරිලින් ගේ කනට ළං වී කීවෙමි.

කසාද ලියාපදිංචි කරවන නිලධාරිනිය සිය රාජකාරිය පටන් ගත්තා ය. එ නමුදු ඊට අවධානය යොමු කිරීම ඒ මොහොතේ මට මහත් ප්‍රශ්නයක් වූයේ අන් කිසිවක් නිසා නො ව, මිස්ටර් සුලිවන් දෙ පසට වැනෙන්නට වීම මගේ අවධානයට මහත් බාධාවක් වීම නිසා ය. "වාරිස් ඩයිරි මහත්මිය මේ සුලිවන් මහතා ඔබ ගේ... විවාහ ලියාපදිංචි කරන නිලධාරිනියට කියා ගත හැකි වූයේ එ පමණි. සුලිවන් මහතා මුලින් කපා හෙළූ කෙසෙල් කඳක් මෙන් එ තැන ම ඇද වැටුණේ ය.

විවෘත වූ මුඛයෙන් ඔහු තවමත් ආශ්වාස ප්‍රශ්වාස කරන බව මා හට ප්‍රත්‍යක්ෂ වන තුරු ම මා සිතුවේ ඔහු මැරී වැටෙන්නට ඇතැ යි කියා ය. එකවර ම ඔහු අසල දණ ගසා ගත් මම උස් හඬින් කෑ ගසමින් ඔහු ව දෙ පසට සොලවන්නට වූයෙමි. එහෙත්, ඔහුගෙන් කිසි ම ප්‍රතිචාරයක් නො වී ය.

"මගෙ දෙවියනේ මොකද මේ වුණේ... මගෙ කසාදෙ දවසෙ." මැරිලින් දෙස බලමින් මම කීවෙමි.

මැරිලින් අසල වූ බිත්තියට හේත්තු වී බඩ අල්ලාගෙන සිනාසෙන්නට විය.

කසාද ලියාපදිංචි කරන නිලධාරිනිය සිය දෙ අත් දණහිස් මත තබා ගනිමින් ඇය පැලැඳ සිටි කුඩා උපැස් යුවළට උඩින් බලමින් මගේ අනාගත ස්වාමිපුරුෂයා වෙතට නැඹුරු වී ඔහු පරීක්ෂා කරන්නට විය.

"දැන් මොකද ඔයාට... හොඳ ද?"

එ වදන් ඇසීමෙන් මා මොන තරම් කෝපයට පත් වුණාදැයි කිවහොත් ඇයට හොඳ දෙකක් කියන්නට මට සිත්විය.

මම නො නවත්වා ම මිස්ටර් සුලිවන් ගේ කම්මුල් දෙකට ගසමින් ඔහුට ප්‍රකෘති සිහිය ලබා දෙන්නට උත්සාහ කළෙමි.

"කවුරු හරි ගිහිල්ලා වතුර ටිකක් අරගෙන එනව ද?" මම සිනාසෙමින් කෑ ගැසුවෙමි.

වීදුරුවකට වතුර ගෙන ආ නිලධාරිනිය මහලු මිනිසා ගේ මුහුණට ඉසින්නට විය. මොහොතකට පසු ඔහු කෙඳිරියක් නගමින් හෙමිහිට දෙනෙත් විවෘත කළේ ය. සෑහෙන වේලාවක් තළා පෙළා මුහුණට වතුර ඉසීමෙන් පසු අපට ඔහු කෙළින් කර දෙපයින් සිටවා ගන්නට හැකි විය.

"දෙවියන්ගෙ නාමයෙන් තව මොහොතක් ඔහොම ඉන්ඩ" මම කොඳුරුවෙමි.

ඔහු වැටේ යයි යන බියෙන් රාජකාරිය අහවර වනතුරු මම මගේ ස්වාමිපුරුෂයා ගේ අත තදකර අල්ලා ගතිමි. රාජකාරිය අහවර වූ වහා ම අපි විවාහ ලියාපදිංචි කරන කාර්යාලයෙන් එළියට පැමිණියෙමු. එළියට පැමිණි වහා ම මිස්ටර් සුලිවන් පවුම් 150 මගෙන් ඉල්ලා සිටියේ ය. මම ඔහුට පවුම් 150 දී ඔහු ගේ ලිපිනය ඉල්ලා ගත්තේ අන් කිසිවක් නිසා නො ව, අනපේක්ෂිත අයුරකින් ඔහු නැවත මුණ ගැසීමට අවශ්‍යතාවයක්

ඇති වුවහොත් යන සිතුවිල්ල ඇතිව ය. මා සන්තක ව තිබූ අන්තිම පවුම් 150 රැගත් හෙතෙම ගීතයක් ද ගායනා කරමින් යන්නට ගියේ ය.

විවාහයෙන් සතියකට පමණ පසු මගේ ගමන් බලපත්‍රය සූදානම් බැවි දන්වා එය රැගෙන යන්නට සිය කාර්යාලයට එන ලෙස දන්වමින් හීතිංගැ හැරල්ඩ් වීලර් මහතාගෙන් මට දුරකතන ඇමැතුමක් ලැබුණි. ඉහවහ ගිය ප්‍රීතියෙන් මම ඒ මොහොතේ ම වීලර් මහතා ගේ කාර්යාලයට ගියෙමි. වීලර් මහතා අයිරිෂ් රටේ ගමන් බලපත්‍රයක් මා අත තැබුවේ ය. මගේ ඡායාරූපය අලවා තිබූ එහි වාරිස් සුලිවන් යනුවෙන් සඳහන් ව තිබුණි. නීත්‍යානුකූල නියම ගමන් බලපත්‍රයක් කෙසේ ද යන්න තක්සේරු කිරීමට තරම් ඒ විෂය සම්බන්ධ ව මා විශේෂඥයකු නො වූවත් මා අතට පත් කරන ලද ගමන් බලපත්‍රය ගැන මා තුළ එ තරම් පැහැදීමක් නො වී ය.

"මේ ගමන් බලපත්‍රයෙන් මට කරදරයක් නො මැති ව ඕනෑ ම රටකට ගමන් කරන්න පුළුවන් ද?" මම වීලර් මහතාගෙන් ඇසීමි.

"කිසි ම ප්‍රශ්නයක් නැති ව ඕනෑ ම රටකට ගමන් කරන්න පුළුවන්... ඕක අයිරිෂ් ගමන් බලපත්‍රයක්... පේන්නෙ නැත්ද?" ඔහු පැකිළීමකින් තොර ව පිළිතුරු දුන්නේ ය.

කරදරයක් නො මැති ව මගේ වැඩය කරගන්න හැකි නම් ගමන් බලපත්‍රයේ පෙනුමෙන් ඇති වැඩය කුමක්දැයි සිතමින් මම එහි පිටු පෙරළුවෙමි.

දින කීපයකට පසු මගේ ඒජන්සියෙන් මා පැරිස් සහ මිලානෝ නගර දෙකට යැවීමට සූදානම් කර තිබුණෙන්, මම ගමන් බලපත්‍රය අදාළ වීසා සඳහා ඉදිරිපත් කරමින් එය පරීක්ෂණයට භාජනය කළෙමි. දින දෙකකට පමණ පසු ව මා වෙත ලිපියක් ලැබිණ. එම ලිපිය එවා තිබූ කාර්යාලම ය ලිපිනය දුටු වහා ම මගේ ගත කිලිපොළා යන්නට විය. ලිපිය ලැබී තිබුණේ ලන්ඩනයේ ආගමන හා විගමන දෙපාර්තමේන්තුවෙනි. වහා ම එම කාර්යාලයට ගොස් පෙනී සිටින ලෙස ලිපියෙ හි සඳහන් වී තිබුණි. එහි නො යා සිටීමට හැකි නොයෙකුත් උපක්‍රම ගැන මම කල්පනා කරන්නට වීමි. එහෙත්, ඒ කිසිවකින් වැඩක් නො වන බැවි මම තේරුම් ගතිමි. පැය විසි හතරක් ඇතුළත පෙරළා මා සෝමාලියාවට යවන්නට හෝ අත්අඩංගුවට ගැනීමට හෝ ඔවුන්ට බලයක් ඇති බව මම දැන සිටියෙමි. ඕ... පැරිස්, මිලානෝ, ලන්ඩන්... ආයුබෝවන්... මෝස්තර නිරූපිකාවක් වශයෙන් මගේ වෘත්තියට ආයුබෝවන්... කාන්තාරයේ

අප ගේ පවුලට අයත් ඔටුවන් රැක බලා ගැනීමට නැවත එහි යන්නට දැන් කාලය පැමිණ ඇත.

ලිපිය ලැබුණ දිනට පසුදින මම උමං දුම්රියෙන් ආගමන හා විගමන දෙපාර්තමේන්තුව වෙත ගියෙමි. විශාල ගොඩනැගිල්ල තුළ මම අරමුණකින් තොර ව ඇවිද යනවිට මා මගේ ම සොහොන වෙත යන හැඟීමක් මා තුළ ඇති විය. විෂය සම්බන්ධ අදාළ කාමරයට ගිය විට මා හට මුණ ගැසුණේ ඉතා රෞද්‍ර පෙනුමක් ඇති පුද්ගලයෙකි. එ වැනි පුද්ගලයකු මින් පෙර නම් මට කිසි ම දිනක මුණ ගැසී නො මැත. නිලධාරියා මා හුදකලා කාමරයකට දමන ලදු ව, මගෙන් නොයෙකුත් ප්‍රශ්න අසන්නට විය.

"ඔය පුටුවෙන් වාඩි වෙන්න" නිලධාරියා අණ කළේ ය.

"ඔබ ගේ නම මොකක් ද?"

"විවාහයට පෙර ඔබ ගේ නම කුමක් ද?"

"ඔබ කිනම් රටකින් එන අයෙක් ද?"

"ඔබට මෙම ගමන් බලපත්‍රය ලැබුණේ කෙසේ ද?"

"මේ ගමන් බලපත්‍රය ඔබට ලබාදුන් පුද්ගලයා ගේ නම මොකක් ද?"

"මේ ගමන් බලපත්‍රය ලබා ගැනීමට ඒ පුද්ගලයාට ඔබ කොපමණ ගෙවීමක් කළා ද?"

ඔවුන් විසින් අසන ලද ප්‍රශ්නවලට මා දෙන පිළිතුරු එහි වූ නිලධාරීන් විසින් පටිගත කරනු ලැබූ අතර, මා අතින් එක වචනයක් හෝ වැරදුණහොත් ඔවුන් මා සිර අඩස්සියට ගන්නා බැව් මම දැන සිටියෙමි.

එහෙයින්, මම අවශ්‍ය ප්‍රමාණයට වඩා කතා කිරීමෙන් වැළැකී සිටීමට වග බලාගත්තෙමි. සමහර අවස්ථාවල දී ඔවුන් අසන ලද ප්‍රශ්නයකට පිළිතුරු දීමට මඳක් සිතන්නට සිදු වුවහොත් මම මගේ සහජ හැකියාව පාවිච්චි කරමින් ඉංග්‍රීසි භාෂාව හොඳින් දැන නො සිටීම එයට හේතුව බැව් මම ඔවුනට ඇඟවූයෙමි.

ආගමන හා විගමන නිලධාරීන් විසින් මගේ ගමන් බලපත්‍රය ඔවුන් ළඟ තබා ගන්නා ලදු ව, එය ආපසු ලබා ගැනීම සඳහා මගේ ස්වාමිපුරුෂයා කැඳවාගෙන එන ලෙස දන්වන ලදී. ඇත්තෙන් ම එ වැනි තීරණයක් කිසි දිනක මම ඔවුන්ගෙන් බලාපොරොත්තු නො වූයෙමි. අවසානයේ දී

හැරල්ඩ් වීලර් ගැන ආගමන හා විගමන නිලධාරීන්ට කිසිවක් නො කියා එම කාර්යාලයෙන් එළියට එන්නට මම සමත් වූයෙමි. හැරල්ඩ් වීලර් නමැති හොර නීතිඥයා පොලීසියට කොටු වන්නට පෙර මගේ පවුම් 2000 ආපසු ලබා නො ගතහොත් මගේ පවුම් 2000 ට කණකොකා හඬනවා නිසැක ය.

ආගමන සහ විගමන කාර්යාලයෙන් එළියට පැමිණි මම කෙළින් ම වීලර් ගේ කාර්යාලය වෙත ගොස් දොරේ සීනුව නාද කළෙමි. දොරට සවිකර තිබූ මයික්‍රෆෝනය තුළින් මා අමතන ලද වීලර් ගේ ලේකම්වරිය මා පුදුමයට පත් කරමින් ඔහු කාර්යාලයේ නො මැති බව දන්වමින් දොර විවෘත කිරීම ප්‍රතික්ෂේප කළා ය. ඉන් පසු දිනපතා ම මම වීලර් ගේ කාර්යාලයට ගිය නමුදු, ඔහු ගේ ලේකම්වරිය වීලර් කාර්යාලයේ නො මැති බැව් දන්වමින් ඇය සිය හාම්පුතාට රැකවරණය සැලැසුවා ය. එ තැනින් නො නැවැතුණ මම දිනපතා ම කාර්යාලය අසලට ගොස් රහස් පරීක්ෂකයකු ලෙස ඔහු කාර්යාලයට එනතුරු සැඟවී බලා සිටිය නමුදු අවසානයේ දී ඔහු පලා ගොස් ඇති බැව් මම තේරුම් ගතිමි.

මේ වන විට මගේ ස්වාමිපුරුෂයා මිස්ටර් සුලිවන් ආගමන සහ විගමන කාර්යාලයට කැඳවාගෙන යන්නට කාලය පැමිණ තිබුණි. මා හට දී තිබුණ ලිපිනය අනුව ඔහු පදිංචි ව සිටියේ ලන්ඩනයට සංක්‍රමණය වූ බොහොමයක් පිටරැටියන් පදිංචි ව සිටින දකුණු ලන්ඩනයේ ක්‍රොයිඩන් නමැති ප්‍රදේශයේ ය. එ මතු ද නො ව ඒ ප්‍රදේශයේ වැඩියෙන් ම පදිංචි ව සිටියේ සෝමාලි ජාතිකයන් ය. මම ක්‍රොයිඩන් බලා යන්නට පිටත් වුණෙමි. දුම්රියෙන් යා හැකි දුර ගොස් එ තැන් සිට කුලී රථයකින් ගමන් කළෙමි. කුලී රථයෙන් බැස ගත් මම එහි වූ මාවතක් ඔස්සේ වටපිට බලමින් ඇවිද යන අතර, දුටු දර්ශනය ඒ ප්‍රදේශය ගැන මා තුළ එ තරම් ප්‍රියමනාප බවක් ඇති නො කළේ ය. ඔහු මට දුන් ලිපිනයට අනුව මම නිවස සොයා ගතිමි. එය ගරා වැටුණ කුලී නිවසක් විය. මම නිවසේ දොරට තට්ටු කළෙමි. එහෙත්, කිසි ම ප්‍රතිචාරයක් නො වී ය. නිවසේ පිටුපසට ඇවිද ගිය මා ජනේලයකින් ඇතුළට එබී බැලුව ද කිසිවක් පැහැදිලි ව දැක ගන්නට නො හැකි විය. ඔහු ළඟ ඇති අවන්හල වෙත යන්නට ඇතැ යි අනුමාන කළ මා එහි ගියෙමි. මිස්ටර් සුලිවන් එහි සිටියේ ය.

"මාව අඳුනන්න පුළුවන් ද?" මම ඇසුවෙමි.

මහලු මිනිසා සිය උරහිසට උඩින් මා දෙස බැල්මක් හෙළා නැවතත් බාර් එකේ වූ මත්පැන් බෝතල් දෙස බලා සිටින්නට විය. ඔහුට සත්‍ය

පවසා මා සමග ආගමන සහ විගමන කාර්යාලය වෙත යන්නට එන ලෙස ඔහුගෙන් ඉල්ලා සිටින්නට සිදුවිය. එහෙත්, ඔහු එහි කැඳවාගෙන යාම එ තරම් ලෙහෙසි නො වන බව මම දැන සිටියෙමි. ආගමන සහ විගමන කාර්යාලයේ දී මට මුහුණ දෙන්නට සිදු වූ සම්පූර්ණ සිද්ධිය මම ඔහුට විස්තර කළෙමි.

“මේ ඇහුණ ද ආගමන සහ විගමන කාර්යාලයේ නිලධාරීන් කිව්වා, මගේ ගමන් බලපත්‍රය ආපසු ලබා ගන්නට නම් ඔබ එහෙට එක්ක ගෙන එන්න කියලා... ඒ අයට ඔබගෙන් ප්‍රශ්න කීපයක් අහන්න තියෙන බවත් කිව්වා... අර ලෝයරයා ලෝක හොරෙක්... ඌව ආයෙ හොයන්න හම්බු වෙන එකක් නැහැ... ඒ හින්දා මිස්ටර් අපි දෙන්නා කසාද බැඳලා ඉන්න බව කියන්න අමතක කරන්න එපා... හොඳේ.”

පෙර සිටි ඉරියව්වෙන් ම සිටි හෙතෙම විස්කි උගුරක් පානය කොට හිස සෙලෙව්වේ ය.

“මට ගමන් බලපත්‍රයක් හදා ගන්න ඔහෙට මම පවුම් 2000 ක් දුන්නා.” පවුම් 2000 ගැන කන වැකුණු වහා ම ඔහු ගේ අවධානය මා වෙත යොමු විය. ඔහු ගේ මුහුණෙ හි කිසියම් ප්‍රශ්නාර්ථ ලකුණක් මතු වී තිබුණි.

“සුන්දරියේ ඔයා මට දුන්නේ පවුම් 150 යි... මගෙ ජීවිතේටවත් මම පවුම් 2000 ක් දැකලා නෑ...”

“මොකද නැත්තෙ... හැරල්ඩ් විලර්ට මම පවුම් 2000 දුන්නා ඔහෙව කසාද බැඳ ගන්න.”

“එයා මට ඒක දුන්නේ නැහැ... ඇරත් ඔහෙගෙ මෝඩකමට ඔහෙ විලර්ට පවුම් 2000 දුන්න නම් ඒක ඔහෙගෙ ප්‍රශ්නයක්. නැතිව මගේ එකක් නෙවෙයි” ඔහු මෙතෙක් සිටි ඉරියව්වෙන් ම හිඳිමින් කීවේ ය.

කරකියා ගන්නට කිසිවක් නො මැති තැන මාත් සමග ආගමන සහ විගමන කාර්යාලයට යන්නට එන ලෙස ඉල්ලමින් මම ඔහුට බැගෑපත් වීමි. කුලී රථයකින් මා ඔහු ගෙන ගොස් ආපසු ගෙනත් ඇරලවන බව කීවත් ඔහු ඒ කිසිවකට කන් නො දුන්නේ ය.

“මේ ඇහුණ ද මාත් එක්ක ඒ කාර්යාලයට යනවට මම ඔබට මුදලක් ගෙවන්නම්... ඒ කාර්යාලයේ වැඩේ ඉවර වුණා ම මම ඔහෙව බාර් එකකට එක්කගෙන ගිහිල්ලා ඇති වෙනකන් බොන්ඩ විස්කි අරගෙන දෙන්නම්” කෙසේ හෝ ඔහු පොලඹවා ගැනීමට මඟක් සොයමින් මම කීවෙමි.

මගේ යෝජනාවට කිසියම් ප්‍රතිචාරයක් ඇත් වූ මෙතෙම මා දෙසට හැරී සිය ඇහි බැම් යුගල උස්සා මා දෙස බැලුවේ ය.

"හෙට උදේ මම කුලී රථයක් අරගෙන එනවා ඔහෙව එක්ක යන්න... ඒ කාර්යාලයට ගිහිල්ලා ඒ අය අහන ප්‍රශ්න දෙක තුනකට උත්තර දෙන්න තියෙන්නෙ... ඊට පස්සෙ මම ඔහෙව බාර් එකකට එක්කගෙන යන්නම්."

හිස වනා මගේ ඉල්ලීමට එකඟ වූ ඔහු නැවතත් මත්පැන් බෝතල් තබා ඇති රාක්කය වෙත නෙත් යොමු කරගෙන සිටින්නට විය.

පසුදින උදෑසන ක්‍රොයිඩන් හි පිහිටි සුලිවන් ගේ නිවසට ගිය මම ඔහු ගේ දොරට කීප වතාවක් ම තට්ටු කළ නමුදු එයින් කිසි ම ප්‍රතිචාරයක් නො මැති වූ බැවින්, පෙර දින ඔහු මට මුණ ගැසුණ බාර් එක වෙත ගියෙමි. බාර් එක තුළ සිටියේ වේටර්වරයා පමණි. සුදු ඒප්‍රනයක් ඇඳ සිටි වේටර්වරයා මා එහි යනවිට පුවත්පතක් කියවමින් කෝපි කෝප්පයක් තොල ගාමින් සිටියේ ය.

"අර සුලිවන් මහත්තයා ආවෙ නැත්ද?" මම ඇසීමි.

"සුලිවන් මහත්තයා මෙච්චර කලින් එන්නෙ නෑ පැටියෝ" ඔහු පිළිතුරු දුන්නේ ය.

නැවතත් සුලිවන් මහතා ගේ නිවස වෙත ගිය මම නිවසේ දොරට තඩි බාන්නට පටන් ගතිමි. එහෙත්, කිසි ම ප්‍රතිචාරයක් නො වූයෙන් මම දොරකඩ වූ පඩිපෙළ මත වාඩි වුණෙමි. පඩිපෙළ මතින් නැඟුණ මුත්‍රා උෂ්ණයෙන් මගේ නාසය පුරෝ දමන්නට වූයෙන් මම දෙ අත්ලෙන් නාසය වසා ගතිමි. පඩිපෙළ මත වාඩි වී ඊළඟට කළ යුත්තේ කුමක්දැයි කල්පනා කරමින් සිටින අතරතුර දරදඬු පෙනුමක් ඇති තරුණයන් දෙදෙනෙක් පැමිණ මා ඉදිරිපිට සිට ගත්හ.

"ඔහේ කවුද... අපේ තාත්තගෙ ගේ ඉස්සරහ ඉඳගෙන මොකද කරන්නෙ" එක් තරුණයෙක් තරමක සැරපරුෂ හඬින් ප්‍රශ්න කළේ ය.

"ආ... මම දන්නෙ නෑ ඔයගොල්ලො දන්නව ද කියලා... මම ඔයගොල්ලන් ගෙ තාත්ත ව කසාද බැඳලා ඉන්නෙ" මම සුහදශීලී ව කීවෙමි.

"මොනවද යකෝ උඹ කියන්නෙ" එක් තරුණයෙක් බෙරිහන් දුන්නේ ය.

"එහෙම කියන්න එපා... මම ලොකු අමාරුවක වැටිලා ඉන්නෙ... මේ වෙලාවෙ මට ඔයගොල්ලන්ගෙ තාත්තගෙ උදව්වක් අවශ්‍යයි.

එයාට තියෙන්නෙ මාත් එක්ක ආගමන සහ විගමන කාර්යාලයට ගිහිල්ලා ඒ කාර්යාලයෙ නිලධාරීන් අහන ප්‍රශ්න කීපයකට උත්තර දෙන්න විතරයි... ඒ අය මගේ ගමන් බලපත්‍රය තියා ගත්තා... ඒක මට ආපසු ලබා ගන්නයි ඕනෑ" මම මගේ ප්‍රශ්නය ඔවුන්ට විස්තර කළෙමි.

"අපිට ඒවායින් වැඩක් නෑ. ආපු අතක් බලාගෙන මකබෑ වෙන එකයි තියෙන්නෙ."

"එහෙම යන්ඩ බෑ... මා සන්තකට ම තිබුණ සල්ලි ටික මම ඔයගොල්ලන්ගෙ තාත්තට දුන්නා... මම එයා නැති ව මෙ තැනින් අඟලක්වත් හෙළවෙන්නෙ නෑ" මම නිවසේ දොර දෙසට අත දිගු කරමින් කීවෙමි.

එක් තරුණයෙක් මෙතෙක් සිය කබායේ සඟවාගෙන සිටි පොල්ලක් එළියට ගත්තේ ය.

"මීට පස්සෙ මේ පැත්තට ඇවිල්ලා ඔය වගේ බොරු නො කියන්න මම උඹට හොඳ පාඩමක් උගන්වන්නම්" පොල්ල අතැති තරුණයා වියරුවෙන් මා දෙස බලාගෙන කීවේ ය.

අනෙක් තරුණයා මා දෙස බලා සිය දත් විලිස්සමින් සිනාසුණු අතර, ඔහු ගේ ඉස්සරහ දත් කීපයක් ම නො මැති බව මම දුටුවෙමි.

ඔවුන් ගේ හැසිරීමෙන් ඇති වන්නට යන අන්තරාව මම තේරුම් ගතිමි. ඔවුන්ට නැති වන්නට දෙයක් තවත් නැත. ඔවුන් මට පහර දී මරා දැමුවත් ඒ ගැන සොයන්නට බලන්නට කිසිවෙක් මෙහි නැත. මම එකවර හුන් තැනින් නැඟිට දිව යන්නට වීමි. ටික දුරක් මා ලුහුබැඳ ආ ඔවුන් මා බියෙන් පලා යනු දැක ලුහුබැඳීම අත් හළේ ය.

එ දින ක්‍රොයිඩන් සිට පෙරළා නවාතැනට පැමිණි මම නැවතත් ක්‍රොයිඩන්වලට ගොස් කෙසේ හෝ සුලිවන් සොයා ගන්නට තීරණය කළේ අන් කිසිවක් නිසා නො ව, මට වෙන කරන්නට දෙයක් නො තිබුණ බැවිනි. මා නැවැතී සිටි නිවසේ අයිතිකරු ෆ්‍රැන්කි එහි තවදුරටත් නවාතැන් ගැනීමට නම් කුලියක් අවශ්‍ය බැව් කියා සිටියේ ය. ඒ වනවිට මගේ දෛනික වියදම් සඳහා මුදල් මා මගේ වෙනත් මිතුරියකගෙන් ණයට රැගෙන ජීවත් වූ අතර, තවදුරටත් එය එ සේ කිරීමට කොහෙත්ම අවකාශයක් නො වී ය. කරුණු එ සේ හෙයින් මට ද දැන් නැති වන්නට දෙයක් නැත. ආරක්ෂා කර නො ගතහොත් නැති වන්නට ඇත්තේ මගේ ඉස්සරහ දත් කීපය පමණි. එහෙයින් බිය වීමට කරුණක් නැත. පෙරදින

මා පසුපස හඹා ආ කොල්ලන් දෙදෙනාට වඩා මා නිර්භීත විය යුතු ය. ඇත්තෙන් ම එය එ තරම් අපහසු කාර්යයක් නො වනු ඇත.

පසුදින සවස් භාගයේ නැවතත් ක්‍රොයිඩන් බලා ගිය මම, මෙ වර සුලිවන් ගේ නිවස දෙසට නො යන්නට තීරණය කළෙමි. අසල වූ කුඩා උද්‍යානයකට ගොස් එහි වූ බංකුවක වාඩිලාගෙන සිටින අතරතුර, සුලිවන් අවන්හල වෙත සෙමින් පිය නගනු දුටුවෙමි. ඔහු ඉමහත් සතුටකින් සිටි අතර, මා හමුවීම ඔහු ගේ සතුට දෙගුණ තෙගුණ කළේ ය. හෙතෙම මා සමග ආගමන සහ විගමන කාර්යාලයට යන්නට එක පයින් ම සිය කැමැත්ත ප්‍රකාශ කළේ ය.

"වැඩේ අහවර වුණාට පස්සෙ මට පොඩි අඩියකුත් අරන් දීලා මට ගෙවනවා නේද?" මම අරමුණකින් තොර ව හිස වනා ඔහු ගේ ඉල්ලීම අනුමත කළෙමි.

"හරි හරි මේ වැඩේ ඉවර වුණාට පස්සෙ මම ඔයාට ඕනෑ තරම් බොත්ඩ අරගෙන දෙන්නම්. හැබැයි ආගමන විගමන කාර්යාලයෙ නිලධාරීන් එක්ක කතා කරනකොට හොඳ සිහි කල්පනාවෙන් කතා කරන්න වෙයි... මොකද උන් මහ එපා කරපු එවුන්."

ආගමන සහ විගමන කාර්යාලය තුළට ගිය විට එහි සිටි නිලධාරියෙක් මිස්ටර් සුලිවන් ගේ පාදාන්තයේ සිට කේශාන්තය දක්වා බැල්මක් හෙළමින් මෙසේ ඇසුවේ ය. "මෙයා ද ඔබගෙ ස්වාමිපුරුෂයා."

"ඔව්" මම පිළිතුරු දුනිමි.

"මිස්ටර් සුලිවන් මේ ඇහුණ ද ඔය හැංගිමුත්තං සෙල්ලම නවත්තලා මට ඇත්ත කතාව කියන්න."

මේ නිලධාරීන්ට බොරු කතන්දර ගොතා කියන්න යෑම නිෂ්ඵල දෙයක් බැව් ක්ෂණිකව තේරුම් ගත් මම, මගේ නිරූපිකා වෘත්තිය ගැනත්, වීලර් නමැති නීතිඥයා ගැන මෙන් ම ගමන් බලපත්‍රයක් ලබා ගැනීම සඳහා මිස්ටර් සුලිවන් සමග ඇති කරගත් ව්‍යාජ විවාහය ආදී සියල්ල ම ඔවුන්ට විස්තර ඇති ව කීවෙමි. හැරල්ඩ් වීලර් ගැන ඔවුන් විශේෂ අවධානයක් දැක්වූයෙන් ඔහු ගැන මා දැන සිටි සියලු ම විස්තරත් ඔහු ගේ ලිපිනයත් මම ඔවුන්ට දුනිමි.

"මේ සම්බන්ධ පරීක්ෂණය කරන්න අපට තව දින දෙක තුනක් අවශ්‍යයි... ඊට පස්සෙ ඔබ ගේ ගමන් බලපත්‍රය සම්බන්ධ ව අපි ඔබට කතා කරන්නම්."

එ සේ කියමින් ඔවුන් අපට යන්නට ඉඩ හැරියේ ය.

ආගමන සහ විගමන කාර්යාලයෙන් එළියට පැමිණි වහා ම මිස්ටර් සුලිවන් මගෙන් මුදල් ඉල්ලා සිටියේ ය. මා සන්තකයට තිබූ අන්තිම පවුම් 20 මම ඔහු අත තැබුවෙමි.

"දැන් ඉතින් මගෙ ඇහැට නො පෙනී යනවා යන්ඩ" මම ගිගුරුවෙමි.

"පවුම් 20 ද" මිස්ටර් සුලිවන් ප්‍රශ්න කරන්නට විය.

මම ඒ කිසිවකට ඇහුම්කන් නො දී ඔහු දෙස නො බලා ම පදික වේදිකාව දිග ඇවිද යන්නට වීමි.

"පර වේසි" මිස්ටර් සුලිවන් බෙරිහන් දෙන්නට විය.

පාරේ ඇවිද යමින් සිටි මිනිස්සු මා දෙස හැරී බලන්නට වූහ.

දින කීපයකට පසු ආගමන සහ විගමන කාර්යාලයට එන ලෙස දන්වා එම කාර්යාලයෙන් මට දුරකතන ඇමැතුමක් ලැබුණි. ඔවුන් හැරල්ඩ් වීලර් ගැන සොයා බැලූ බවත්, ඔහු ගැන කිසි ම හෝඩුවාවක් දැන ගැනීමට නො හැකි වූ බැව් ඔවුහු මට වැඩිදුරටත් දැන්වූවෝ ය. වීලර් ඉන්දියාවට ගිය බවත්, ඔහු නැවත ලන්ඩනයට පැමිණේ ද යන්න ගැන ඇයට කිසිවක් කියන්නට නො හැකි බැව් ඔහු ගේ ලේකම්වරියගෙන් තවදුරටත් දැන ගැනීමට ලැබී ඇත. ආගමන සහ විගමන කාර්යාලයෙන් මාස දෙකක් වලංගු තාවකාලික ගමන් බලපත්‍රයක් මා වෙත නිකුත් කරන ලදී. ඉදිරි මාස දෙක ඇතුළත කිසියම් අර්පවත් යමක් කරන්නට මම ඉටා ගතිමි.

කලකට පෙර සෝමාලියාව ඉතාලියේ යටත් විජිතයක් වූයෙන් මා ඉතාලි භාෂාව තරමකට කතා කරන්නට දැන සිටි නිසා පළමුවෙන් ම මම ඉතාලියට යන්නට තීරණය කොට එහි ගියෙමි. ඇත්තෙන් ම ඉතාලිය කාගේ වුවත් සිත්ගන්නා රටක් විය. මම ද ඉතාලියට පෙම් බැන්දෙමි. එහි දී මට තවත් මෝස්තර නිරූපිකාවක් හඳුනා ගැනීමට ලැබුණි. බ්ලොන්ඩ් කේශ කලාපය දෙවුර තෙක් වැටී තිබූ එ මෙන් ම ඉතා සුරූපී දේහයක් තිබූ ඇය නමින් ජූලී විය. ජූලීත් මමත් ඉතාලියේ මිලානෝ නගරයේ ඉතා ප්‍රීතියෙන් ගත කළ අතර, අපට පෙනී සිටීමට නියමිත ව තිබූ සංදර්ශන අවසන් වූ වහා ම පැරීසියට ගොස් අප ගේ වාසනාව උරගා බලන්නට තීරණය කළෙමු.

නොයෙකුත් විවිධ ස්ථාන නරඹන්නට යමින්, විවිධ පුද්ගලයන් ඇසුරු කරමින් එ මෙන් ම නොයෙකුත් ආහාර වර්ග අනුභව කරමින් මිලානෝ සහ පැරිස් නගරවල ගත කළ දෙ මස ඇත්තෙන් ම මට මහත් විස්මයජනක අත්දැකීමක් විය. කෙසේ වී නමුදු සැලැකිය යුතු මුදලක්

ඒ ගමනේ දී මා හම්බ නො කළත් යුරෝපය තුළ ඇවිදින්නට ප්‍රමාණවත් මුදලක් මම එහි දී උපයා ගතිමි. පැරීසියේ දී අපට කරන්නට නියමිත ව තිබූ වැඩ කොටස අහවර වූ වහා ම අපි දෙදෙන නැවතත් ලන්ඩන් බලා පැමිණියෙමු.

පැරීසියේ සිට පෙරළා ලන්ඩනයට පැමිණි පසු කුසලතාවන් ඇති මෝස්තර නිරූපිකාවන් සොයාගෙන නිව්යෝර්ක් නගරයේ සිට ලන්ඩනයට පැමිණ සිටි ඒජන්තවරයෙක් මට හමුවිය. නිව්යෝර්ක් නගරයට පැමිණියහොත් මෝස්තර නිරූපිකාවක් වශයෙන් වැඩ කරන්නට ඕනෑ තරම් රැකියාවන් ලබා දෙන්නට හැකි බව කියමින් ඔහු මට නිව්යෝර්ක් නගරයට එන ලෙස ආරාධනා කළේ ය. අන් සෑම දෙයකටත් වඩා නිව්යෝර්ක් නගරය විශේෂයෙන් ම මෝස්තර නිරූපිකාවන්ට වාසිදායක නගරයක් බැව් මා දැන සිටියෙන් ඔහු ගේ යෝජනාව මා තුළ මහත් උනන්දුවක් ඇති කිරීමට සමත් විය. මගේ ඒජන්සිය විසින් අමෙරිකාවට වීසා ගැනීමට අවශ්‍ය කටයුතු සූදානම් කරන ලදු ව, ලන්ඩනයේ අමෙරිකන් තානාපති කාර්යාලය වෙත වීසා ඉල්ලුම් පත්‍රයක් ඉදිරිපත් කළෙමි.

මගේ වගතුග පරීක්ෂාවට ලක් කරන ලද අමෙරිකන් තානාපති කාර්යාලය විසින් මා ගැන බ්‍රිතාන්‍ය රජයට දන්වන ලදු ව, දින තිහක් ඇතුළත මා සෝමාලියාවට යවන බව දන්වා බ්‍රිතාන්‍ය ආණ්ඩුව විසින් මා වෙත ලිපියක් එවන ලදී. ලිපිය කියවූ මා හැඬූ කඳුළින් වේල්ස් නගරයේ සිය සහෝදරයාත් සමඟ වෙසෙන මගේ මිතුරිය ජූලීට දුරකතනයෙන් කතා කළෙමි.

"ජූලී... මට ලොකු කරදරයක්... ඔයාට තේරෙනව ද... දැන් ඉතින් ඔක්කොම ඉවරයි... මට සෝමාලියාවට යන්ඩ වෙලයි තියෙන්නෙ."

"මොනවා... වාරිස් දැන් කරන්ඩ තියෙන්නෙ මෙච්චරයි... ඔයා අපේ ගෙදර ඇවිල්ලා පොඩ්ඩක් විවේක ගන්නකො... වේල්ස් කියන්නෙ ලන්ඩන්වල ඉඳලා වැඩිදුරක නෙමේ... ඔයාට කෝච්චියෙන් එන්න පුළුවන්. මෙහෙ පරිසරය හරි ම ලස්සනයි... ඔය ලන්ඩන් නගරයෙන් පිටවෙලා දින කීපයක් මේ වගේ තැනක ගත කරන එක ඔයාට සැනසීමක්... අනෙක අපිට එකතු වෙලා ඔයාගෙ ප්‍රශ්නෙට මොකක් හරි විසඳුමක් හොයා ගන්න බැරි වෙන එකකුත් නෑ."

මා රැගෙන යන්නට ජූලී දුම්රියපොළට පැමිණ සිටියා ය. මා සිය රථ යේ නංවාගත් ඇය ඉතා ඇකුම්කලු ලා කොළ පැහැති පරිසරයක් හරහා මා සිය නිවෙස වෙත රැගෙන ගියා ය. මාත්, ජූලීත් නිවසේ සාලයේ

හිදගෙන කතා කරමින් සිටින අතර, ඇගේ සහෝදරයා නයිජල් ඒ තැනට පැමිණියේ ය. නයිජල් තරමක මිටි පුද්ගලයෙකු වූ අතර, ඔහු ගේ මුහුණ මැලැවී ගොස් ඇති බවක් පෙනෙන්නට තිබුණි. ඔහු ගේ මුඛයෙ හි ඉදිරි දත්පෙළ දුම්පානය කිරීම නිසා කහ පාටට නිකොටින් බැඳී තිබූ අතර, දකුණු අතේ ඇඟිලි කීපයක් ම නිකොටින්වලින් කහපාට වී තිබුණි. හෙතෙම පෙනුමෙන් මා සිතාගෙන සිටියාට වඩා මහලු බවක් පෙන්නුම් කළේ ය. බන්දේසියක තබාගෙන තේ වතුර අප වෙත ගෙනෙන ලද, හෙතෙම, නො නවත්වා දුම්පානය කරමින් මගේ අවාසනාවන්ත කතාවට සවන් දීගෙන සිටියේ ය.

පුටු ඇන්දට මඳක් බර වී සිටි නයිජල් එකවර ම ඉදිරියට නැඹුරු වී මෙසේ පැවැසුවේ ය.

"බයවෙන්ඩ දෙයක් නෑ... මම ඔයාට උදව් කරන්නම්."

මා ඔහු හඳුනාගෙන පැය භාගයක්වත් ගත වී නො මැති වාතාවරණයක් තුළ මේ මිනිහා මට උදව් කරන්නට යන්නෙන්, මා තුළ තිගැස්මක් ඇතිවිය.

"කොහොම ද ඔබ මට උදව් කරන්නෙ?" මම පෙරළා ඔහුගෙන් ප්‍රශ්න කළෙමි.

"මම ඔයා ව කසාද බඳිනවා" ඔහු පැකිළීමකින් තොර ව පිළිතුරු දුන්නේ ය.

"නෑ... නෑ... ආයෙත් මම ඒ මෝඩ වැඩේතං කරන්නෙ නෑ... එහෙම කරන්න ගිහිල්ලා තමයි මාව අමාරුවෙ වැටුණෙ... මම යනවා සෝමාලියාවට... මගේ පවුලෙ අය තාම එහෙ ඉන්නවා... මගෙ රට ගැන මම හොඳට දන්නවා... මේ පිස්සු රට ගැන මම මොකවත් දන්නෙ නෑ... මම ගෙදර යනවා."

එකවර ම හුන් තැනින් නැගී සිටි නයිජල් නිවසේ උඩු මහලට දිව ගියේ ය. ඔහු ආපසු පැමිණියේ "Sunday Times" පුවත්පතක් ද අතැති ව ය. එම පුවත්පත මීට වසරකට පමණ පෙර ප්‍රසිද්ධ කරන ලද්දක් වූ අතර, ඒ කාලයේ ජූලි ව මම දැනගෙන සිටියේ ද නැත. එහි මුල් පිටුවේ මගේ පින්තූරයක් තිබුණි.

"මොකට ද ඔබ ඔය පත්තර කොපිය තියාගෙන ඉන්නෙ."

"මම දැනගෙන සිටියා ඔබ මට කවදා හරි මුණ ගැසෙන බව."

"මේ පින්තූරෙ දැක්ක පළමුවෙනි දවසෙ... මම දැක්කා ඔයාගෙ

ඇස්වල කඳුළු... මම දැන ගත්තා ඔබට මගේ උදව්ව අවශ්‍ය වෙයි කියලා... ඒ වෙලාවෙ අල්ලාහ් දෙවියන් වහන්සෙ මට කිව්වා ඔබට උදව් කිරීම මගේ යුතුකමක් කියලා" ඔහු මගේ පින්තූරයේ වම් ඇසට ඇඟිල්ල තබාගෙන කියාගෙන ගියේ ය.

"මේ මොන පිස්සුවක් ද?"

ඒ මොහොතේ මට මෙසේ සිතුණි. "කවුද මේ පිස්සු යකා... මම හිතන්නෙ උදව් අවශ්‍ය වෙලා තියෙන්නෙ ඌටයි."

ජූලී සහ නයිජල් සමඟ ඔවුන් ගේ නිවසේ ගත කළ සති අන්තය පුරා ම නයිජල් උදව් කිරීමට කැමැති නම් ඒ උපකාරය ලබා ගන්නට මැලි වන්නේ මන්දැයි ඔවුන් ප්‍රශ්න කළේ ය. ඇත්තෙන් ම සෝමාලියාවට පෙරළා යන්නට සිදු වුවහොත් මගේ අනාගතය කෙබඳු වේ ද? මගේ එළුවන්, බැටළුවන් හැරෙන්නට මට එහි ඇත්තේ මොනවා ද? ඒ මොහොතේ මගේ මනසට ආ ප්‍රශ්නයක් කෙළින් ම මම නයිජල්ගෙන් ඇසුවෙමි.

"මට උදව් කිරීමෙන් ඔබට ඇතිවන සෙත මොකක්ද... ඇයි ඔබ මාව කසාද බැඳලා අහක යන කරදරවලට පැටලෙන්න හදන්නෙ."

"මම ඔබට එක වතාවක් කිව්ව නෙ, මට ඔබගෙන් මොකුත් අවශ්‍ය නෑ කියලා... අල්ලාහ් දෙවියන් වහන්සේ ඔබට උදව් කරන්න මාව එවලා තියෙන්නෙ" නයිජල් මගේ පැනයට ඍජු ව පිළිතුරු දුන්නේ ය.

"මාව කසාද බඳින එක එ තරම් ලේසි නෑ... මොකද මම එක සැරයක් කසාද බැඳලා ඉන්නෙ."

"අපි එයා ව දික්කසාද කරමු. දික්කසාදය ලැබෙන තුරු අපි නම් ප්‍රසිද්ධ කරමු. එතකොට මම බ්‍රිතාන්‍ය පුරවැසියෙක් නිසා ආණ්ඩුවට ඔයාව සෝමාලියාවට යවන්න බෑ."

"මට ඔබ ගැන බොහොම කනගාටුයි... ඒකයි මම ඔබට මේ වෙලාවෙ උදව් කරන්න හදන්නෙ..."

"හොඳයි... බොහොම ස්තුතියි."

"ඇහුණ ද වාරිස්... ඔයාට වෙන පිළිසරණකුත් නැති හින්දා එයා උදව් කරන්න කැමැති නං ඇයි ඒක අවස්ථාවක් කර ගන්නෙ නැත්තෙ" ජූලී කියා ඇසුවා ය.

නයිජල් ජූලී ගේ සහෝදරයා බැවින් ඔවුන් ගැන අවිශ්වාසයක් ඇති කර ගැනීමට කාරණයක් නැත. දින ගණනාවක් ම ඔවුන් ගේ අදහස්වලට

කත් දී සිටීමෙන් පසු ව නයිජල් ගේ යෝජනාවට කැමැති වී මගේ ප්‍රශ්නය නිරාකරණය කරගැනීමට මම තීරණය කළෙමි.

සුලිවන් හමු වී දික්කසාදය ගැන කතා කර ගැනීමට ක්‍රොයිඩන්වලට තනියම යන්නට මා තුළ අනිසි බියක් ඇති වූයෙන් මා සමඟ එහි යන්නට මම නයිජල් ව කැමැති කරවා ගතිමි. මුදලක් නො දී සුලිවන්ගෙන් දික්කසාදය ලබා ගැනීමට කොහෙත් ම නො හැකි බැව් මම හොඳින් දැන සිටියෙමි. ඒ ගැන සිතීමත් මට මානසික වධයකි. එ නමුදු මගේ මිතුරිය සහ ඇගේ සහෝදරයා මා දිරි ගන්වන්නට වූයෙන් නව සැලසුම දෙස සුබවාදී ව බලන්නට මම පෙලඹුණෙමි.

“අපි හෙට ම ක්‍රොයිඩන්වලට යමු” නයිජල් කීවේ ය.

පසුදින ම නයිජල් සහ මම ඔහු ගේ රථයෙන් ක්‍රොයිඩන් බලා ගියෙමු.

“සුලිවන් ගේ පුත්තු දෙන්නෙක් ඉන්නවා... උන් මහා එපා කරපු එවුන්... මට නං කාර් එකෙන් බහින්ඩත් බයයි.”

එ වදන් ඇසූ නයිජල් මා දෙස බලා සිනාසුණේ ය.

“විහිළුවට නෙමේ... දවසක් උන් දෙන්න මා පස්සෙන් පන්නගෙන ආවා... ඒ හින්දා අපි ටිකක් පරිස්සම් වෙන්න ඕනැ.”

“ඔයා බය වෙලානෙ... මේක මේ මහ ලොකු ප්‍රශ්නයක් නෙමේ. අපි ඒ මිනිහ ව හම්බු වෙලා කියමු ඔයාට දික්කසාද වෙන්න ඕනැ කියලා එච්චරයි.”

අප සුලිවන් ගේ නිවසට ළඟාවන විට ඉර අවරට හැරී තිබුණි. සුලිවන් ගේ නිවස ඉදිරිපිට රථය නැවැත් වූ නයිජල් ඉන් බැස ගොස් සුලිවන් ගේ දොරට තට්ටු කරන්නට විය. එහෙත්, කිසි ම ප්‍රතිචාරයක් නො වී ය. නිසැකයෙන් ම ඔහු සුපුරුදු පරිදි අවන්හලේ ඇතැ යි සිතූ මම අපට එහි යන්නට සිදුවනු ඇතැ යි කල්පනා කළෙමි.

“ඔය කාර් එකෙන් බැහැලා එන්ඩ... අපි ගේ වටේ රවුමක් ගිහිල්ලා ජනේලයකින්වත් එබිකම් කරලා බලමු මිනිහා ගේ ඇතුළෙ ඉන්නව ද කියලා.” නයිජල් කීවේ ය.

නිවසේ වූ ජනේල කීපයකින් ම එබිකම් කර බැලූ ඔහු කලබලයෙන් මා දෙස බලා මෙසේ කීවේ ය.

“වාරිස්... මට මොකක්ද අමුත්තක් දැනෙනවා.”

"මොකක්ද ඒ කතාවෙ තේරුම."

"මම දන්නෙ නෑ මොකක්ද කියලා... මට එහෙම හිතෙනවා... සමහර විට මට මේ ජනේලයකින් ඇතුළට යා ගන්න පුළුවන් වුණොත්" ඔහු ජනේලයකට දැතින් ම තඩිබාන ගමන් කීවේ ය.

"ඔයගොල්ලො ඔය මිස්ටර් සුලිවන්ව ද හොයන්නෙ... අපි නං එයා ව සතියකින්වත් දැක්කෙ නෑ" අල්ලපු නිවසේ සිටි කාන්තාවක් ජනේලයකින් එබිකම් කර අප දෙස බලමින් කීවා ය.

නයිජල් ජනේලයේ වීදුරුව බිඳ දමා එය විවෘත කළේ ය. එකෙණෙහි ම උහුලා ගත නො හැකි දුර්ගන්ධයක් නිවස තුළින් හමා ආවේ ය. මම මගේ දැතින් ම නාසය වසා ගත්තෙමි.

"මිනිහා මැරිලා... මට මෙතෙන්ට පේනවා" නයිජල් ජනේලය තුළින් ගෙතුළට එබිකම් කර බලමින් කීවේ ය.

අල්ලපු නිවසේ සිටි කාන්තාවට කතා කොට ගිලන් රථයකට ටැලිෆෝන් කරන ලෙස දැන් වූ අප අප ගේ රථයට නැග වහා ම ඒ තැනින් පිටත් වුණෙමු. සුලිවන් ගේ මරණය ගැන මා මෙසේ ප්‍රකාශ කිරීම වැරැදි වුවත් ඔහු ගේ මරණය ඇත්තෙන් ම මට මහත් සහනයක් ගෙන දුන්නේ ය.

සුලිවන් ගේ මරණයෙන් දින කීපයකට පසු නයිජල් සමඟ මම විවාහ වුණෙමි. නයිජල් සමඟ මා විවාහ වීමෙන් පසු, බ්‍රිතාන්‍ය ආණ්ඩුව විසින් මා රටින් පිටුවහල් කිරීමට මෙතෙක් ගෙන තිබූ ප්‍රයත්නය නවතා දමන ලදී. බ්‍රිතාන්‍ය ගමන් බලපත්‍රය මා අතට පත්වන තුරු නයිජල් ගේ නිවසේ රැඳී සිටී ම සුදුසු බැවින් මා එහි තවදුරටත් රැඳී සිටීමට අප දෙදෙනා ඒකඟතාවයකට පැමිණියෙමු.

මොගඩිෂු සහ ලන්ඩන්වල අවුරුදු හතක් පමණ ගත කිරීමෙන් පසු ඇත්තෙන් ම ස්වභාවධර්මයත් සමඟ ජීවත් වෙමින් මා ලැබූ සතුට සම්පූර්ණයෙන් ම මට අමතක වී ගොස් තිබුණි. එහෙත්, ලා කොළ පැහැයෙන් වැසී ගිය භූමියේ තැනින් තැන වූ ගොවිපොළවල් සහ ගංගා ආදිය සෝමාලියාවේ කාන්තාරවල මා දැක ඇති පරිසරයට වඩා හාත්පසින් වෙනස් වූ අතර, ලන්ඩනයේ උස් වූ ගොඩනැගිලි, ජනේල නො මැති ඡායාරූපාගාරවලට වඩා මෙම පරිසරය තුළ මම ඉමහත් ආස්වාදයක් ලැබුවෙමි. ඒ මෙන් ම එහෙ මෙහෙ දුව පනිමින්, කැලෑ මල් නෙළා ගනිමින් සෝමාලියාවේ දී මා ගත කළ නිදහස් එඬේර

ජීවිතයේ දී ලැබූ සමහරක් මගේ ප්‍රියතම ආස්වාදයන් වෙල්ස්වල දී මට නැවත සංක්ෂේපනය කර ගැනීමට හැකි විය.

නයිජල් ගේ නිවසේ අප දෙදෙනා විවාහකයන් වශයෙන් නො ව, නේවාසිකයන් වශයෙන් කාමර දෙකක වෙන් වෙන් වශයෙන් ජීවත් වූයෙමු. නයිජල් සමග මා විවාහ ගිවිස ගත්තේ එංගලන්තයේ ජීවත් වීමට අවශ්‍ය නීත්‍යානුකූල ගමන් බලපත්‍රයක් ලබා ගැනීමේ පදනම මත පමණක් බවට ඔහුත් මාත් එකඟතාවයකට පැමිණ සිටියෙමු. මගේ නිරූපිකා වෘත්තියෙන් යම්කිසි මුදලක් ඉපැයීමට පටන් ගත් දිනක ඔහුට මා මුදලින් උපකාර කරන බවට ඉදිරිපත් කළ යෝජනාව හෙතෙම ප්‍රතික්ෂේප කරමින් කියා සිටියේ, ඔහු මා වෙනුවෙන් කළ උපකාරයට පෙරළා යමක් අවශ්‍ය නො මැති බවත්, අල්ලාහ් දෙවියන්වහන්සේ ගේ ඉගැන්වීම අනුව තවත් අයකුට උපකාරයක් අවශ්‍ය වූ විටක දී උපකාර කිරීමෙන් තමා තෘප්තිමත් වන බවත් ය.

එකමත් එක දිනක පාන්දරින් අවදි වූ මම නිරූපිකාවන් තේරීමේ සම්මුඛ පරීක්ෂණයකට පෙනී සිටීම සඳහා ලන්ඩන් නගරයට යන්නට සූදානම් වන අතර, පහත මහලයේ වූ කුස්සියට ගොස් කෝපි කෝප්පයක් සාදා ගැනීමට කේතලය ලිප මත තබා අසල තිබූ කහ පාට රබර් අත්වැසුම් යුවළ පැලඳගෙන පාවිච්චි කර තිබූ පීරිසි කෝප්ප සේදීමට පටන් ගත්තෙමි. ඒ වනවිටත් නයිජල් ඉහළ මහලයේ ඔහු ගේ කාමරයේ නිදාගෙන සිටියේ ය. එකවර ම නිවසේ සීනුව නාදවිය. මම ගොස් දොර විවෘත කළෙමි. නිවසේ ප්‍රධාන දොර ඉදිරිපිට අළුපාට යුරෝපීය ඇඳුම් ලාගත් පුද්ගලයින් දෙදෙනකු සිටගෙන සිටිනු මම දුටුවෙමි.

"රිච්ඩසන් මහත්මිය."

"ඔව්."

"ඔබ ගේ ස්වාමිපුරුෂයා ගෙදර ඉන්නව ද?"

"ඔව්... එයා ඉහළ මහලයේ තවමත් නිදි."

"අපි ආවෙ ඉතා වැදගත් රාජකාරිමය කටයුත්තකටයි."

"කරුණාකරලා ඇතුළට ඇවිත් වාඩි වෙන්න... මොනවද බොන්න කැමැති... තේ, කෝපි" කලබලයකින් තොර ව මම ඇසුවෙමි.

නිවස තුළට පැමිණි නිලධාරීන් දෙදෙනා නයිජල් ගේ විශාල සාලයේ වූ සැප පහසු සෝපාවක හිඳ ගත්හ.

ඒ අතරතුර උඩුමහලට දිව ගිය මම නයිජල් ව අවදි කළෙමි.

"ඉක්මනට පහළට එන්න... ඔයා ව හමුවෙන්න අමුත්තන් දෙදෙනෙක් ඇවිත්."

"හලෝ... මොකක්ද වුවමනාව" අඩ නින්දේ ම නයිජල් පහත මහලයට පැමිණ ප්‍රශ්න කළේ ය.

ඔවුන් ගේ පෙනුමෙන් ඔවුන් කවුරුන්දැයි නයිජල් එකවර ම හඳුනා ගත්තේ ය.

"අපිට ඔබගෙන් ප්‍රශ්න කීපයක් අහන්ඩ තියෙනවා... පළමුවෙන් ම අපි දැන ගන්නට කැමැතියි ඔබ දෙපළ එකට ජීවත් වෙනව ද කියලා."

නයිජල් ගේ මුහුණෙ හි ඉරියව් වෙනස් වන්නට වූ අතර, වැඩය දිග් ගැස්සෙන්නට යන බැව් තේරුම් ගත් මම, බිත්තියට හේත්තු වී සිදුවන්නට යන දෙය දෙස බලා සිටින්නට වීමි.

"කොහොම ද ඔබලාට පේන්නෙ" ඔහු පසෙකට කෙළ පහරක් ගසමින් ඇසුවේ ය.

"ඔව් ඔව් අපට ඒ කාරණය පැහැදිලියි... අපි ඔබ ව විශ්වාස කරනවා... ඒත් අපට අවශ්‍යයි ඔබ ගේ නිවස පොඩ්ඩක් සෝදිසි කරන්න."

"නෑ... ඔබලා කවුරු වුණත් මට ඇති ප්‍රශ්නයක් නෑ... මම මගේ නිවස සෝදිසි කරන්න ඉඩ දෙන්නෙ නෑ... මේ මගෙ බිරිඳ... අපි එකට මේ ගෙදර ජීවත් වෙන්නෙ... ඒක ඔබලාට පැහැදිලි ව පේනවනෙ... අනෙක කලින් නො දන්වා ඒම නිසා අපිට හරියට ඇඳුමක් ඇඳ ගන්නවත් නොහැකි වුණා... ඒ නිසා දැන් ඉතින් කරුණාකරලා මෙතැනින් යන්න."

"රිචඩ්සන් මහත්තයා ඔකට ඉතින් ඔය තරම් කේන්ති ගන්න කාරණයක් නෙමෙනෙ... අනෙක නීත්‍යානුකූල ව අපිට අයිතියක් තියෙනවා ඔබ ගේ නිවස සෝදිසි කරන්න."

"මගෙ යක්ෂයා අවුස්සන්නෙ නැති ව හොඳ හිතින් මෙ තැනින් යන්ඩයි කීවෙ... මීට පස්සෙ මේ පළාතක ආවොත් වෙඩි තියනවා... මේ මගේ බිරිඳ... මම ඇය වෙනුවෙන් මගේ ජීවිතේ වුව දෙනවා" නයිජල් මා දෙසට ඇඟිල්ල දිගු කරමින් කියා සිටියේ ය.

එ වදන් ඇසීමෙන් මම මෙසේ කල්පනා කළෙමි.

"මේ මිනිහට හොඳට ම පිස්සු... මාව විශාල කරදරයක වැටෙන්නයි යන්නෙ... මේ මිනිහා මගෙ කරේ එල්ලෙන්න හදනවා... මට තිබුණේ අප්‍රිකාවට යන්නයි. අප්‍රිකාවට ගියා නං මේ මොන කරදරයක්වත් නෑ."

මාස දෙකක පමණ කාලයක් මම නයිජල් ගේ නිවසේ රැඳී සිටියෙමි. එක් දිනක මම ඔහුට මෙසේ කීවෙමි.

"නයිජල් ඇයි ඔයා ඔය කොණ්ඩය පිළිවෙළකට කපාගෙන පිළිවෙළක් වෙලා ආදරවන්තියක් හොයා ගන්නෙ නැත්තෙ... ඒකට ඕනැ නම් මට උදව් කරන්න පුළුවන්."

"මට මොකට ද ආදරවන්තියෙක්... මට මගෙ බිරිඳ ඉන්නෙ" ඔහු කීවේ ය.

එ වදන් ඇසීමෙන් මගේ සර්වාංගය ම වෙව්ලා ගියේ ය.

නයිජල් මට උදව් කළ බව සත්‍යයකි. එහෙත්, මා තුළ ඔහු කෙරෙහි කිසියම් හැඟීමක් හෝ ආදරයක් හෝ නො මැති වාතාවරණයක් තුළ ඔහු සතුටු කිරීමට පමණක් මා ඔහුට ආදරය කරන බව මවා පෑම මට නම් කොහෙත්ම කළ නො හැක්කකි. එ මතු ද නො ව, මා ඔහු සමඟ විවාහ වූයේ ගමන් බලපත්‍රයක් ලබා ගැනීමට පමණක් බවට අප දෙදෙනා එකඟතාවයකට පැමිණි නමුදු, ඒ සම්මුතිය කඩා දැමූ නයිජල් ඔහුට වාසිවන ආකාරයට වෙනත් සම්මුතියක් සාදා ගත්තේ ය. මා ඔහුගෙන් යැපෙන බැවින්, සෑම දෙයක් ම මා සිතුවාට වඩා සංකීර්ණ තත්ත්වයකට පත් ව ඇත. මා හට උදව් කිරීමට ඉදිරිපත් වීම ගැන මම ඔහුට කෘතඥ වෙමි. එහෙත්, ඔහු කෙරෙහි මා තුළ කිසියම් හෝ ආදරයක් නම් නැත. මා ඔහු ගේ ආදරවන්ත බිරිඳ බව පවසන විට ඇත්තෙන් ම ඔහු මරා දැමීමට සිත් වේ. දැන් කළ යුතු ව ඇත්තේ හැකි ඉක්මනින් මෙ තැනින් පිට වී යාම බව මම ප්‍රත්‍යක්ෂ කළෙමි.

එහෙත්, නයිජල් ගේ උපකාරයෙන් ගමන් බලපත්‍රයක් ලබා ගැනීම ප්‍රශ්නයක් බවට පත්විය. එංගලන්තයේ නීත්‍යානුකූල ව ජීවත් වීමට අවස්ථාව පැදී ඇත්තේ නයිජල් නිසා බැව් තේරුම් ගෙන සිටි හෙතෙම, ඒ වාතාවරණය අවියක් කර ගත්තේ ය. මා කරන වැඩ කටයුතු, ගමන් බිමන් සහ මා ඇසුරු කරන අය ගැන නයිජල් තදින් ම විපරම් කිරීමට පටන් ගත්තේ ය. එ මතු ද නො ව, නිරන්තරයෙන් ඔහුට ආදරය කරන ලෙස ඉල්ලා සිටින්නට විය. මගේ ආදරය බලෙන් ඉල්ලා සිටින සෑම වාරයක් පාසා ම නයිජල් කෙරෙහි මා තුළ වූ පිළිකුල දෙගුණ තෙගුණ වන්නට විය. එහෙයින්, බොහෝ විට ලන්ඩන් නගරයට ගොස් මිතුරන් හමුවීමෙන් සහ රැකියා සඳහා ලන්ඩනයට යාමෙන් හැකි තරම් නයිජල් ව මඟ හැර මගේ මානසිකත්වය නිරවුල් ව තබා ගැනීමට මම උත්සාහ කළෙමි.

උන්මත්තකයකු සමඟ ජීවත් වීම හේතු කොටගෙන මගේ මනස නිරවුල් ව තබා ගැනීමට මා සතු වූ ශක්තිය කෙමෙන් හීන වී යන්නට විය. එ මතු ද නො ව ගමන් බලපත්‍රය ලැබෙන තුරු බලා හිඳීම ඇත්තෙන් ම මට මහත් වධයක් බවට පත්විය. දිනක් ලන්ඩන් බලා යන්නට දුම්රිය පැමිණෙන තෙක් දුම්රිය අංගණයේ සිටින විට දැන් එන දුම්රියට පැන සියදිවි නසා ගන්නට මට සිත් විය. මගේ හිසකෙස් ද අවුල් කරමින් දුම්රිය වේදිකාවට පැමිණෙනවාත් සමඟ ම ටොන් ගණන් බර දුම්රියේ යකඩ රෝදවලට යට වී මගේ ඇටකටු ඇඹරී කුඩු පට්ටම් වී යන අයුරු ගැන ඒ මොහොතේ මට කල්පනා විය. මට මුහුණ පාන්නට ඇති දහසක් කරදරවලින් මිදීම සඳහා සියදිවි හානි කර ගැනීමට මා තුළ වූ පෙලඹවීම කෙතරම් උග්‍ර වුවත් අවසානයේ දී මම මගෙන් ම මෙසේ ප්‍රශ්න කළෙමි. "මෙ වැනි මිනිහකු නිසා මා සියදිවි හානි කර ගැනීමෙන් ඇති ඵලය කුමක් ද?"

නයිජල් සමඟ විවාහ වී අවුරුද්දක් ගෙවී ගියත් ගමන් බලපත්‍රය මා අතට පත් නො වීම ගැන කුපිත වූ නයිජල් ආගමන සහ විගමන කාර්යාලයට ගොස් එහි නිලධාරීන් සමඟ දබරයක් ඇති කරගත්තේ ය.

"මගේ බිරිඳ ජාත්‍යන්තර මෝස්තර නිරූපිකාවියක්... අඩු ම තරමින් ඇයට ඇගේ වෘත්තිය කරගෙන යන්නටවත් තාවකාලික ගමන් බලපත්‍රයක් අවශ්‍යයි... අනෙක මම බ්‍රිතාන්‍යයේ පුරවැසියෙක්... මෙ විදියට මගේ බිරිඳට සැලැකීම වටිනව ද... මේ රටේ පුරවැසියෙක් කියන්ඩත් දැන් මට ලැජ්ජයි."

ඒ සිද්ධියෙන් දින කීපයකට පසු මගේ සෝමාලියානු ගමන් බලපත්‍රය ඔවුන් ළඟ තබාගෙන සෝමාලියාව හැර වෙනත් ඕනෑ ම රටකට යන්නට හැකි තාවකාලික ගමන් බලපත්‍රයක් ආගමන සහ විගමන කාර්යාලය විසින් මා වෙත නිකුත් කරන ලදී ව. නිරන්තරයෙන් ආගමන හා විගමන කාර්යාලයට ගොස් එය අලුත් කර ගත යුතු බව ඔවුන් දන්වා තිබුණේ ය. ගමන් බලපත්‍රය තුළ මුද්‍රාවක් තබා තිබුණ අතර, එහි මෙසේ සඳහන් වී තිබුණි.

"සෝමාලියාව හැර වෙනත් ඕනෑ ම රටකට ගමන් කිරීමට හැකි ය."

එ වදන් තරම කටුක වදනක් තවත් මට සිතා ගැනීමට නො හැකි ය. ඒ වනවිට සෝමාලියාව යුද්ධයකට පැටලී තිබීමත්, මා දැන් බ්‍රිතාන්‍ය ආණ්ඩුව යටතේ සිටින අයකු බැවින් එ වැනි යුද්ධයක් පවතින රටකට

ගොස් කිසියම් අන්තරාවකට මා හට මුහුණ දෙන්නට සිදු වුවහොත් ඒ සම්බන්ධ ව වගකීම ශ්‍රීනාතාය ආණ්ඩුවට ගැනීමට සිදුවන බැවින් එහි යාම වළක්වාලීම සඳහා සෝමාලියාවට පමණක් ගමන් කරන්නට නොහැකි ගමන් බලපත්‍රයක් මා වෙත නිකුත් කරන්නට ඇත.

දැන් ආපසු හැරීමට කාලයක් නො මැත. යා යුත්තේ ඉදිරියට පමණි. අමෙරිකාවට යන්නට වීසා ලබා ගත් මම ගුවනින් අමෙරිකාව බලා යන්නට තීරණය කළෙමි.



14

# සුපිරි ලොවට



අමෙරිකා ගමනට නයිජල්ව ද සම්බන්ධ කර ගන්නා ලෙස ඔහු මට බල කළේ ය. මෙතෙක් කිසි දිනක හෙතෙම නිව්යෝර්ක් නගරයට ගොස් නො සිටි නමුදු, නිව්යෝර්ක් නගරයේ ස්වභාවය ඔහු හොඳින් දැන සිටියේ ය.

"වාරිස් ඔයා නිව්යෝර්ක් ගැන කිසි ම දෙයක් දන්නෙ නෑ... ඔය නගරය මහ පිස්සු නගරයක්... ඔයා ගිහින් මොනවද කරන්නෙ. කොහෙද නවාතැන් ගන්නෙ... ඒ කිසි ම දෙයක් දන්නෙ නැති ව ගිහිල්ල ඔයා අතරමං වෙනවා... අනෙක ඔයාට තනියම, කිසි ම ආරක්ෂාවකුත් නෑ... මමත් ආව නම් මට ඔයා ව ආරක්ෂා කරන්න පුළුවන්."

ඔහු ගේ යෝජනවාට මා එකඟ කර ගැනීම සඳහා හෙතෙම අන් කුමන හෝ මතයකට කන් නො දී අනෙකා හෙම්බත් වන තුරු ම සිය සිත්ගන්නා සුලු, එ මෙන් ම ස්නේහය උපදවන ඔහුට ම ආවේණික වූ තර්කය ගිරවකු මෙන් නො නවත්වා ම කියවන්නට විය.

අමෙරිකාවට යන ගමන වෘත්තීමය වශයෙන් පමණක් නො ව, සෑම අතකින් ම මට ලැබුණ අනගි අවස්ථාවක් වශයෙන් මම තෝරුම් ගත්තේ, එය මගේ ජීවිතයේ නව ආරම්භයකට දොර විවෘත කළා පමණක් නො ව බ්‍රිතාන්‍යයෙන් සහ නයිජල්ගෙන් ද ඈත් වීමට මට ඇති තදබල වුවමනාව සපුරා ගැනීමට හැකි වූ බැවිනි.

වර්ෂ 1991 එක් පැහැපත් දිනක මම නිව්යෝර්ක් නගරයට පැමිණියෙමි. නිව්යෝර්ක් නගරයේ මගේ ඒජන්සියේ නියෝජිතයා වූ බුකර් ඔහු ගේ නිවෙස්කඩ මට දී හෙතෙම සිය මිතුරකු ගේ නිවසේ පදිංචියට ගියේ ය. මගේ එම නිවෙස්කඩ පිහිටා තිබුණේ සිත් ඇදගන්නා මැන්හැටන් ප්‍රදේශයේ ය. එහි වාම් බව ඇත්තෙන් ම මට හරියට ම ගැළපුණේ ය. මා නිව්යෝර්ක් නගරයට පැමිණි වහා ම නිරත වීමට මගේ ඒජන්සිය රැකියා කීපයක් ම පෙළගස්වා තිබුණෙන්, පෙර නො වූ විරූ ආකාරයට වැඩ කරන්නට සිදු වූවා පමණක් නො ව, මුදල් ඉපැයීමට ද මට අවස්ථාව ලැබුණි. නිව්යෝර්ක් නගරයට පැමිණි දින සිට දිගට ම මට වැඩ කරන්නට සිදු වූ අතර, වසර හතරක් පමණ රැකියාවක් සොයා ගැනීමට වෙහෙස මහන්සි වූ නිසා නව රැකියා වාතාවරණය ගැන අහිතක් සිතන්නට නො පෙලඹුණෙමි.

මා නිව්යෝර්ක් නගරයට පැමිණි දින සිට සැම දෙයක් ම බාධාවකින් තොර ව කෙරීගෙන ගියේ ය. එහෙත්, දිනක් මම වැඩ කරමින් සිටින අතර, මම මගේ හෙට දින වැඩ සටහන ගැන දැන ගැනීම සඳහා මා ඒජන්සියට දුරකතන ඇමැතුමක් ගත් අවස්ථාවේ, මගේ ස්වාමිපුරුෂයා නිව්යෝර්ක් බලා එන්නට පිටත් වී ඇති බවත්, අද රාත්‍රියේ දී ඔහු මා හමුවීමට මගේ නිවසට එන බව හෙතෙම දුරකතනයෙන් දන්වා ඇති බවත් ඒජන්සිය විසින් මට දන්වන ලදී.

මගේ ලිපිනය මගේ ස්වාමිපුරුෂයාට දුන්නා දැයි මම ඒජන්සියෙන් ප්‍රශ්න කළෙමි. එයට ඒජන්තගේ පිළිතුර වූයේ, මා එංගලන්තයෙන් පිට වෙන්නට පෙර තරමක් අභිමානයෙන් හැසිරුණු බවත්, ඒ නිසා ම මගේ නිව්යෝර්ක් ලිපිනය ඔහුට දෙන්නට මට අමතක වූ බවත් ය. මගේ ස්වාමිපුරුෂයා කතා කළ විලාසයෙන් ඔහු ප්‍රියමනාප පුද්ගලයකු බව ඒජන්ත තවදුරටත් කියා සිටියේ ය. රිසීවරය ආපසු දමා ගැසූ මම ඇඳ මත වාඩි වී මොහොතක් කල්පනා කරන්නට වූයෙමි. මේ වතාවේ දී නයිජල් පමණ ඉක්මවා කටයුතු කර ඇති බැව් මම තේරුම් ගතිමි. නයිජල් ගැනත් අප ගේ විවාහයේ ඇතුළු පැත්ත ගැනත් නො දන්නා ඒජන්තට බැණ වැදීමෙන් පලක් නැත.

හිත හදා ගත් මම වැඩ අහවර කොට එ දින හැන්දෑවේ මගේ නිවෙස්කඩ වෙත පැමිණියෙමි. ඒජන්සියෙන් මට දන්වා තිබූ ආකාරයට ම නයිජල් පැමිණ මගේ නිවසේ දොරට තට්ටු කළේ ය. දොර විවෘත කොට ඔහුට ඇතුළට එන්නට ඉඩ හැර, හෙතෙම සිය කබාය උනා දමන්නට පෙර තරමක උස් හඬින් මම මෙසේ පැවැසුවෙමි. "එන්ඩ යන්ඩ... අපි එළියට ගිහින් රෑ කෑම ගමු."

අපි දෙදෙනා බොජුන්හලක් වෙත ගොස් එහි අසුන් ගත්තෙමු. අනතුරු ව මම මගේ කතාව පටන් ගත්තෙමි.

"නයිජල් ඔබ මට විශාල කරදරයක්... මට ඔබ ව රුස්සන්නෙ නෑ... අනෙක ඔබ ඉන්නකොට මට මේ රැකියාව ගැන නිසි අවධානය යොමු කරන්න බෑ... ඒ හින්දා කරුණාකරලා මට මගෙ පාඩුවෙ මේ රැකියාව කරගන්න ඉඩ දීලා ආ අතක් බලාගෙන යන්න."

මගේ වචනවල බැරෑරුම්කම මා හොඳින් දැන සිටි අතර, අවංකව ම ඔහු රිදවීමෙන් මා සතුටක් නො ලැබුවෙමි. එතකුදු ඒ වාතාවරණය තුළ මා හට වෙන කරන්නට යමක් නො තිබුණි.

ශෝකයෙන් මැල වී ගිය ඔහු ගේ මුහුණ දුටු විට මා ඔහුට කර ඇත්තේ වරදක් යන හැඟීම මා තුළ නිරායාසයෙන් නැඟී එන්නට විය.

"එහෙනං මම ඉන්නවට ඔබ අකැමැතියි නෙ... මම ඊළඟට තියෙන අහස් යානයෙන් ආපහු යන්නම්."

"අන්න එහෙම යන්න... මම වැඩ ඇරිලා ගෙදර එනකොට ඔබ මගේ නිවසේ ඉන්නවා දකින්න මම කොහෙත් ම කැමැති නෑ... අනෙක මම මෙහෙ නිවාඩුවක් ගත කරන්න ආවා නෙමේ... මම ආවෙ රැකියාවකට."

එහෙත්, පසුදින මා වැඩ අහවර වී ගෙදර එනවිට තවමත් ඔහු මගේ නිවසේ රැඳී සිටියේ ය. මා ඔහුට ආපසු ලන්ඩනයට යන ලෙස කියා බැණ වැදීම නිසා දින කීපයකට පසු ඔහු පෙරළා ලන්ඩනය බලා පිටත් ව ගියේ ය.

මට නිදහසේ ඉන්නට ඉඩ හැර ඔහු ආපසු යාම ගැන මම දෙවියන්ට ස්තුති කළෙමි.

මෝස්තර නිරූපිකාවියක් වශයෙන් මා වෙත වැඩ ගලා එන්නට වූයෙන්, බලාපොරොත්තු වූවාට වඩා කාලයක් මට නිව්යෝර්ක් නගරයේ රැඳී සිටින්නට සිදුවිය. කරුණු එ සේ වුව ද නයිජල් මට මගේ පාඩුවේ ඉඳගෙන රැකියාව කරගෙන යන්නට ඉඩ හැරියේ නැත. කිසියම් හෝ දැන්වීමකින් තොර ව හෙතෙම තෙවතාවක් නිව්යෝර්ක් නගරයට පැමිණියේ ය.

නයිජල් ගේ කරදරකාරී හැසිරීම හැරෙන්නට නිව්යෝර්ක් නගරයේ මගේ ජීවිතය අති සුන්දර එකක් විය. ඉතා වටිනා පුද්ගලයන් ඇසුරු කිරීමට අවස්ථාව ලැබුණ අතර, මෝස්තර නිරූපිකාවියක් වශයෙන් මා රොකට් වේගයෙන් ප්‍රසිද්ධියට පත් වන්නට විය.

බැනටන් සහ ලීවීස් නමැති සමාගම් දෙකට මා වැඩ කළ අතර, සුදු පොරවනයක් ඇඟ දවටාගෙන මා රත්තරන් ආභරණ සඳහා නොයෙකුත් වෙළෙඳ දැන්වීම්වලට පෙනී සිටියෙමි. රිවලෝන් (Revlon) සමාගම වෙනුවෙන් අජී නමැති සුවඳ විලවුන් වර්ගයක් සඳහා ද මම වෙළෙඳ දැන්වීමකට පෙනී සිටියෙමි. එම වෙළෙඳ දැන්වීමේ මෙසේ ලියා තිබුණි. "අප්‍රිකාවේ හදවත බඳු සෝමාලියාවේ සිට හමා එන සුගන්ධය සෑම යුවතියක ගේ ම හදවත අරක් ගනී" මෙම වෙළෙඳ දැන්වීම නිෂ්පාදනය කරන සමාගම් මා රූ ගන්වා තිබූ ආකාරය නිසා මාගේ පෙනුම වෙනත් ආකාරයකින් ඉදිරිපත් වී තිබුණා පමණක් නො ව, ලන්ඩන් නගරයේ දී මා හට මෝස්තර නිරූපිකාවියක් වශයෙන් රැකියා ලබා ගැනීමට හැකි වූ මගේ අප්‍රිකානු පෙනුම ඔවුන් ඉස්මතු කර ඉදිරිපත් කර තිබුණේ ය. ඔස්කා සම්මාන උලෙළ සඳහා රිවලෝන් සමාගම විසින් වෙළෙඳ දැන්වීමක් නිෂ්පාදනය කරන ලදු ව, ඒ සඳහා සින්ඩි ක්‍රෝෆෝර්ඩ්, ක්ලෝඩියා ෂිෆර්, ලව්රන් හුටන් සහ මා එහි නිරූපිකාවන් ලෙස පෙනී සිටියෙමු. එහි දී අප හතර දෙනාගෙන් ම එක ම එක ප්‍රශ්නයක් අසන ලදී. ඒ නම් "ගැහැනියක් එඩිතර වන්නේ කුමන හේතුවක් නිසා ද?" සෝමාලියානු කාන්තාරවල ගත කළ එඬේර ජීවිතය අලළා මගේ පිළිතුර මම මෙසේ ඉදිරිපත් කළෙමි.

"සෝමාලියාවේ කාන්තාරයන් හි සැරිසැරූ එඬේර කෙල්ලක් රිවලෝන් සඳහා මෝස්තර නිරූපිකාවක් බවට පත් වූ වගයි."

උලේ තෙල් (*Oil of Ulay*) සඳහා තෝරා ගන්නා ලද පළමු අප්‍රිකානු මෝස්තර නිරූපිකාව මම වීමි. රොබට් පල්මා සහ මීට් ලෝෆ් විසින් නිෂ්පාදනය කරන ලද සංගීත වීඩියෝපට සඳහා ද මම සහභාගි වුණෙමි. එ වැනි ප්‍රසිද්ධ ව්‍යාපෘතිවලට සහභාගි වීමට ලැබුණ අවස්ථා හේතු කොටගෙන *Elle, Allure, Glamour, Italian and French Vogue* වැනි අති ප්‍රසිද්ධ විලාසිතා සඟරාවල පෙනී සිටීමට මා හට මඟ පෑදුණි. එ මතු ද නො ව, ලෝකයේ නම් දැරූ ඡායාරූප ශිල්පියකු වන රිචඩ් ඇවඩොන් සමඟ වැඩ කිරීමේ භාග්‍යය ද මා හට උදාවිණි.

රිචඩ් ඇවඩොන් තමන් ඡායාරූප ගත කළ මෝස්තර නිරූපිකාවන්ටත් වඩා ප්‍රසිද්ධියක් ඉසිලුවේ ය. රිචඩ් ඉතා නිහතමානී පුද්ගලයකු වූයෙන් මා තුළ ඔහු කෙරෙහි මහත් ලෙන්ගතුකමක් ඇති ව තිබුණි. ඡායාරූප ශිල්පියකු වශයෙන් වසර ගණනාවක් පුරා අත්දැකීම් ඇති ඇවඩොන් ඡායාරූපයක් ගැනීමේ දී ඒ සම්බන්ධ ව මගේ අදහස් විමසීමට තරම් නිහතමානී පුද්ගලයකු විය. මා වැනි අයකුගෙන් අදහස් විමසා සිටීමට තරම් ඔහු මා ගැන සැලකිලිමත් වීම ඇත්තෙන් ම මට මහත් ආයාදයකි.

ගත වුණ වසර කිහිපය තුළ දී මා සිත් ගත් ඡායාරූප ශිල්පීන් ගේ ලැයිස්තුවක් සකස් කර ගතිමි. ඡායාරූප ගැනීම ඉතාමත් ලෙහෙසි කර්තව්‍යයක් ලෙස පෙනුණත්, මෝස්තර නිරූපිකාවියක් ලෙස වසර ගණනාවක් පුරා ලද අත්දැකීමෙන් එම ඡායාරූපවල ඇති ගුණාත්මක වෙනස යටත් පිරිසෙයින් මගේ දෘෂ්ටි කෝණයට අනුව දකින්නට මම පටන් ගත්තෙමි. ශ්‍රේෂ්ඨ ඡායාරූප ශිල්පියකු ගේ කර්තව්‍යය නම් ඡායාරූපයක් ගැනීමේ දී තමුන් කලින් සිතා සකස් කර ගන්නා ලද අදහසකට අනුව නො ව මෝස්තර නිරූපණ ශිල්පිනිය ගේ සැබෑ පුද්ගලිකත්වය මතු කර හඳුනා ගනිමින් එය තවත් වර්ධනය කොට ඡායාරූපයට නැඟීම යි. මට මා ගැන ම අගය කිරීමට මෙන් ම විලාසිතා නිරූපණ වෘත්තියේ යෙදී සිටින අන් නිරූපිකාවන්ගෙන් මා වෙනස්කොට හඳුනා ගැනීමට එක් හේතුවක් වන්නට ඇත්තේ, මා වයසින් මුහුකුරා යෑම වන්නට පුළුවන. උසින් අඩි හයක් පමණ වූ එ මෙන් ම සිනිඳු සුදු චර්මයන්, දණහිස දක්වා වැටී ඇති සුදු කේශකලාප ඇති අනෙකුත් මෝස්තර නිරූපණ ශිල්පිනියන් අතර, මා වැනි කළු කෙල්ලෙක් මෙම ක්ෂේත්‍රයට ඇත්තෙන් ම විශේෂත්වයකි. ආලෝකය මෙහෙයවීම, නොයෙකුත් කොණ්ඩා මෝස්තර මතු නො ව වේශ නිරූපණය මඟින් මගේ ස්වරූපය වෙනස්කොට මා ඡායාරූපයට නඟන ලද ඡායාරූප ශිල්පීන් සමඟ මා කටයුතු කර ඇති නමුදු, එ සේ ඡායාරූප ගැනීම්වල දී මා කිසියම් හෝ තෘප්තියක් නො ලැබුවා පමණක් නො ව, එ සේ ගන්නා ලද ඡායාරූපයන්ට මා තුළ කිසි ම කැමැත්තක් ද නො වී ය. අදාළ ඡායාරූපය සඳහා සින්ඩි ක්‍රෝෆෝර්ඩ් උචිත නම් ඒ සඳහා සින්ඩිව ම ගත යුතු ව ඇත. එ සේ නො කර ඒ වෙනුවට කළු ගැහැනියකට කෘත්‍රිම කොණ්ඩයක් දමා අද්භූත කළු සින්ඩි කෙනකු කිරීම නිෂ්ඵල ප්‍රයත්නයකි. මා බොහෝ උනන්දුවෙන් සහ සතුටින් වැඩ කළ ඡායාරූප ශිල්පීන් ගැහැනියක ගේ තාත්වික රූප කල්‍යාණය අගය කළා පමණක් නොව ඔවුන් ඒ රූප කල්‍යාණය තීව්‍ර කර දැක්වීමට ද උත්සුක වූ අය වූහ. ඒ නිර්මාණ නිසැකයෙන් ම ඉවත දමන්නට ඇති මුත්, ඒ ඡායාරූප ශිල්පීන් ගේ වෑයම මම අතිශයින් ම අගය කරමි.

මෝස්තර නිරූපිකාවක් වශයෙන් මට මෙතෙක් ලැබී තිබුණ ප්‍රසිද්ධිය කෙමෙන් වැඩි වීමත් සමඟ මා නො සිතූ අන්දමින් කාර්ය බහුල වන්නට ද විය. ඔරලෝසුවක් පාවිච්චි කිරීමට මා තුළ වූ විරුද්ධත්වය නිසා ඒ කාර්ය බහුල ජීවිතයට මුහුණ දීම ප්‍රශ්නයක් විය.

මෑන්හැටන් හි අහස උසට නැඟී ගොඩනැඟිලි නිසා මගේ සෙවණැල්ලේ දිග මැන ගැනීමට අවකාශයක් නො වූයෙන් මා ඇන සිටි

පැරණි ක්‍රමයට අනුව වේලාව දැන ගැනීමට නො හැකි වීම ප්‍රශ්නයක් විය. එහෙයින් නියමිත වේලාවට යා යුතු ස්ථානවලට යන්නට නො හැකි වීම නිසා මට නොයෙකුත් ප්‍රශ්නවලට මුහුණ පාන්නට සිදුවිය.

මෙතෙක් මා ලබා ඇති අත්දැකීම් සහ වෘත්තිය සම්බන්ධ ව මා තුළ වූ විශ්වාසය හේතුකොට ගෙන මගේ විලාසිතා නිරූපණ වෘත්තියේ දැකුම්කළු කොටස ආරම්භ විය.

විලාසිතා නිර්මාපකයන් විසින් ඔවුන් ගේ නව නිර්මාණ එළි දැක්වීම සඳහා වසරකට දෙවතාවක් විලාසිතා ප්‍රසංග සංවිධානය කරයි. එ වැනි විලාසිතා ප්‍රසංග චාරිකාව ඇරඹෙන්නේ ඉතාලියේ මිලානෝ නගරයෙනි. ඉන් පසු පැරීසිය, ලන්ඩන් සහ නිව්යෝර්ක් වැනි නගරවල මෙම ප්‍රසංග පවත්වනු ලැබේ. මෙම ක්‍රියාදාමයට අනුගත වීමට මගේ එඬේර ජීවිතයෙන් ලද පන්නරය ඉමහත් ලෙස ප්‍රයෝජනවත් විය.

අවශ්‍ය දේ පමණක් රැගෙන එම ගමන්වලට සූදානම් විය. එන හැම දෙයකට ම නො සැලී මුහුණ දීම එඬේර ජීවිතයෙන් මා ලද ආභාසය යි. විලාසිතා ප්‍රසංග සඳහා කාලය පැමිණීමත් පළමු ප්‍රසංගය පැවැත්වෙන මිලාන් නගරයට විලාසිතා නිරූපණයේ යෙදී සිටින සෑම ගැහැනු ළමයකු මෙන් ම විලාසිතා නිරූපිකාවක් වීමට සිහින මවන ගැහැනු සහ ගැහැනු ළමයින් මිලාන් නගරයට ඇදෙන්නට පටන් ගනී. එවිට එම නගරය ලෝකයේ හතර වටින් ම එන විලාසිතා නිරූපිකාවන්ගෙන් පිරී යන අතර, ඉතා උස එ මෙන් ම සුරූපී විලාසිතා නිරූපිකාවන් නගරයේ ඔබ මොබ යනු දක්නට හැකි අතර, සෑම බස් නැවැතුම්පොළක, කෝපි හල්වල්වල සහ මහ පාරේ ද ඔවුන් දැකිය හැකි ය. ඔවුන්ගෙන් සමහරක් ඉතා ප්‍රියමනාප අය වන අතර, සමහරක් එකිනෙකා හොඳින් දන්නා අය වෙති. සමහරක් පළමු වතාවට හමුවන අය වෙති. බොහෝ දෙනා අන් අයත් සමඟ සුහද ව කටයුතු කරන අතර, සමහරු එ සේ නො වේ. විලාසිතා නිරූපණ ක්ෂේත්‍රය තුළ එකිනෙකා තුළ ඊර්ෂ්‍යාවක් නැතැ යි කියන්නේ නම් එය මුසාවකි.

තමුන් ගේ ඒජන්සි මගින් නළුවරණයන් සඳහා ඔවුන් ව යොමු කරන අතර, එ වැනි නළුවරණයන්ට සහභාගි වීමට යන්නන් කෙසේ හෝ කැපී පෙනී සිටින්නට උත්සාහ කරනු ඇත. විලාසිතා නිරූපණ ශිල්පය යනු ව්‍යාජ, අලංකාර නො වන බව ඔබට ප්‍රත්‍යක්ෂ වනු ඇත. සමහරවිට ඔබට දිනකට නළුවරණ හතකට, දහයකට නැතිනම් එකොළහකට සහභාගි වන්නට සිදුවනු ඇත. එහෙයින් සත්‍ය වශයෙන් ම එය ඉතා කර්කශ රැකියාවක් වන අතර, සමහර අවස්ථාවල දී ආහාර ගැනීමට

රඳුණහොත් නියමිත වේලාවට නළුවරණයට සහභාගි වීමට යාගත නොහැකි වන බැවින්, ආහාර ගැනීමට නො ලැබෙන අවස්ථා ද ඇත. එක් නළුවරණයකට පෙනී සිට අනෙකට යනවිට ඒ වනවිටත් ගැහැනු ළමුන් තිහක් පමණ නළුවරණයට ඉදිරිපත් වීම සඳහා පෙළ ගැසී සිටිනු දැකිය හැකි ය. එවිට අන් සියලු ම දෙනා නළුවරණයට පෙනී සිටීමෙන් පසු ඔබ ගේ වාරය පැමිණෙනු ඇත. තමන් ගේ වාරය පැමිණි විට කරන්නට ඇත්තේ ඔබ ගේ සහතික, පින්තූර, සඟරා ආදිය ඉදිරිපත් කිරීම ය. සේවාදායකයා ඔබ ගේ සහතික සහ ඡායාරූප බලා සෑහීමකට පත් ව ඇත්නම් ඔහු ඔබට විලාසිතා නිරූපණ ශිල්පයට අනුව ඇවිද පෙන්වන ලෙස දන්වනු ලැබේ. සේවාදායකයා ඔබ ගැන පූර්ණ පැහැදීමකට පත් ව ඇත්නම් ඔහු වෙනත් අදාළ යමක් කරන ලෙස දන්වනු ඇත. ඔහු ඔබට ස්තුතිකොට යන ලෙස දන්වා ඊළඟ අයැදුම්කාරිය කැඳවනු ලැබේ.

එහෙත්, ඔබ තෝරා ගත්තා ද නැත්ද යන්න ගැන සිතා පසුතැවීමට කාලයක් නො මැත. මන්ද ඔබට ඊළඟ නළුවරණයට දිව යන්නට ඇති බැවිනි. ඔබ ව තෝරාගෙන ඇත්නම් ඔවුන් ඔබ ගේ ඒජන්සියට කතාකොට ඔබට රැකියාව ලබාදෙනු ඇත. කරුණු එ සේ වුව ද රැකියාවක් ලැබීම හෝ නො ලැබීම ගැන හෝ ඔබ කනගාටු විය යුතු හෝ පසුතැවිලි විය යුතු හෝ නැත. ඒ ගැන ඔබ සිතන්නට ගියහොත් එය ඔබට මානසික වධයක් වනු ඇත. ඇත්තෙන් ම නළුවරණයක් යනු බොහෝවිට අවසානයේ දී දොම්නසට සහ ඉච්ඡාභංගත්වයට පත්වීම බැව් ඔබට ප්‍රත්‍යක්ෂ වනු ඇත. මුල් යුගයේ දී මම ද එ සේ කනගාටුවට පත් වූයෙමි. එහෙත්, පසු කලක දී වෘත්තියේ ස්වභාවයට අනුව කටයුතු කිරීමට මම උගත්තෙමි.

"ඔවුන් මට කැමැති නැත... ඒකට ප්‍රශ්නයක් නැහැ."

ඔවුන් සොයන්නේ අඩි හතක් උස දිගු බ්ලොන්ඩ් කේශ කලාපයක් ඇති රාත්තල් 80 ක් පමණ බර ඇති අයකු නම් නිසැකයෙන් ම එයට මම සුදුසු නැත. කළ යුත්තේ ඉදිරියට යාම පමණි.

සේවාදායකයන් විසින් ඔබ තෝරාගෙන ඇත්නම් ඔබට කළ යුතු ව ඇත්තේ විලාසිතා ප්‍රසංගය සඳහා ඇඳිය යුතු සියලු ම ඇඳුම් ඇඟලා බැලීම ය.

මෙම ක්‍රියාදාමය තුළ නියමිත වේලාවට ආහාර ගැනීම, නිදා ගැනීම ආදිය නො මැති වීමෙන් ඔබ වෙහෙසට පත්වනු ඇත. මේ ආකාරයෙන් සෑම දිනක ම හැකි පමණ නළුවරණයන්ට සහභාගි වන්නට සිදුවීම නිසා ඔබ කෙට්ටු වන්නට පුළුවන. එනෙකුදු ඔබට වෘත්තියේ රැඳී සිටීමට

හැකි වන්නේ මේ අයුරින් ම බැවින්, සමහරවිට ඒ ගැන සිතා ඔබ පුදුමයට පත් වන්නට ඉඩ ඇත. එවිට ඔබට මෙසේ සිතෙනු ඇත.

"ඇයි මම මේ වගේ දෙයකට ආවෙ... ඇයි මම මෙ තරම් දුක් විඳින්නෙ."

සමහර අවස්ථාවල දී විලාසිතා ප්‍රසංගය සිදුවන අතර, ඔබ තවමත් නළුවරණයට මුහුණ දෙමින් සිටිනවා විය හැකි ය. ඊට හේතුව මෙ වැනි ප්‍රසංග සුමාන දෙකක් වැනි සුළු කාලයක් තුළ අහවර කළ යුතු ව ඇති බැවිනි. ප්‍රසංගය පැවැත්වීමට නියමිත දින එය පටන් ගැනීමට පැය හතරකට පමණ පෙර ඔබ එම ස්ථානයට ගොස් සිටිය යුතු ය. ඔබ රූපලාවණ්‍ය කටයුතු මෙන් ම ඔබ ගේ හිස පීරා සකස් කිරීම වැනි දේවල් කර ගැනීමෙන් පසු තමන් ගේ වාරය එන තුරු බලා සිටිය යුතු ව ඇත. ඊළඟට ඔබට කළ යුතු ව ඇත්තේ අදාළ පළමුවෙනි ඇඳුම ඇඟලා ගැනීම ය. එම ඇඳුම ඇඟ ලාගත් පසු ඔබට අසුනක වාඩි වීමට නො හැකි ය. මන්ද ඇඳුම පොඩි වීම ඊට හේතුව යි. එහෙයින්, ඔබ මුළු කාලය ම සිටගෙන සිටිය යුතු ය.

ප්‍රසංගය පටන් ගැනීමත් සමඟ වේදිකාව පිටුපස එක ම පිස්සන් කොටුවක ස්වරූපයක් ගනී.

"ඔබ කොහේ ද?"

"කෝ නයෝමි."

"ඒ ළඟට ඔබ."

"ඔය දොර ළඟින් අයින් වෙන්න... මට ඉක්මනට යන්න."

මෙ කියන ලද සියලු ම අදියරයන්ට පසු ව ඇත්තේ විනාඩි කීපයක් අමුත්තන් ඉදිරියේ ඇති වේදිකාව මත නියමිත ඇඳුම ඇඟ ලාගෙන වාදනය වන සංගීතයට අනුව වේදිකාව මත ඔබ මොබ ඇවිදීම ය. එ වැනි ප්‍රසංගයකට ගැළැපෙන අයුරින් ඔබ ගේ හිස පීරා ඇති අතර, සුදුසු රූපලාවණ්‍යයෙන් ඔබ ව ඔපවත් කර ඇත. ප්‍රසංගය සඳහා ඔබ ඇඳ සිටින ගවුම කෙතරම් වටින්නේ ද යත් සාමාන්‍ය ජීවිතයේ දී එ වැනි ගවුමක් මිල දී ගැනීම ගැන සිහිනෙන් හෝ සිතන්නට නොහැකි ය. කෙසේ වී නමුදු විනාඩි කීපයකට ඒ ඇඳුම ඔබේ ය. එ මතු ද නො ව ඔබ ගේ පෙනුම කෝටියක් වටින්නේ ය.

පළමු වටය අවසන් වී පැමිණි වහා ම ඔබ දෙවන වටයට සූදානම් විය යුතු ය. ප්‍රසංගය සඳහා වන සියලු ම සූදානම් වීමවලින් පසු

මෙ වැනි ප්‍රසංගයක කාලය විනාඩි 20 ක් හෝ 30 ක් හෝ පමණි. මෙ ආකාරයෙන් මෙ වැනි ප්‍රසංග හතර පහකට ඔබට සහභාගි වීමට සිදුවනු ඇත. එහෙයින් එක් ප්‍රසංගයක් අහවර වූ වහා ම ඔබට ඊළඟ ප්‍රසංගයට සහභාගි වීම සඳහා දිව යන්නට සිදු වේ.

* * * *

පුරා සති දෙකක් තුළ පැවැත් වූ ගාලගෝට්ටිය අවසන් වූ වහා ම අභිකුණ්ඨක කණ්ඩායමක් මෙන් වේග නිරූපණ ශිල්පීන්, විලාසිතා නිර්මාණකරුවන්, විලාසිතා නිරූපණ ශිල්පිනියන් ආදී සියලු දෙනා ම ඊළඟ ප්‍රසංගය සඳහා පැරීසිය බලා පිටත් වේ.

පැරීසියේ දී, මිලානෝ නගරයේ සිදු වූ ආකාරයට එම ක්‍රියාදාමය ඒ අයුරින් ම සිදුවනු ඇත.

මෙ වැනි ප්‍රසංග අතරතුර ඔබ කෙටි හෝ නිවාඩුවකට කෙසේ හෝ දුරකථන පහසුකම් නො මැති තැනකට ගොස් විවේකයක් නො ගතහොත් ඔබ ශාරීරික ව පමණක් නො ව මානසිකව ද දුර්වලතාවයට පත් වනු නො අනුමාන ය.

මෝස්තර නිරූපිකා වෘත්තිය විනෝදජනක වෘත්තියක් වශයෙන් පමණක් නො ව එහි සුන්දරත්වය සහ ආකර්ෂණයට ද මම ඇළුම් කළෙමි. එ නමුදු විශේෂයෙන් ම තනිකඩ ඒ මෙන් ම තරුණ යුවතියන් ව්‍යසනයට පත් කරන්නට හැකි වාතාවරණයක් ද එහි තිබුණි. දිනක් මා ඡායාරූප කීපයකට පෙනී සිටීමට ගිය අවස්ථාවක ඡායාරූප ශිල්පියා මෙසේ බෙරිහන් දුන්නේ ය.

"මගේ දෙවියනේ වාරිස්... මොනවද ඔයාගෙ කකුල් දෙක පුරා ම තියෙන කළුපාට ලප."

වසර දහතුනක් පුරා සෝමාලියානු කාන්තාරවල මිරිවැඩි නොමැති ව ඇවිද ගිය කල ගල් කැබැලිවලට සහ කටු ආදියට සීරීමෙන් ඇති වූ තුවාලවල කැළැල් ගැන පැරිස් නගරයේ ජීවත් වන ඡායාරූප ශිල්පියකුට හෝ නිරූපිකාවන් හැඩ ගන්වන්නකුට හෝ මා විස්තර කරදෙන්නේ කෙසේද? සමහර අවස්ථාවල ඔවුන් මට, කොට සායකින් සැරසී එන ලෙස දැන්වූ කල මගේ බකල කකුල් ඔවුන් ගේ අවධානයට යොමු වෙතැ යි මා තුළ නිරායාසයෙන් ම අනියත බියක් හට ගනී.

බකල කකුල් ඇති වීමට හේතුව පෝෂණදායක ආහාර නොමැති ව අප්‍රිකාවේ එඬේර පවුලක ජීවත් වීමෙන් ලැබුණ දායාදයට වඩා අන් කුමක් ද? සමහර අවස්ථාවල මගේ බකල දෙපා නිසා මා රැකියාවලින් කපා හැර දමා ඇත.

මෙම තත්ත්වය නිසා මා හට ලැජ්ජාවට පත් වීමට සිදු ව ඇති බැවින් ශල්‍යකර්මයකින් හෝ මගේ දෙපා ප්‍රකෘති තත්ත්වයට පත්කර ගැනීමට හැකිවේදැයි බැලීමට මම වෛද්‍යවරයෙක් සොයා ගියෙමි. තවදුරටත් මේ ලැජ්ජාව විඳවන්නට බැරි නිසා කෙසේ හෝ මගේ දෙපා යුවළ ප්‍රකෘති තත්ත්වයට පත්කර දෙන මෙන් මම වෛද්‍යවරයාගෙන් ඉල්ලා සිටියෙමි. මා වයසින් මෝරා ඇති බැවින් එ වැනි ශල්‍යකර්මයක් කිරීමට නො හැකි තත්ත්වයක මා පසුවන බැව් වෛද්‍යවරයා පැවැසුවේ ය. ඇත්තෙන් ම එ වැනි ශල්‍යකර්මයක් නො කිරීම ගැන අද මම සතුටු වෙමි. විලාසිතා සංදර්ශනයක දී විනාඩි පහක් වැනි සුළු වේලාවක් වේදිකාව මත ඔබ මොබ සක්මන් කරමින් ප්‍රේක්ෂකයින් පිනවීම සඳහා එදා මම ඒ ශල්‍යකර්මය කළා නම් මා අද මට ම ශාප කරගන්නවා නො අනුමාන ය. කිසිවකු ගේ නව ඇඳුම් නිර්මාණයකට වෙළෙඳපොළක් සොයා දීමට විනා එ වැනි ශල්‍යකර්මයක් කිරීමෙන් මට ඇති ඵලය කුමක් ද? මගේ දෙපා යුගල මගේ ජීවිත කතාවේ කොටසක් වන බැවින්, ඒ ගැන දැන් මම ආඩම්බර වෙමි. මගේ දෙපා මතින් මම කාන්තාරයේ සැතැපුම් සිය ගණනක් ඇවිද ගොස් ඇත්තෙමි. පැද්දෙමින් නැළවෙමින් යන ගමන් විලාසය අප්‍රිකානු ගැහැනුන් ගේ රිද්මය යි. එ මතු ද නො ව, මා අප්‍රිකානු ගැහැනියක් හැටියට එය මගේ උරුමය යි.

සැම ව්‍යාපාරයක මෙන් ම විලාසිතා ව්‍යාපාරයේ ද ඇති ප්‍රශ්නය නම් ඊට සම්බන්ධ ව සිටින අප්‍රියජනක පුද්ගලයින් ය. සමහරවිට තීරණ ගැනීමේ දී බොහෝ දේ පරදුවට තබා කටයුතු කිරීමත්, එයින් ඇතිවන මානසික වෙහෙසත් මේ තත්ත්වයන් ඇති වන්නට බොහෝ දුරට බලපාන්නට ඇත. ඉතා ප්‍රසිද්ධ විලාසිතා සඟරාවක් සඳහා ඡායාරූප ගැනීමට ගිය අවස්ථාවක එක් කලා අධ්‍යක්ෂවරියක ගේ නොහොබිනා හැසිරීම නිසා මුළුමහත් වාතාවරණය ම මහත් ශෝකී තත්ත්වයකට පත්විය. වරක් අපි බටහිර කොදෙව් දූපත්වලට අයත් එක් දූපතකට ඡායාරූප ගැනීම සඳහා ගියෙමු. ඇත්තෙන් ම ඒ දූපත පාරාදීසයක් බඳු වූ අතර, අප සැම දෙනා ම එහි විනෝදයෙන් ගත කළෙමු. දිනක් අපි රූපගත කිරීම් සඳහා පැමිණිවිට මෙම කලා අධ්‍යක්ෂවරිය මගේ ඇඟට කඩා පැන්නා ය.

"වාරිස්... ඔයා ඔයිට වැඩිය ඔයා ගැන සැලකිලිමත් වෙන්ඩ ඕනෑ... ඔහොම කම්මැලිකමට ඉඳලා බෑ."

එ තැනින් නො නැවතුණ ඇය නිව්යෝර්ක් නගරයේ වූ මගේ ඒජන්සියට කතාකොට මා මගේ වගකීම පැහැර හැර ඇති බවට චෝදනා කොට ඇත. ඒ ගැන ඇසීමෙන් මගේ ඒජන්තවරයා තරමක ව්‍යාකූල තත්ත්වයකට පත් ව ඇති අතර, ඒ ගැන ඔහුට වඩා මා ව්‍යාකූල තත්ත්වයකට පත්විය.

මේ කියන ලද කලා අධ්‍යක්ෂවරිය ආදරවන්තයකු මතු නො ව මිතුරකු පවා නො මැති කිසිඳාක ආදරයේ පහස නො ලද තැනැත්තියක් වූවා ය. ඇගේ ජීවිතය ම ඇය සිය වෘත්තිය වෙනුවෙන් කැප කර සිටියා ය. ඉච්ඡාභංගත්වයට පත් ව සිටි ඇය සිය ක්‍රෝධය, කෝන්තිය මගෙන් පහකර ගැනීමට උත්සුක වූවා ය. මෙම වාතාවරණයට මුහුණ දෙන පළමුවෙනියා හෝ අන්තිමයා හෝ මා නො වන බව මට නම් සැකයක් නැත. ඇය ගැන මා තුළ වූ කරුණාව වියළී ගියේ ය.

ප්‍රංශය, ඉතාලිය ආදී යුරෝපීය රටවලින් පමණක් නො ව අමෙරිකාවේ ඔක්ලහෝමා, උතුර ඩැකෝටා වැනි දුර බැහැර නගරවල සිට මෙම වෘත්තියට ඇතුළු වීමට තරුණියෝ ඇදී එති. මෙසේ ඇදී එන නවකයන් මෙ වැනි කලා අධ්‍යක්ෂවරියන්ට හසුවීම ඇත්තෙන් ම ඛේදවාචකයකි. එ මතු ද නො ව වංචාකාරයන් සහ කපටින්ගෙන් ද මෙම ක්ෂේත්‍රයේ අඩුවක් නැත. විලාසිතා නිරූපණ ශිල්පිනියක් වීම එ තරම් ලෙහෙසි පහසු කාර්යයක් නො වූව ද බොහොමයක් තරුණ ගැහැනු ළමයින් මෙම වෘත්තියට සම්බන්ධ වීමට උත්සුක වන අතර, බොහෝ අවස්ථාවල දී ඔවුහු වංචාකාරයින් ගේ අතට පත්වෙති. විලාසිතා නිරූපණ ශිල්පිනියක යනු මුදලට වැඩ කරන අයකු මිස අතින් මුදල් ගෙවා කටයුතු කරන අයකු නො වේ.

විලාසිතා වෘත්තියෙහි දී අප්‍රිය පුද්ගලයන් හමුවීම මතු නොව ඡායාරූපයන්ට මුහුණ දෙන්නට සිදුවන සමහර අවස්ථාවන් ද ඉතා කටුක ය. එක්තරා මත්පැන් වර්ගයක ලේබලයක් සඳහා ඡායාරූප ගැනීමට කැලිෆෝනියාවට යන්නට මම එකඟ වීමි. ඒ සඳහා ගොනෙකු යොදවා ගැනීමට සැලැසුම් කර ඇති බව ද මම කලින් දැන සිටියෙමි. නිව්යෝර්ක් සිට ගුවනින් කැලිෆෝනියාවට ගිය මා, එ තැන් සිට කාන්තාර ප්‍රදේශයක් දක්වා හෙලිකොප්ටරයකින් ගෙන යනු ලැබී ය. ඡායාරූප ශිල්පියා සහ ඔහු ගේ කණ්ඩායමත් උල් වූ අං දෙකකින් යුතු කාලවර්ණ ගොනා හැරෙන්නට අන් කිසිවකු එහි නො වී ය. අසල නවතා තිබූ

වේලරයට ගොස් කොණ්ඩා මෝස්තර ආදිය දමා ගැනීමෙන් අනතුරු ව ඡායාරූප ශිල්පියා මා ගොනා අසලට කැඳවාගෙන ගියේ ය.

"වාරිස් මේ ගොනාගෙ නම සාතන්... හලෝ කියලා කතා කරන්න."

"හලෝ සාතන්... ඌ හරිම ලස්සනයි... මුගෙන් අනතුරක් නෑ නේද?" මම ප්‍රශ්න කළෙමි.

"නෑ කිසි ම අනතුරක් නෑ... මේ ඉන්නෙ සාතන්ගෙ අයිතිකාරයා" ඡායාරූප ශිල්පියා කිසියම් පුද්ගලයකුට අත දිගු කරමින් කීවේ ය.

අනතුරු ව ඡායාරූපයට පෙනී සිටිය යුතු ආකාරය ගැන ඡායාරූප ශිල්පියා කරන ලද විස්තරයට අනුව කරන්නට තිබුණේ නිරුවතින් ගොනා ගේ පිට උඩට නැඟ දෙපා දෙ පසට විහිදුවමින් ඔහු ගේ පිට මත වැතිර සිටී ම ය. නිරුවතින් ඡායාරූපයට පෙනී සිටිය යුතු බවක් මා හට කලින් දන්වා නො තිබුණ බැවින්, මා ඉතා අපහසුතාවයකට පත් වූ නමුදු, ඒ ගැන කලහ කරන්නට නො ගිය මම, නිරුවතින් ඡායාරූපයට මුහුණ දෙන්නට තීරණය කළෙමි.

ඉරු එළියෙන් රත් වූ කාන්තාරය මත හෙළවෙන්නට නො හැකි වන ආකාරයට ගැට ගසා සිටි ගොනා ගැන ඇත්තෙන් ම මා තුළ මහත් අනුකම්පාවක් ඇති විණ. උෂ්ණත්වය දරා ගන්නට නො හැකි ව සිටි ගොනා ගේ නාසයෙන් සෙම වැනි දියරයක් වෑහෙමින් තිබුණි. ඡායාරූප ශිල්පියා ඔහු ගේ අත දිගු කර ඒ මතින් ගොනා ගේ පිට උඩට නගින්නට සැලැස්සුවේ ය. ඔහු ගේ බාහුවට කකුලක් තබා මම ගොනා පිටට නැඟ ගතිමි.

"වාරිස් දැන් කකුල් දෙක දෙ පසට ආලා ගොනාගෙ පිට මත වැතිරෙන්න" ඡායාරූප ශිල්පියා අණ කළේ ය.

ගොනා පිට උඩ ඉතා සන්සුන් ව හිඳ, සෙල්ලක්කාර ව එ මෙන් ම ලස්සනට සහ කාමුක ව කැමරාවට මුහුණ දෙන්නට මම සෑම උත්සාහයක් ම ගතිමි. ඒ සමඟ මගේ නිරුවත් කය යට වූ ගොනා ගේ ලොම් සහිත පිට චලනය වන බව මට දැනෙන්නට විය. ඊළඟ මොහොතේ මුළු පරිසරය ම කරකැවෙන්නාක් මෙන් දැනුණ අතර, මා වීසි වී ගොස් කාන්තාරයේ රත් වී ගිය වැල්ල මත ඇද වැටුණි.

"වාරිස් ඔයාට මොකුත් වුණා ද?" ඡායාරූප ශිල්පියා ඇසුවේ ය.

"නෑ.. නෑ... මොකුත් නෑ" මම පිළිතුරු දුනිමි.

ඡායාරූප ශිල්පියා ගොනා ගේ පිටට නැගීමට නැවතත් මට උදව් කළේ ය. අව් රශ්මියෙන් පීඩා විඳිමින් සිටි ගොනා දෙවෙනි වරටත් මා බිම ඇමුවේ ය. තුන්වෙනි වරටත් එ සේ ම සිදුවිය. ඒ වතාවේ වළලුකර පොළොවේ වැදුණු අතර, ඒ මොහොතේ ම වළලුකර වරා ඉදිමී එන්නට විය.

"පින්තූරය ගත්ත ද?" මම පොළොවේ වැටී සිට ම ඇසුවෙමි.

"තවත් පින්තූර කීපයක් ගත්තොත් තං හොඳයි" ඡායාරූප ශිල්පියා මොර ගැවේ ය.

නිරුවතින් මා ගොනා පිට නැගී ගත් පින්තූර කිසියම් හෝ කරුණක් නිසා පාවිච්චි නො කරන ලදී. ඒ ගැන අවංකව ම මම සතුටු වීමි. ඒ ඡායාරූප මත්පැන් වර්ගයක ලේබලයක් සඳහා පාවිච්චි කළා නම් සිදු වන්නේ කොහේ හෝ මත්පැන් හලක මහලු මිනිසුන් කීපදෙනෙක් මත්පැන් පානය කරමින් බෝතලයේ ලේබලයේ සිටින මගේ තට්ටම් දෙස බලා සිටීම යි. එය එ සේ සිදුවූවා නම් ඇත්තෙන් ම එය කනගාටුවට කරුණකි. ඉන්පසු කිසි ම දිනක නිරුවත් ව කැමරාවකට මුහුණ නොදීමට මා තීරණය කළේ අන් කිසිවක් නිසා නො ව, මා එයට අකැමැති බැවිනි. මිනිසුන් ඉදිරියේ නිරුවත් ව සිටින විට ඇතිවන ලැජ්ජාශීලී හැඟීම ගැන සිතන විට එයින් ලැබෙන මුදලේ වටිනාකමක් ද නැත.

නිරුවතින් ගොනකු පිට නැගී කැමරාවට මුහුණ දීම මගේ වෘත්තියේ දී මා හට මුහුණ දෙන්නට සිදු වූ ඉතා අමිහිරි ම අත්දැකීම වුවත්, මෙම වෘත්තියට මම ආදරය කරමි. මන්ද එය එ තරම් ම විනෝදාත්මක වෘත්තියක් බැවිනි. ටෙරන්ස් ඩොනවන් මා ඔහු නමැති ස්ථානයට කැඳවාගෙන ගොස් කැමරාවක් ඉදිරිපිට සිටවන තුරු, මගේ පෙනුමට මුදල් ගෙවන රැකියාවක් ගැන සිතීමට පවා මම අපොහොසත් වීමි. ජීවත්වීම සඳහා මුදල් ඉපැයීමට මෙ තරම් ලේසියෙන් හැකි වේ යයි මම කිසි ම දිනක නො සිතුවෙමි. සාර්ථක මෝස්තර නිරූපිකාවියක් වීමට මා හට ලැබුණ අවස්ථාව ගැන මම කෘතඥ වෙමි. බොහෝ තරුණියන් මෙම ක්ෂේත්‍රයට පිවිසෙන්නට උත්සාහ කළත්, වැඩි පිරිසකට එ වැනි අවස්ථාවක් උදා කරගන්නට නො ලැබීම ඇත්තෙන් ම කනගාටුවට කරුණකි.

මොහොමඩ් මාමා ගේ නිවසේ මා මෙහෙකාරියක් වශයෙන් කටයුතු කළ කාලයේ මෝස්තර නිරූපිකාවියක් වීමට සිහින මැවූ සැටින්. එ දින රාත්‍රියේ හිතට ධෛර්යය ගත් මා මෝස්තර නිරූපිකාවියක් වීමට නම් තුමක් කළ යුතුදැයි අසා දැන ගැනීමට මොහොමඩ් මාමා ගේ ළඟ

දියණිය ඉමාන් වෙත ගිය අයුරු මට තවමත් හොඳින් මතක ය. එයින් වසර දහයකට පසු දිනක් මා නිව්යෝර්ක් නගරයේ ඡායාරූපාගාරයක් තුළ රිචලොන් නමැති සුවඳ විලවුන් සඳහා ඡායාරූප ගැනීමකට සහභාගි වෙමින් සිටිය දී වේශ නිරූපණ ශිල්පිනිය මා වෙත අවුත් එම ඡායාරූපගාරයේ ම අල්ලපු කාමරයේ ඉමාන් ඇගේ නවතම විලවුන් ඡායාරූපයට නගමින් සිටින බැව් දැන්වූවා ය. ඒ මොහොතේ ම මම ඇය ව හමු වන්නට ගියෙමි.

"ඉමාන් ඇයි ඔයාගෙ වෙළෙඳ දැන්වීමට මාව ගත්තෙ නැත්තෙ."

"ඔයාට ගෙවන්න තරම් මුදල් මා ළඟ නෑ" ඇය මා දෙස බලා මිමිනුවා ය.

"ඔයා මට කිව්වා නම් මම ඕකට නිකං පෙනී සිටිනව නෙ."

මා අදත්, එදා ඇය ගේ නිදන කාමරයට තේ වතුර ගෙන ගිය පුංචි මෙහෙකාරිය ම බව ඇයට තේරුම් ගැනීමට නො හැකි වීම ඇත්තෙන් ම මගේ විමතියට හේතුවිය.

පුදුමය නම් මා කිසි ම දිනක මෝස්තර නිරූපිකා වෘත්තිය සොයා නො ගිය අතර, එය මා කරා පැමිණීම ය. සමහරවිට ඒ ගැන මා තුළ එ තරම් සැලැකිල්ලක් නො මැත්තේ ඒ නිසා විය යුතු ය. සුපිරි මෝස්තර නිරූපිකාවියක් වීම සතුටට කාරණයක් නො වේ යයි මට සිතෙන්නේ සමහර විට මෝස්තර නිරූපිකාවන් මෙ තරම් ප්‍රසිද්ධියට පත් ව සිටින්නේ මන්ද යන කරුණ තවමත් මට වටහා ගැනීමට නො හැකි වීම නිසා විය හැකි ය.

විලාසිතා නිරූපිකාවන් වූ අප ව සමහරුන් දේවත්වයෙන් සලකන අතර, සමහරක් දෙනා අප ව මෝඩයින් වශයෙන් සලකති. මෙහි සඳහන් දෙ වැනි ආකල්පය මා අපමණ වාරයක් අත්දැක ඇත. සමහරවිට බුද්ධිය පාවිච්චි නො කර ශාරීරික රූප ලක්ෂණය පමණක් පාවිච්චිකොට මුදල් ඉපැයීම එයට හේතු වන්නට හැකි ය.

මෙම වෘත්තියේ දී මට නොයෙකුත් තරාතිරමේ මෝස්තර නිරූපිකාවන් හමු වී ඇත. සමහරෙක් ඇත්තෙන් ම බුද්ධිමත් අය නො වෙති. එහෙත්, මෙම වෘත්තියේ දී මට හමු වී ඇති වැඩි දෙනා සත්‍ය වශයෙන් ම බුද්ධිමත්, එ මෙන් ම නොයෙකුත් රට රටවල් සැරිසරා අත්දැකීම් ඇති අය වූ අතර, ඔවුහු ලෝකයේ සිටින අනෙකුත් විද්වතුන් මෙන් ම ඕනෑ ම විෂයක් සම්බන්ධ ව දැනුම් තේරුම් ඇති විදග්ධ තරුණියන් ය.

විලාසිතා වෘත්තිය වටා ඇති සදාචාරාත්මක ප්‍රශ්න ඇත්තෙන් ම ඇදැහිය නො හැකි තරම් අවුල් සහගත යයි මට සිතේ. මා විශ්වාස කරන අන්දමට ස්වභාවධර්මය, මිනිස් ගුණධර්ම, පවුල සහ හිතවත්කම් ආදියට ලෝකයේ ප්‍රමුඛස්ථානය දිය යුතු දැ බැව් මම දනිමි. එහෙත්, "මෙය මිලදී ගන්න මේක හරි ම ලස්සනයි" කියමින් අන් අයකු ගේ යමක් විකිණීමෙන් මම ජීවත් වෙමි. මුවෙ හි සිනහ රැල්ලක් රඳවාගෙන මම ඒ දේවල් අලෙවි කරමි.

මගේ වෘත්තිය දෝෂ දර්ශනයට ලක් කරමින් මට මෙසේ කිව හැකි යː

"මොනව ද මම මේ කරන්නෙ... මම මේ ලෝකය විනාශ කිරීමට උදව් කරනවා නේද?"

සෑම වෘත්තියක ම නියැළී ඉන්න අයකුට තමුන් ගේ වෘත්තිය සම්බන්ධ ව එක්තරා දුරකට එ සේ කිව හැකි බව මම විශ්වාස කරමි. මේ වෘත්තියේ දී මට ඉතා සුන්දර පුද්ගලයින් හමු ව ඇතිවා පමණක් නො ව, ලෝකයේ රමණීය ස්ථාන දැක බලා ගැනීමටත්, නොයෙකුත් විවිධ සංස්කෘතීන් හඳුනා ගැනීමටත් ලැබුණ අවස්ථාව හේතු කොටගෙන මට වුවමනා වී තිබෙන්නේ ලෝකය විනාශ කිරීමට යමක් කරනවා වෙනුවට එහි අභිවෘද්ධිය සඳහා යමක් කරන්නට ය.

තවදුරටත් මා දරිද්‍රතාවයේ ගිලී සිටින සෝමාලියානුවකු නො වන අතර, ලෝකය වෙනුවෙන් යමක් කිරීමට හැකි තත්ත්වයක දැන් මම සිටිමි.

විලාසිතා නිරූපණ වෘත්තියට මා තුළ ඇති කැමැත්ත අන් කිසිවක් නිසා නොව, එම වෘත්තියේ නියැළීමෙන් මුළුමහත් විශ්වයේ ම පුරවැසියකු බව මට හැඟෙන නිසාත්, ලෝකයේ නොයෙකුත් ආශ්චර්යවත් ස්ථාන දැක ගැනීමට ලැබුණ නිසා විනා එයින් ප්‍රසිද්ධියක් ලබා ගැනීමට නො වේ.

වෘත්තීය කටයුතු සඳහා අපට දූපත්වලට යන්නට ලැබුණ අවස්ථාවල දී මා විවේකයක් ලද සෑම මොහොතක දී ම මුහුදු වෙරළ දිග ඔබ මොබ දිව ගියෙමි. ස්වභාවධර්මයත් සමඟ නිසංසලේ ගත කිරීමෙන් මම අසීමිත සතුටක් ලදිමි. එ වැනි අවස්ථාවල ගස් සෙවණේ හිඳගෙන තොරතෝංචියක් නැති ව කෑ ගසන කුරුල්ලන් ගේ හඬට කන් දුනිමි.

ආ.. හා.. කුරුල්ලු නදට කන් දෙමින් දෙනෙත් වසා ගත්කල සුළඟත් සමඟ එන පුෂ්ප මකරන්දය විඳ ගනිමින් හිරු රැස් මුහුණ මත පතිත වී මුහුණ රත්වන විට මා සිටින්නේ අප්‍රිකාවේ යයි සිතින් සිතා ගනිමි. මගේ මනසය ඔස්සේ සෝමාලියාවේ දී මා ලද ශාන්ත නිසලත්වය ළඟා කර ගැනීමට මා උත්සාහ කරන අතර, මම සිටින්නේ සෝමාලියාවේ යයි නැවතත් සිතින් සිතා ගනිමි.












15

# නැවතත් සෝමාලියාවට



දිගු කාලයක් නො නවත්වා ම ඡායාරූපයන්ට සහ විලාසිතා සංදර්ශනයන්ට පෙනී සිටීමෙන් පසු විවේකයක් ගැනීම සඳහා මම වර්ෂ 1995 දී ට්‍රිනිඩෑඩ් බලා ගියෙමි. එය වාර්ෂික සැණකෙළි සමය වූයෙන් මා එහි යනවිට සැම දෙනා ම නොයෙකුත් වෛවාරණ ඇඳුම්වලින් සැරසී නටමින් ගී ගයමින් විනෝද වෙමින් සිටිය හ. මා දැන සිටි අයකු ගේ නිවසේ මම නවාතැන් ගතිමි. මා එහි ගොස් දින දෙකකට පසු කිසියම් පුද්ගලයෙක් මා නැවැතී සිටි නිවසේ දොර අසලට පැමිණියේ ය. නිවසේ ප්‍රධානියා වූ මොනිකා නැන්දා ගොස් දොර විවෘත කළා ය. ඉරමුදුන් වී තිබූ හෙයින් ඉරු එළියට විරුද්ධ ව සිටිගෙන සිටි මිනිසා, අඳුරු වර්ණ වී සිටි බැවින් ඔහු කවුරුන්දැයි හරියට ම හඳුනා ගැනීමට අපට අපහසු විය. ඔහු වාරිස් නමැති අයකු සොයාගෙන ආ බැව් පවසනවා යාන්තමින් මගේ කනේ වැකුණි.

"වාරිස් ඔයාට ටැලිපෝන් කෝල් එකක්" මොනිකා නැන්දා කීවා ය.

"කොහෙද ටෙලිපෝන් එක" මම ඇසුවෙමි.

"මෙයත් එක්ක යන්න එතකොට එයා පෙන්වයි."

මම ඒ පුද්ගලයා පසුපසට වැටී ඔහුත් සමග ගියෙමි. ඔහු මොනිකා නැන්දා ගේ අසල්වැසියකු වූ අතර, ඒ ප්‍රදේශයට ම දුරකතනයක් තිබුණේ ඔහු ගේ නිවසේ පමණි. ඔහු මා සිය නිවසේ සාලයට කැඳවාගෙන ගොස්

අත දිගුකර ටෙලිෆෝනය තිබෙන තැන පෙන්නුවේ ය. මා ටැලිෆෝනය වෙත ගොස් රිසීවරය කණේ තබා ගතිමි. දුරකථන ඇමතුම ලන්ඩන් නගරයේ මගේ ඒජන්සියෙන් බැව් එකවර ම මම හඳුනා ගතිමි.

"හලෝ... වාරිස් කරදර කළාට සමාවෙන්න... බීබීසී ආයතනය අපෙන් ඉල්ලීමක් කළා ඔබ ඉන්න තැනකට කතා කරලා, ඔබට හැකි ඉක්මනින් ඒ අයට කතා කරන්න කියලා කියන්න කියලා... ඒ අයට ඔබත් සමඟ වාර්තා චිත්‍රපටයක් ගැන කතා කර ගන්න තියෙනවා කියලා දැන්ම ඒ අයට කෝල් එකක් දෙන්න කීවා."

"මොනවා... වාර්තා චිත්‍රපටයක් මොනවා ගැන ද? මගේ වෘත්තිය ගැන... නැතිනම් මගේ රට ගැන අහන්ඩ වෙන්න ඇති... ඇත්තෙන් ම මේ මිනිස්සුන්ට වෙන විෂයක් නැද්ද වාර්තා චිත්‍රපට කරන්න."

"අපි එච්චර විස්තරයක් දන්නෙ නෑ... ඔයා වැඩි විස්තර ඒ ගොල්ලොත් එක්ක කතා කරගන්න... ඔයා කීයට විතර කෝල් එකක් දෙනවා කියලා කියන්ඩ ද?"

"මම කාටවත් කෝල් කරන්නෙ නෑ."

"වාරිස්... ඒ අයට ඔයත් එක්ක හැකි ඉක්මනින් කතා කරන්න ඕනැලු."

"කරුණාකරලා ඒ අයට කියන්න මම ලන්ඩන්වලට ඇවිල්ලා ඒ අයට කතා කරනවා කියලා... හැබැයි මම නිව්යෝර්ක්වලට ගිහිල්ලා එ තැනිනුයි ලන්ඩන්වලට එන්නෙ කියලත් කියන්න..."

"හොඳයි එහෙනම් අපි ඒක ඒ අයට දන්වන්නම්."

පසුදින මා කඩමණ්ඩියේ රවුමක් ඇවිදින්නට ගොස් සිටිය දී නැවතත් මොනිකා නැන්දා ගේ අසල්වැසියා පැමිණ මට ටෙලිෆෝන් කෝල් එකක් ආ බව දන්වා ගොස් තිබුණි. ඒ ආරංචිය මම නො සලකා හැරියෙමි. පසුදින ද මට දුරකතන ඇමැතුමක් ලැබුණ අතර, ඒ වතාවේ මම මොනිකා නැන්දා ගේ අසල්වැසියා ගේ නිවසට ගොස් දුරකතන ඇමැතුම ලබා ගතිමි. දුරකතන ඇමැතුම මගේ ඒජන්සියෙන් බව එකවරම හඳුනා ගතිමි."

"හලෝ..."

"වාරිස් බීබීසී එකෙන් ආයෙත් අපට ටෙලිෆෝන් කරලා කිව්වා... හදිස්සියක් කියලා ඔයාට ඒ අයට ඉක්මනින් කතා කරන්න කිව්වා."

"මම නිවාඩු ඇවිල්ලා ඉන්නෙ... මේ ගෙදර මිනිස්සුන්ට ටෙලිෆෝන් කරලා කරදර කිරීම නවත්තලා මට මගෙ පාඩුවෙ ඉන්ඩ දෙන්න."

"බීබීසී එකේ අයට ඔයාගෙන් ප්‍රශ්න දෙක තුනක් අහන්ඩ තියෙනවලු."

"හරි එහෙනං ඒ අයට කියන්න හෙට මේ වෙලාවට මේ ටෙලිෆෝන් නොම්මරයට කෝල් එකක් දෙන්න කියලා."

පසුදින මම බීබීසී ආයතනය සඳහා චිත්‍රපට නිෂ්පාදනය කරන එහි අධ්‍යක්ෂවරයකු වූ ජෙරි ප්‍රොම්රොයි සමග කතා කළෙමි. ඔහු මගේ ජීවිත කතාව ගැන අසා සිටියේ ය.

"මිස්ටර් ප්‍රොම්රොයි මට දැන් මේ ගැන කතා කරන්න බෑ... අනෙක මම නිවාඩු ඇවිල්ලා ඉන්නෙ."

"වාරිස් අපිට මේ ගැන තීරණයක් ගන්න තියෙන හින්දා ඔයා ගැන විස්තර ටිකක් දැනගන්න අවශ්‍යයි."

"ඔබ කියන්නෙ නන්නාඳුනන ගෙදරක සාලෙ ඉඳගෙන ලන්ඩන්වල ඉන්න නන්නාඳුනන අයකුට මගේ ජීවිත කතාව කියන්න කියල ද?"

"හොඳයි මම ඔබට නැවතත් කතා කරන්නම්" එ සේ කියමින් ජෙරි දුරකතන ඇමැතුම විසන්ධි කළේ ය.

දින දෙකකට පසු අප ගේ අසල්වැසියා පැමිණ නැවතත් මට ටෙලිෆෝන් කෝල් එකක් බැව් කීවේ ය. මම ඔහු ගේ නිවසට ගොස් රිසීවරය කන තබා ගතිමි.

"වාරිස්... ජෙරි කතා කරන්නෙ බීබීසී එකෙන්... 'මගේ ජීවිතය වෙනස් කළ දිනය' *(The day that changed my life)* යන විශේෂ වාර්තා වැඩසටහන සඳහා ඔබගෙ ජීවිත කතාව ගැන වාර්තා චිත්‍රපටයක් හදන්න අපි තීරණය කරලා තියෙනවා."

මගේ ඒජන්සියෙන් ලැබුණු දුරකතන ඇමැතුමත් ඉන් පසු බීබීසී ආයතනයෙන් ලැබුණු දුරකතන ඇමැතුමත්, අතර කාලය තුළ බීබීසී ආයතනය විසින් යෝජනා කර ඇති වාර්තා චිත්‍රපටය ගැන මම දීර්ඝ ව කල්පනා කළෙමි.

"ජෙරි මේකයි තත්ත්වය... ඔයගොල්ලො මාව සෝමාලියාවට එක්ක ගෙන ගිහිල්ලා මට මගෙ අම්මව හොයා ගන්න උදව් කරනවා නං මම ඔය වාර්තා චිත්‍රපටය කරන්න එක් වෙන්න කැමැතියි" ජෙරි ප්‍රොම්රොයි තෙවැනි වරට කතා කළ අවස්ථාවේ මම කියා සිටියෙමි.

මා සෝමාලියාවට රැගෙන යාමෙන් වාර්තා චිත්‍රපටයට නිසි සමාප්තියක් ලබා දීමට හැකි බැව් තේරුම් ගත් ජෙරී, මගේ යෝජනාවට එකඟ විය. මා ලන්ඩනයට පැමිණි වහා ම ජෙරී ව හමුවන ලෙසත්, එවිට වාර්තා චිත්‍රපටය කෙරිය යුතු ආකාරය සම්බන්ධ ව දීර්ඝ ව සාකච්ඡා කිරීමට හැකි බවත්, ඔහු තවදුරටත් පැවැසුවේ ය.

නිසි ගමන් බලපත්‍රයක් නො තිබීමත්, සෝමාලියාවේ ඇති වී ඇති ගෝත්‍රික යුද්ධ යන කරුණු නිසා මගේ පවුලේ අය සොයා ගැනීමට මට නො හැකි වාතාවරණයක් උද්ගත ව තිබූ හෙයින්, එදා මොගඩිෂුවලින් පිට වී ආවට පසු නැවතත් සෝමාලියාවට ගොස් මගේ අම්මා සොයා ගැනීමට මට ලැබී ඇති එක ම අවස්ථාව බීබීසී කණ්ඩායමත් සමඟ එහි යාම ය. මා හට මොගඩිෂුවලට කෙළින් ම ගුවනින් යන්නට හැකි වුවත් අම්මාට මොගඩිෂු ගුවන්තොටුපොළට එන ලෙස දන්වන්නට ක්‍රමයක් නැත. මා සෝමාලියාවට ගෙන ගොස් මගේ අම්මා සොයා දෙන බවට බීබීසී ආයතනය මා හට දුන් පොරොන්දුවෙන් පසු ඒ ගමන ගැන හැරෙන්නට විනා අන් කිසිවක් ගැන සිතන්නට අවකාශයක් නො වී ය. ගමන ගැන සහ වාර්තා චිත්‍රපටය සඳහා මගේ ජීවිත කතාව සම්බන්ධ ව සාකච්ඡා කිරීමට මම කීපවතාවක් ම ජෙරී සහ ඔහු ගේ දෙවැනියා කොලොම් හමුවීමට ගියෙමි.

වාර්තා චිත්‍රපටයේ රූපගත කිරීම් අපි ලන්ඩනයෙන් පටන් ගත්තෙමු. ලන්ඩන් නගරයේ මා පදිංචි ව සිටි ස්ථානවලට අපි ගියෙමු. මා පළමුවෙන් ම වැඩ කළ එවකට එංගලන්තයේ සෝමාලියානු තානාපතිවරයා වූ මගේ මාමා මොහොමඩ් සහ සිය පවුල පදිංචි ව සිටින නිල නිවස තුළ ගොස් රූපගත කරන්නට බීබීසී ආයතනය අවසර ගෙන තිබුණි. එ මෙන් ම සියලු සාන්තුවරයන් ගේ පාසල, මැල්කම් ෆෙයාර්චයිල්ඩ් ඡායාරූප ශිල්පියා ප්‍රථම වතාවට මට මුණ ගැසුණ ස්ථානය ආදියට ගොස් රූපගත කළෙමු. පසු ව බීබීසිය ඔහු සමඟ සම්මුඛ සාකච්ඡාවක් කරමින් මා වැනි කිසි ම ප්‍රසිද්ධියක් නොමැති මෙහෙකාරියක් ඡායාරූප ගත කිරීමට මෙ තරම් උනන්දුවක් දැක්වූයේ මන්දැයි ඔහුගෙන් ප්‍රශ්න කරන ලදී. ටෙරන්ස් ඩොනවන් මා ඡායාරූපයට නඟන අයුරු ද බීබීසී කණ්ඩායම විසින් රූපගත කර ගන්නා ලදී. මා සම්බන්ධ ව සිටි ලන්ඩන් ඒජන්සියේ අධ්‍යක්ෂිකාව මා මිත්‍ර සාරා ඩවුකාස් ගේ සම්මුඛ සාකච්ඡාවක් ද වාර්තා චිත්‍රපටය සඳහා රූපගත කරන ලදී.

කළු අමෙරිකානුවන් ගේ විශිෂ්ට ගීත අලළා "සෝල් ට්‍රේන්" නමින් වැඩසටහනකට මා සම්බන්ධ ව සිටි අතර, එම වැඩසටහන රූපගත කරන අයුරු බීබීසී වාර්තා චිත්‍රපටය සඳහා රූපගත කර ගැනීමට බීබීසී

කණ්ඩායම මාත් සමඟ ලොස්ඇන්ජලීස්වලට යන්නට තීරණය කිරීමත් සමඟ මෙතෙක් මා දරාගෙන ආ බරට තවත් බරක් එකතු කළාක් මෙන් මට දැනෙන්නට විය. මීට පෙර මෙ වැනි ව්‍යාපෘතියකට මා සම්බන්ධ වී නො සිටි හෙයින් මා මානසික ව සහ ශාරීරික ව හෙම්බත් ව සිටි අතර, ලොස්ඇන්ජලීස් බලා යන විට මා හට වැලඳී තිබුණ හෙම්බිරිස්සාව නිසා හරියට කතා කරන්නටවත් නො හැකි තත්ත්වයකට මම පත් ව සිටියෙමි. ඒ ගමනේ දී මගේ සෙවණැල්ල මෙන් මා පිටුපසින් වූ බීබීසී කණ්ඩායම විසින් මගේ සියලු ම ඉරියව් පමණක් නො ව "සෝල් ට්‍රේන්" කණ්ඩායම මා චිත්‍රපටයට නඟන අයුරු බීබීසී කණ්ඩායම විසින් රූපගත කරන ලදී.

ලොස්ඇන්ජලීස් සිට බීබීසී කණ්ඩායමත් සමඟ මම නැවතත් නිව්යෝර්ක් නගරයට පැමිණියෙමි. එහි දී මා කළුපාට යට ඇඳුමක් සහ ඊට උඩින් වැහි කබායක් ඇඟලාගෙන කුඩයක් ද අතැති ව වර්ෂාවේ මැන්හැටන් හි වීදියක ඔබමොබ ඇවිදින දර්ශනයක් රූපගත කළේ ය. ඊට පසුදින හාර්ලම් හි නිවෙස්කඩක මා මගේ මිතුරන් පිරිසකට රාත්‍රී කෑම පිළියෙල කරන අයුරු බීබීසී කැමරා ශිල්පියා විසින් මට නොදැනෙන්නට රූපගත කරන ලදී. එ දින අපි කෙතරම් විනෝදයෙන් ගත කළා ද කිවහොත් කැමරා ශිල්පියා අප ව රූගත කරන බව සම්පූර්ණයෙන් අපට අමතක විය.

වාර්තා චිත්‍රපටයේ ඊළඟ අදියර සඳහා නැවතත් ලන්ඩන් නගරයේ දී හමු වී එහි සිට සෝමාලියාව බලා යන්නට බීබීසී කණ්ඩායම සැලැසුම් කර තිබුණි. ලොස්ඇන්ජලීස්, ලන්ඩන් සහ නිව්යෝර්ක් නගරවල රූපගත කිරීම් කෙරුණ අතර වාරයේ අප්‍රිකාවේ සිටින බීබීසී ආයතනයේ නියෝජිතයින් විසින් මගේ අම්මා සොයා ගැනීමට උත්සුක විය. ඇය සොයා ගැනීම සඳහා මගේ පවුල සාමාන්‍යයෙන් සැරිසරන ඉසව් ගැන සිතියම් මඟින් බීබීසී කණ්ඩායමට පෙන්වා දීමට මම උත්සාහ කළෙමි. එ මතු ද නො ව, ඊළඟට අප ගේ පවුල අයත් ගෝත්‍රය සහ එම ගෝත්‍රය හඳුන්වන නම් ගම් ආදිය සොයා දීමට මට සිදුවිය. මගේ පවුල සොයා ගැනීමට මාස තුනක් පුරා අප්‍රිකාවේ සිටින බීබීසී නියෝජිතයන් විසින් ගත් උත්සාහය සාර්ථක නො වුණ බව අපට දැන ගන්නට ලැබුණි.

අප්‍රිකාවේ සිටින බීබීසී නියෝජිතයින් මගේ අම්මා සොයා ගන්නා තෙක් නිව්යෝර්ක් නගරයේ රැඳී සිටිමින්, මගේ රැකියාවේ නියැලී සිටින ලෙසත්, අම්මා සොයා ගත්තායින් පසු ව ලන්ඩන් නගරයේ දී බීබීසී චිත්‍රපට කණ්ඩායම හමු වී ඔවුන් සමඟ අප්‍රිකාවට ගොස් වාර්තා චිත්‍රපටයේ ඉතිරි කොටස රූපගත කිරීමට බීබීසී ආයතනය සැලැසුම්

කර ඇති බවත් ඔවුන් විසින් මට දැනුම් දෙන ලදී. අප්‍රිකාවේ සිටින බීබීසී කණ්ඩායම නැවතත් මගේ අම්මා සෙවීම ආරම්භ කිරීමෙන් දින කිහිපයකට පසු ඔවුන් මගේ අම්මා සොයාගෙන ඇති බව ජෙරී ටෙලිෆෝනයෙන් මට දැන්වූයේ ය.

"වාරිස් මම හිතන්නෙ ඒ අය ඔබගෙ අම්ම ව හොයාගෙන තියෙනවා."

"මොකක්ද ඒ කතාවෙ තේරුම... ඇත්තට ම ඒ අය අම්ම ව හොයාගෙන ද... නැත්නම් ඔබ එහෙම හිතනව ද?" මම ප්‍රශ්න කළෙමි.

අප්‍රිකාවේ සිටින බීබීසී නියෝජිතයින්ට කාන්තාරයේ ජීවත් වන ගැහැනියක් හමු වී ඇති බවත්, ඇයට වාරිස් නමින් දියණියක් සිටින බවත්, ඇය පදිංචි ව සිටින්නේ ලන්ඩන් නගරයේ බවත් මෙම ගැහැනිය ප්‍රකාශ කර ඇත. එහෙත්, ඇය ප්‍රකාශ කර ඇති කරුණු ඉතා අපැහැදිලි බවත්, එහෙයින් මෙම ගැහැනිය කියන වාරිස් වෙනත් අයෙක් ද යන්න ගැන බීබීසී නියෝජිතයින්ට සැක පහළ වී ඇත. මේ සම්බන්ධ ව බීබීසී නියෝජිතයින්ගෙන් දිගින් දිගට ම ප්‍රශ්න කරන විට ඔවුන් ප්‍රකාශ කර ඇත්තේ ඔවුන් ඒ ගැහැනිය අතහැර දමා මගේ නියම මව සෙවීම දිගට ම කරගෙන යන බව ය. මෙම වාතාවරණය තුළ කාන්තාරයේ ජීවත් වන බොහොමයක් ගැහැනුන් මෙම අවස්ථාව තමුන් ගේ වාසියට හරවා ගැනීමට උත්සාහ කරමින් තමුන්ට වාරිස් නමින් දියණියක් සිටින බවත්, ඇය පදිංචි ව සිටින්නේ ලන්ඩන් නගරයේ බවත් කියමින් මගේ අම්මා කියා බොරුවට පෙනී සිටින්නට ඉදිරිපත් ව ඇත. එහෙත්, ඇත්තෙන් ම මෙහි ඇති පුදුමය නම් මගේ ජීවිතයේ කිසි ම දිනක වාරිස් නමින් වෙනත් අයෙක් මෙතෙක් මට හමු නො වීම යි.

"මේ බලන්න ඔය කාන්තාරයේ ජීවත් වන අය අන්තයට ම දුගී දුප්පත් අය... ඒ හින්දා නිසැකයෙන් ම ඔවුන් උත්සාහ කරන්නෙ ඔබලාගෙන් කිසියම් මුදලක් කඩා වඩා ගන්න" මම ඔවුන්ට තත්ත්වය පැහැදිලි කළෙමි. මේ අවස්ථාවේ අම්මා ගේ පින්තූරයක් මා ළඟ නො මැති වීම මොන තරම් අවාසනාවක් ද?

"ඒක නෙමේ වාරිස් මට හොඳ අදහසක් ආවා... ඔබ ගැන ඔබේ අම්මා විතරක් දන්න මොකක් හරි රහසක් තියෙනව ද?" ජෙරී නව අදහසක් ඉදිරිපත් කළේ ය.

"ඔව් ඔව්... මගෙ අම්මා මට කතා කළේ අවොඩොහල් *(Avdohol)* කියලා... ඒ කියන්නෙ 'කට පුංචා' කියලා... ඒක දන්නෙ අම්මා විතරයි."

"ඔයාගෙ අම්මට ඒක තවමත් මතක ඇති කියලා ඔයා හිතනව ද?"

"සත්තකින් ම... ඒක එයාට කවදාවත් අමතක වෙන්නෙ නෑ."

මගේ අම්මා නමින් ඉදිරිපත් වූ ගැහැනුන් සමග අප්‍රිකාවේ සිටින බීබීසී නියෝජිතයින් විසින් කරන ලද ප්‍රශ්න කිරීමේ දී ඔවුන්ගෙන් මගේ සුරතල් නාමය ගැන අසා එයට නිසි පිළිතුර දෙන්නට නො හැකි වූ විට බීබීසී නියෝජිතයින් විසින් ඔවුන් කපා හැර ඇත. අවසානයේ දී දිනක් පේරීගෙන් නැවතත් දුරකතන ඇමැතුමක් මා වෙත ලැබුණි.

"වාරිස් මේ වතාවේ දී අපේ කණ්ඩායම ඔයාගෙ අම්ම ව හොයාගෙන තියෙනවා... හැබැයි එයාට ඔයාගෙ සුරතල් නම නං මතකේ තිබිලා නෑ... නමුත්, එයාට වාරිස් කියලා දුවක් ඉන්න බවත්, ඇය ලන්ඩන් නගරෙ තානාපති නිවසක සේවය කළ බවත් කියලා තියෙනවා."

එම ප්‍රවෘත්තිය ඇසූ මම පසුදින ම ලන්ඩන් බලා පිටත් වුණෙමි. එහෙත්, බීබීසියේ වාර්තා චිත්‍රපට කණ්ඩායමට සූදානම් වීම සඳහා තවත් දින කීපයක් අවශ්‍ය බව ලන්ඩනයට පැමිණි පසු දැන ගතිමි. අවසානයේ දී ඉතියෝපියාවේ අගනුවර වන අඩිස්අබාබා දක්වා ගුවනින් ගොස් එහි දී කුඩා අහස්යානයක් කුලියට ගෙන ඒ මඟින් ඉතියෝපියා - සෝමාලි කඳවුම තෙක් යන්නට සැලැසුම් කරන ලදී. ඇත්තෙන් ම සෝමාලියාවට යන ගමන ඉතා භයානක ගමනක් විය. ඊට හේතුව එවකට පැවැති යුද්ධය යි. යුද්ධය නිසා සෝමාලියාවට යන්න කොහෙත්ම අවකාශයක් නො වූ අතර, මගේ පවුල ඉතියෝපියානු කඳවුරට ගෙන්වා ගත යුතු ව තිබුණි. අප කුලියට ගත් කුඩා අහස් යානය බැස්සවිය යුතු ස්ථානයේ ධාවන පථයක් නො වූ හෙයින්, යානය බැස්සවීමට තිබුණේ කටුපඳුරු සහ ගල්වලින් වැසී ගිය කාන්තාරය මැද වූ පෙදෙසකට ය.

බීබීසී කණ්ඩායම ගමනට සූදානම් වන තෙක් මම ලන්ඩනයේ හෝටලයක නවාතැන් ගත්තෙමි. නයිජල් මා බැහැ දැකීමට එහි පැමිණියේය. මා පත් ව සිටි අඩමාන තත්ත්වය නිසා මම නයිජල් සමග සුහදශීලී ව කටයුතු කරන්නට උත්සාහ කළෙමි. නයිජල් රැකියා විරහිත ව සිටි හෙයින් වේල්ස් හි සිය නිවස සඳහා බැංකුවට මාස්පතා ගෙවිය යුතු මුදල ගෙවා ගන්නට නො හැකි තත්ත්වයක පසු වූයෙන් ඒ වනවිටත් එම ගෙවීම කරන ලද්දේ මා විසිනි. එ මතු ද නො ව, මා ඔහුට රැකියාවක් ද සොයා දුන් නමුදු, සතියකට පමණ පසු ඔහු එම රැකියාවෙන් පහකර දමා ඇති බැව් මට දැන ගන්නට ලැබුණි. වාර්තා චිත්‍රපටයක් සඳහා මා සෝමාලියාවට යන්නට නියමිත ව සිටින බව පළමුවෙන් ම ඔහු දැන

ගත් මොහොතේ සිට තමා ද කැටුව යන ලෙස කියමින් ඔහු මට කරදර කරන්නට පටන් ගත්තේ ය.

"මාත් එනවා ඔයත් එක්ක යන්ඩ... අනෙක ඔයාගෙ ආරක්ෂාවට මම ඉන්ඩ ඕනැ" ඔහු කීවේ ය.

"නයිජල් මම ඔයා ව කොහොමටවත් එක්කගෙන යන්නෙ නැ... තේරුණා ද... අනෙක මම මොනව කියල ද ඔයා ව මගෙ අම්මට අඳුරලා දෙන්නෙ."

"ඔයාගෙ ස්වාමිපුරුෂයා කියලා."

"පිස්සුද... ඒකනං කොහෙත් ම කෙරෙන දෙයක් නෙමෙ."

අම්මට හඳුනා දීමට මට අවශ්‍ය ව ඇත්තේ නයිජල් වැනි පුද්ගලයකු නො වේ. ස්වාමිපුරුෂයා වශයෙන් නම් කිසි කලෙකත් එ වැනි පුද්ගලයකු මම අම්මාට හඳුන්වා නො දෙමි. වැඩි දිනක් යන්නට පෙර ජෙරීට ද නයිජල් එපා විය. සෑම දිනක ම මෙන් රාත්‍රී කෑම සඳහා මම ජෙරී ව මුණ ගැසුණෙමි. අපි එකතු වී ගමන ගැන බොහෝ දේ සාකච්ඡා කළෙමු.

"අදත් රාත්‍රී කෑමට නයිජල් එනව ද... වාරිස් කරුණාකරලා මිනිහ ව මේ වැඩෙන් අයින් කරන්න" දිනක් ජෙරී දුරකථනයෙන් කීවේ ය.

දිනක් නයිජල් මා නැවැතී සිටි හෝටලයට පැමිණ මගේ ගමන් බලපත්‍රය හොරකම් කර ගත්තේ ය. තව දින කීපයකින් අපි සෝමාලියාව බලා පිටත් ව යෑමට සූදානමින් සිටින බව ඔහු දැන සිටියේ ය. මොන ම ක්‍රමයකින්වත් ගමන් බලපත්‍රය නැවත ලබා ගැනීමට ඔහු කැමැති කරවා ගන්නට නො හැකි විය. බලාපොරොත්තු සුන් වී ව්‍යාකූලත්වයට පත් මම, එක් හැන්දෑවක ජෙරී ව හමු වී සිද්ධිය ඔහුට විස්තර කළෙමි.

"ජෙරී සමහර විට ඔයා මාව විශ්වාස කරන එකක් නැ... නයිජල් මගේ පාස්පෝර්ට් එක හොරෙන් අරගෙන... දැන් ඒක දෙන්ඩ බැ කියනවා."

එය ඇසූ ජෙරී දැතින් ම සිය හිස බදාගෙන එ තැන ම ඉඳ ගත්තේ ය.

"වාරිස්... මේ විදියට වැඩ කරන්න බැ... මට දැන් මේ වැඩේ එපා වෙලා තියෙන්නෙ" ඔහු තරමක කේන්තියෙන් කීවේ ය.

ජෙරී සහ බීබීසී කණ්ඩායමේ අනෙකුත් සාමාජිකයින් එක් වී නයිජල්ට කරුණු පහදා දී මගේ ගමන් බලපත්‍රය ආපසු ලබා ගැනීමට උත්සාහ කළත් ඔවුන් ගේ ඉල්ලීමට කන් නො දුන් නයිජල් මගේ ගමන්

බලපත්‍රයත් රැගෙන වේල්ස් බලා පිටත් ව ගියේ ය. පසු දින මා නයිජල් හමුවීමට වේල්ස් නගරයට ගොස් මගේ ගමන් බලපත්‍රය නැවත ඉල්ලා ඔහුට කන්නලව් කළත් හෙතෙම කියා සිටියේ තමා ව අප්‍රිකාවට කැටුව යන්නේ නම් පමණක් ගමන් බලපත්‍රය ආපසු දෙන බව යි. කරුණු කෙසේ වුව ද නයිජල් අප්‍රිකන් ගමනට සම්බන්ධ කර ගැනීම කොහෙත්ම කළ නොහැක්කකි. එහෙත්, වසර පහළොවකට පසු අම්මා දැක ගැනීමට මට ලැබුණ අවස්ථාව නිසා මා තුළ වූ ඒ අසීමිත බලාපොරොත්තු නයිජල් නිඹිරි ගෙයි ම මරා දැම්මේ ය.

“නයිජල් ඔයා අපි ඔක්කොට ම හිසරදයක්... අවුරුදු පහළොවකට පස්සෙ මගෙ අම්මා දැක බලා ගන්නට පැදී තියෙන අවස්ථාව මට ඔයා නිසා නැතුව යනවා... ඇයි මේක තේරුම් ගන්න බැරි” මම හඬමින් කීවෙමි.

එ නමුදු අප්‍රිකන් ගමනට ඔහු සම්බන්ධ කර නො ගැනීම නිසා ඔහු තුළ අප සියලු ම දෙනා කෙරෙහි ද්වේෂයක් ඇති වී තිබුණි. “උඹලා කිසි ම සාධාරණත්වයක් නැති මිනිස්සු” නයිජල් ගිගිරුවේය.

මේ ගමන යන්නට මගේ ගමන් බලපත්‍රය ආපසු දෙන්නේ නම් මෙම වාර්තා චිත්‍රපටයේ කටයුතු අහවර වූ පසු නිසැකයෙන් ම ඔහු අප්‍රිකාවට කැටුව යන බවට මම පොරොන්දු වුණෙමි. එහෙත්, එය කිසි දා ඉටු නො වන පොරොන්දුවක් පමණක් බව මම හොඳාකාර ව දැන සිටියෙමි. ඒ වැනි කුටෝපායකින් මගේ ගමන් බලපත්‍රය ලබා ගැනීම ගැන සත්‍ය වශයෙන් ම මා තුළ ආඩම්බරයක් හෝ සතුටක් හෝ නො මැත.

එක් පැහැබර දිනයක අප රැගත් කුඩා අහස් යානාව යුද්ධයට බියෙන් පලා යන සෝමාලියානු සරණාගතයින් රැස්කමින් සිටි සෝමාලියා-ඉතියෝපියා කඩඉම අසල ඉතියෝපියාවට අයත් ගල්ලඩි (Galadi) නමැති ගම්මානයට ගොඩ බස්සවන ලදී. යානයේ රෝද, රතු පැහැ ගැන්වී තිබූ කාන්තාර වැල්ලේ වැදීමෙන් දූවිලි එක පොදියට අහසට නැගෙන්නට වූ අතර, යානය ගැස්සෙමින් පැද්දෙමින් ඉදිරියට ඇදී ගියේ ය. යානය දුටු ගල්ලඩි ගම්මානයේ වැසියන් යානය දෙසට දිව එන්නට වූයෙන් කාන්තාරය දූවිල්ලෙන් වැසී යන්නට විය. ඇත්තෙන් ම අහස් යානයක් මෙ තරම් සමීප ව දැක ගන්නට මීට පෙර ඔවුන්ට අවස්ථාවක් ලැබී නො මැති බවට සැකයක් නැත. බීබීසී කණ්ඩායමත් සමඟ යානයෙන් බිමට බැසගත් මම යානය දෙසට දිව එමින් සිටි පිරිසට සෝමාලියානු භාෂාවෙන් කතා කරන්නට උත්සාහ කළෙමි. එහෙත්, ඔවුන්ගෙන් සමහරක් ඉතියෝපියානු ජාතිකයන් වූ අතර, සමහරක් දෙනා සෝමාලි

ජාතිකයන් වුවත්, ඔවුන් කතා කළේ මා දන්නා සෝමාලි භාෂාවට වඩා වෙනත් උප භාෂාවක් වූයෙන් ඔවුන් සමග කතා කිරීමට නො හැකි නිසා මම මගේ උත්සාහය අත් හළෙමි.

උණුසුම් වූ වාතලය ශක්සේ හමා එන සුළඟ සහ රත් වී ගිය කාන්තාර වැල්ල තුළින් මට අහිමි වී ගිය මගේ සොඳුරු ළමා විය මතකයට නගා එන්නට විය. කාන්තාරයේ වූ සෑම කුඩු මහත් දෙයක් මට ආස්වාදයක් ගෙන දෙන්නට වූ අතර, මම කාන්තාරය හරහා දිව ගියෙමි.

"වාරිස් ඔයා ඔය කොහෙද දුවන්නෙ" බිබිසී කණ්ඩායම මා දිව යන දෙස බලා කෑ ගසන්නට විය.

"ඔයගොල්ලො ඔයගොල්ලන්ගෙ වැඩක් කරන්න... මම පස්සෙ එන්නම්."

කාන්තාරයේ ඇතට දිව ගොස් වැල්ල මත දණ ගසා ගත් මම දෑතින් ම වැල්ල ස්පර්ශ කළෙමි. අනතුරු ව දූවිල්ලෙන් වැසී ගොස් තිබුණ ගසක් පිරිමදින්නට වූ මට, ඒ වෘක්ෂය වියළී ඇති බව මගේ ඇඟිලි තුඩුවලට දැනෙන්නට විය. නමුදු වැසි කාලය අත ළඟ බවත්, වර්ෂාව ඇද හැලීමෙන් පසු ගස් කොළන් නැවතත් තිල් පැහැයෙන් දළුලා වැඩෙන බවත් මම දැන සිටියෙමි. කාන්තාරය හරහා හමා එන සුළඟෙන් මම මගේ පෙනහලු පුරවා ගත් විට මගේ ළදරු වියේ මතක සටහන් ඒ සුළඟෙහි දැවටී ඇති බව මට දැනෙන්නට විය. වසර ගණනාවක් පිටරටවල ජීවත් වුවත්, මා අවට ඇති මේ ගස් කොළන් සහ රතු වැල්ල සහිත කාන්තාරය එකල මගේ නිවහනයි... මගේ නිජබිම යි. නැවතත් මම මගේ නිජබිමට පැමිණ සිටීමේ ප්‍රීතිය, සතුට කරන කොටගෙන මගේ දෙනෙතින් සතුටු කඳුළු දෝරේ ගලා යන්නට විය. මෙ පමණ කලක් මේ භූමියෙන් වෙන් ව සිටී ම නිසා මා තුළ මහත් වේදනාවක් ඇති වන්නට විය. අවට සිසාරා බලන කල මේ භූමිය අත හැර මෙ පමණ කලක් මා පිට රටවල ජීවත් වූයේ කෙසේදැයි යන්න ඇත්තෙන් ම මට ම මහත් පුදුමයකි.

ආපසු ගම්මානය වෙත ගිය විට මා වට කරගත් ගම්මු මගේ අත අල්ලා ගෙන මා සාදරයෙන් පිළි ගත්හ. ඇත්තෙන් ම අපි බලාපොරොත්තු වූ කිසිවක් මෙහි සිදු වී නො මැති බව වටහා ගන්නට අපට වැඩි කාලයක් ගත නො වී ය. මගේ අම්මා සොයා ගත්තේ කෙසේදැයි එහි සිටි කිසිවෙක් දැන නො සිටියෝ ය. මෙම වාතාවරණය තුළ බිබිසී කණ්ඩායම අධෛර්යයට පත් ව සිටි අතර, මෙම ව්‍යාපෘතිය සඳහා වෙන් කර ඇති මුදල නැවත වතාවක් සෝමාලියාවට මේ සඳහා එන්නට තරම් ප්‍රමාණවත් ව නො තිබුණි.

"හරි ම ප්‍රශ්නයක්... මේ කොටස රූපගත කරන්නෙ නැති ව මේක සංස්කරණය කරන්න කොහෙත්ම බෑ... දැන් ඉතින් අපි මොකද කරන්නෙ" ජෙරී කනස්සල්ලෙන් පැවැසුවේ ය.

මගේ පවුල ගැවැසෙන ඉසව්වක් දන්නා අයකු හෝ ඒ අය සොයා ගැනීම සඳහා තොරතුරක් සපයන්නට හැකි අයකු හෝ සොයා අපි මුළු ගම්මානය ම පීරුවෙමු. බීබීසී කණ්ඩායම මගේ පවුල සොයා ගැනීම සඳහා ගම්මුන් ගේ උපකාරය බලාපොරොත්තු වන පුවත පැතිරී යත් ම අපට උදව් කිරීමට ගම්මු ඉතා උනන්දුවෙන් ඉදිරිපත් වූහ. එ දින සවස් වරුවේ මා සොයාගෙන පැමිණි එක් පුද්ගලයෙක් මගෙන් මෙසේ ඇසුවේ ය.

"මාව අඳුරන්න පුළුවන් ද?" හෙතෙම ප්‍රශ්න කළේ ය.

"මට නං මතකයක් නැහැ" මම පිළිතුරු දුනිමි.

"මම ස්මයිල්... ඔයගොල්ලන්ගෙ තාත්තගෙ හොඳ මිත්‍රයෙක් වගේ ම එයා අයත් ගෝත්‍රයට අයිති කෙනෙක්."

එවිට මම ඔහු හඳුනා ගත් නමුදු එතෙක් ම ඔහු හඳුනා ගැනීමට නොහැකි වීම ගැන මා තුළ මහත් ලැජ්ජාවක් ඇති විණ. මා කුඩා අවධියේ ඔහු දුටුවාට පසු අපි බොහෝ කලකින් හමු නො වීම එයට හේතුවයි.

"මම දන්නවා ඔයගොල්ලන්ගෙ පවුල ඉන්න ඉසව්ව... මගේ වාහනයට තෙල් ගහන්න සල්ලි දෙනව නම්... මට පුළුවන් ඔයාගෙ අම්ම ව එක්කගෙන එන්න" ස්මයිල් පිකප් වර්ගයේ රථයකට අත දිගු කරමින් කිසි ම පැකිළීමකින් තොර ව කීවේය.

එවිට මට මෙසේ සිතුණි. "මේ පුද්ගලයා මා විශ්වාස කරන්නේ කෙසේ ද? අප ගේ මුදලුත් රැගෙන ගොස් ඔහු නැවත් සිටියොත් අපි කුමක් කරමු ද?"

එ තරම් අබලන් වූ රථයක් සොයා ගත හැකි වන්නේ අප්‍රිකාවේ හෝ බටහිර පරණ කාර් විසි කර දමන ස්ථානයක දී හෝ පමණි. රියැදුරු ආසනය ඇති පැත්තේ දොර ගැලැවී ගොස් තිබුණ අතර, අනෙක් පැත්තේ ජනේලයේ වීදුරුව බිඳී ගොස් තිබුණේ ය. රිය පැදවන විට කාන්තාරයේ දූවිල්ල සහ මැස්සන් වාහනය තුළට එනවාට කිසි ම සැකයක් නැත. එ මතු ද කාන්තාරයේ ගල් මුල්වල වැදී රෝද පළුදු වී ගොස් තිබුණි. එ මතු ද නො ව, රථයේ බොඩියට කවුරුන් හෝ අතකොලුවකින් තඩි බා ඇති සෙයක් පෙනෙන්නට තිබුණි.

"පොඩ්ඩක් ඉන්නව ද... මම අර මහත්තුරුත් එක්ක කතා කරලා වචනයක් දෙනකං..."

මම ජෙරී වෙත ගොස් කාරණය ඔහුට විස්තර කළෙමි.

"ඇහුණ ද ජෙරී... අර මනුස්සයා කියනවා මගේ පවුල ඉන්න ඉසව්ව එයා දන්නවා කියලා. ගිහින් එක්කගෙන එන්න පුළුවන්ලු... හැබැයි මිනිහා වාහනයට තෙල් ගහන්න මුදලක් ඉල්ලනවා."

"ඉතින් අපි කොහොම ද මිනිහා විශ්වාස කරන්නෙ" ජෙරී ගත් කටට ම කීවේ ය.

"ඒක ඇත්ත... නමුත් වෙලාවෙ හැටියට අපිට වෙන කරන්න දෙයක් නැහැ."

මගේ අදහසට එකඟත්වය පළ කළ ජෙරී ඔහුට මුදල් දුන්නේ ය. මුදල් අතට ගත් ස්මයිල් රථය වෙත දිව ගොස් එය පණ ගන්වා දූවිල්ල ද අවුස්සමින් දූවිල්ල අතරින් නො පෙනී ගියේ ය.

අපිට මීට වඩා මුදල් වියදම් කරන්න නම් බැහැ" දූවිලි අතරින් නොපෙනී යන රථය දෙස බලමින් ජෙරී කීවේ ය.

"ජෙරී මම ඔබට පොරොන්දු වෙනවා දින තුනකින් අම්ම ව හොයා ගන්නවා කියලා" මගේ අනාවැකිය ගැන තරමක විශ්වාසය තැබූ බීබීසී කණ්ඩායම තුළ කිසියම් උද්දාමයක් ඇති වන්නට විය. මගේ අම්මා සොයාගෙන වාර්තා චිත්‍රපටයේ ඉතිරි රූපගත කිරීම් දින අටකින් අහවර කළ යුතු ව තිබුණේ අප ආපසු රැගෙන යන්නට අහස් යානය දින අටකින් පැමිණෙන්නට නියමිත ව තිබුණ බැවිනි. එ මතු ද නො ව, අඩිස්අබාබා සිට ලන්ඩන් බලා යන්නට සියලු ම විධි විධාන යොදා තිබුණ අතර, එ දිනට අප පිටත් ව යා යුතු ව තිබුණි. එහෙයින් අම්මා සොයා ගත්තත් නැතත්, වාර්තා චිත්‍රපටය රූපගත කළත් නැතත් ඒ දිනට අප සියලු ම දෙනා ආපසු යා යුතු ව ඇත.

අම්මා සොයාගෙන එන තෙක් මම, ගම්මානයේ සැරිසරමින් ගම්මුන් ගේ කුඩාරම්වලට ගොස් ඔවුන් සමඟ ආහාර බුදිමින් කෙළිදෙලෙන් සහ ප්‍රීතියෙන් කල් යැව්වෙමි.

බීබීසී කණ්ඩායම නිදා ගැනීම සඳහා අසල ගොඩනැගිල්ලක් සොයා ගන්නා ලදී. කියවන්නට පොත්පත් සහ ලාම්පු ද රැගෙන එහි ගිය නමුදු, මදුරුවන්ගෙන් පීඩා විඳීමට සිදුවීම නිසා මුළු රාත්‍රිය ම ඔවුන්ට නිදිවර්ජිතව සිටින්නට සිදු ව ඇත. ටින්වල අසුරන ලද බෝංචි ඇට

දිගින් දිගට ම අනුභව කරන්නට සිදුවීම නිසාත්, ආහාරය සඳහා ගැනීමට වෙන යමක් සොයා ගන්නට නො තිබුණ බැවින් ඒ ගැන ඔවුහු මැසිවිලි නගන්නට වූහ.

බීබීසී කණ්ඩායමට සංග්‍රහයක් කරන්නට සිතූ සෝමාලි ජාතිකයකු දිනක් කුඩා බැටළු පැටවකු රැගෙන ආ අතර, බීබීසී කණ්ඩායමේ සාමාජිකයින් බැටළු පැටවා සමඟ සෙල්ලම් කරමින් විනෝද වන්නට විය. මඳ වේලාවකට පසු බැටළු පැටවා රැගෙන ගිය සෝමාලි ජාතිකයා බැටළු පැටවා මස්කොට ගෙනැවිත් ඉතා ආඩම්බරයෙන් රාත්‍රී කෑම සඳහා යයි පවසමින් බීබීසී සාමාජිකයින්ට පිළිගැන්නුවේ ය. එය දුටු බීබීසී සාමාජිකයින්ට සිය ඇස් අදහා ගැනීමට නො හැකි වූ නමුදු, ඔවුන් ඒ ගැන කිසිවක් නො කීවේ ය. අසල කුඩාරමකින් ඇතිලියක් ඉල්ලා ගෙන පැමිණි මා ලිපක් සාදා ගිනි මොළවා බත් සහ බැටළු මස් ඉව්වෙමි.

"වාරිස් ඔයා හිතන්නෙ අපි ඔය මස් කයි කියල ද?" සෝමාලි ජාතිකයා එ තැනින් ගිය පසු ඔවුහු ඇසූහ.

"ඇයි මොකක් ද ප්‍රශ්නෙ?"

සෝමාලි ජාතිකයා පළමුවෙන් බැටළු පැටවා සුරතල් කොට පසු ව මරා දැමීම ගැන කලකිරුණ බීබීසී කණ්ඩායම ඒ මස් අනුභව කිරීම තරයේ ම ප්‍රතික්ෂේප කළහ. දින තුනකින් අම්මා සොයා දෙන බවට මා වූ පොරොන්දුව කෙසේ වී නමුදු, අම්මා ගැන කිසි ම සලකුණකුදු නොමැති ව දින තුන ගෙවී ගියේ ය. තුන්වන දිනයේ දී ජෙරී නොසන්සුන් වන්නට විය. එහෙත්, අම්මා නො වැරැදී ම එන බව කියමින් මම ඔවුන් ව දිරිමත් කිරීමට උත්සාහ කළෙමි. එ වදන් ඇසූ බීබීසී කණ්ඩායම මා විහිළුවට ගත්හ.

"හෙට හැන්දෑවෙ හය වෙන්න ඉස්සර අම්මා එනවා... ඒක මට සහතිකයි" මම කීවෙමි.

එ වැනි විශ්වාසයක් මා තුළ හට ගත්තේ කෙසේදැයි මම නො දනිමි. එහෙත්, මට සිතුණ දේ මම කීවෙමි. මගේ නවතම අනාවැකිය ගැන ඔවුන් මා හට නොයෙකුත් ඇනුම්පද කියන්නට විය.

"වාරිස් ඔයා කොහොම ද ඔයා ගේ අම්මා එනව ම කියලා දන්නෙ... ඔව් ඉතින් වාරිස් වැස්ස එන දිනය ගැනත් අනාවැකි කියනව නෙ" කණ්ඩායමේ කෙනෙක් මට ඇනුම් පදයක් වශයෙන් කීවේ ය.

"ඇයි මම කියපු විධියට ම වැස්සෙ නැත්ද?"

"ඔ වාරිස් ඒ වැස්ස අහඹු සිද්ධියක්."

"ඒක අහඹු සිද්ධියක් නෙමෙ... මේ පොළොවෙ මම හැදුණෙ... වැඩුණෙ... අපි මෙහෙ ජීවත් වුණේ අප උප්පත්තියෙන් ම ලැබුණ සහජ බුද්ධියෙන් තේරුණා ද?"

ඔවුහු එකිනෙකා ගේ මුහුණු දෙස බලා ගත්හ.

"හරි හරි ඔයගොල්ලො මාව විශ්වාස නො කළට කමක් නෑ... හැබැයි හෙට හැන්දෑවෙ හය වෙනකොට මම කිව්වෙ මොනව ද කියලා ඔයගොල්ලන්ට තේරෙයි."

පසුදින මම එක් කුඩාරමක් තුළ මහලු කාන්තාවක් සමඟ කතා කරමින් සිටින අතර, එකවර ම ජෙරී ඒ තැනට දිව ආවේ ය.

"වාරිස් මෙක නං ඔයා විශ්වාස කරන එකක් නෑ" ජෙරී කලබලයෙන් කීවේ ය.

"මොකක් ද?" මම ඇසුවෙමි.

"අපිට හැබැයි හරියට ම කියන්න බෑ... මම හිතන විධියට ඔයාගෙ අම්මා ඇවිල්ලා."

මට එකවර ම සිනහා ගියේ ය.

"අර ඔයගොල්ලන්ගෙ අම්මා ව එක්කගෙන එනවයි කියලා ගිය මනුස්සයා ගැහැනු කෙනෙකුත් එක්ක ඇවිල්ලා ඉන්නවා... එන්ඩ ගිහින් බලන්න" ජෙරී නො සන්සුන් ව මිමිනුවේ ය.

ඒ ආරංචිය ලැව් ගින්නක් මෙන් ගම පුරා පැතිර ගියේ ය. හැම අයකුට ම සිද්ධියේ ඇත්ත නැත්ත දැන ගැනීමට මහත් උනන්දුවක් ඇති වී තිබුණි. අප සිටි දෙසට ගම්මු රොක් වන්නට වූහ. ඒ වනවිට බිම් කළුවර වැටෙමින් තිබුණි. සෙනග අතරින් ජෙරී මා කැඳවාගෙන ගියේ ය.

මා දුර සිට ම පිකප් රථය දුටු අතර, කිසියම් ගැහැනු කෙනෙක් එයින් බසිනවා අඳුර තුළින් මම දුටුවෙමි. නැගෙමින් තිබූ අඳුර නිසා මට ඇය කවුදැයි හරිහැටි හඳුනා ගන්නට නො හැකි වුවත්, ඇය සිය උතුරු සළුවෙන් හිස වසා සිටි අයුරු දුටු වහා ම ඇය මගේ අම්මා බැව් මම හැඳින ගත්තෙමි. එක් වර ම ඇය වෙත දිව ගිය මම ඇය ව බදා ගත්තෙමි.

"දවස් දෙකක් තිස්සෙ මේ වෑන් කාටුවෙ මම ආවෙ මහ පුදුම ගමනක්... ඔ... අල්ලාහ්..." ඇය අහස දෙස බලාගෙන කීවේ ය.

"පෙරී... මගෙ අම්මා තමයි ඇවිල්ලා ඉන්නෙ" මම පෙරී සිටි දෙසට හැරී කෑ ගැසුවෙමි.

ඊළඟ දින දෙක තුළ මට මගේ අම්මාත් සමඟ තනි වෙන්නට ඉඩ හරින ලෙස මම පෙරීගෙන් ඉල්ලා සිටියෙමි. ඔහු මගේ ඉල්ලීමට ඉතා කරුණාවෙන් එකඟ විය. මම මගේ මව්බිමින් බැහැර ව අවුරුදු පහළොවක් වැනි කාලයක් පිට රටවල සිටීම නිසා මගේ මව් බස පරිහරණය කිරීමට අවස්ථාවක් නො මැති වීම හේතු කොටගෙන සෝමාලි බස හැසිරවීම මා හට තරමක් අපහසු වූයෙන් අම්මා සමඟ කතා කිරීම ඇත්තෙන් ම එ තරම් පහසු නො වී ය. එ මතු ද නො ව, ඊටත් වඩා හද පාරවන සිද්ධිය නම් අප දෙදෙනා ඇත්තෙන් ම ආගන්තුකයින් බවට පත් ව සිටීම යි. පළමුවෙන් ම අපි එදිනෙදා ජීවිතයේ සාමාන්‍ය දේවල් ගැන කතා කළෙමු. ඇය මුණ ගැසීමෙන් මා තුළ ඇති වූ සතුට නිසා අප අතර වූ පරතරය අබිබවා යන්නට මට හැකි විය. එ මතු ද නො ව, ඇයට සමීප ව සිටීමත් මට මහත් ආස්වාදයක් විය. දින දෙකක් පුරා කාන්තාරය හරහා අම්මා පැමිණි ගමන ඉතා වෙහෙස කර ගමනක් බැවින් ඇය අතිශයින් ම වෙහෙසට පත් ව සිටි අතර, පසුගිය වසර පහළොව තුළ දී අම්මා මහත් සේ මහලු වී සිටියා ය. කාන්තාරයේ වූ කයෝර ජීවිතයත් පවුලක් ජීවත් කරවීම සඳහා ඇය පිට පැටවී ඇති, දරන්නට නො හැකි තරම් වැඩත් ඇය ගේ ක්ෂණික මහලු බවට හේතු වන්නට ඇත.

මගේ පියා ඇය සමඟ නො සිටියේ ය. ඇය කැඳවාගෙන එන්නට පිකප් රථය එනවිට මගේ පියා ජලය ගෙන එන්නට ගොස් සිටි බැවින්, ඔහුට මේ ගමනට සහභාගි වන්නට නො හැකි වූවා යයි ඇය පැවැසුවා ය. මගේ පියාත් මහලු වී ඇති බවත්, ඔහු ගේ ඇස් පෙනීම අතිශයින් ම දුර්වල ව ගොස් ඇති බැවින්, ඉතා ඉක්මනින් ඔහුට උපැස් යුවළක් අවශ්‍ය බව ඇය තවදුරටත් කියා සිටියා ය. අම්මා මේ ගමන එන්නට දින අටකට පෙර මගේ පියා ජලය සොයාගෙන කාන්තාරයට ගිය බවත්, මෙතෙක් ඔහු ආපසු නො පැමිණ සිටීම ගැන ඇය මහත් කනස්සල්ලකින් පසු වූවා ය. ඒ මොහොතේ මා මගේ පියා ගැන මතකය අවදි කරන්නට උත්සාහ කළ අතර, ඇත්තෙන් ම ඔහු කෙතරම් මහලු වී ඇත්දැයි මම ප්‍රත්‍යක්ෂ වශයෙන් අවබෝධ කර ගතිමි. එ කල අපි අප ගේ පියා නො මැති ව කාන්තාරයේ සැරිසැරුවත් සඳ නො මැති මාසෙ පෝය දිනක ඉතා කළුවර රාත්‍රියක වුවත්, ඔහුට අප සොයා ගැනීමට අපහසු වූයේ නැත.

මගේ මල්ලි අලි සහ අප ගේ ඥාති සොහොයුරකු ද අම්මා සමඟ පැමිණ සිටියේ ය. අලි තවදුරටත් එදා මම සුරතල් කළ සිඟිති කොලු

පැටියා නම් නො වී ය. අඩි හයකුත් අඟල් හතරක් උස් වූ මෙතෙම ඒ ගැන මහත් ආඩම්බරයකින් සිටියේ ය. මා අලි තුරුලු කරගැනීමට උත්සාහ කළ විට ඔහු එය ප්‍රතික්ෂේප කරමින් මෙසේ කීවේ ය.

"මම තවමත් අර පුංචි කොල්ලා නෙමෙයි වාරිස්... මම මෙහෙට අනිද්දා කසාද බඳින්න ඉන්නෙ."

"මොනවා ඔයා කසාද බඳිනවා... දැන් ඔයාට වයස කීයද?" මම ප්‍රශ්න කළෙමි.

"මම දන්නෙ නෑ... මම හිතන්නෙ කසාද බඳින්න වයස හරි."

"ඒ වුණාට ඔයා මට නං තාමත් එදා මම හුරතල් කරපු පුංචි කොලු පැටියමයි... මෙහෙට එන්ඩ."

මම අලිව අල්ලා තුරුලු කරගෙන ඔහු ගේ හිස පිරිමැද්දෙමි. එය දුටු මගේ ඥාති සහෝදරයා සිනාසෙන්නට විය.

"ඔයා දන්නව ද ඒ කාලෙ මම මෙයාගෙ පස්සත් හෝදලා තියෙනවා... ඒ විතරක් නෙමෙයි, ඉස්සර ඔයගොල්ලන්ගෙ අම්මලා අපේ ගෙදර ආවා ම මම ඔයා ව බලාගෙන තියෙනවා" මම මගේ ඥාති සහෝදරයාට කීවෙමි.

ගල්ලිඩි ගම්මානයේ එක් පැල්පතක අපට නිදා ගන්නට ඉඩ දී තිබුණි. එ දින රාත්‍රියේ අම්මා ඒ තුළ නිදාගත් අතර, කුඩා කාලයේ මෙන් මම අලිත් සමඟ එළිමහනේ නිදා ගත්තෙමි. එළිමහනේ වැතිර සිටින විට මා හට වචනයෙන් විස්තර කළ නො හැකි සතුටක් සහ ශාන්ත භාවයක් දැනෙන්නට විය. එ දින රාත්‍රියේ අලිත් මමත් බොහෝ රෑ බෝ වනතුරු අල්ලාප සල්ලාපයේ යෙදුණෙමු. දිනක් අප දෙදෙනා එකතු වී තාත්තා ගේ දෙ වැනි භාර්යාව අල්ලා ගසක බැඳ දැමූ සැටි මතක් කරමින් සිනාසුණෙමු.

මුල දී අලි තරමක් ලජ්ජාවෙන් සිටිය ද, පසු ව ඔහු මා සමඟ ඉතාමත් කුලුපග විය. "වාරිස් ඔයා ගියාට පස්සෙ ඔයා නැති පාළුව හින්දා මෙච්චර කාලයක් මම හරි දුකෙන් හිටියෙ... කාලය ගිය ඉක්මන්... ඔයා අද ලොකු ගැනියෙක්... මම මිනිහෙක්... හිතා ගන්ඩත් අමාරුයි නේද?"

මගේ පවුල වෙත නැවත පැමිණීමට ලැබීමෙන් මම අමන්දානන්දයට පත් වීමි. ඒ අය සමඟ අපේ භාෂාවෙන් අපේ දේවල් ගැන කතා කරමින්, වාද කරමින් මම අසීමිත සතුටක් ලැබුවෙමි.

ගලිඩ් ගම්මානයේ සියලු ම ගම්මු අපට ඉතා ආදරයෙන් කරුණාවෙන් සැලැකුවෝ ය. සෑම දිනක ම අපට නොයෙකුත් අයගෙන් දවල් සහ රාත්‍රී භෝජන සංග්‍රහයන්ට ආරාධනා ලැබුණි. සෑම නිවසක දී ම ඔවුහු අපට ඔවුන් ගේ දූ දරුවන්, දෙමව්පියන් සහ ඥාතීන් හඳුනා දෙන්නට උත්සුක වූහ. ඔවුන් එ සේ කළේ මා ලෝකයේ ප්‍රසිද්ධ විලාසිතා නිරූපණ ශිල්පිනියක් නිසා නම් නො ව, මා ඔවුන් ගේ ම අයෙක් නිසාත්, මා ඔවුන් සොයාගෙන නැවත ගමට පැමිණි නිසාත් ය.

මා කරන රැකියාව ගැන අම්මාට තේරුම් කරදීම එ තරම් පහසු කාර්යයක් නො වී ය. එය කෙතරම් අපහසු වුවත්, මගේ වෘත්තිය ගැන ඇයට අවබෝධයක් ලබා දීමට මම උත්සාහ කළෙමි.

"වාරිස්... මොකක්ද ඔය කියන රස්සාව ඉතිං..."

"මම විලාසිතා නිරූපණ ශිල්පිනියක්."

"මොකක්... විරූපි... මොකක්ද ඒකෙ තේරුම."

ඇය දිගින් දිගට ම ප්‍රශ්න කළා ය.

පසුදින මෙතෙක් ඈ තුළ වූ කුළුටිකම ලජ්ජාව නැති ව ගොස් තිබූ අතර, මා පුංචි කාලයේ දී මෙන් ඇය මට නොයෙකුත් දේ ගැන අණ කර සිටින්නට වූවා ය.

"වාරිස්... ඔයා ඉන්න තැන කෑම ටිකක් උයා ගන්නෙ නැත්ද... මෙහෙට ඇවිල්ලා බලාගන්න මම උයන හැටි."

ඊළඟට මගේ සොහොයුරා අලි නොයෙකුත් දේ ගැන ප්‍රශ්න කරන්නට විය.

"මේ කාන්තාරෙ ඉන්න ඔයගොල්ලො මොනවද දන්නෙ... කරුණාකරලා කට පියාගන්න."

"හරි හරි දැන් ඔයා මහ ලොකු ප්‍රසිද්ධ ගෑනියෙක් නෙ... මේ අපිට ඔය බටහිර කුණුකන්දල් ගැන කියන්නට එන්ඩ එපා... අනෙක ඔයා බටහිර රටක ජීවත් වෙන හින්දා... ඔයා හිතන්නෙ ඔයා ඔක්කොම දන්නවා කියල ද?"

මේ විධියට අපි පැය දෙක තුනක් වාද කරගත්තෙමු. එහෙත්, ඔහු ගේ හිත නො රිදවීමට මම වගබලා ගත්තෙමි. එ නමුදු සමහර වැදගත් දේවල් ගැන මා ඔවුන්ට කියා නො දුන්නොත් ඔවුන්ට ඒ දේවල් දැන ගන්නට ක්‍රමයක් නැති බව මම ප්‍රත්‍යක්ෂ කළෙමි.

"අලි... මම හැම දෙයක් ගැන ම නං දන්නෙ නෑ... නමුත්, මම ලෝකෙ බොහෝ දේ දැකලා. මම මෙහෙ ඉන්නකොට දැනගෙන නොසිටි බොහෝ දේවල් ගැන දැන් මම දන්නවා" මම ඉතා සන්සුන් ව කීවෙමි.

"ඒ කියන්නෙ මොනවා ගැන ද?" අලි ප්‍රශ්න කළේ ය.

"ඒ කියන්නෙ අලි දැන් බලන්න ඔයගොල්ලො කාන්තාරෙ තියෙන ගස් කොළන් ටික කපලා ආනවා... ඒකෙන් වෙන්නෙ මේ පරිසරය ම විනාශ වෙන එකයි" මම විස්තර කළෙමි.

"ඒකෙ තේරුම මොකක් ද?"

"මේ තිබුණ ගස් කොළන් ටිකත් කපලා අල තියෙන හින්දා දැන් මේක සම්පූර්ණයෙන් ම කාන්තාරයක් වෙලා."

"වැස්ස නැති හින්දයි ඔය කාන්තාරයක් වාගේ පේන්නෙ... දැන් උතුරට වහිනවා. වැස්ස නිසා එහෙ ගස් කොළන් වැවිලා."

"අලි... උතුරට වහින්නෙ එහෙ ගස් කොළන් වැවිලා තියෙන හින්දා..."

මා කියූ දේවල් ඔවුන් පිළි ගත්තාදැයි මම නො දනිමි. එහෙත්, මෙම විෂය ගැන ඔවුන් සතු වූ දැනීම නිසා මට ඔවුන් සමඟ වාද කරන්නට ඇත්තෙන් ම නො හැකි ය.

"වාරිස් ඇයි ඔයා විවාහ වෙන්නෙ නැත්තෙ" ඊළඟට අම්මා ප්‍රශ්න කරන්නට පටන් ගත්තා ය.

ඇත්තෙන් ම විවාහය නමැති විෂය මා දවන ප්‍රශ්නයකි. එදා මා ගෙදරින් පැන යන්නට හේතු වූයේත් මෙම විවාහය පිළිබඳ ප්‍රශ්නය යි. ඒ ගමනේ දී මගේ නිදහස වෙනුවෙන් මට විඳින්නට වූ දුක් කරදර කිව නො හැකි තරම් ය. එහෙයින් කෙදිනක හෝ මගේ දරුවකුට නම් මම එ වැනි කටුක අත්දැකීමක් ලබන්නට නම් ඉඩ නො තබමි.

"ඇයි අම්මෙ... මම කසාද බැඳිය යුතු ම ද? ගැහැනියක් වුණා ම කසාද බඳින්න ම ඕනෑ ද? ඔයා කැමැති නැද්ද මම නිදහස්, සාර්ථක ගැහැනියෙක් වෙලා ඉන්නවා දකින්න... අනෙක මම තවමත් අවිවාහක ව ඉන්නෙ ඒකට හරි යන කෙනෙක් හම්බු වෙච්චි නැති හින්දා... ඒ සුදුසු කෙනා හමුවුණ දවසට ඒක සිද්ධ වෙයි."

"මට ආසයි ඔයාගෙ දරුවන්ගෙ සුරතල් බලන්න" ඇය කීවා ය.

"වාරිස් ඔයා දැන් නාකියි... කවුද ඔයාව බඳින්නෙ" එ සේ කියමින් මගේ සොහොයුරා අලි කතාවට පැටලුණේ ය.

"තමුන් කැමැති නැති මිනිහෙක් ව කසාද බඳින්න කියලා බල කරන කොට කවුද ඒකට කැමැති වෙන්නෙ... අනෙක මම ඕනෑ ඔට්ටුවක් අල්ලනවා උඹලා දෙන්නා කසාද බඳින්න යන්නෙ කවුරු හරි බල කරලා තියෙන හින්දා" මම දෙ අත් ඔසවමින් කීවෙමි.

"නෑ අපිට කවුරුත් එහෙම බල කරලා නෑ... අපේ කැමැත්තෙන්ම යි ඒක කරන්න තීරණය කරලා තියෙන්නෙ."

"හරි... ඒ ඔයගොල්ලො පිරිමි හින්දා... මම ගැහැනියක් වුණ නිසා මට ඒ නිදහස තිබුණෙ නෑ."

අම්මාත් සමග ඉන්නට මා ජෙරීගෙන් ඉල්ලා ගත් දින දෙක අහවර වීමත් සමඟ ම ජෙරී පැමිණ වාර්තා චිත්‍රපටයේ රූපගත කිරීම් පටන් ගන්නට අවශ්‍ය බැව් කියා සිටියේ ය. ඔවුන් මා මගේ අම්මාත් සමඟ සිටි අවස්ථා බොහොමයක් රූපගත කළේ ය. මගේ අම්මා කිසි දිනක කැමරාවක් දැක නො තිබුණි.

"වාරිස් ඔන්න ඕක මගෙ මූණට අල්ලන්නෙ නැති ව ඉන්ඩ කියලා අර මිනිහට කියනව ද?" අම්මා තරහින් කීවා ය.

ඒක එච්චර ප්‍රශ්නයක් කර නො ගන්නා ලෙස ඇයට මම පැහැදිලි කර කීවත් අම්මා තරයේ ම එයට විරුද්ධ විය.

"කෑ ගහන්න එපා ඒ අයට ඔයා කියන ඒවා තේරෙනවා" මම සිනාසෙමින් කීවෙමි.

එවිට අම්මා ද සිනාසෙන්නට වූවා ය.

"වාරිස් මොනවා ගැන ද ඔයගොල්ල හිනාවෙන්නෙ" කැමරා ශිල්පියා ප්‍රශ්න කළේ ය.

"මේ වැඩකට නැති වැඩේ ගැන" මම කීවෙමි.

බීබීසී කණ්ඩායම විසින් දවසක් ම මා රූපගත කරන ලදී. අප්‍රිකානු සම්ප්‍රදායට ගම්මුන් විසින් පාට කරන ලද මගේ නියපොතු මම රූපගත කරන්නට ඉඩ හැරියෙමි. එ දින රාත්‍රියේ ගම්මුන් විශාල සාදයක් පැවැත්වූහ. අපි සියලු දෙනා ම නටමින්, ගී කියමින් විනෝද වුණෙමු. ඒ සාදය දුටු සැණින් මගේ ළමා කාලය මගේ මතකයට ගලා එන්නට විය. වර්ෂාව ඇද හැලීම නිසා ගමෙ සියලු ම දෙනා අතිශය ප්‍රීතියෙන්

පසු වූහ. ඇත්තෙන් ම ඒ ප්‍රීතිය, සතුට, නිදහස කෙතරම් දැයි වචනයෙන් විස්තර කරන්නට නො හැකි ය.

පසුදින අප ව ආපසු රැගෙන යන්නට අහස් යානය පැමිණෙන්නට නියමිත ව තිබුණි. එ දින උදෑසන ම මම අවදි වී අම්මාත් සමග උදේ කෑම අනුභව කළෙමි.

"අම්මෙ අම්මා කැමැති නැත්ද මාත් එක්ක ගිහිල්ලා අමෙරිකාවෙ හරි එංගලන්තෙ හරි පදිංචි වෙන්න" කෑම කන ගමන් මම ඇසුවෙමි.

"ඔය රටවල්වල ගිහිල්ලා මම මොනවා කරන්න ද... මට ඇවිල්ලා නිකං උඩ බලාගෙන ඉන්න කියල ද කියන්නෙ" ඇය ඇසුවා ය.

"හරියට ම හරි... මට ඕනැ වෙලා තියෙන්නෙ අම්මා කිසි දෙයක් නො කර ටිකක් විවේක ගන්න හරින්න... අම්මා ජීවිත කාලය ම අනන්ත අප්‍රමාණ වැඩ කරපු කෙනෙක්... ඒ හින්දා දැන් අම්මා විවේක ගන්න ඕනැ."

"ඒක මට කරන්න බැ වාරිස්... ඔයගොල්ලන්ගෙ තාත්තත් දැන් මහලු යි... එයාට මාව ඕනෙ... මම දැන් එයා ළඟ ඉන්ඩ ඕනැ කාලෙ... අනෙක මම ගියා ම කවුද එයාගෙ ළමයි බලා ගන්නෙ.

"අම්මා මේ මොනවද කතා කරන්නෙ... මොන ළමයි ද... අම්මගෙ ළමයි දැන් ඔක්කොම උස් මහත් වෙච්චි ලොකු අය."

"ඇයි ඔයගොල්ලන් ගෙ තාත්තාගෙ දෙවෙනි කසාදෙ ළමයි... ඒ ගෑනි ළමයි පස්දෙනෙක් වැදුවා... මගෙ හිතේ ඒකිට ඔයගොල්ලන්ගෙ තාත්තත් එක්ක ඉන්ඩ බැරුව යන්ඩ ඇති... අනෙක අපිත් එක්ක මෙහෙම දුක් විඳින්න බැරි ව යන්ඩ ඇති. ඒකි යන්ඩ ගියා... ආගිය අතක් නැ."

"අම්මට පිස්සුද... අම්මා ඉන්නෙ ඔය ළමයි පස්සෙ දුවන වයසක නෙමේ... ඔයාට ඔය තරම් මහන්සි වෙලා වැඩ කරන්න හොඳ නැ."

"ඔයගොල්ලන්ගෙ තාත්තට සලකන්න මම දැන් එයා ළඟ ඉන්ඩ ඕනැ... අනෙක මෙච්චර කාලයක් දුව පැනලා වැඩ කරපු මට එක තැනකට වෙලා මොකුත් නො කර නිකන් ඉන්ඩ බැ... එහෙම වුණොත් මට පිස්සු හැදෙයි... වාරිස් ඔයාට මම වෙනුවෙන් යමක් කරන්නට පුළුවන් නම් මට බැරි දවසකට ගිහිල්ලා ඉන්ඩ සෝමාලියාවෙ කොහෙන් හරි මට ගේ කෑල්ලක් අරගෙන දෙන්න... මේ තමයි මගෙ මව්බිම... මේ තමයි මම දන්න ලෝකය... මට වෙන යන්ඩ තැනක් නැ"

මම ඇය ව දෑතින් ම බදාගෙන සිප ගත්තෙමි.

"අම්මෙ මම ඔයාට ආදරෙයි... මම අම්මා ඉල්ලපු දේ කරනවා... අම්ම ව බලන්න ආයෙත් මම ඉක්මනින් ම එනවා... ඉක්මනින් ම එනවා."

ඇය අහිංසක සිනහවක් මුවග රඳවාගෙන, නවතා ඇති අහස් යානය වෙත යන මා දෙස බලා අත වැනුවා ය. අහස් යානයට ගොඩ වී එහි වූ ආසනයක හිඳගත් මට හය්යෙන් හැඬුණි. නැවතත් අම්මා බලන්නට කවදා එන්නට වේදැයි මම නො දනිමි. නැවතත් අම්මා මට දැක ගන්නට ලැබේ ද? අහස් යානය කාන්තාර වැල්ල දිග දිව ගොස් අහසට නඟිනවාත් සමඟ ම කෙමෙන් නො පෙනී යන කාන්තාරය දෙස කඳුළු පිරි දෙනෙතින් යුතු ව යානයේ ජනේලය තුළින් මම බලා සිටියෙමි. ඒ මොහොතේ බීබීසී කැමරා ශිල්පියා මගේ සමීප රූපයක් රූපගත කළේ ය.



16

# නිව්යෝර්ක්



වර්ෂ 1995 වසන්ත සෘතුව වනවිට වාර්තා චිත්‍රපටයේ වැඩ කටයුතු අහවර වී තිබුණි. "නිව්යෝර්ක් නගරයේ වෙසෙන අභිකුණ්ඨක කෙල්ලෙක්" යනුවෙන් වාර්තා චිත්‍රපටය නම් කරන ලදී. පසුගිය වසර කීපය පුරා සිට මේ වනතෙක් ම ස්ථිර වාසස්ථානයක් නො මැති ව සිටි මම ඇත්තෙන් ම අභිකුණ්ඨකයෙකි. රැකියා සඳහා මට නිව්යෝර්ක්, ලන්ඩන්, මිලාන්, රෝමය වැනි නගරවලට යන්නට සිදුවිය. එ සේ ගිය සෑම අවස්ථාවක ම මා නවාතැන් ගත්තේ හෝටලයක හෝ දන්නා හඳුනන අයකු ගේ නිවසක ය. වැඩි වශයෙන් ම මට රැකියා ලැබුණේ නිව්යෝර්ක් නගරයේ බැවින් වැඩි කාලයක් මට එහි රැඳී සිටින්නට සිදුවිය. පළමුවෙන් මම නිවෙස්කඩක් කුලියට ගත්තේ නිව්යෝර්ක් නගරයේ සෝ හෝ (*SoHo*) නමැති ප්‍රදේශයෙන් ය. දෙවනුව නිව්යෝර්ක් නගරය අසල ගමකත්, අනතුරු ව බටහිර බ්‍රෝඩ්වේවලත් මම නිවෙස් කුලියට ගෙන පදිංචි ව සිටියෙමි. එහෙත්, ඒ පරිසරවලට මා තුළ කොහෙත්ම කැමැත්තක් නම් නො වී ය. වෙස්ට් බ්‍රෝඩ්වේ හි මා සිටි නිවස අසලින් යන රථවාහනවල ශබ්ද මාගේ නිස්කලංක ජීවිතයට මහත් බාධාවක් විය. පසු ව එම නිවස අත්හැර දැමූ මම නැවතත් අභිකුණ්ඨක ජීවිතයට සම්ප්‍රාප්ත වුණෙමි. ඒ දිනවල මම පැරීසියේත්, ඉන් පසු ව ලන්ඩන් නගරයේත් පැවැත්වූ විලාසිතා සංදර්ශනවලට සහභාගි වෙමින් සිටියෙමි. මේ සංදර්ශන අහවර වී නැවතත් නිව්යෝර්ක් නගරයට ආපසු පැමිණි විට ඉන්නට හරි හමන් තැනක් නො මැති වීම සහ එහි විපාක ගැන

කල්පනා කළ මම තමුන්ට ම කියා නිවහනක් ගැනීමට නියමිත කාලය එළඹ ඇති බව ප්‍රත්‍යක්ෂ කළෙමි. නිව්යෝර්ක් නගරය අසල ගම්මානයක පදිංචි ව සිටි ජෝර්ජ් නමැති මගේ මිත්‍රයකු ගේ නිවසේ සිට මම ගෙවල් බැලීමට ගියෙමි. ජෝර්ජ් ගේ ළඟ ම මිතුරියක වන ලූසී ගේ උපන්දිනය සමරන්නට ආපන ශාලාවකට යන්නට එන මෙන් ඇය අපට ඇරැයුම් කළා ය. ජෝර්ජ්ට පසුදින පාන්දර රැකියාවට යන්නට තියෙන බවත්, නිදි මරන්න නො හැකි බව පවසමින් ඔහු ගෙදර නැවැතුණේ ය. මට ලූසී සමඟ ආපන ශාලාවකට යන්නට සිදුවිය.

යා යුතු ස්ථානය ගැන නිසි අරමුණකින් තොර ව ලූසීත් මමත් නිවසින් එළියට බැස්සෙමු. අටවෙනි පටුමග ඔස්සේ ලූසීත් මමත් ඇවිද යන අතර, මා මීට කලින් පදිංචි ව සිටි නිවෙස්කඩ මම ලූසීට පෙන්නුවෙමි. එම ගොඩනැගිල්ලේ පහත මහලයේ ආපන ශාලාවක් ද තිබුණි. කිසි දිනක මා එම ආපන ශාලාවට ගොස් නො තිබුණ නමුදු එහි වාදනය කරන සංගීත කණ්ඩායම ඉතා මිහිරි ගීත වාදනය කරන බව මා අසා තිබුණි. එම ආපන ශාලාව ඉදිරිපිට නැවතුණ මම ඇතුළතින් ඇසෙන සංගීතයට මඳ වේලාවක් කන් දුනිමි.

"ලූසී ඇහුණ ද... අපි අද මෙකට යමු" මම යෝජනා කළෙමි.

"නෑ වාරිස් මම කැමැති 'හෙල්' එකට යන්න."

"නෑ නෑ ඉස්සෙල්ලා අපි මෙක ඇතුළට ගිහිල්ලා බලමු... මෙකෙ වාදනය කරන සංගීතයට මම හරි කැමැතියි... අද නං මට නටන්නත් ආසාවක් තියෙනවා."

මඳක් අදිමදි කළ ලූසී අන්තිමේ දී මාත් සමඟ එහි යන්නට එකඟ වූවා ය. ආපන ශාලාවට ඇතුළු වීමට තිබූ වඩා පළල් නො වූ පඩිපෙළක් දිග පහළට බැස ගොස් අප දෙදෙනා ආපන ශාලාවට ඇතුළු වුණෙමු. ආපන ශාලාව තුළ එක් කෙළවරක වූ වේදිකාවක් මත සංගීත කණ්ඩායමක් ඉතා මිහිරි ගීතයක් වාදනය කරමින් සිටියේය. කෙළින් ම මම වේදිකාව අසලට ගොස් එහි ඉදිරිපිට සිට ගතිමි. මඳ අඳුර තුළින් මම සංගීත කණ්ඩායමේ බෙර වාදකයා පළමුවෙන් ම දුටුවෙමි. ඔහු හැත්තෑ ගණන්වල පිරිමින් ගේ කොණ්ඩා මෝස්තරයක් වූ ඇෆ්රෝ මෝස්තරයට කොණ්ඩය සකසා ගෙන තිබුණි. මම බෙර වාදකයා දෙස මඳ වේලාවක් බලා සිටියෙමි. ලූසී වෙන තැනකට යන්නට මට කතා කළා ය.

"නෑ අපි මෙ තැන ඉම්මු... මෙ තැන හොඳයි... ඔන්න ඔතැනින් වාඩිවෙලා මොනව හරි බොන්ඩ ගෙන්නවා ගන්ඩකො" මම ලූසී ව පුටුවක වාඩි කරවමින් කීවෙමි.

සංගීත කණ්ඩායම විසින් වාදනය කරන ලද මිහිරි සංගීතයට මම නටන්නට පටන් ගතිමි. ලුසීත් පැමිණ මාත් සමග නටන්නට එක්වූවාය. අනතුරු ව ආපන ශාලාව තුළ මෙතෙක් අසුන් ගෙන අප නටන දෙස බලා සිටි අමුත්තන් හැමෝ ම පාහේ පැමිණ අපත් සමග නටන්නට වූහ. සැහෙන වේලාවක් නැටීමෙන් මහන්සි වී සිටි මම බීම වීදුරුවක් ගෙන්වා ගෙන එය ද අතැතිව එහි සිටි තරුණ යුවතියක් අසලින් සිට ගතිමි.

"මේ ගොල්ලො හරි ලස්සනට වාදනය කරනවා... කවුද මේ සංගීත කණ්ඩායම" ළඟ සිටි තරුණියගෙන් මම ඇසුවෙමි.

"සංගීත කණ්ඩායම ගැන නං මම හරියට ම කියන්න දන්නෙ නෑ... හැබැයි අර සැක්සපෝන් එක වාදනය කරන්නෙ නම් මගෙ මහත්තයා" ඇය පිළිතුරු දුන්නා ය.

"අර බෙර වාදනය කරන එක්කෙනා කවුද?" මම කුතුහලයකින් යුතුව ඇසුවෙමි.

"නෑ ඒකනං මම දන්නෙ නෑ" ඇය සිහින් සිනහා රැල්ලක් මුවග රඳවාගෙන කීවා ය.

ඒ සමග ම සංගීත කණ්ඩායම සුළු විවේකයක් ගැනීම සඳහා වාදනය නැවැත්විය. බෙර වාදකයා අප සිටින පැත්තට ඇවිදගෙන එනු මම දුටුවෙමි. ඔහු අප සිටින තැන පසුකර යනවිට මා ළඟ සිටි තරුණිය ඔහු ගේ අතින් අල්ලා ගෙන මෙසේ කීවා ය. "කරදරයක් කළා නම් සමාවෙන්න... මේ මගෙ මිතුරියට ඔබත් සමග ටිකක් කතා කරන්න ඕනැලු."

"ප්‍රශ්නයක් නෑ... කවුද ඔයාගෙ මිතුරිය."

"මේ ඉන්නෙ" ඇය මා ඔහුට පෙන්වමින් කීවා ය.

කිව නො හැකි තරම් ලැජ්ජාවට පත් වූ මා කළ යුත්තේ කුමක්දැයි නො දැන එක තැන ම ගල් ගැසිණි.

"මම කැමැතියි ඔයගොල්ලන්ගෙ සංගීතයට" මොහොතක් ගල් ගැසී සිටි මා ආයාසයෙන් ධෛර්යය ගෙන කීවෙමි.

"බොහොම ස්තුතියි" ඔහු නිහතමානී ව කීවේ ය.

"ඔබගෙ නම මොකක් ද?" මම ඇසුවෙමි.

"ඩානා" ඔහු ලැජ්ජාවෙන් වටපිට බලමින් කීවේ ය.

එ සේ කියමින් ඔහු අප සිටි තැනින් නික්ම ගියේ ය. ඔහුට එහෙම

යන්නට නො දිය යුතු යයි සිතූ මම, ඔහු සිය සංගීත කණ්ඩායමේ සගයින් සමග වාඩි වී සිටි තැනට පිය නඟා අසල වූ පුටුවක් ගෙන ඔහු ළඟින් වාඩි වුණෙමි. ඔහු මා දෙසට හැරී මෙසේ කීවේ ය. "මම ඔබත් එක්ක දැන් මොහොතකට ඉස්සෙල්ලා කතා කෙරුවා නේද?" ඔහු තරමක කේන්තියෙන් ඇසුවේ ය.

"ඔබ එකවර ම නැගිටලා ගිය විදිය හරි ම කුරිරු යි" මම කීවෙමි.

ඩානා තරමක් වික්ෂිප්ත ව මා දෙස බලා සිට සිනාසෙමින් මේසය වටා මා සිටි තැනට පැමිණියේ ය. අනතුරු ව ඔහු අතින් වූ අතපසුතාවය මග හරවා ගැනීමට දෝ හෙතෙම මගේ නම කුමක්දැයි අසා සිටියේ ය.

"දැන් ඉතින් ඒවයින් වැඩක් නෑ" මම ඉවත බලාගෙන කීවෙමි.

ඉන් පසු ව සංගීත කණ්ඩායම නැවත වාදනය කරන්නට පටන් ගන්නා තෙක් ම අපි දෙදෙනා බොහෝ දේ ගැන කතා කළෙමු.

"ඔබ දැන් ම යනව ද? ඔබ කවුරු හරි එක්ක ද ඇවිල්ලා ඉන්නෙ" ඔහු නැවතත් වේදිකාවට යන්නට පෙර ඇසුවේ ය.

"ඔව්... අර ඉන්නෙ මගෙ යාළුවා මම එයත් එක්කයි ආවෙ" වෙනත් මේසයක හිඳගෙන සිටි ලූසී පෙන්වමින් මම කීවෙමි.

තව වට දෙකක් වාදනය කිරීමෙන් පසු ඔහු නිදහස් බවත්, මම කැමැති නම් වෙනත් ආපන ශාලාවකට මාත් සමග යන්නට කැමැති බැව් ඔහු කීවේ ය. ඔහු වාදනය අවසන් කොට පැමිණි පසු අපි නොයෙකුත් දේ ගැන දීර්ඝ ව කතා කළෙමු.

"මෙතැන නං තවදුරටත් ඉන්න බෑ සිගරට් දුම හින්දා... හුස්ම ගන්ඩත් අපහසුයි. අපි යමු ද එළියට" මම කීවෙමි.

"හරි එහෙම නං අපි එළියට ගිහිල්ලා පඩිපෙළ උඩ වාඩි වෙමු." ඔහු මගෙ ඉල්ලීම අනුමත කරමින් කීවේ ය.

ඔහුත් මමත් පඩිපෙළේ ඉහළ ම පඩියට නැග්ගෙමු. එවිට හෙතෙම මගේ අතින් අල්ලගෙන මෙසේ ඇසුවේ ය.

"මම ඔබගෙන් යමක් අහන්ඩ කැමැතියි... මම ඔබ ව සිපගන්න කැමැතියි."

බොහෝ කාලයක් පුරා දැන සිටි අයකු මෙන් මම ඔහු ගේ ඉල්ලීම සාමාන්‍ය දෙයක් හැටියට සලකා ඔහු දෙස බැලුවෙමි. අනතුරු ව මම ඔහු සිත් සේ සිප ගතිමි. ඇෆ්රෝ කොණ්ඩයක් ඇති මේ කුළැටි

බෙරකරුවා මගේ අනාගත සභ්කරුවා බව ප්‍රත්‍යක්ෂ වශයෙන් ම දැන ගතිමි. ඒ වනවිට බොහෝ රෑ බෝවී තිබුණ අතර, වෙනත් ස්ථානයකට යන්නට කාලයක් ද ඉතිරි ව නො තිබුණ හෙයින් මා තාවකාලික ව නැවැතී සිටින මගේ මිත්‍ර ජෝර්ජ් ගේ දුරකතන අංකය ඔහුට දී පසුදින දුරකතන ඇමැතුමක් දෙන ලෙස ඉල්ලා සිටියෙමි.

"හෙට උදේ වරුවෙ වැඩකට යන්න තියෙනවා. ඒ නිසා කරුණාකරලා හරියට ම හවස තුනට කෝල් කරන්න."

මා එසේ පැවැසුවේ ඇත්තෙන් ම ඔහු හරියට ම තුනට කෝල් කරාවි ද කියා බලන්නට ය.

ඔහු පදිංචි ව සිටින්නේ හාර්ලම්වල බවත්, එහි යන්නට උමං දුම්රිය අල්ලා ගන්නට ඇති බව ඔහු කීවේ ය. උමං දුම්රියපොළට ඇතුළු වීමට තිබූ දොරටුව උඩින් මගේ පින්තූරය රැගත් විශාල වෙළෙඳ දැන්වීමක් සවිකර තිබුණ අතර, උමං දුම්රියපොළොට ඇතුළු වන ගමන් උඩ බැලූ කල තමා දෙස බලා සිටින මගේ පින්තූරය ඔහු දුටුවේ ය.

පසුදින සවස තුන පසු වී විනාඩි විස්සට ජෝර්ජ් ගේ නිවසේ දුරකතන නාද විය.

"ඇයි පරක්කු වුණේ කෝල් කරන්න" මම රිසීවරය අතට ගෙන කනේ තබමින් ඇසුවෙමි.

"ඒ ගැන මට කනගාටුයි... ඔබ කැමැති ද අද මාත් එක්ක රාත්‍රී කෑමකට යන්න."

එ දින හැන්දෑවේ නිව්යෝර්ක් නගරය අසල ගම්මානයක වූ පුංචි කෝපි කඩයක දී හමු වූ අපි දෙදෙනා නැවතත් නොයෙක් දේ ගැන තොරතෝංචියක් නැති ව කතා කළෙමු. සාමාන්‍යයෙන් තමුන් නො දන්නා පුද්ගලයන් ඉදිරියේ නිහඬ පුද්ගලයකු වූ ඩානා දෙස බලාගෙන මා සිනාසෙනු දුටු හෙතෙම, විස්මයෙන් මෙන් මා දෙස බලා සිටින්නට විය.

"මොකද ඔයා ඔය තරම් හිනාවෙන්නෙ" ඔහු ප්‍රශ්න කළේ ය.

"ඔයා හිතන්නෙ මට පිස්සු කියලා නේද?" මම සිනාසෙමින් ඇසුවෙමි.

"ඔයාට පිස්සු බව මම දන්නවා... ඒ හින්දා ඔයා ඕන තරම් හයියෙන් හිනාවෙන්න" ඔහු කීවේ ය.

"මම ඔයාගෙන් දරුවෙක් ලබා ගන්නයි හිතාගෙන ඉන්නෙ."

ඒ ගැන එ තරම් සැලැකිල්ලක් නො දැක්වූ හෙතෙම බොහෝ විට මා කොහේදෝ යන පිස්සු ගැහැනියකැ යි සිතන්නට ඇත.

"මම දන්නවා ඔයාට ඒක අරුම පුදුම ආරංචියක් බව... මට හිතුණ ඒක නිසාං ඔයාට කියන්න... කමක් නැ අපි ඒක අමතක කරල දාමු" මම කීවෙමි.

ඔහු කිසි ම කතාබහකින් තොර ව එක එල්ලේ ම මා දෙස බලා සිටින්නට වූ අතර, එ වදන් ඇසීමෙන් ඔහු තරමක කම්පනයකට පත් වී සිටින බව මම දුටුවෙමි. ඒ වනවිට යටත් පිරිසෙයින් මම ඔහු ගේ වාසගමවත් නො දැන සිටි බැවින් ඇත්තෙන් ම ඔහු ගේ ඒ හැසිරීම පුදුමයට කරුණක් නො වේ. ඒ මොහොතේ මා ගැන ඔහු සිතූ දේ පසු කලෙක හෙතෙම මෙසේ මා සමඟ පැවැසුවේ ය. "මේ කෙල්ල ව නැවත හමු නො විය යුතු යි... හැකි ඉක්මනින් ඇයගෙන් ගැලවිය යුතුයි... මෙ නම් අර *'Fatal Attraction'* නමැති චිත්‍රපටයේ එන සිහිවිකල් වූ ගැහැනිය වැනි අයෙකි."

එ දින අපි රාත්‍රී කෑම ගැනීමෙන් පසු ඔහු මා නැවැතී සිටින මගේ මිත්‍රයා ගේ නිවසට ඇරලෙව්වේ ය. එ නමුදු අප එන අතරමග දී හෙතෙම වචනයකුදු කතා නො කළේ ය. පසුදින අවදි වූ මා පෙර දින කෝපිහලේ දී ඔහුට කියූ දේ ගැන මට මා ගැන ම කලකිරීමක් ඇති විය. කිසියම් හෝ තැකීමකින් තොර එ වැනි දෙයක් ස්ථිරසාර හඬකින් මගේ මුවින් පිටවූයේ කෙසේදැයි මට ම පුදුමයකි. ඒ සිද්ධියෙන් පසු සතියක් පමණ ගෙවී ගිය නමුදු ඔහුගෙන් කිසි ම ආරංචියක් නො වී ය. ඔහුගෙන් කිසි ම ආරංචියක් නො මැති නිසා මම ඔහුව දුරකතනයෙන් ඇමැතුවෙමි.

"ඔයා කොහෙ ඉඳන් ද ඔය කතා කරන්නෙ" ඔහු ඇසුවේ ය.

"මගේ මිත්‍රයාගෙ ගෙදර ඉඳ( ) කතා කරන්නෙ... ඔයා කැමැති ද අද මාව හමුවෙන්න."

"ඔව් ඔව්... අපි හම්බුවෙලා දවල් කෑමට යමු... හරිද... මම ඔයාට ආදරෙයි" ඔහු කීවේ ය.

"මමත් ඔයාට ආදරෙයි' එ සේ කියමින් මගේ වෙව්ලන දෑතේ වූ රිසීවරය ටෙලිෆෝනය මත තැබුවෙමි.

මීට පෙර මා වෙත පැමිණි හැම මිනිසකු ම නිර්දය ලෙස ප්‍රතික්ෂේප කළ මම මේ වතාවේ දී තවමත් හරියට නො දන්නා මිනිසකු පිටුපස

ලුහුබඳින්නට පොලඹවන කරුණ කුමක් ද? එ දින රාත්‍රියේ මම ධානා ව මුණ ගැසුණෙමි. කොළපාට ස්වෙටරයක් හැද කොණ්ඩය ඇල්රෝ විලාසයට සකසාගෙන ඔහු හමුවීමට මම ගියෙමි. කුමන කරුණක් නිසා හෝ මට යමක් ලබා ගන්නට අවශ්‍ය වුවහොත් එය ලැබෙන තුරු මා ඒ පසුපස ලුහුබඳින අයකු බවත්, පළමුවරට මිනිසකු ගේ අවශ්‍යතාවය මෙ තරම් මා හට දැනුණ අවස්ථාවක් මගේ ජීවිතයේ පෙර නො වූ විරූ බව එ දින මම ඔහුට කීවෙමි. එහෙත්, මේ සංසාර ගමන පුරා ම මා ඔහු ඉතා සමීප ව දන්නා අයකු ලෙසින් මට හැඟෙන්නේ මන්දැයි යන්න ඔහුට විස්තර කර දීමට නම් මට හැකියාවක් නො තිබුණි.

ඉන් පසු නිතර ම අපි හමු වී නොයෙකුත් දේ ගැන දිගින් දිගට ම කතා කළෙමු. අනතුරු ව සති දෙකකට පසු මම හාර්ලම් හි ඔහු ගේ නිවසේ පදිංචියට ගියෙමි. ඊට හය මසකට පසු අපි විවාහ වෙන්නට තීරණය කළෙමු.

අප විවාහ වීමෙන් අවුරුද්දකට පමණ පසු දිනක් ධානා මා දෙස බලා මෙසේ කීවේ ය. “මම හිතන්නෙ ඔයාට බබෙක් හම්බු වෙන්ඩ වගේ”

“මොනව ද ඔයා මේ කියන කතා” මම කෑ ගැසුවෙමි.

“මෙහා ළඟ ඔසුහලක් තියෙනවා. අපි එතෙන්ට ගිහිල්ල බලමු” ධානා කීවේ ය.

මම එයට විරෝධය පෑවත්, ඔහු මා ඔසුහල වෙත ඇදගෙන ගියේ ය. එහි දී අපි දරු ගැබක් ඇත්දැයි දැන ගැනීමට නිවසේ සිට කළ හැකි පරීක්ෂණය සඳහා අවශ්‍ය දේවල් මිලදී ගෙන ගෙදර පැමිණ ඒ පරීක්ෂණය කළෙමු. මට දරුවෙක් ලැබෙන්නට සිටින බව එම පරීක්ෂණයෙන් හෙළි විය.

“ඔයා මේ මනස්ගාත පරීක්ෂණය විශ්වාස කරනව ද?” මම ප්‍රශ්න කළෙමි.

මගේ ඉල්ලීමට ධානා එම පරීක්ෂණය නැවත වරක් කළ අතර, ප්‍රතිඵලය එක ම විය. ඒ මොහොතේ සිට මට අසනීප ගතියක් දැනෙන්නට විය. සාමාන්‍යයෙන් ඔසප් වීම ළංවන විට මට මෙ වැනි අසනීප තත්ත්වයක් ඇතිවන නමුදු, මේ වතාවේ එහි කිසියම් වෙනසක් ඇති වී ඇති බැව් මට දැනෙන්නට විය. කෙසේ වී නමුදු මට දරුගැබක් ඇති වී ඇතැයි කිසිසේත් ම නො සිතූ අතර, මා සිතුවේ කිසියම් අසාධ්‍ය රෝගයකින් මා පෙළෙන බව යි. වෛද්‍යවරයකු හමුවීමට ගිය මම ඔහුට කාරණය විස්තර කළෙමි. වෛද්‍යවරයා මගේ රුධිරය පරීක්ෂණයකට භාජනය කළේ ය.

එහි ප්‍රතිඵල දැන ගැනීමට දින තුනක් ගත වූ අතර, ඉතා නොසන්සුන්තාවයකින් මම ඒ දින තුන ගත කළෙමි.

තුන්වන දිනයේ හැන්දෑවේ මා වැඩකට ගොස් ගෙදර පැමිණි විට මගේ වෛද්‍යවරයා දුරකතන ඇමැතුමක් දුන් බව ඩානා කීවේ ය.

"ඉතින් මොනවද දොස්තර කිව්වෙ" තරමක කලබලයෙන් මම ඇසුවෙමි.

"දොස්තර කිව්වා හෙට දවල් එකොළහත් දොළහත් අතර දී එයා ඔයාට කතා කරනවා කියලා."

එ දින රාත්‍රිය මගේ ජීවිතයේ මා ගත කළ දිගු ම රාත්‍රිය විය. මගේ අනාගතය කුමක් වේදැයි සිතමින් ඒ දිගු රාත්‍රිය මම පහන් කළෙමි. පසුදින ඩානා කියා තිබූ ආකාරයට ම දවල් එකොළහත් දොළහත් අතර දී ටැලිපෝනය නාද වන්නට විය. මම දිව ගොස් රිසීවරය සන තබා ගතිමි.

"මට ඔබට කියන්න කාරණයක් තියෙනවා... ඔබට බබෙක් ලැබෙන්න ඉන්නවා."

එ වදන් ඇසීමෙන් මා සතුටින් ඉපිලී යන්නට වූ අතර, මෙතෙක් කල් පියකු වීමට පෙරුම් පුරමින් සිටි ඩානා ද එම පුවතින් නො සෑහෙන සේ ප්‍රීතියට පත් විය. අපට ලැබෙන්නට යන්නේ පුතකු බැව් ස්ථිර වශයෙන් අප දැන සිටියෙමු. එහෙත්, මගේ එක ම බලාපොරොත්තුව වූයේ නිරෝගී දරුවෙකි. මම ප්‍රසව විශේෂඥයකු හමු වීමට ගියෙමි. එහි දී එම විශේෂඥවරිය කිසියම් උපකරණයක් මඟින් ගැබ තුළ වූ දරුවා ගැන සියල්ල පරීක්ෂා කර බැලුවා ය. එහෙත්, දරුවා පුතෙක් ද නැතිනම් දුවෙක් ද යන්න දැන ගැනීමට මට අවශ්‍ය නො මැති බව මම ඒ මොහොතේ ඇයට කියා සිටියෙමි.

දරුවා ඉතාමත් ම හොඳ සෞඛ්‍ය තත්ත්වයක සිටින බව වෛද්‍යවරිය මා සමඟ පැවැසුවා ය. එ වදන් ඇසීමෙන් මම ඉමහත් සතුටට පත්වීමි.

ඩානා සමඟ විවාහ වීමට මා හට තිබූ ලොකු ම බාධකය නයිජල් ය. මගේ දරු ගැබට හාර මසක් සම්පූර්ණ වෙත් ම මමත්, ඩානාත් වේල්ස් නගරයට ගොස් නයිජල් හමු වී දික්කසාදය පිළිබඳ ප්‍රශ්නය විසඳා ගන්නට තීරණය කොට එංගලන්තයට ගියෙමු. පළමුවෙන් ම ලන්ඩන් නගරයට පැමිණ අපි මිතුරකු ගේ නිවසක නවාතැන් ගතිමු. එහි දී මට සෙම්ප්‍රතිශ්‍යාව වැලඳුණෙන් එය සුව වනතෙක් මිතුරා ගේ නිවසට

වී දින දෙකක් සිටින්නට අපට සිදුවිය. සෙම්ප්‍රතිශ්‍යාව සුව වෙමින එන් ම දෙවන දවසේ මම නයිජල්ට දුරකතන ඇමැතුමක් ගත්තෙමි. මගේ දුරකතන ඇමැතුමට පිළිතුරු දෙමින් ඔහු කියා සිටියේ ඔහු ද සෙම්ප්‍රතිශ්‍යාවෙන් පෙළෙන බැවින් එය සුව වනතෙක් හමු වන්නට නො හැකි බව යි.

නයිජල්ට සුවය ලැබෙන තෙක් අපට ලන්ඩන් නගරයේ සතියකට වැඩි කාලයක් රැඳී සිටින්නට සිදුවිය. අනතුරු ව නැවතත් මම නයිජල්ට දුරකතන ඇමැතුමක් ගෙන මා එන දුම්රිය වේලාවල් ආදිය දී මා රැගෙන යාමට එන ලෙස දැන්වීමි.

"නයිජල් මම එන්නෙ ධානත් එක්ක... එ නිසා මම කැමැති නෑ කිසි ම කලබලයක් වෙනවා දකින්න" මම කීවෙමි.

"වාරිස් මේක අපි දෙන්නගෙ ප්‍රශ්නයක්... ඒ නිසා ඔයා වෙන කවුරුවත් එක්ක එනවට මම කොහෙත්ම කැමැති නැ.... මේක හොඳට තේරුම් ගන්න... ඇරත් එයා ව මේ කතාවට කොහෙත්ම අවශ්‍ය නැහැ."

"එයා මගෙ පෙම්වතා... මම එයා ව කසාද බඳින්න ඉන්නෙ... ඒ නිසා මම කරන කියන හැම දේකට ම එයා සම්බන්ධ විය යුතුම යි."

"කොහොමත් ම මම ඒ මිනිහ ව මුණ ගැහෙන්න කැමැති නෑ" නයිජල් දුරකතනය තුළින් ගිගුරුවේ ය.

පසුදින අප දුම්රියෙන් වේල්ස් බලා පිටත් වීමු. වේල්ස් දුම්රියපොළට සේන්දු වූ අපි දුම්රියෙන් බසිනවාත් සමඟ නයිජල් රථ ගාලේ සිට සිගරැට්ටුවක් උරමින් සිය රථයට හේත්තු වී සිටිනවා මම දුටිමි. අවසාන වතාවට මම ඔහු දුටුවාට වඩා දැන් වැහැරී ගොස් සිටි අතර, කොණ්ඩය ද වැටී තිබුණි.

"ධානා... නයිජල් අතන ඉන්නවා... ඔයා කිසි කලබලයක් කරන්න යන්න එපා" මම ධානාට කීවෙමි.

අපි දෙදෙන සන්සුන් ව නයිජල් සිටි තැනට පිය නැඟුවෙමු.

"වාරිස් මම ඔයාට පැහැදිලි කරලා කිව්වනෙ තනියම එන්න කියලා" අප දුටු නයිජල් ගිගුරුවේ ය.

"ධානා ඔයා කලබල නො වී ඉන්න" මම ධානා දෙසට හැරී නැවතත් කීවෙමි.

"මම පැහැදිලි කරලා කිව්වනෙ ඔයාට තනිය ම එන්ඩ කියලා" නයිජල් කේන්තියෙන් නැවතත් ගිගුරුවේ ය.

"මේ බලනවා තමුසෙ අපි කවුරු කියලා හිතුව ද... අපට මෙහෙම කතා කරන්න... ඉස්සෙල්ලා කතා කරන්න ඉගෙන ගන්නවා, අනෙක මොකක්ද තමුසෙට තියෙන වුවමනාව එයා ව තනියම හමු වෙන්න... තමුසෙ තව සැරයක් ඔය තනියම හමුවෙන කතාව කිව්වොත් දත් වහල්ල බඩට අරිනවා" ඩානා සිය අත වූ බෑගය බිම දමමින් කීවේ ය.

"මගෙ කාරෙකේ තුන්දෙනකුට යන්ඩ ඉඩ නැහැ" නයිජල් කීවේ ය.

"තමුසෙගෙ බම්බු කාරෙකේ අපිට යන්න ඕනැකමක් නෑ ඕයි... අපිට ටැක්සියක් අරගෙන එන්ඩ පුළුවන්... හැබැයි මේකෙ දෙකෙන් එකක් අද ඉවර වෙන්න ඕනෑ තේරුණා ද?"

එ සේ කියමින් ඩානා නයිජල් ගේ රථය අසලට ඇවිද යන්නට වූ අතර, නයිජල් දිවගොස් ගොස් කාරෙකට නැග එය පණ ගන්වා විදුලි වේගයෙන් ඉගිළී ගියේ ය. අප දෙදෙන එ තැන සිට දුර නො පෙනී යන නයිජල් ගේ රථය දෙස බලා සිටියෙමු.

වේල්ස් හි කාඩිෆ් දුම්රියපොළ අසල හෝටලයක නවාතැන් ගන්නට අපි තීරණය කළෙමු. අප ගේ වාසනාවට දුම්රියපොළ අසල හෝටලයක් අපට ලැබුණි. එහෙත්, එම හෝටලයේ අපට ලැගුම් ගැනීමට ඉඩ ලැබුණේ එක් දිනකට පමණක් බැවින් අපට වෙනත් හෝටලයක් සොයා ගැනීමට සිදුවිය. නව හෝටලයක් සොයාගෙන අපි දෙදෙන එහි ගියෙමු. එහි සිට නැවතත් මම නයිජල්ට දුරකතන ඇමැතුමක් ගත්තෙමි.

"මොකක්ද නයිජල් මේකෙ තේරුම... දැන් අවුරුදු කීයක් ද... මට මේ වතාවෙනං මේක ඉවරයක් කරගන්න ඕනෑ."

"හරි ඔයාට මාව හමුවෙන්න පුළුවන්. හැබැයි ඔයාට විතරයි. කැමැති නං මම ඔයා ව එක්කගෙන යන්න හෝටලයට එන්නම්... හැබැයි වෙන කවුරු හරි ආවොත් මම ආපහු හැරිලා ගෙදර එනවා."

වෙන කළ යුත්තක් නො මැති නිසා අවසානයේ දී ඔහු ගේ කීමට මම එකග වීමි.

ටෙලිපෝනය රිසීවරය මත තැබූ මම ඩානාට තත්ත්වය පැහැදිලි කළෙමි.

"ඩානා අපට වෙන කරන්න දෙයක් නෑ... අපිට අපේ වැඩේ කර ගන්න තෙ ඕනෑ. ඒ හින්දා මම තනියම ගිහිල්ලා මේක කතා කරන්නම්."

"හරි ඔයා හිතනව නං ඔයාට තනියම ගිහිල්ලා බේරුමක් කරගන්න පුළුවන් කියලා ප්‍රශ්නයක් නෑ... ඌ ඔයාගෙ අතකින්වත් අල්ලලා තිබුණොත් මම දන්නවා කරන වැඩේ."

හෝටලය අසල රැඳී සිටින ලෙසත්, හදිසි තත්ත්වයක් පැන නැගුණහොත් මම ඔහුට දුරකතන ඇමැතුමක් දෙන බවත් ඩානාට පැවැසුවෙමි. අනතුරු ව දුරකතනයෙන් නයිජල්ට කතාකොට ඔහු තනියම හමු වන්නට මම කැමැති බැව් දැන්වූයෙමි.

නයිජල් පැමිණ ඔහු ගේ කුලී නිවස වෙත මා කැඳවාගෙන ගියේ ය. නිවස තුළට ගිය මම නිවසේ සාලයේ අසුන් ගතිමි. නයිජල් තේ කෝප්පයක් හදාගෙන විත් මා අතට දුන්නේ ය.

"නයිජල් ඇහුණ ද... ඒ තමයි මම කසාද බඳින්න ඉන්න මගෙ පෙම්වතා... මට එයාගෙන් දරුවෙක් ලැබෙන්න ඉන්නවා... තවදුරටත් මම ඔබගෙ ඔය සිහින ලෝකෙ ඉන්න ඔබේ පාදපරිචාරිකාව නෙමේ තේරුණා ද...? මට මේ සුමානෙ ඇතුළත මගෙ දික්කසාදෙ ඕනෑ... මේ ප්‍රශ්නෙ විසඳගන්න කල් මම ආයෙත් නිව්යෝර්ක්වලට යන්නෙ නෑ" මම මගේ කාරණය විස්තර කළෙමි.

"හරි... පළමුවෙනි කාරණේ තමයි ඔබ මගෙන් ගත් මුදල් මට ආපසු දෙනකන් මම දික්කසාදෙ දෙන්නෙ නෑ" ඔහු පැකිළීමකින් තොර ව කීවේ ය.

"මම ඔබට මුදල් දෙන්න තියෙනවා... කීයක් ද? මේ පහුගිය අවුරුදු ගාණ ම වැඩ කරලා කවුද ඔහෙට සල්ලි දුන්නෙ."

"ඒ ඔක්කොම මුදල් ඔබ මෙහෙ නැවතිලා ඉන්නකොට කාපුවට හිලව් වෙනවා."

"හරි ඔබේ සල්ලි කොච්චරක විතර මම කාලා තියෙනව ද?"

"අඩු ම තරමින් පවුම් හතළිස්දාහක විතර."

"කොහෙන් ද මම එච්චර මුදලක් හොයන්නෙ... මා ළඟ එච්චර මුදලක් නෑ."

"මට ඔය කතාවලින් වැඩක් නෑ... මට මගෙ මුදල් ආපහු ලැබෙනකල් මම කිසි දෙයක් කරන්නෙ නෑ... මම ඔබට දික්කසාදය දෙන්නෙ නෑ... ඔබ හින්දා මට මගේ නිවස විකුණන්නත් සිද්ධ වුණා."

"ගේ විකුණන්න සිද්ධ වුණේ බැංකුවට මාස්පතා ගෙවන්න මුදල් ඔබ ළඟ නැති වුණ හින්දා... අනෙක ඔබට තිබුණෙ රස්සාවක් කරන එක. ඒකවත් ඔබට කරගන්න බැරි වුණා."

"මම ඔබට රස්සාවක් හොයලා දුන්නා... ඒකවත් ඔබට හරියට කරගන්න බැරුව ගියා... ඒ මිනිස්සු ඔබ ව එළියට ඇලා ඒ පළාතටවත්

ඒම තහනම් කළා නේද? ඔබ ව පත්වෙලා තියෙන තත්ත්වයට වග කියන්න ඕනෑ ඔබම යි. මම ඔබට සතයක්වත් දෙන්නෙ නෑ... ඕනෑ නම් මගෙ පාස්පෝර්ට් එක අරගෙන ඕනෑ මගුලක් කරගන්න එක යි ඇත්තෙ... තවත් මට ඔබ එක්කලා කතා කරන්න දෙයක් නෑ... අපේ කසාදේ හැබෑවට කෙරුණ එකක් නෙවෙයි. අනෙක කවදාවත් මම ඔබ සමග අඹු සැමියො වගේ හැසිරිලා නෑ... ඒ නිසා ඒක නීත්‍යානුකූල කසාදයක් නෙමේ."

"ඒක නෙමෙයි ඇත්ත වාරිස්... ඔයා මාව නීත්‍යානුකූල ව කසාද බැඳලා තියෙන්නෙ. මම ඔබට දික්කසාදය දෙන්නෙ නෑ... එතකොට ඔබේ ළමයා සදහට ම අවජාතක ළමයෙක්."

මා ඉඳගෙන සිටි අසුනේ ම සිට එක එල්ලේ ම මම ඔහු දෙස බලා සිටින්නට වූ අතර, ඔහු කෙරෙහි මා තුළ වූ අනුකම්පාව ඇඩි වෛරයකට පෙරළෙන්නට විය. එතකුදු ඇති වී ඇති වාතාවරණයේ භයානක බව මම තේරුම් ගතිමි. එ මතු ද නො ව නයිජල් ගේ සොහොයුරිය මගේ ළග ම මිතුරියක් වූ බැවින් කිසියම් ප්‍රශ්නයක් පැන නැගුණහොත් ඇය මැදිහත් වී එය නිරාකරණය කර දෙනු ඇතැ යි මා විශ්වාස කළ බැවිනි. එහෙත්, එ වැනි උපකාරයක් ලබා ගැනීමට ඇය ඒ අවස්ථාවේ එහි නොසිටියා ය.

"නයිජල් ඔබේ අනුමැතිය ඇති ව හෝ නැති ව හෝ මම මගේ දික්කසාදය ලබා ගන්නවා... ඊට වැඩිය මට ඔබත් එක්ක කතා කරන්න දෙයක් නෑ."

ඔහු ඉතා සංවේගාත්මක ව මා දෙස මොහොතක් බලා සිට මෙසේ කීවේ ය.

"මට ඔබ ව නැති වුණොත් වෙන නැති වෙන්න දෙයක් නෑ... ඒ හින්දා මම උඹවත් මරාගෙන මාත් මැරෙනවා."

එ වදන් ඇසීමෙන් තත්ත්වයේ බැරෑරුම්කම තේරුම් ගත් මම ඊළඟට ගත යුතු පියවර කුමක්දැයි තීරණය කළෙමි.

"ඩානා මා එක්කරගෙන යන්න දැන් එනවා... මම අද ඔබගෙ තත්ත්වයෙ සිටියා නම් මේ ප්‍රශ්නය සාමාදාන ව විසඳ ගන්නයි උත්සාහ කරන්නෙ" මම චාටුවෙන් කීවෙමි.

මේ වතාවේ දී ඔහු රතු ඉර පැන ගොස් සිටි බැවින් කළ යුත්තේ හැකි ඉක්මනින් මෙ තැනින් පලා යාම බැව් මම තේරුම් ගතිමි. බිම තිබූ මගේ අත් බෑගය ගැනීමට නැමෙනවාත් සමග ම මට පිටුපසින් සිටි ඔහු මා

තල්ලු කළේ ය. මා පොළොව මත රෝල් වී ගොස් නැවතත් ඉන්දවිණි. බිරාන්ත ව ගිය මම ගල් ගැසී එ තැන ම සිටියෙමි. ඒ මොහොතේ මගේ කුස තුළ වූ දරුවාට කිසිවක් සිදු වී ඇත්දැයි යන බියෙන් මගේ සර්වාංගය ම දැවී යන්නට විය.

"ආ මොකවත් වුණේ නෑ නේද?" ඔහු මා ඉදිරිපිට හිටගෙන කීවේ ය.

"නෑ නෑ මොකුත් ප්‍රශ්නයක් නෑ" මම ඉතා පහත් හඬින් කීවෙමි.

මෙ වැනි තැනකට තනියම පැමිණීම මොන තරම් මෝඩකමක්දැයි මට එවේලේ කල්පනා විය. අනතුරු ව මට නැගිටීමට ඔහු අත දී උදව් කළේ ය. නැගී සිටි මම අසල වූ මගේ කබාය ගෙන ඇඟලා ගත්තෙමි.

"හා වරෙන් යන්න මම උඹ ව හෝටලයට ඇරලවන්නම්" නයිජල් ගිගුරුවේ ය.

ඔහු රථය එළවාගෙන යන අතර, මම වචනයකුදු නො දොඩා සිටි අතර, මම මෙසේ සිතුවෙමි.

"ඔහුට මගේ දරුවා කෙරෙහි ඇත්තේ ද්වේෂයකි. දරුවා ජීවිතක්ෂයට පත්වනවා දැකීම තරම් ප්‍රීතියක් ඔහුට තවත් නැත. සමහර විට ඔහු රථය ප්‍රපාතයකට ධාවනය කරන්නට ඉඩ ඇත."

මම ආසන පටිය තද කරගත්තෙමි. අප හෝටලය වෙත එන අතරමඟ දී ඔහු දන්නා තරම් පරුෂ වචන කියමින් මට බැණ වදින්නට විය. මම වචනයකුදු නො දොඩා සිටියෙමි. ගතවන සෑම මොහොතක් පාසා ම මම දරුවා ගැන සිතුවෙමි. දරුවා ගැන සිතා සන්සුන් විය යුතුයයි මම කල්පනා කෙරුවෙමි. මා ගැබ්බර ව නො සිටියා නම් මේ අධමයාට කරන දේ මම දනිමි.

නයිජල් සිය රථය හෝටලය ඉදිරිපිට නවතා මා සිටි පැත්තේ දොර විවෘත කොට දොරෙන් එළියට මා තල්ලු කළේ ය. මා රථයෙන් එළියට විසි වී ගියේ ය. එතකුදු මගේ එක කකුලක් රථයේ සිර වී තිබුණ අතර, කෙසේ හෝ මම නැඟිට හෝටලය තුළට දිව්වෙමි.

"මේ වෙච්ච කිසි දෙයක් උඹ කියලා තිබුණොත් බලාගත්තෑකි" නයිජල් මොර දෙනු මට ඇසුණි.

මා හෝටලයේ අප ගේ කාමරය වෙත යනවිට ඩානා කාමරයේ දොර විවෘත කරගෙන එළියට ආවේ ය. මගේ දෙනෙතින් කඳුළු රෑරා ගලා හැලෙන්නට විය.

"මොකද වුණේ" ඩානා එකවර ම ප්‍රශ්න කළේ ය.

මා සිදුවූ දේ ගැන ඇත්ත ප්‍රකාශ කළා නම් නිසැකයෙන් ම ඩානා නයිජල් ව මරණවා නො අනුමාන යි. එවිට ඔහුට සිරගෙට යන්නට සිදුවන අතර, දරුවා සමඟ මා තනිවනු ඇත.

"නෑ නෑ එහෙම මොකුත් වුණේ නෑ... ඒ ජරා යකා දික්කසාදය දෙන්ඩ බෑ කියනවා එච්චරයි" මම කීවෙමි.

"ඕ වාරිස්... ඕක අඬන්න තරම් දෙයක් නෙමෙ" ඔහු මා තුරුලු කරගනිමින් කීවේ ය.

ලන්ඩන් සිට නිව්යෝර්ක් බලා එන්නට තිබූ පළමුවන අහස් යානයෙන් අපි නිව්යෝර්ක් බලා පැමිණියෙමු.

නයිජල් මෙසේ හැසිරුණු ආකාරය කෙසේ වුව ද කාත් කවුරුත් නො මැති ව සිටි මා එංගලන්තයෙන් පිටුවහල් කරන්නට සිටිය දී ඔහු මා වෙනුවෙන් ඉදිරිපත් වී කළ උපකාර ගැන ඇත්තෙන් ම මා ඔහුට කෘතඥ වෙමි.

මගේ දරු ගැබට මාස අටක් සම්පූර්ණ වනවාත් සමඟ ම මා බබෙක් ලැබෙන්නට ඉන්න බැව් දැනගත් එක් අප්‍රිකානු ඡායාරූප ශිල්පියෙක් ගැබ්බරින් සිටි මා ඡායාරූපයට නැඟීමට කැමැති බැව් දන්වා මට ස්පාඤ්ඤයට එන ලෙස ආරාධනා කළේ ය. ගැබ්බරින් මාස හයකට වඩා සිටින අයකුට අහස් යානාවක ගමන් කිරීම එ තරම් සුදුසු නැති බව මා දැන සිටියත්, ඒ ආරාධනය ගැන මා ඉමහත් සතුටට පත් ව සිටි බැවින් එහි යන්නට තීරණය කළෙමි. "මරි ක්ලයාර්" (*Marie Claire*) නමැති සඟරාව සඳහා ඔහු මා ඡායාරූපයට නැඟුවේ ය.

ගැබ්බරව සිටිය දී තව වතාවක් මට ගුවන් ගමනක යෙදෙන්නට සිදුවිය. එ නම් දරුවා ලැබුණායින් පසු මට උදව් උපකාර අවශ්‍ය බැවින් දරුවා ලැබෙන්නට දින විසිහතක් තිබිය දී මම ගුවනින් නෙබ්‍රෙස්කාවල වෙසෙන ඩානාගෙ මව්පියන් ළඟට ගියෙමි. ඩානාට දිගට ම වැඩ යෙදී තිබුණ බැවින් ඔහු සතියක් ප්‍රමාද වී එන්නට තීරණය කරන ලදී. මා නෙබ්‍රෙස්කාවලට පැමිණ සතියකට පමණ පසු එක් උදෑසනක මගේ උදරයේ වේදනාවක් ඇති වේගෙන එන බැව් මට දැනෙන්නට විය. මෙ වැනි අජීර්ණ තත්ත්වයක් ඇති වන්නට පෙර දින රාත්‍රියේ මා ගත් ආහාර මොනවාදැයි කල්පනා කළෙමි. වේදනාව නො නැවැතී දැනෙන්නට වුවත්, මා ඒ ගැන කිසිවකුට දැන්වූයේ නැත. පසුදින වේදනාව තරමක් උග්‍ර ව දැනෙන්නට විය. සමහර විට මට බබා ලැබෙන්නට එනවා යයි

මම කල්පනා කළෙමි. මම ධානා ගේ මවට කාරණය විස්තර කළෙමි. "මොකක්ද මේ වේදනාව... එක පාරට ම වැඩි වෙනවා. ආයෙත් අඩු වෙනවා... අනෙක ඒයෙ රෑ මම තරක දෙයක් කෑවෙත් නෑ."

"වාරිස් ඔයාට බබා ලැබෙන්න එන ලකුණුයි පේන්නෙ" ධානා ගේ මව කීවා ය.

මම ටෙලිපෝනයෙන් බබා ලැබෙන්නට ආසන්න බව ධානාට දැන්නුවෙමි.

"නෑ නෑ... ඔයා මම එනකල් කොහොම හරි උහුලගෙන ඉන්න... මම දැන් නිව්යෝර්ක්වලින් අහස් යාත්‍රාවට නගිනවා."

මම කොහොම ද බබා ලැබෙන්න එන එක නවත්වන්නෙ... මේ මෝඩ මිනිස්සුන්ට මොළයක් නැති එක ගැන මම කල්පනා කෙරුවෙමි. එතකුදු අප ගේ පළමුවෙනි දරුවා ලැබෙන මොහොතේ ධානා කෙසේ හෝ මා ළඟ සිටීම මට අත්‍යවශ්‍ය කරුණක් විය. මගේ තත්ත්වය ගැන මම ධානා ගේ මවට දැන් වූ පසු ඇය ආරෝග්‍ය ශාලාවට දුරකතනයෙන් කතාකොට ඔවුන්ට විස්තරය දන්වා තිබුණි. ආරෝග්‍ය ශාලාවෙන් මට දුරකතන ඇමැතුමක් ලැබුණි. දරුවා ඉක්මනින් ලබා ගැනීමට නම් එක තැන නො ඉඳ ඇවිදිය යුතු බව හෙදියක් විසින් මට දන්වන ලදී. එ සේ නම් දරුවා ප්‍රමාද වී ලබා ගන්නට නම් ඊට ප්‍රතිවිරුද්ධ ව හැසිරිය යුතු යයි මම තේරුම් ගතිමි.

පසුදින හැන්දෑවේ ධානා නෙබ්‍රෙස්කා ගුවන් තොටුපොළට පැමිණි අතර, ධානා ගේ පියා ඔහු රැගෙන එන්නට ගුවන් තොටුපොළට ගියේ ය. ඒ වන විට දින තුනක් පුරා මම විලි වේදනාවෙන් පෙළුණෙමි. ක්‍රම ක්‍රමයෙන් විලි වේදනාව උත්සන්න වන විට ආරෝග්‍ය ශාලාවට යන්නට කාලය පැමිණ ඇති බව අප තේරුම් ගෙන සිටිය ද, ධානා රැගෙන එන්නට ඔහු ගේ පියා ගුවන් තොටුපොළට ගොස් සිටි බැවින්. ආරෝග්‍ය ශාලාවට යන්නට වාහනයක් නො තිබී ම නිසා අපට ඔහු එනතුරු බලා සිටින්නට සිදුවිය. ඔවුන් පැමිණි වහා ම රථයට ගොඩ නැඟුණ අපි ආරෝග්‍ය ශාලාව බලා පිටත් වුණෙමු. එ දින උදේ දහයට මා ආරෝග්‍ය ශාලාවට ඇතුළු කරනු ලැබූ අතර, පසුදින දහය වනතුරු ම මම විලි වේදනාවෙන් පෙළුණෙමි.

විලි වේදනා උත්සන්න වීමත් සමඟ ම ඔවුන් විසින් මා ශල්‍යාගාරයට ගෙන යන ලදී. දරුවා ගේ පියාට සිය බිරිය අසල සිටීමට අවසර දී තිබුණ අතර, ධානා මට ආශ්වාස ප්‍රශ්වාස කරන්නට උදව් කරන්නට විය.

"චාරිස් දැන් හොඳට හුස්ම ගන්න එතකොට ඔයාට අපහසුවක් දැනෙන එකක් නෑ."

"අනේ මෙ තැනින් යනව ද යන්න මගේ දැහට පේන්නෙ නැති ව" උහුලාගත නො හැකි ව වේදනාව උත්සන්න වනවිට මට ඔහු මරා දමන්නට සිත් විය.

එ දින මධ්‍යාහ්නයේ ඒ මොහොත පැමිණියේ ය. මගේ චර්මඡේදනයෙන් පසු යෝනි මාර්ගය කුඩා වන සේ දමා තිබූ මැහුම් ගලවා ලන්ඩන් නගරයේ දී ඒ ශල්‍යකර්මය කළ වෛද්‍යවරයාට මම ස්තුතිවන්ත වීමි. ශල්‍යකර්මය නො කර තිබුණා නම් දරුවා ප්‍රසූත කිරීම ඇත්තෙන් ම කිව නො හැකි තරම් අපහසු කාර්යයක් වනු ඇත. නව මාසයක් කුසෙ හි රඳවා ගෙන සිට දින තුනක් පුරා නො සෑහෙන සේ වේදනා විඳීමෙන් පසු මට පිරිමි දරුවකු ලැබුණි. ඔහු දැකීමෙන් මා තුළ මහත් ආඩම්බරයක් ඇති විණ. දිගින් අඟල් විස්සක් සහ බරින් රාත්තල් හයයි අවුන්ස තුනක් වූ ඔහු ඉතා සුරුබුහුටි දරුවෙක් විය.

දරුවා උදරයෙන් එළියට පැමිණි වහා ම ඔහු මගේ පපුව මත තබන ලෙස මම හෙදියන්ට දන්වා තිබුණි. ඔවුන් විසින් දරුවා මගේ ළැම මත තබන ලදී. දරුවකු ප්‍රසූත කිරීමෙන් පසු පෙර විඳවන්නට සිදු වූ ඉසිලිය නො හැකි වේදනාවන් හිරු දුටු කණාමැදිරියකු මෙන් නැති වී යන බවට දරුවන් වැදූ මව්වරුන් විසින් කියන ලද කතා සියල්ල සත්‍ය බැව් ඒ මොහොතේ මම ප්‍රත්‍යක්ෂ කළෙමි.

මම ඔහුට අලිකි යනුවෙන් නම් තැබුවෙමි. අලිකි යනු සෝමාලි භාෂාවෙන් සිංහයා ය. මා කුඩා දැරියක් ව සිටි කාලයේ හැම දිනක ම හැන්දෑවේ බැටළුවන් කුඩුවට දමා ගෙදර ගොස් අම්මා ගේ උකුලේ සැතැපෙන්න මම සිහින මැව්වෙමි. එවිට ඇය දරු සෙනෙහසින් මගේ හිස පිරිමැද්දා ය. අම්මා කළ ආකාරයට ම මම අලිකි ගේ හිස පිරිමදිමි. ඔහු එයට ඉතා කැමැති ය. එ සේ පිරිමදින විට ඔහු මගේ තුරුලේ ම නිදාගනී.

අලිකි ගේ උපත මගේ ජීවිතයේ වෙනසක් ඇති කිරීමට සමත් විය. ඔහු නිසා මා ලබන ප්‍රීතිය අසීමිත ය. ජීවිතයේ අනෙකුත් නො වැදගත් දේවල් ගැන වෙහෙසෙන්නට සහ චෝදනා කරන්නට මා තුළ වූ මෝඩ පුරුද්ද මම අත් හැරියෙමි. ජීවිතය යනු ආයාදයක් බව මම ප්‍රත්‍යක්ෂ කළෙමි. මගේ පුතා මෙලොවට බිහි කිරීමෙන් මා හට පසක් කර දුන් සත්‍යය එය යි.

# 17

# රාජදූත සේවය



අපේ සංස්කෘතිය තුළ ගැහැනියකුට ලබාගත හැකි ඉහළ ම ගෞරවය ලැබෙන්නේ ඇය මවක් වූ විට ය. මන්ද, ඇය ජීවිත දානය පිණිස තවත් මනුෂ්‍යයකු මෙලොවට ජනිත කරවන බැවිනි. අලීකී ගේ උපතත් සමඟ මම ද අම්මා කෙනකු මතු නො ව ඒ ගෞරවය ලැබීමට සුදුසුකම් ද ලබා ඇත. වයස අවුරුදු පහේ දී මා අමු අමුවේ චර්මඡේදනයට ලක් කිරීමෙන් පසු නොයෙකුත් අත්දැකීම් තුළින් පැමිණි මම අවුරුදු තිහේ දී අලීකී මෙලොවට බිහි කෙරුවෙමි. එහෙත්, මගේ අම්මාට මා තුළ ඇති ගෞරවය ඒ හැම ගෞරවයකට ම වඩා ඉහළ ය. සෝමාලියානු ගැහැනුන්ට ජීවත්වීම සඳහා මේසා හිරිහැර කරදර කම්කටුලු කරපින්නා ගන්නට සිදු ව ඇත්තේ ඔවුන් ස්ත්‍රීන් වශයෙන් මෙලොව බිහි වූ පාපය නිසා බව මම දනිමි.

බටහිර රටකට පැමිණි මට, අතට අසුවූ රැකියාවක් කළ යුතු ව තිබුණි. මා ලන්ඩන් නගරයේ මැක්ඩොනල්ඩ් ආයතනයේ වැඩ කරන කාලයේ සමහර දිනවල ඔසප් වේදනාව නිසා මට පැවැරී ඇති රාජකාරිය කර ගැනීමට නො හැකි තරම් අවස්ථාවලට මම මුහුණ දී ඇත. චර්මඡේදනයෙන් පසු මගේ යෝනිය මත දමා තිබූ මැහුම් ශල්‍යකර්මයකින් ඉවත් කර ගැනීමට හැකි වූ නිසා අද මට වේදනාවකින් තොර ව මුත්‍රා කරන්නට හැකි ය. කිසියම් වාසනා මහිමයක් හේතු කොටගෙන මට එංගලන්තය වැනි බටහිර රටකට එන්නට ලැබීම නිසා ශල්‍යකර්මයක් මඟින් හෝ මෙතෙක් මා විඳි වේදනාවෙන් නිදහස් වීමට

ලැබීම මගේ වාසනාවක් මිස අන් කුමක් ද? එහෙත්, සෝමාලියාවේ කාන්තාරවල ජීවත් වන ඇරියන් ගේ සහ ගැහැනුන් ගේ තත්ත්වය කෙබඳු ද? චර්මඡේදනය කරන ලද ඇරියන්ට ඔසප් වීම සිදුවන කාලයට දෙ පයින් සිටගෙන සිටින්නට නො හැකි, වේදනාව යටපත් කරගෙන තමුන් ගේ බැටළුවන් සහ ඔටුවන් රැගෙන බීමට ජලය ඇති ස්ථාන සහ තණබිම් සොයාගෙන සැතැපුම් ගණන් පයින් යන්නට සිදු ව ඇත. තම ස්වාමිපුරුෂයන් ගේ කාමුක සැපත සඳහා සිය යෝනි මාර්ගය හිරට තිබිය යුතු හෙයින් දරු ප්‍රසූතියකින් පසු රෙදි කැබැල්ලක් ඉඳිකට්ටකින් මහන ආකාරයට ඔවුන් ගේ යෝනි විවරය කුඩාවන ආකාරයට මසනු ලැබේ. එ වැනි ගැහැනුන්ට තමන් ගේ දරුවන් එකොළහකට හෝ දොළහකට හෝ කෑමට යමක් සෙවීම සඳහා කාන්තාරය හරහා සැතැපුම් ගණන් යන්ට සිදු ව ඇත. එ මතු ද නො ව ස්වාමිපුරුෂයා තම නිවසට කැඳවාගෙන එන දෙවෙනි භාර්යාව ගේ චර්මඡේදනයෙන් පසු මසා ඇති සිය යෝනිය තුළින් තම ප්‍රථම දරුවා ප්‍රසූත කිරීමට යාමේ දී කුමක් සිදුවේ ද? එය කෙතරම් ම්ලේච්ඡ අත්දැකීමක් ද? මගේ අම්මා මෙන් දරුවා ප්‍රසූත කරගැනීමට හුදකලාව කාන්තාරයට යන අය ගේ ඉරණම කුමක් විය හැකි ද? ඔවුන් බොහොමයක ගේ ඉරණම අධික රුධිරය වහනය වීමෙන් කාන්තාරයේ හුදකලාව ම මියැදීම පමණි. ඔවුන් ගේ ස්වාමිපුරුෂයන්ට තම භාර්යාවන් ගේ මළ සිරුරු ගිජුලිහිණියන් සහ හයනා වැනි සතුන් කා දමන්නට පෙර සොයා ගැනීමට හැකි වුවහොත් එය මහත් වාසනාවකි.

වයසට යාමත් සමග මගේ ඇනුම් මුහුකුරා යාම තුළින් මා ඇතගත් කරුණ නම් ස්ත්‍රී චර්මඡේදනය හේතු කොටගෙන ඇතිවන අහිතකර සෞඛ්‍ය තත්ත්වයට මුහුණ දෙන එක ම හෝ අන්තිම තැනැත්තිය හෝ මා පමණක් නො වන බව යි. චර්මඡේදනය නිසා වේදනාවට ලක් වූ කෝටි ගණනක් ඇරියෝ ලොව පුරා ම සිටිති. මෙම ම්ලේච්ඡ සම්ප්‍රදාය හේතු කොටගෙන අප්‍රිකානු මහාද්වීපයේ ගැහැනු තම ජීවිත කාලය ම වේදනාව දරාගෙන ජීවත් වෙති. ධනයක් හෝ බලයක් හෝ නො මැති ව කාන්තාරයේ ජීවත් වන මගේ අම්මා වැනි අසරණ ගැහැනුන්ට උදව් කරන්නට යන්නෝ කවරහු ද? කාන්තාරයේ ඉපිද වැඩී ජීවත් වූ එඬේර ඇරියක් වශයෙන් ඔවුනට උදව් කිරීම දෛවයෙන් මට පැවැරී ඇති කර්තව්‍යයක් බැව් මට හැඟේ.

මේ ජීවිතයේ දී මට අහම්බෙන් මෙ තරම් අත්දැකීම් සමූහයකට මුහුණ දෙන්නට සිදුවූයේ කුමක් කරනකොටදැයි අර්ථ දැක්වීම මට නම් කිසි දිනක කළ නො හැකි දෙයකි. කරුණු කෙසේ වුව ද මා මුහුණ දුන්

මෙම සිදුවීම් සියල්ල අහඹු සිදුවීම් වශයෙන් පිළිගැනීමට නම් මම මැළි වෙමි. එදා මා ගෙදරින් පැන විත් කාන්තාරය හරහා එද්දී මගේ ජීවිතය සිංහයකුට ගොදුරු වන්ට ගිය අවස්ථාවේ සර්වබලධාරී දෙවියන්වහන්සේ මා මරණින් බේරා ගත්තේ ය. සර්වබලධාරී දෙවියන්වහන්සේ එ සේ එදා මා මරණින් ගලවා ගන්නට ඇත්තේ ඔහුට මා වෙනුවෙන් කිසියම් සැලැස්මක් තිබූ බැවින් යයි මට හැඟේ. එ මෙන් ම ඔහු මට අභය දානය ලබා දුන්නේ කිසියම් කරුණක් පෙරදැරි කරගෙන යයි මට සිතේ. එ සේ එදා කාන්තාරයේ දී දෙවියන්වහන්සේ මට අභය දානය ලබා දුන්නේ කිසියම් නිශ්චිත කරුණක් පෙරදැරි කරගෙන නම් ඒ කරුණ කුමක් ද?

කලකට පෙර මරි ක්ලෙයාර් නමැති විලාසිතා සඟරාවේ ලේඛිකාවක් මා සමඟ සම්මුඛ සාකච්ඡාවක් කිරීමට ඉල්ලීමක් කළා ය. එම සම්මුඛ සාකච්ඡාවේ දී කිව යුතු දෑ සම්බන්ධ ව මම ගැඹුරින් කල්පනා කෙරුවෙමි. ලව්රා සිව් නමැති පුවත්පත් ලේඛිකාව සමඟ මම දවල් කෑමකට ගියෙමි. පළමුවරට මම ඇය මුණ ගැසුණ අවස්ථාවේ ඇය ප්‍රියමනාප අයකු බැව් එකවරම මම හැඳින ගතිමි.

“මම දන්නෙ නෑ ඔබ මාත් එක්ක මොන වගේ සම්මුඛ සාකච්ඡාවක් කරන්නට බලාපොරොත්තු වෙනව ද කියලා... අනෙක ඔය විලාසිතා නිරූපණ ශිල්පිනියන් ගැන දස දහස් ගණනක් ලිපි ලියවිලා තියෙනවා... මම ඔබට නියම කතාවක් කියන්නම්. ඒක ඔය සඟරාවෙ ප්‍රසිද්ධ කරනවා කියලා මට සහතික වෙනව නම්” මම මගේ අදහස විස්තර කළෙමි.

“කොච්චර එකක් ද... සහතිකෙන් ම මම මේ සාකච්ඡාව ප්‍රසිද්ධ කරනවා” එ සේ කියමින් ඇය සිය අත වූ කුඩා රැකෝඩරය ක්‍රියාත්මක කළා ය.

මගේ ළමා වියේ දී චර්මඡේදනයට මුහුණ දුන් සිද්ධිය විස්තර කරමින් මම කතාව ආරම්භ කළෙමි. කතාව විස්තර කරගෙන යන අතරමඟ දී ඉකිගසමින් හඬන්නට පටන් ගත් ඇය රැකෝඩරය ද ක්‍රියා විරහිත කළා ය.

“ඕ... මොකද ඔබ අඬන්නෙ” එකවරම මම ප්‍රශ්න කළෙමි.

“ඔබගෙ කතාව හරි ම කුරිරුයි.”

“ඇත් ඔබට තේරෙනව ද... මේවා බටහිර ලෝකෙ ජීවත් වන අය දන්නෙ නෑ... ඔන්න ඕකයි ඇත්ත තත්ත්වය... ඔබ හිතනව ද මේ වගේ කතාවක් ගැහැනු විතරක් කියවන ඔබගෙ ඔය විලාසිතා සඟරාවෙ පළ කරන්න දෙයි කියලා.”

"ඔව් අවසාන තීරණය ගන්නෙ මගේ කර්තෘ... නමුත් මම ඔබට පොරොන්දු වෙනවා මේ කතාව කොහොම හරි පළ කරනවා කියලා."

මා විලාසිතා සඟරාවට දුන් සම්මුඛ සාකච්ඡාව ගැන පසුදින මට මහත් අපහසුතාවයක් දැනෙන්නට විය. මා මෙතෙක් සඟවාගෙන සිටි මගේ රහස දැන් මුළු ලෝකය ම දැන ගන්නවා ඇත. කුඩා කාලයේ දී මා මුහුණ දුන් ඒ ම්ලේච්ඡ සිද්ධිය ගැන මේ වන තෙක් මම මගේ ළඟ ම මිතුරන්ටවත් කියා නො මැත. ඇත්තෙන් ම මෙ වැනි දෙයක් එ වැනි සඟරාවකට නො කියා සිටිය යුතු ව තිබුණි. දැන් මම මුළු ලෝකයට ම මගේ රහස හෙළිකර හමාර ය. මගේ ජීවිතයේ මා මුහුණ දුන් සත්‍ය කතාව කීමෙන් මට නැති වන්නට දෙයක් නැත. නැති වන්නට ඇත්තේ මගේ ගෞරවය පමණි. එය නැති වූවාට කම් නැතැ යි මම තීරණයකට එළැඹියෙමි. මම මගේ ගෞරවය ඉවත දැමුවේ ඇඳුමක් ගලවා ඉවත දමන අයුරිනි. එ මතු ද නො ව, මගේ මව්බිම වන සෝමාලියාවෙන් මේ සම්බන්ධ ව කුමන ප්‍රතිචාරයක් ලැබේදැයි මා තුළ කනස්සල්ලක් ඇති විය. නිසැකයෙන් ම ඔවුන් මෙසේ පවසනු ඇත. "ඔබ කොහොම ද අපේ පුරාණ චාරිත්‍රයන් මේ විධියට විවේචනය කරන්නෙ... ඔබ අමෙරිකාවෙ ජීවත් වන නිසා සියල්ල ම දන්නවා කියලා ද ඔබ අපට කියන්න හදන්නෙ?"

කරුණු දෙකක් පෙරදැරි කරගෙන මගේ චර්මඡේදනය සම්බන්ධ ව මා කතා කළ යුතු යයි මම ගැඹුරින් කල්පනා කෙරුවෙමි. චර්මඡේදනය මට ම හිරිහැරයක් වීම පළමුවෙනි කරුණ යි. දෙ වැනි කරුණ නම් සෞඛ්‍ය තත්ත්වය කෙසේ වුව ද චර්මඡේදනය හේතුකොටගෙන කිසි දිනක කම්සැප කුමක්දැයි අත්විඳීමට අවකාශයක් මා හට නො මැති වීම ය. මෙම ම්ලේච්ඡ ක්‍රියාව නිසා මා අසම්පූර්ණ, එ මෙන් ම අබලන් වූ ගැහැනියක් සේ මට හැඟේ. එහෙත්, මෙම තත්ත්වය නිවැරදි කර ගැනීමට කිසි ම ක්‍රමයක් නො මැති බව සිහිවන විට මගේ සර්වාංගය ම දැවී යන්නා සේ මට දැනේ. ඩානා මුණ ගැසීමෙන් පසු මම ඔහුට පෙමින් බැඳුණ අතර, මිනිහකු සමඟ සංවාස කිරීමෙන් සම්භෝගයේ ප්‍රීතිය සතුට විඳීමට මට ඉමහත් ආසාවක් වුවමනාවක් තිබුණි. සම්භෝගයේ ප්‍රීතිය සතුට මා අත් වින්දා දැයි ඔබ මගෙන් ප්‍රශ්න කළහොත් මට දීමට ඇති පිළිතුර නම් නැත යන්න යි. ඩානාට මා තුළ වූ අසීමිත ආදරය නිසා මිනිහකුට ශාරීරික ව සමීප වීමෙන් මම සතුටක් ලැබුවෙමි.

මා හට කරන ලද චර්මඡේදනය යුක්ති සහගත කිරීම සඳහා මම ජීවිත කාලය පුරා ම එය යුක්ති සහගත කළ හැකි කරුණක් සෙව්වෙමි.

මෙය මට සිදු කිරීම මා අනුමත කළත්, අප්‍රිකාවේ මුළුමහත් ස්ත්‍රී පක්ෂය ම මෙම විනාශයට ගොදුරු කිරීම කොහෙත්ම අනුමත කළ නො හැකි ය. මෙම ක්‍රියාව යුක්ති සහගත කිරීමට හැකි සාධාරණ කරුණක් සොයා ගැනීමට නො හැකි වන විට මා තුළ ඇති වන්නේ අසීමිත කෝපයකි. මෙතාක් කල් මා තුළ සඟවාගෙන සිටි රහස ප්‍රසිද්ධියේ කතා කිරීමට දැන් මට අවශ්‍ය වී ඇත. දෙමව්පියන්, සහෝදර සහෝදරියන් හෝ හිත මිතුරන් හෝ නො මැති ව මා හුදකලාව ජීවත් වූ අවධියේ මගේ දුක වේදනාව කියන්නට කිසිවෙක් මා අසල නො සිටියේ ය. "මරි ක්ලයාර්" සඟරාවට මේ සම්බන්ධ ව සම්මුඛ සාකච්ඡාවක් සැපැයීමෙන් මට වුවමනා වී තිබුණේ තවමත් මෙම ම්ලේච්ඡ ක්‍රියාව කරගෙන යන උන්ට විරුද්ධ ව හඬක් නැඟීමට අප්‍රිකාවේ ස්ත්‍රීන්ට ශක්තියක් නො මැති බැවින් එක ගැහැනියක් හෝ මෙම මිනීමරු ක්‍රියාවට විරුද්ධ ව කතා කරන බව ඔවුන්ට දැන ගැනීමට සැලැස්වීම යි.

මගේ රහස මහපනයාට දැන ගැනීමට ලැබීමෙන් පසු පාර තොටේ දී ඔවුන් මා මුණ ගැසුණ විට මා දෙස පිළිකුලෙන් බලනවා ඇතැ යි තිකමට මෙන් මට කල්පනා විය. එ වැනි අවස්ථාවක් උද්ගත වුවහොත් එය නොසලකා සිටින්නට මම තීරණය කළෙමි. එ වැනි සම්මුඛ සාකච්ඡාවක් කිරීම සඳහා මා පොලඹවන ලද දෙ වැනි කරුණ නම් තවමත් කෙරීගෙන යන ස්ත්‍රී චර්මඡේදනය ගැන ජනතාව දැනුවත් කිරීම යි. මෙම සටන මම දියත් කරන්නේ හුදෙක් මා ගැන පමණක් සිතා නො ව, මේ මෘග ක්‍රියාවට මුහුණ දෙන්නට යන ලෝකය පුරා සිටින දැරියන් අරමුණු කරගෙන යි. මා ඒ කෲර ක්‍රියාවට ගොදුරු වී හමාර වුව ද, මෙම සටන තුළින් වෙන කවුරුන් හෝ මෙම ම්ලේච්ඡ ක්‍රියාවට ගොදුරු වන්නට ඉඩ නො දී ගලවා ගැනීමට බොහෝ විට හැකි වනු ඇත.

"මරි ක්ලයාර්" සඟරාවට මා ලබා දුන් සම්මුඛ සාකච්ඡාව "ස්ත්‍රී චර්මඡේදනයේ ඛේදවාචකය" යන මැයෙන් ලව්රා ප්‍රසිද්ධියට පත්කොට තිබුණි. "මරි ක්ලයාර්" වැනි සඟරාවක එ වැනි සම්මුඛ සාකච්ඡාවක් පළ කිරීම වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ම නිර්භීත ක්‍රියාවකි. ඒ සඳහා ලැබුණ ප්‍රතිචාරය ඇත්තෙන් ම ඇදැහිය නො හැකි තරම් ය. මෙම සත් ක්‍රියාව සඳහා සහයෝගය දක්වමින් ස්ත්‍රීන් ගේ අයිතිවාසිකම් වෙනුවෙන් සටන් කරන සංවිධානවලින් අප වෙත ලිපි ගලාගෙන එන්නට විය. එදා මගේ කතාව ලව්රාට විස්තර කරන විට ඇයට ඇති වූ සංත්‍රාසය නිසැකයෙන් ම එම සම්මුඛ සාකච්ඡාව කිය වූ පාඨකයින්ට ඒ ලෙසින් ම දැනෙන්නට ඇතුවාට සැකයක් නැත.

අප වෙත ලැබුණ ලිපියකින්:

"මරි ක්ලයාර්" නමැති සඟරාවේ මාර්තු කලාපයේ තිබූ ස්ත්‍රී චර්මඡේදනය සම්බන්ධ සම්මුඛ සාකච්ඡාව මම කියවීමි. ඒ බිහිසුණු අත්දැකීම තවමත් මගේ මනස තුළ හොල්මන් කර යි. එය අමතක කර දැමීමට කිසිසේත් ම නො හැකි ය. ස්ත්‍රීන් ගේ යෝනිය ආශ්‍රිත අවයව කපා දැමීම වැනි අමානුෂික ක්‍රියාවක් කිසිවකුට අමතක කර දැමීම එ තරම් ලෙහෙසි නො වන අතර, ස්ත්‍රිය දෙවියන්වහන්සේ විසින් නිර්මාණය කරන ලද්දේ මිනිසා ගේ සහකාරිය සහ මිතුරිය වශයෙන් බව බයිබලය අපට උගන්වයි. එ මෙන් ම බයිබලයේ සඳහන් ව ඇත්තේ ස්වාමිපුරුෂයින් තම බිරින්දෑවන්ට ප්‍රේම කළ යුතු බව යි. දෙවියන් ගේ පහස නො ලද සංස්කෘතියක ජීවත් වීම නිසා මෙ වැනි ක්‍රියාවක් නවතා ගැනීමට ආධාරයක් උපකාරයක් නො මැති වුවත්, එ වැනි කෲර ක්‍රියාවක් තුළින් ඇති කරන ශාරීරික වේදනාව මානසික කම්පනය මතු නො ව තම බිරින්දෑවන් බොහෝ විට මියැදීමෙන් ඔවුන්ට එය වටහා ගත හැකි නො වේ ද? තම දියණියන්ට, භාර්යාවන්ට සහ සහෝදරියන්ට මෙ වැනි විපතක් සිදුවන්නට හැර ඔවුන් බලා සිටින්නේ කෙසේ ද? මෙම ක්‍රියාව හේතු කොටගෙන ස්ත්‍රීන් නොයකුත් අයුරින් විනාශයට පත්වන බව ඔවුන් නො දන්නවා නො වේ. මෙ කෲර ක්‍රියාවට විරුද්ධ ව අපි යමක් කළ යුතු ය. ඒ සඳහා දෙවියනි අපට උපකාර කළ මැනව!!! රාත්‍රී නින්දට යන විටත් උදැසන අවදි වනවිටත් මට සිහියට නැගෙන්නේ මෙම ම්ලේච්ඡ ක්‍රියාව යි. ඒ ගැන සිතමින් මම දවස පුරා කඳුළු සලමි. මෙ වැනි කෲර ක්‍රියාවකට භාජනය නො වූ ගැහැනියක සමඟ ඇතිකර ගන්නා විවාහය තුළ ඇතිවන සම්භෝගයෙන් මිනිසාට මෙන් ම ගැහැනියට ද විශාල සතුටක් ගෙන දෙන බවත්, පුරුෂයින් මෙන් ම ගැහැනිය ද උපතින් ම රැගෙන එන මෙ කියන ශාරීරික අවයව නිශ්චිත කරුණක් සඳහා ඒ ස්ථානවල පිහිටා ඇති බැව් වර්ල්ඩ්විෂන් සංවිධානය හෝ වෙනයම් සංවිධානයක් මඟින් හෝ මේ පුරුෂ පක්ෂයට කියා දිය යුතු ව ඇත. ඔවුන් දැනුවත් කළ යුතු ව ඇත.

මා වෙත ලැබුණ තවත් ලිපියක්:

"වාරිස් ඩයිරි ගැන *"මරි ක්ලයාර්"* සඟරාවට ඔබ විසින් ලියන ලද ලිපිය කියවූයෙමි. ඒ අමානුෂික ක්‍රියාව තවමත් කෙරීගෙන යන බැව් ඇසීමෙන් මා තුළ ඇති වූ මානසික කම්පනය වචනයෙන් විස්තර කළ නො හැකි ය. මෙම ම්ලේච්ඡ ක්‍රියාව තවමත් සිදු වෙමින් පවතින බව අදහා ගන්නට මම අපොහොසත් වෙමි. මෙම ක්‍රියාව හේතු කොටගෙන ස්ත්‍රීන්ට තම ජීවිත කාලය පුරා ප්‍රශ්න රාශියකට මුහුණ දෙන්නට

සිදුවනු ඇත. සම්ප්‍රදායික ව හෝ අසම්ප්‍රදායික ව හෝ ලොව පුරා ම කරගෙන යන මෙම සාහසික ක්‍රියාව නැවැත්විය යුතු ය. මෙම ක්‍රියාවට අනුබල දෙන මිනිසකු ගේ වෘෂණ කෝෂ දෙක පළා මදය එළියට ගෙන නැවතත් එය ඇතුළට දමා මසන්නට මට අවස්ථාවක් ලබා දුනහොත් මෙම සාහසික ක්‍රියාව නවතින බව මම සහතික කරමි. චර්මච්ඡේදනය කිරීම හේතු කොටගෙන වේදනා විඳින ස්ත්‍රියක් සමඟ ශාරීරික වශයෙන් ඔබ එක් වන්නේ කෙසේ ද? වාරිස් ඩයිරි ගේ කතාව මා නෙතට කඳුළක් නැංවීමට සමත් වූ අතර, මේ ක්‍රියාව නතර කිරීමට කළ යුතු දෑ ගැන අසා මම "සමානතා" සංවිධානයට ලියමි."

තවත් ලිපියක්:

"නොයෙකුත් බේදවාචකයන් ගැන බොහෝ කතා මම අසා ඇති අතර, ඉදිරියටත් එ වැනි කතා අසන්නට ලැබෙනු ඇත. එහෙත්, එක් සංස්කෘතියකට අයත් කෲර මිනිසුන් විසින් සිය දැරියන්ට සිදු කරන අපරාධය වැනි බේදවාචකයන් නම් තවත් අසන්නට නො ලැබෙනු ඇත. මේ කතාව ඇසීමෙන් මම කම්පා වුණෙමි. මෙම සහාසික ක්‍රියාව නවතා දැමීමට යමක් කිරීමට මට බලවත් වුවමනාවක් ඇති වී ඇති නමුත්, මා වැනි එක් ගැහැනියකට කුමක් කළ හැකි ද?"

මා ධෛර්යවත් කරමින් ලැබුණ ලිපි කියවීමෙන් මට මහත් සහනයක් දැනෙන්නට විය. එහෙත්, මා නිර්දය ලෙස විවේචනය කර එවන ලද ලිපි දෙකක් ද ඒ අතර විය. ඒ ලිපි දෙක එවා තිබුණේ සෝමාලියාවෙනි.

මේ සම්බන්ධ ව මම අනෙකුත් පුවත්පත්වලට සම්මුඛ සාකච්ඡා දෙමින් නොයෙකුත් සංවිධාන සහ පාසල්වලට ගොස් කතා පවත්වමින් හැකි හැම අයුරින් ම ලෝකයා මේ ගැන දැනුවත් කිරීම සඳහා කටයුතු කිරීමට පටන් ගත්තෙමි.

මේ අතරතුර තවත් වාසනාවක් මා හට පෑදුණි. එ නම් එක්තරා වෙශ නිරූපි ශිල්පිනියක් යුරෝපයේ සිට නිව්යෝර්ක් බලා ගුවනින් එන අතර, අහස් යානයේ තිබූ සඟරා අතරින් ඇය *"මරි ක්ලයාර්"* සඟරාව රැගෙන කියවන විට එහි තිබූ මගේ සම්මුඛ සාකච්ඡාව ද කියවා අනතුරු ව ඇය එම ගුවන් යානයේ ම ගමන් කරමින් සිටි ඇගේ සේවායෝජක වූ බාබරා වෝල්ටර්ස් නමැත්තියට එම ලිපිය කියවන්නට දී ඇත. එය එ තරම් සාහසික කතාවක් බැවින් බාබරා සම්මුඛ සාකච්ඡාව මඳක් කියවා නතර කර ඇමූ බවත්, මේ ම්ලේච්ඡ ක්‍රියාවට විරුද්ධ ව යමක් කළ යුතු යයි ඇය තීරණය කළ බවත් ඊට කලකට පසු ඇය මා සමඟ කීවා ය. ලෝකයා දැනුවත් කිරීම අරමුණු කරගෙන ඇය ස්ත්‍රී චර්මච්ඡේදනය ගැන

කෙටි වාර්තා චිත්‍රපටයක් නිෂ්පාදනය කිරීමට තීරණය කරන ලදී. එතල් බාස් වයින්ට්‍රවුබ් විසින් *"A Healing Journey"* නමින් වාර්තා චිත්‍රපටයක් නිපදවන ලදී. පසු කලෙක එයට සම්මාන ද හිමිවිය.

වර්ෂ 1997 ගිම්හාන සෘතුවේ දී *"A Healing Journey"* වාර්තා චිත්‍රපටය රූපවාහිනී නාලිකාවක් ඔස්සේ විකාශනය කරන ලදී. වාර්තා චිත්‍රපටය විකාශනය වී ටික දිනකට පසු එක්සත් ජාතීන් ගේ සංවිධානය මගේ ඒජන්සියට කතා කළ බවත්, එක්සත් ජාතීන් ගේ සංවිධානයට කතා කරන ලෙස දන්වා මගේ ඒජන්සිය විසින් මට දුරකතන ඇමතුමක් දෙන ලදී.

වාර්තා චිත්‍රපටයත් සමඟ සියල්ල නො සිතූ අන්දමේ වෙනසකට භාජනය විය. එක්සත් ජාතීන් ගේ සංවිධානය යටතේ පවතින "ජනගහන අරමුදල" නමැති සංවිධානය මඟින් ස්ත්‍රීන් ගේ චර්මඡේදනයට එරෙහි ව එය නවතා දැමීම සඳහා ගෙන යන සටනට එක්වන ලෙස එම සංවිධානය විසින් මට ආරාධනා කරන ලදී. ස්ත්‍රී චර්මඡේදනය ගැන ලෝක සෞඛ්‍ය සංවිධානය මඟින් සොයා ගන්නා ලද ඇඟ කිලිපොළා යන අව්‍යාජ තොරතුරු රැගත් සංඛ්‍යා ලේඛනයක් මෙම ප්‍රශ්නයේ බැරෑරුම්කම තවදුරටත් විස්තර කර ඇත. සංඛ්‍යා ලේඛනයට අනුව ස්ත්‍රී චර්මඡේදනයට ගොදුරු වී ඇති සංඛ්‍යාව දෙස බලන විට මෙය හුදෙක් මට සීමා වූ ප්‍රශ්නයක් නො වන බව මම තේරුම් ගතිමි. ස්ත්‍රීන් ගේ චර්මඡේදනය නොහොත් අද ඉතා උචිත අන්දමින් යොදා ඇති නව ව්‍යවහාරය අනුව "ස්ත්‍රීන්ගේ ජනනේන්ද්‍ර කොටස් සුන්නත් කිරීම" අප්‍රිකාවේ රටවල් විසිඅටක ඉතා ජයට කෙරීගෙන යයි. එක්සත් ජාතීන් ගේ සංවිධානයේ ඇස්තමේන්තුවට අනුව දැරියන් සහ ගැහැනුන් මිලියන 130 ක් මෙම ව්‍යසනයට ගොදුරු වී ඇති අතර, මෙම සැහැසි ක්‍රියාව හේතු කොටගෙන දිනකට 6000 බැගින් යටත් පිරිසෙයින් වසරකට මිලියන දෙකක් ඉතා අසාධ්‍ය තත්ත්වයට පත් ව ඇත. ඉතා නො දියුණු වාතාවරණයක් තුළ මෙම ශල්‍යකර්මය කරනු ලබන්නේ වින්නඹු ස්ත්‍රියක් හෝ ගමේ සාමාන්‍ය ගැහැනියකු හෝ විසිනි. ඔවුහු මෙම ශල්‍යකර්මය සඳහා කිසි ම නිර්වින්දනයක් පාවිච්චි නො කරති. ඔවුහු මේ සඳහා අතට අසුවන බ්ලේඩ් තලයක්, පිහියක්, කතුරක්, බිඳුණ වීදුරු කැබැල්ලක්, තියුණු ගල් කැබැල්ලක් පාවිච්චි කරති. සමහර ප්‍රාන්තවල මෙය කරනු ලබන්නේ ඔවුන් ගේ දත්වලින් විකීමෙනි. මෙම ක්‍රියාවලියේ ඇඩිකම අඩු හෝ වැඩි හෝ වශයෙන් තීන්දු වන්නේ භූගෝලමය වෙනස්කම්වලට අනුව සහ ඒ ඒ ප්‍රාන්තවල පවතින සංස්කෘතික ක්‍රියාදාමය අනුව ය. ස්ත්‍රිය ගේ භගමනිය නැතිනම් භගශිශ්නිකාවේ උඩ කොටස කපා දැමීම

මෙම ක්‍රියාදාමයෙන් සිදුවන අවම හානිය වන අතර, එයට ගොදුරු වූ තරුණියකට ජීවිතයේ කිසි ම දිනක සම්භෝගයෙන් ලැබෙන සතුට අත් විඳීමට නො ලැබෙනු ඇත. මෙම ක්‍රියාදාමයේ අනෙක් අන්තය වන්නේ භගශිෂ්ණය ඡේදනය කර, ඉන් අඩක් මසා දැමීම ය. සෝමාලි ස්ත්‍රීන් 80% කට පමණ මෙම තත්ත්වයට මුහුණ පාන්නට සිදු ව ඇත. මා හට කරන ලද චර්මඡේදනය එම ගණයට අයත් වේ. මෙම ක්‍රියාවෙන් පසු එහි විපාකය වශයෙන් එකනෙහි ම සිදුවිය හැකි ආකූලත්වයන් නම් කම්පනය, ආසාදනය, මුත්‍රා මාර්ගයට හෝ ගුද මාර්ගයට හානි සිදුවිය හැකි වීම, පිටගැස්ම, මුත්‍රාශයේ ඇතිවිය හැකි ආසාදනය, එච්.අයි.වී. ආදිය යි.

මේ වසරේ මිලියන දෙකක් ගැහැනු දරුවන් මා මුහුණ දුන් මෙම ව්‍යසනයට මුහුණ දීමට සිටින බව කල්පනා වන විට මගේ හදවත කිව නො හැකි තරම් ශෝකයකින් හඬා වැටෙයි. සෑම දිනක ම මෙම සැහැසි ක්‍රියාව සිදුවන බව සිහියට නැගෙන විට මා හට ප්‍රත්‍යක්ෂ වන කරුණ නම් මා මෙන් ම මුරණ්ඩු දැරියන් ඇති වන බවත්, ඔවුන්ට අහිමි වී ගිය ජීවිතය වෙත නැවත ගොස් ඒ අහිමි වූ කිසි ම දෙයක් ඔවුනට ආපසු ලබා ගන්නට බැරි බවත් ය.

මෙම ව්‍යසනයට ගොදුරු වන දැරියන් ගේ ප්‍රමාණය අඩු වනවා වෙනුවට අද සිදු වන්නේ ඒ ප්‍රමාණය ඉහළ නැගීමකි. යුරෝපයට හා අමෙරිකාවට සංක්‍රමණය වී සිටින බොහොමයක් අප්‍රිකානු ස්ත්‍රීහු මෙම ම්ලේච්ඡ සම්ප්‍රදාය කරපින්නා ගෙන මෙහි පැමිණ සිටිති. නිව්යෝර්ක් නගරයේ පිහිටා ඇති "රෝග පාලනය කිරීම සහ රෝග නිවාරණය කිරීමේ මධ්‍යස්ථානය" මගින් ඉදිරිපත් කර ඇති ඇස්තමේන්තුවකට අනුව නිව්යෝර්ක් ප්‍රාන්තයේ පමණක් 27,000 ක් ස්ත්‍රීන්ට මෙම ක්‍රියාව කර ඇති හෝ කරගෙන යන බව හෝ සඳහන් වේ. මෙම කරුණ සැලකිල්ලට ගෙන ඇති අමෙරිකානු රජය දැනටමත් බොහොමයක් ප්‍රාන්තවල "ස්ත්‍රීන් ගේ ජනනේන්ද්‍ර කොටස් සුන්නත් කිරීම" නීති විරෝධී කිරීම සඳහා අවශ්‍ය නීති සම්පාදනය කරගෙන යයි. මෙම සැහැසි සම්ප්‍රදාය තවමත් කරපින්නා ගෙන සිටින පවුල් තම දියණියන් ගේ ජනනේන්ද්‍ර කොටස් සුන්නත් කිරීම තමුන් අදහන ආගමට අනුව නිවැරැදි බවට තර්ක ඉදිරිපත් කරන බැවින්, මේ දැරියන් එම ව්‍යසනයෙන් ආරක්ෂා කර ගැනීම සඳහා විශේෂ නීති සම්පාදනය කළ යුතු බව නීති සම්පාදකයින් තේරුම් ගෙන ඇත. අමෙරිකාවේ ජීවත් වන අප්‍රිකානු ප්‍රජාව සිය දියණියන් සුන්නත් කරවා ගැනීම සඳහා, මගේ ජනනේන්ද්‍ර කොටස් සුන්නත් කළ අභිකුණ්ඨක ගැහැනිය වැනි අයකු අප්‍රිකාවෙන් අමෙරිකාවට ගෙන්වා

ගැනීමට බොහෝ අවස්ථාවල මුදල් එකතු කරන බව දැන ගන්නට ලැබී ඇත. ඒ ආකාරයට ගෙන්වා ගන්නා ගැහැනිය විසින් එක වරකට දැරියන් බොහෝ දෙනකු ගේ ජනනේන්ද්‍ර කොටස් සුන්නත් කර දමනු ලැබේ. මෙ ආකාරයට ඒ කර්තව්‍යය කිරීමට අප්‍රිකාවෙන් අයකු ගෙන්වා ගැනීමට අපොහොසත් වුවහොත් ඔවුන් එම කර්තව්‍යය තමන් විසින් ම කරනු ලැබේ. නිව්යෝර්ක් නගරයේ පදිංචි ව සිටින එක් අප්‍රිකානු පියෙක් මස් කපන පිහියකින් සිය දියණිය ගේ ජනනේන්ද්‍රයන් කප්පාදු කර ඇත්තේ දියණිය ගේ විලාපය අසල්වැසියන්ට නො ඇසෙන්නට නිවසේ රේඩියෝවේ ශබ්දය වැඩි කර තැබීමෙනි.

එක්සත් ජාතීන් ගේ සංවිධානය විසින් ස්ත්‍රීන් ගේ ජනනේන්ද්‍ර කොටස් සුන්නත් කිරීමට විරුද්ධ ව සටන් කිරීම සඳහා විශේෂ තානාපතිවරියක් වශයෙන් මා වෙත පවරන ලද තනතුර මම ආඩම්බරයෙන් පිළි ගත්තෙමි. එ මෙන් ම එම සංවිධානය යටතේ පවතින "මහජන අරමුදල" නමැති සංවිධානයේ විධායක අධ්‍යක්ෂකවරිය වශයෙන් කටයුතු කරන වෛද්‍ය නෆීස් සාඩික් මහත්මිය සමඟ එක් වී කටයුතු කිරීමට ලැබීම මා හට ලැබුණ උසස් ම ගෞරවවලින් එකක් හැටියට මම සලකමි. 1994 වර්ෂයේ ඊජිප්තුවේ කයිරෝ නුවර දී පවත්වන ලද ජාත්‍යන්තර ජනගහන වර්ධන සම්මේලනයට, ස්ත්‍රීන් ගේ ජනනේන්ද්‍ර කොටස් සුන්නත් කිරීම සම්බන්ධ ප්‍රශ්නය ඉදිරිපත් කිරීමට පුරෝගාමී වූ කතුන් අතරින්, වෛද්‍ය නෆීක් සාඩික් මහත්මිය පෙරමුණේ සිටි වීරෝදාර කාන්තාවකි.

අප්‍රිකානු සංස්කෘතියේ අංගයක් වශයෙන් වසර හාරදාහක් පුරා අප්‍රිකානු ගැහැනුන් මෙම සැහැසි ක්‍රියාවට නතු කර ඇත. කුරානයේ මෙම ක්‍රියාව යුක්ති සහගත කර ඇති බැව් බොහොමයක් මුස්ලිම් ජාතිකයෝ විශ්වාස කරති. දෙවියන් සතුටු කිරීම සඳහා ස්ත්‍රීන් ගේ ජනනේන්ද්‍ර කොටස් සුන්නත් කළ යුතු බව කුරානයේ හෝ බයිබලයේ හෝ කිසි ම තැනක සඳහන් වී නො මැති අතර, මෙය ආත්මාර්ථකාමී මෙන් ම අත්තගාමී මිනිසුන් විසින් ගැහැනිය මත සිය ලිංගික ආධිපත්‍යය සහතික කර ගැනීම සඳහා සකසා ගත් ක්‍රියාවකි. සුන්නත් නො කළ තරුණියක් සමඟ විවාහ වීම ඔවුන් ප්‍රතික්ෂේප කරති. එහෙයින්, මෙම වාතාවරණය තුළ මව්වරුන්ට සිය දියණියන් විවාහ කරදීමට නො හැකි වේයයි යන බිය නිසා ඔවුන් ඒ සැහැසි ක්‍රියාවට පෙලඹෙති. ජනනේන්ද්‍ර කොටස් සුන්නත් නො කළ ගැහැනියක් කාමුක සහ අපිරිසිදු බැවින් විවාහයට සුදුසු නො මැති බැව් සලකනු ලැබේ.

එක්සත් ජාතීන් ගේ තානාපති වශයෙන් කටයුතු කිරීමට ලැබීමෙන් මා කිසි ම දිනෙක නො සිතූ ආකාරයට මගේ සිහිනය සැබෑ විය. මගේ පවුලේ අය මෙන් ම කාන්තාරයේ වෙසෙන අනෙකුත් එඬේරුන්ට වඩා මා වෙනස් අයකු බව වයසින් මුහුකුරා යනවිට මට හැඟී ගොස් තිබුණත්, එක්සත් ජාතීන් ගේ සංවිධානය වැනි උත්තරීතර සංවිධානයක් නියෝජනය කිරීමට ලැබේ යයි සිතන්නට තරම් දුරදක්නා හැකියාවක් නම් මට නො තිබුණි. එක්සත් ජාතීන් ගේ සංවිධානය විසින් ලෝක ප්‍රජාව වෙනුවෙන් කරන සේවය ඇත්තෙන් ම අප ගේ මව්වරුන් පුද්ගලික මට්ටමින් සිය දරුවන් බලා ගන්නා වැනි සේවයකි. මා කාන්තාරයේ මගේ දෙමව්පියන් සමඟ සිටි අවධියේ මා වටා සිටි මගේ මිතුරු මිතුරියන් බොහොමයක් දෙනා මා ඇමැතුවේ අම්මා කියා ය. එ සේ අමතන්නට හේතුව මම මවක් මෙන් ඔවුන් ව රැක බලාගත් බැවිනි.

මා අප්‍රිකාවට ගියහොත් අන්තවාදී ආගමික අන්ධ භක්තිකයන් විසින් මා ඝාතනය කොට දැමීමට ඉඩ ඇති බැව් බොහොමයක් මගේ මිතුරන් ගේ මතය විය. ඇත්තෙන් ම ආගමික මූලධර්මවාදීන් චර්මඡේදනය ශුද්ධ වූ ක්‍රියාවක් වශයෙන් සලකන අතර, මම එය දරුණු අපරාධයක් හැටියට හඳුන්වා ඊට විරුද්ධ ව කතා කිරීම නිසා මෙම කර්තව්‍යය නිසැකයෙන් ම අන්තරාදායක කටයුත්තක් බැව් සැබැවි. එහෙයින්, ඒ ගැන මා තුළ බියක් ඇති වී ඇති බව මම පිළි ගනිමි. ඊට හේතුව දැන් මට බලා හදා ගන්නට පිරිමි දරුවකු සිටින බැවිනි. එහෙත්, දෙවියන්වහන්සේ මා නිශ්චිත කරුණක් පෙරදැරි කරගෙන මේ මාවතට කැඳවාගෙන විත් සිටින බැවින්, එන ඕනෑ ම දෙයකට ශක්තිමත් ව මුහුණ දෙන ලෙස මගේ දෛවය මගෙන් ඉල්ලා සිටියි. මා ඉදිරියේ ඇති අරමුණ ජය ගැනීම සඳහා සර්වබලධාරි දෙවියන්වහන්සේ විසින් කටයුතු සූදානම් කොට ඇත. මා මෙලොව එළිය දකින්නට බොහෝ කලකට පෙර දෙවියන්වහන්සේ විසින් මා මිය යා යුතු දිනය තීරණය කර ඇති බැවින්, එය මට වෙනස් කළ නො හැකි ය. ඇත්ත වශයෙන් ම මම මගේ ජීවිතය හැම අවස්ථාවක දී ම අන්තරාව නො තකා තීරණ ගත් අයකු වශයෙන් මෙ වරත් එ වැනි තීරණයක් ගෙන බලමි.

# 18

# ගෙදර ගැන සිතුවිලි



ස්ත්‍රීන් ගේ ජනනේන්ද්‍ර කොටස් සුන්නත් කිරීමට විරුද්ධ ව මා කතා කරන බැවින් මම මගේ සංස්කෘතිය හෑල්ලුවට ලක් කරන බව සමහරු ප්‍රකාශ කළහ. ඒ ආකාරයට මා ගැන සිතීම සහමුලින් ම වැරැදි ය. අප්‍රිකානු ජාතිකයෙක් වීම ගැන දිනපතා මම දෙවියන්ට ස්තුති කරමි. සෝමාලි ජාතිකයකු වීම ගැන අවංකව ම මා තුළ ඇත්තේ ආඩම්බරයකි. භෞතික සැප සම්පත් නො මැති ව වුව ද ආඩම්බර ව සිටීමට හැකි ජීවන රටාවක් ඇති අප්‍රිකානු ජීවන රටාව වෙනත් සංස්කෘතීන් විසින් බොහෝ විට අනුමත කරනු ඇතැ යි මම පරිකල්පනය කරමි.

පවුල් සංස්ථාවේ සාරධර්ම ගැන නිව්යෝර්ක් නගරයේ ජීවත් වන බොහෝ දෙනා කතා කරන නමුදු, එ වැනි වටිනාකම් අමෙරිකාවේ පවුල් තුළ මම දැක ඇත්තේ ඉතා අල්ප වශයෙනි. මෙහි වෙසෙන ජනයා එකිනෙකාගෙන් වෙන් වී සිටින අතර, එකට ජීවත් වීම ගැන හැඟීමකු ද ඔවුන්ට නො මැත.

අප්‍රිකානු රටක ජීවත් වීම තුළින් අප ලද දායාදය නම් අප ස්වභාව ධර්මයේ කොටසක් වන්නා සේ ම ස්වභාව ධර්මයාත් සමඟ ජීවත් වීමට ලැබීම යි. මා දැන උගත් ඒ ජීවිතය ඇත්තෙන් ම අති සුන්දර එකකි. ඕනෑ ම වාතාවරණයක් තුළ පවතින්නට මා හට ඉවක් තිබුණ අතර, සතුට සහ ශෝකය වෙනසකින් තොර ව විඳ ගන්නට මම ඉගෙන ගතිමි. සතුට යනු බටහිර ලෝකය දන්නා සතුටට වඩා වෙනස් දෙයක් බැවි

මම අධ්‍යයනය කළෙමි. භෞතික වශයෙන් කිසි ම දෙයක් නො තිබූ නමුදු මම ප්‍රීතියෙන් කල් යැව්වෙමි. මගේ ජීවිතයේ අමතක නො වන එ මෙන් ම ප්‍රීතිමත් කාලය නම් මා මගේ දෙමව්පියන් සහ සහෝදර සහෝදරියන් සමග කාන්තාරයේ ජීවත් වූ කාලය යි. ඉර අවරට යන සුන්දර සන්ධ්‍යාවල දෙමව්පියන් සහෝදර සහෝදරියන් සමඟ ගිනි මැලය වටා එකට හිඳගෙන කමින් බොමින් සිටි අයුරු මගේ මතකයට නැඟෙයි. වැහි කාලයේ දී ඇද හැලෙන ජලයෙන් මෙතෙක් වියළී ගොස් තිබූ කාන්තාරය යළි ජීවය ලබන විට ඒ සතුට අපි එකට එක් ව භුක්ති විඳ ගත්තෙමු.

අපි සෑම කුඩා දේ පවා අගය කරන්නට පුරුදු ව සිටියෙමු. වර්ෂාව ඇද හැලෙන විට අපි සියලු දෙනා ම එක් වී ප්‍රීති වුණෙමු. ඒ අන් කිසිවක් නිසා නො ව, ජලය යනු කාන්තාරයේ රත්වලට වඩා වටිනා බැවිනි. නිව්යෝර්ක් වැනි නගරයක ජලය ගැන තැකීමක් කරන්නේ කවුද? ජල නළය ඇර දමා නිස්කාරණේ ජලය අපතේ යද්දී කුස්සියට ගොස් වෙනත් වැඩක යෙදෙන අය මම අනන්තවත් දැක ඇත්තෙමි. ඔබට අවශ්‍ය වන හැම විට ම ජලයෙන් ඔබට ප්‍රශ්නයක් නො මැති නිසා එහි අගයක් නැත. අපට එ වැනි පහසුකම් නො තිබුණ නිසා අප සෑම දෙයක් ම අගය කරන්නට පුරුදු වී සිටියෙමු.

එදිනෙදා බඩගෝස්තරය සොයා ගැනීම සඳහා අපට විශාල අරගලයක් කළ යුතු විය. හාල් මුට්ටයක් මිල දී ගැනීම ඇත්තෙන් ම අපට විශේෂ අවස්ථාවකි. එ නමුදු තුන්වැනි ලෝකයෙන් අමෙරිකාවට පැමිණෙන අයකු මෙහි ඇති කෑම ජාති සහ කෑම වර්ග දැකීමෙන් පුදුමයට පත්වනු නො අනුමාන යි. එහෙත්, බොහෝ අමෙරිකානුවන් ආහාර ගැනීමෙන් වැළකී සිටියි. ලෝකයේ එක් කොටසක ජීවත් වන අය තම වේල සොයා ගැනීමට පුදුමාකාර වූ දුකක් විඳින අතර, තවත් කොටසක ජීවත් වන අය ආහාර ගැනීම නතරකොට මුදල් ගෙවා තම ශරීරවල බර අඩු කර ගැනීමට උත්සුක වෙති. අමෙරිකානු රූපවාහිනියේ ශරීරයේ බර අඩු කර ගැනීම සඳහා උපදෙස් රැගත් වැඩසටහන් දකින විට ඉබේට ම මට මෙසේ කෑ ගැසේ. "බර අඩු කරගන්න ඕනෑ නං අප්‍රිකාවට යන්න... ඒ වගේ රටකට ගිහිල්ලා දුප්පත් මිනිස්සුන්ට උදව් කරන ගමන් බර අඩු කරගැනීම ගැන මොකද හිතන්නෙ..."

සුළු දෙයකින් සතුටු වන්නටත් සුළු දෙය අගය කරන්නටත් අද මම පුරුදු වී සිටිමි. විශාල සුඛෝපභෝගී නිවාස, එ මෙන් ම පුද්ගලික නැව්, කෝටි ගණන් වටිනා ආභරණ ආදිය සතු පුද්ගලයින් මට දිනපතා ම මෙන් මුණ ගැසේ. එතකුදු ඔවුන් තව තවත් දේ මිල දී ගැනීමට කල්පනා

කරන්නේ අවසාන වශයෙන් ඒ දෙය ඔවුන්ට සතුට සාමය ගෙන දෙන බව සිතමින් ය. කරුණු එ සේ වුව ද සතුට සඳහා මට නම් ඔය කිසි දෙයක් අවශ්‍ය නො වේ. සමහර අය මට මෙසේ කියති: "ඔනෑ දෙයක් ගන්න අද ඔයාට පුළුවන් හින්දා ඔයාට ඔහොම කතා කරන්න පුළුවන් නෙ."

මෙලොව ඇති වටිනාම දෙය නම් නිරෝගීභාවය යි. එහෙත්, බොහෝ දෙනා වැඩකට නැති දේවල් ගැන කනගාටු වීමෙන් තම නිරෝගීභාවය නැති කර ගනිති. මෙහි බොහෝ දෙනා තමුන්ට ගෙවිය යුතු බිල් ගැන හැම මොහොතක් පාසා ම සිතමින් කනගාටු වෙති. මුදල් අගහිගකම්වලටත් වඩා අමෙරිකානු සමාජය මුහුණ දී සිටින තීරණාත්මක ප්‍රශ්නය නම් කාලය පිළිබඳ ප්‍රශ්නය යි.

සෝමාලියානු පසුබිම මගේ පෞරුෂත්වයට දෙස් දෙයි. සුළු දෙය අගය කරන්නටත්, ජය පරාජය එක සේ පිළි ගැනීමටත් සෑම දෙයක් ගැන උපේක්ෂාවෙන් බැලීමටත් සෝමාලියානු පසුබිමින් මා ලැබූ ආයාදය යි.

බටහිර ලෝකයේ ඇති වටිනාම ආයාදය නම් සාමකාමී ව ජීවත් වන්නට ඇති අවකාශය වන අතර, කී දෙනෙක් ඒ ගැන අවබෝධයකින් සිටින්නේ දැයි මම නො දනිමි. අමෙරිකාවේත් අපරාධ සිදුවන බව සත්‍යයකි. එහෙත්, යුද්ධයකට මැදි වී ජීවත් වීම ඊට වඩා බියකරු ය. වර්ෂ 1991 සිට සෝමාලියාව තුළ අඛණ්ඩව කෙරීගෙන යන ගෝත්‍රික යුද්ධය නිසා මගේ දරුවා හදා වඩා ගනිමින් මා හට අමෙරිකාවේ ජීවත් වීමට ඉඩ ලැබීම ගැන මම අමෙරිකාවට කෘතඥ වෙමි. 1991 සිට කෙරීගෙන යන ගෝත්‍රික යුද්ධයෙන් කොපමණ මිනිස් ජීවිත බිලිගෙන ඇත්දැයි කාට කිව හැකි ද? සෝමාලියාවේ අගනුවර වන මොගඩිෂු නගරය ඉතාලියේ කොලනියක් ව තිබූ අවධියේ ඔවුන් විසින් ඉදි කරන ලද සුදු පාට අලංකාර ගොඩනැගිලි සහිත ඒ රමණීය නගරය යුද්ධයෙන් සම්පූර්ණයෙන් ම විනාශ වී ගොස් ඇත. ආණ්ඩුව හෝ නීතියක් හෝ නො මැති ව නගරය සහමුලින් ම අරාජිකත්වයට පත් ව ඇත.

මගේ පවුලේ අයට ද යුද්ධය අකාරුණික ලෙස බලපා ඇති බව දැන ගැනීමට ලැබීම ඇත්තෙන් ම ඉමහත් කනගාටුවට කරුණකි. මගේ අම්මා ගේ ම හැඩහුරුකම් තිබූ වොලේඩේඅබ් නමැති මගේ මාමා මොගඩිෂු නගරයේ දී වෙඩි වැදී මරුමුවට පත් ව ඇත. එ මතු ද නො ව, කාන්තාරයේ ජීවත් වන එඬේරුන් ගේ ජීවිතයට ද දැන් දැන් යුද්ධය බලපා ඇත. මගේ මල්ලී අලීට ද වෙඩි වැදුණ බවත්, ඔහු අනුනවයෙන් සිය ජීවිතය බේරා ගත් බවත්, සෝමාලි ඉතියෝපියා කඩඉමේ දී ඔහු

මට හමු වූ අවස්ථාවේ දී මා සමඟ කීවේ ය. දිනක් අලි කාන්තාරය හරහා ඔටුවකු පිට ගමන් කරමින් සිටිය දී ත්‍රස්තවාදීන් සැඟවී සිට වෙඩි තබන්නට පටන් ගත් බවත්, එක් වෙඩිල්ලක් ඔහු ගේ දකුණු බාහුවට වැදුණ බවත්, අනතුරු ව හෙතෙම ඔටුවා පිටින් බිමට ඇද වැටී ඇති අතර, බිමට වැටුණ අලි මළමිනියක් සේ සිටී ම නිසා ඔහු මියගොස් ඇතැ යි සිතූ ත්‍රස්තවාදීන් ඔහු ගේ ඔටුවාත් රැගෙන පලාගොස් ඇත.

ත්‍රස්තවාදීන් එකිනෙකාට වෙඩි තබා ගනිමින් සිටි අතර, මගේ අම්මාට ද වෙඩිල්ලක් වැදුණ බවත්, එම වෙඩිල්ල වැදුණ ස්ථානයේ තවමත් ඒ උණ්ඩය තිබෙන බව ඇය මට හමු වූ අවස්ථාවේ මා සමඟ කීවා ය. උණ්ඩය ශල්‍යකර්මයක් මඟින් අරන් දැමීම සඳහා මගේ නැඟණිය විසින් ඇය ව සවුදි අරාබියේ රෝහලකට කැඳවාගෙන ගොස් ඇති අතර, ඇය ගේ වයසට අනුව එ වැනි ශල්‍යකර්මයක් ඔරොත්තු නො දෙන බව ඇයට දන්වා ඇති වෛද්‍යවරු ශල්‍යකර්මය කිරීම ප්‍රතික්ෂේප කර ඇත. ඇය මට හමු වූ අවස්ථාවේ ඇය ඔටුවකු මෙන් හොඳ ශරීර සෞඛ්‍යයකින් සිටි බැව් මම දුටු අතර, වෙඩි වැදීම ගැන ඇය සිනාසෙමින් කතා කළ අයුරු තාමත් මට මතක ය. තවමත් උණ්ඩය ශරීරය තුළ තිබේදැයි මම ඇසූ ප්‍රශ්නයට ඇගේ පිළිතුර මෙසේ විය. "ඔව් ඒක තාමත් තියෙනවා... සමහර විට ඒක දැනටමත් දියවෙලා ගිහිල්ලා ඇති."

ස්ත්‍රී චර්මඡේදනය මෙන් ම මෙම ගෝත්‍රික යුද්ධ ඇති වීමට හේතුව අන් කිසිවක් නො ව මිනිසුන් තුළ ඇති ආත්මාර්ථකාමය, මමංකාරය සහ ක්‍රෝධය යි. පුරුෂ පක්ෂය මීට වඩා සුබවාදී ව කටයුතු කළහොත් මේ පවතින යුද්ධ, හොරකම්, ස්ත්‍රී දූෂණ ආදිය අහෝසි වනවා ඇත. මිනිසුන් ගේ ලිඟුව තළා පොඩි පට්ටම් කර රුධිරය වහනය වීමට ඇරියහොත් සමහර විට ඔවුන් සිය භාර්යාවන් සහ දියණියන්ට කරන මෙම ම්ලේච්ඡ ක්‍රියාවේ තරම පළමුවෙනි වතාවට ඔවුනට වටහා ගැනීමට හැකි වනු ඇත.

මගේ ජීවිතයේ එක ම අරමුණ නම් අප්‍රිකාවේ වෙසෙන ස්ත්‍රීන්ට හැකි පමණින් උපකාර කිරීම යි. ස්ත්‍රී චර්මඡේදනය ගැහැනිය ශාරීරික ව මෙන් ම භාවාත්මකව දුර්වල කර දමන බැවින්, මට අවශ්‍ය ව ඇත්තේ එ සේ දුර්වල වන්නට ඉඩ නො දී ඔවුන් ධෛර්යවත් කිරීම යි. අප්‍රිකානු ගැහැනුන් දිනකට කරන වැඩ ප්‍රමාණය දෙස බලන විට, ඔවුන් අප්‍රිකාවේ ජීවනාලිය වශයෙන් සඳහන් කිරීම සත්‍ය වශයෙන් ම පමණ ඉක්මවා යාමක් නො වනු ඇත. ඇත්තෙන් ම ස්ත්‍රී චර්මඡේදනය මඟින් ඔවුන් බෙලහීනයන් බවට පත් නො කළහොත් මොන තරම් දේවල් ඔවුනට කළ හැකිදැයි යන්න මම පරිකල්පනය කිරීමට උත්සාහ කරමි.

මගේ ජීවිතයට ඔවුන් කරන ලද හානිය ගැන මා තුළ ඇති කෝපය කෙසේ වුව ද ඒ සම්බන්ධ ව මම කිසි ම දිනක මගේ දෙමව්පියන්ට දොස් නො කියමි. මම මගේ මවට මෙන් ම පියාට ද දිවි හිමියෙන් ආදරය කරමි. මගේ චර්මච්ඡේදනයට විරුද්ධ ව යමක් කිරීමට ගැහැනියක් වූ ඇයට කිසි ම ශක්තියක් නො තිබුණ බව මම දනිමි. ඇය මට කරනු ලැබුවේ ඉතා සරල ව විග්‍රහ කරනවා නම් ඇය ගේ දෙමව්පියන් විසින් ඇයට කරනු ලැබූ කර්තව්‍යය යි. සෝමාලියානු සමාජය තුළ චර්මච්ඡේදනය නොකරනු ලැබූ ස්ත්‍රියකට විවාහ වීමට කිසිසේත් ම ඉඩකඩ නො මැති බව දැන සිටි මගේ පියා එදා මා වින්ද වේදනාව තඹ දොයිතුවකටවත් නො සලකා සිටියේ එ බැවිනි. වසර දහස් ගණනක් පුරා අඛණ්ඩ ව පැවැත එන සෝමාලියානු සංස්කෘතිය තුළ හැදී වැඩුණ මගේ දෙමව්පියන් එම සංස්කෘතියේ ම වහල්ලු ය. රෝගයක් වැලඳුණ කල තිසි එත්තත් ලබා දීමෙන් රෝග වැලඳීමෙන් වැළැකී සිටීමට හැකි බැව් අද අපි දනිමු. එ මෙන් ම ස්ත්‍රිය වනාහි කාමයෙන් රත් ව සිටින සතකු නො වන බව ද අපි දනිමු. ඔවුන් ගේ ආදරය අප ලබා ගත යුතු ව ඇත්තේ විශ්වාසය සහ කරුණාවෙන් මිස ම්ලේච්ඡ සම්ප්‍රදායන් මඟින් නම් නො වේ. මෙ වැනි වේදනාකාරී පැරැණි යල්පැන ගිය ජීවන රටාව වෙනස් කිරීමට දැන් කාලය පැමිණ ඇත.

සර්වබලධාරී දෙවියන්වහන්සේ විසින් අංග සම්පූර්ණ ගැහැනියක් ලෙස මා මෙලොවට කැඳවා ගෙනැවිත් ඇතැ යි මම හඟිමි. එතකුදු අධම මිනිසුන් විසින් මගේ ශක්තිය විනාශ කර දමා මා බෙලහීනයකු කර ඇත. එ මතු ද නො ව ඔවුන් මගේ ස්ත්‍රීභාවය සොරාගෙන ඇත. භගමනිය වැනි ඉන්ද්‍රියන් ගැහැනියකට අනවශ්‍ය යයි දෙවියන්වහන්සේ කල්පනා කළේ නම් ඔහු ඒ ඉන්ද්‍රියන් සහිත ව ගැහැනිය මෙලොවට උත්පාද කළේ මන්ද? කිසි ම ගැහැනියකට මෙම වේදනාව විඳින්නට සිදු නො වන දිනක් උදා වේවා යි මම යාඥා කරමි.

චර්මච්ඡේදනය යන සැහැසි ක්‍රියාව සෝමාලියාවෙන් අතු ගා දැමූ දිනක ජනතාව මෙසේ කියනු ඇත. "ඔබ දන්නව ද ස්ත්‍රී චර්මච්ඡේදනය සෝමාලියාව තුළ නීතියෙන් තහනම් කර ඇති බව" දෙ වනුව අල්ලපු රට... ඊළඟ රට ආදී වශයෙන් ඉදිරියට ගොස් ලෝකය ගැහැනියට බිය සැක නො මැති ව ජීවත් වීමට හැකි තැනක් බවට පත්වන දිනය මොන තරම් වාසනාවන්ත දිනයක් ද? ඒ දිනය උදා කරලීමට මම නො පසුබට ව කටයුතු කරමි. In' shallah, එය සර්වබලධාරී දෙවියන්වහන්සේ ගේ කැමැත්ත නම්, එය එ සේ සිදුවනු ඇත.

නිමි.

DESERT CHILDREN WARIS DIRIE

# කාන්තාරයේ දරුවෝ



පරිවර්තනය

රංජිත් කුරුප්පු

'කාන්තාරයේ කුසුම' දෙවැනි කොටස

'කාන්තාරයේ දරුවෝ'

කියවන්න.



